බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා: 5



## විනයපිටකයෙහි

04 වන ග්‍රන්ථය

# චූලලවගගපාළි

[I කාණ්ඩය]

ලංකා බෞද්ධ මණ්ඩලයේ ආරාධනයෙන්

**හාල්දඩුවන ශ්‍රී ධර්මරක්ෂිතාභිධාන**

සබරගමුපළාතේ ප්‍රධාන සඞ්ඝනායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ

විසින්

**කරනලද සිංහල පරිවර්තනය**

**ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය**

විසින්

පාඨශොධන පූර්වක වැ සංස්කරණය කරන ලදී.

බු: ව: 2550

ක්‍රි: ව: 2006

Buddha Jayanti Tripitaka Series, Volume 5 (i)

The Fourth Book in the

**Vinaya-Pitaka**

**4**

# CULLA-VAGGA-PĀLI (I)

With the Sinhala translation by

**The Venerable**
**Haldanduvana Dhammarakkhita**
The Chief Nāyaka Thero of
Sabaragamuva Province

නමෝ තස්ස භගවතෝ සබ්බධම්මේසු අප්පටිහතඤාණචාරස්ස දසබලධරස්ස චතුවේසාරජ්ජවිසාරදස්ස සබ්බසත්තුත්තමස්ස ධම්මිස්සරස්ස ධම්මරාජස්ස ධම්මස්සාමිස්ස තථාගතස්ස සබ්බඤ්ඤුනො සම්මාසම්බුද්ධස්ස !!!

භාග්‍යවත් වූ සියලු ධර්මයන්හි නොපැකිල ඥානචාර සහිත වූ දසබලධාරී වූ චතුර්වෛශාරදත්ව විශාරද වූ සියලු සත්වයන්ට උත්තම වූ ධර්මයට ඊශ්වර වූ ධර්මරාජ වූ ධර්මස්වාමී වූ තථාගත වූ සර්වඥ වූ සම්මා සම්බුදුනට නමස්කාර කරමි !!!

කෙළලක්ෂයක් සක්වලයන්හි සියලු ආර්යයෝ ද සියලු සත්පුරුෂයෝ ද මාගේ නමස්කාරය පිළිගනිත්වා !!!

## <u>බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා</u><br><u>පරිගණක ගත කර නොමිළයේ බෙදාහැරීමේ</u><br><u>මහා ධර්ම දානමය පුණ්‍යකර්මය</u>

**“අපාරුතා තේසං අමතස්ස ද්වාරා**
**යේ සෝතවන්තෝ පමුඤ්චන්තු සද්ධං”**

“කන් ඇත්තාහු සැදැහැ මුදත්වා
ඔවුනට අමා දොර විවෘත කරන ලදී”

අප භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ප්‍රථම අනුසාසනය මෙහි ලා සිහි කිරීම ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය පරිශීලනය කරන්නා වූ පින්වතුන්ගේ අභිවෘද්ධිය පිණිස ම වන බව අපගේ හැඟීම ය.

සැම කල්හි ඥාන සම්ප්‍රයුක්ත ව ක්‍රියා කරන්නා වූ සියලු සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ පලමු අනුශාසනය, බුද්ධ රත්නය කෙරෙහි ගෞරව කරන්නා වූ බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුදු බෝධිය අදහන්නා වූ කවර නම් පුද්ලයෙකු නො සළකා හිදිත් ද ? චතු වෛශාරදත්ව සහිත වූ දශ බල සහිත වූ අනාවරණ ඥාන සහිත වූ සර්‍වඥ වූ මහා කාරුණිකයන් වහන්සේ පවා නිවන අවබෝධ කර ගැනීම පිණිස ධම්මානුධම්ම ප්‍රතිපදාව ආරම්භ කරන පුද්ගලයා තුල ‘සද්ධා’ නම් වූ ගුණය අත්‍යාවශ්‍ය ය යන්න අවධාරනය කරන සේක.

මෙම ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය සැක නොකළ යුතු ය. සැක කරමින් හදාරන ලෞකික ශිල්ප ශාස්ත්‍ර පවා පරිපූර්ණ ව නො පිහිටන බව සිහි ඇතිව බැලීමෙන් නුවණ ඇත්තාහට දැක ගත හැකි ය. පුරුෂයා ශ්‍රේෂ්ඨ බවට පමුනු වන්නා වූ සද්ධා ධනය සහිත ව (“සද්ධීධ වින්තං පුරිසස්ස සෙට්ඨං”) මෙම ධර්ම රත්නය පරිශීලනය කරන්නාහට සද්ධා අංගයෙන් ලැබිය යුතු සියල්ල ලැබෙනු නො අනුමාන ය. එසේ ම සිහියෙන් ලැබිය යුතු කොටස ද වීර්යයෙන් ලැබිය යුතු කොටස ද සමාධියෙන් ලැබිය යුතු කොටස ද ප්‍රඥාවෙන් ලැබිය යුතු කොටස ද ලැබෙන පරිදි සද්ධා, සති, විරිය, සමාධි සහ ප්‍රඥා යන පංච ධර්මයන් තමා තුල ඇති කර ගෙන මහත් වූ ගෞරවය සහිත ව ධර්මාවබෝධය පිණිස ම යොමු වූ දැඩි අධිෂ්ඨානයෙන් මෙම ධර්ම පුස්තක පරිශීලනය කළ යුතු ය. අපගේ බුද්ධ ශාසනයෙහි

ධර්ම ශ්‍රවනයෙන් මග ඵල ලැබුවෝ ම අධික ය. විමුක්තිය ලබන්නා වූ ක්‍රම වේදයන් පහක් විස්තර කරන්නා වූ අංගුත්තර පංචක නිපාතයෙහි 'විමුත්තායතන' සූත්‍රයෙහි නිවන ලබන ක්‍රම වේද සතරක් ම ධම්ම දේශණාමය සහ ධම්ම සවනමය පුණ්‍ය කර්ම ඇසුරින් සිදුවන බව පැහැදිලි කර ඇත. පස්වැනි ක්‍රම වේදය භාවනාමය පුණ්‍ය කර්මය ප්‍රගුණ කිරීමෙන් සාර්ථක වන බව ද එහි සඳහන් වේ.

මහත් වූ ගෞරවාදරයෙන් මහා සුගතයන් වහන්සේගේ අනුශාසනය පිළිපදින්නා වූ අප්‍රමාදී ව ධම්මානුධම්ම ප්‍රතිපදාව වඩන්නා වූ සියලු සත්නට, ත්‍රෛකාලික වූ සියලු දුකින් මිදී ලබන්නා වූ අජර වූ අමර වූ අමා මහ නිවන අවබෝධ වීම පිණිස මෙම මහඟු පුණ්‍ය කර්මය උපනිශ්‍රය වේවා !

ආර්යයන් වහන්සේලා පහළවීමෙන් සිරිලක බැබලේවා !<br>බුද්ධ ශාසනය දියුණුවී චිරස්ථිතික වේවා !<br>ලෝ සත්නට සෙත් වේවා !

**"අමතං දදෝ ච සෝ හෝති, යෝ ධම්මමනුසාසති"**<br>( *යමෙක් ධර්මානුශාසනය කරන්නේ ද, හේ අමෘතය දෙන්නේ ය* )

මෙම ධර්ම දානමය පුණ්‍ය කර්මය<br>මෝහ තිමිර විධ්වංසනය කරන්නා වූ ලොවට උතුම් ආලෝකය වූ මහා කාරුණික වූ<br>සම්මාසම්බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා ඥානයට ද මහා කරුණා ගුණයට ද<br>පූජෝපහාරයක් ම වේවා !!!

කෙළලක්ෂයක් සක්වලයන්හි සියලු ආර්යයෝ ද සියලු සත්පුරුෂයෝ ද<br>අපගේ පුණ්‍ය කර්මය අනුමෝදන් වෙත්වා !!!

ශාසනාභිවෘද්ධිකාමී,
සමින්ද රණසිංහ.
2009.06.28

විනයපිටකෙ

# චුල්ලවග්ග පාළි

පඨමො භාගො

විනයපිටකයෙහි

# චූළවග්ග

පළමුවැනි කාණ්ඩය

"තථාගතප්පවෙදිතො භික්ඛවෙ ධම්මවිනයො විවටො විරොචති නො පටිච්ඡන්නො."

"මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දේශනා කරණ ලද ධර්මය හා විනය විවෘත වූයේ බබලයි. වැසුණේ නො ම බබලයි."

(අඞ්ගුත්තරනිකාය, තිකනිපාත - භරණ්ඩුවග්ග, 9 සූත්‍රය)

සැලකිය යුතුය : මෙම පොතෙහි පටුන, පිටු අංක 15 හි ඇතුලත් කර ඇත. එම පටුනෙහි මාතෘකාවන් හා පිටු අංක අදාළ පිටු සමඟ සම්බන්ධ කර ඇත. මෙහි කියවීමට ඇති ප්‍රදේශයට වම් පසින් ඇති 'පිටු යොමුව' භාවිතා කිරීමෙන් නැවත පටුනට පැමිණීමට පුලුවන. වම් පසින් පාළි පිටුව ද දකුණු පසින් අදාළ සිංහළ පිටුව ද කියවීම සඳහා VIEW menu PAGE DISPLAY option and select TWO-UP CONTINUOUS යන ක්‍රමය භාවිතා කරන්න.

Please note : The TABLE OF CONTENTS of this book is located in page no:17 and it is linked with associated pages in the book for your convenience. You can easily click on the page number or content description in the 'Table of Contents' and you will be directed to the relevant page. Bookmarks located to the left of reading area can be used to navigate back to 'Table of Contents' Page. If you would like to view Pali page on your left and the relevant Sinhala page on your right select the menu items as follows; VIEW menu PAGE DISPLAY option and select TWO-UP CONTINUOUS.

# පටුන

## සංස්කාරක නිවේදනය

ත්‍රිපිටක පයර්‍යාප්තියෙහි විනය පිටකයට අයත් ග්‍රන්ථ පඤ්චකයෙන් සතර වැනි ග්‍රන්ථය වූයේ චූලවග්ගපාළි යයි. එය බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලායෙහි පස් වැනි ග්‍රන්ථය ලෙස සමුද්‍රිත වැ ඇත. තෙවැනි ග්‍රන්ථය වූ මහාවග්ගපාළිය ප්‍රථම – ද්විතීය භාග වශයෙන් දෙකක් ලෙස මුද්‍රණය කරවන්නට සිදුවූ හෙයිනි.

දෙදහස් පන්සියයේ බුද්ධ ජයන්ති අනුස්මරණ උත්සවය නිමිත්ත කොට ගෙන ශ්‍රී ලඞ්කා බෞද්ධ මණ්ඩලය මගින් ආරම්භ කළ ත්‍රිපිටක ධර්මය සිංහල භාෂායෙන් තබාලීමෙහි ලා විනය පිටකයෙහි චූලවග්ගපාළි සිංහල පරිවර්තනයට ආරාධනා ලැබුවාහු පැල්මඩුල්ලේ පුරාණ රාජමහා විහාරාධිපති හාල්දඹුවන ශාස්ත්‍රසූරි ශ්‍රී ධර්මරක්ෂිතාභිධාන සපරගමු දිශායෙහි ප්‍රධාන සංඝනායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ යැ. උන්වහන්සේ විසින් යථා කාලයෙහි එම සිංහල පරිවර්තනය නිමහම් කොට ත්‍රිපිටක මණ්ඩලය වෙත ඉදිරිපත් කරන ලද්දේ ය. ත්‍රිපිටක මණ්ඩලයේ සම්මතය පරිදි කෙයෙල්වතුගොඩ රතනජෝති නායක ස්ථවිරපාදයන් වහන්සේ යැ, හාල්දඹුවන ධම්මරක්ඛිත නායක ස්ථවිරපාදයන් වහන්සේ යැ, කඩවැද්දුව සිරිනිවාස නායක ස්ථවිරපාදයන් වහන්සේ යැ යන විනය පිටක ශෝධක මණ්ඩලයේ මහ තෙරවරුන් විසින් පාඨශෝධන පූර්වක වැ සිංහල පරිවර්තනය ද සංස්කරණය කරන ලද්දේ විය.

සංස්කරණය කරන ලද සිංහල පරිවර්තනය සහිත චූලවග්ගපාළිය 1962 දී පවණ මුද්‍රණය සඳහා එක්තරා මුද්‍රණාලයකට භාර දෙන ලදුව පිටු 16 කින් යුත් ප්‍රස්තාර දෙවිස්සක් පමණ මුද්‍රණය වූ පසු කවර හෙතුවකින් හෝ මුද්‍රණය නැවතිණ. ලියා ශුද්ධ කොට දෙන ලද අත් පිටපත් ද ලබාගත නො හැකි විය. එහෙයින් සමථක්ඛන්ධකයෙහි පටන් නැවත පරිවර්තන කිරීමේ භාරය ද ත්‍රිපිටක මණ්ඩලය කෙරෙහි පැවරිණ. ත්‍රිපිටක සම්පාදක මණ්ඩලයේ අනුශාසක, අග්ගමහාපණ්ඩිත බළන්ගොඩ ආනන්ද මෛත්‍රෙය මහානායක ස්වාමීන්ද්‍රයෝ වැනයි ගිය කොටස නැවත පරිවර්තන කොට මුද්‍රණයට සකස් කළහ. නවද මුද්‍රණ අවස්ථායෙහි ද පැන නැඟුණු බාධක රැසෙකි. එ ද, සහකාර අධ්‍යක්ෂ තැන්පත් සෝමපාල ජයවර්ධන මහතාණන් ගේ කාලානුරූප ක්‍රියා සංවිධානය ද, දෙහිවල

'තිසර' මුද්‍රණාලයාධිකාරී ඇස්. ඩී. සපරමාදු මහතාණන්ගේ සහයෝගය ද නිසා චුල්ලවග්ගපාළි - සමථක්ඛන්ධකය අවසාන කොට ඇති ඛන්ධක සතර එහි පළමු වන කාණ්ඩය ලෙස පළ කරවන්නට හැකි විය.

වර්තමාන ත්‍රිපිටක සම්පාදක මණ්ඩලයේ ස්ථවිරවරුන් විසින් නොපමාව මෙහි ශොධ්‍යපත්‍ර, සංඥා සූචි, ශබ්ද සූචි ආදිය සකස් කිරීමෙන් මේ ග්‍රන්ථ භාගය ශාසනාර්ථීන් හමුයෙහි තබන්නට හැකි වූ බව පවසන අතර මෙම අධිකාරයෙහි නියුක්ත වූ හැම දෙන ඓහික පාරත්‍රික සුබ-භාගී වෙත්වා'යි ආශංසනය කරම්හ.

මෙ වගට,

**ලබුගම ලඞ්කානන්ද ස්ථවිර**
ප්‍රධාන සම්පාදක

1977, ජූලි 10
ත්‍රිපිටක කාර්‍ය්‍යාලය,
මහානායක චාරිකාරාමය,
115, විජේරාම මාවත,
කොළඹ 7.

## සංඥපනය

**විනය:**

විභඞ්ග ඛන්ධක පරිවාර විසින් ත්‍රිවිධ වූ විනය පාළිය මහාකාශ්‍යප ස්ථවිරාදි ප්‍රථම මහාසඞ්ගීතිකාරක මහරහතුන් විසින් 'පාරාජිකපාළි පාචිත්තියපාළි මහාවග්ගපාළි චූලවග්ගපාළි පරිවාරපාළි' යයි ග්‍රන්ථ පඤ්චකයකට නඟා සඞ්ගායනා කරන ලද්දේ ය. එහි දු මහාවිභඞ්ග හෙවත් භික්ඛුවිභඞ්ග හා භික්ඛුනීවිභඞ්ග නම් වූ උභය විභඞ්ගය පරිජි, පචිති දෙපොත් හි බෑසැගෙන සිටී, මහාවිභඞ්ගයෙහි 'පාරාජික සඞ්ඝාදිසෙස අනියත නිස්සග්ගිය' යන එකුන්පනස් ශික්ෂාපදයන් පිළිබඳ 'භිද්‍යන පුග්ගල වත්‍ථු පඤ්ඤත්ති පදභාජන විනීතවත්‍ථු' ආදිය ඇතුළත් විනයප්‍රදෙශය පාරාජික කාණ්ඩය මුල් කොට ඇති හෙයින් 'පාරාජික පාළි'යයි ද, පාචිත්තියකාණ්ඩය පටන් භික්ඛුවිභඞ්ගය හා භික්ඛුනීවිභඞ්ගය ද ඇතුළත් කොටස පාචිත්තියකාණ්ඩය ආදි කොට ඇති හෙයින් 'පාචිත්තියපාළි' යයි ද ග්‍රන්ථ දෙකක් වශයෙන් බෙදු ඇත. ආභිසමාචාරික ශීලය ප්‍රකාශ කරන අනුඥාත ශික්ෂාපදයෙන් යුත් පාළි' ප්‍රදෙශය 'ඛන්ධක' නම් වෙයි. එ ද බොධිකථායෙන් ආරම්භ වූ මහාඛන්ධකය ආදි කොට ඇති දෙවිසි ඛන්ධකයෙකින් හෙබියේය. එහි කොසම්බියක්ඛන්ධකය අවසන් කොට ඇති ඛන්ධක දසය 'මහාවග්ගපාළි' යයි ද, කම්මක්ඛන්ධකයෙහි පටන් සත්තසතිකක්ඛන්ධකය අවසන් කොට ඇති දොළොස් ඛන්ධකය 'චූලවග්ග පාළි' යයි ද ග්‍රන්ථ දෙකක් වශයෙන් බෙදු ඇත. 'පරිවාරපාළිය' වූ කලී මහාවිභඞ්ගයෙහි භික්ෂූන් සඳහා පනවන ලද දෙසිය විස්සක් ශික්ෂාපද යැ, භික්ඛුනීවිභඞ්ගයෙහි තුන්සිය සතරක් ශික්ෂාපද යැ යන උද්දෙසපරියාපන්න වූ පන්සිය සූවිසි ශික්ෂාපද ගෙන කත්‍ථපඤ්ඤත්තිවාරය ආදි කොට ඇති ආපත්තිවාර අටෙක, එබඳු වූ මැ පච්චයවාර අටෙකැයි මහාවාර සොළොස- කින් ද යළි සමුට්ඨාන සමථභෙද දැක්වීමෙන් ද උභතොවිභඞ්ගය පරිවෘත වැ ඇත. ඛන්ධක පුච්ඡායෙහි පටන් ශේෂය දෙවිසි ඛන්ධකයෙහි ආ විනය පරිවාර යයි. මෙසෙයින් බුදුරදුන්ගේ ආඥාදෙසනා සඞ්ඛ්‍යාත විනය පිටකයට කරනලද මහාප්‍රාකාරය පරිවාර දේශනාව යි. උභතො විභඞ්ගයෙහි ප්‍රඥප්ත ශික්ෂාපද සියල්ල ද සත්තඅධිකරණ සමථය ද සඞ්ග්‍රහ කොට භික්ඛුපාති- මොක්ඛ භික්ඛුනීපාතිමොක්ඛ වශයෙන් දෙපරිදිව සිටි ග්‍රන්ථය 'පාතිමොක්ඛ' නම් විය. උභයමාතිකා නමුදු මේ මැ යි.

**චූලවග්ගපාළි:**

මෙහි ප්‍රස්තුත වූ 'චූලවග්ගපාළිය' වනාහි කම්මක්ඛන්ධකය පටන් කොට සත්තසතිකක්ඛන්ධකය තෙක් දොළොස් ඛන්ධකයෙන් සඞ්ගෘහීත වූ ග්‍රන්ථ ප්‍රදේශය යි. එහි පළමුවන කම්මක්ඛන්ධකයෙහි: 1. සැවැත්නුවර

විසූ සවග මහණුන් කෙරෙහි වූ පණ්ඩුක ලෝහිතක මහණුන් සඳහා භණ්ඩනකාරක කලහකාරකාදි හේතුයෙන් පනවනලද තජ්ජනීය කර්මය ද, 2. ආපත්තිබහුල වූ ගෘහීන් හා අනනුලෝමික සංසර්ග ඇති සෙය්‍යසක මහණුට පනවනලද නියස්ස කර්මය ද 3. සවග මහණුන් අතුරෙන් කීටාගිරියෙහි විසූ අස්සජි පුනබ්බසුක මහණුන් සඳහා කුල දූෂණ හේතුයෙන් පනවන ලද පබ්බාජනීය කර්මය ද, 4. මච්ඡිකාසණ්ඩයෙහි විසූ සුධම්ම තෙරුන් අරභයා චිත්‍රගෘහපතියනට අවමන් කිරීම හේතුයෙන් පනවනලද පටිසාරණීය කර්මය ද, 5. කොසඹෑ නුවර දී ඡන්න තෙරුන් සඳහා ඇවැතට පැමිණ ඇවැත් නො දැකීම හේතුයෙන් පනවන ලද ඇවැත් නොදක්මෙහි උක්ඛෙපනීය කර්මය ද, 6. ඡන්න තෙරුන් සඳහා මැ පනවන ලද ඇවතට පිළියම් නොකිරීමෙහි උක්ඛෙපනීය කර්මය ද, 7. අරිට්ඨ මහණහු සඳහා පනවන ලද පාපදෘෂ්ටි නො හැරීමෙහි උක්ඛෙපනීය කර්මය ද යන සත් වැදෑරුම් කර්ම විභාග කරන ලද්දේ යැ.

දෙවැනි පාරිවාසිකක්ඛන්ධකයෙහි පාරිවාසිකවත්ත, පරිවාස සමාදනවිධි, මූලායපටිකස්සන. මානත්ත, අබ්භාන යන විනය කර්මයන් පිළිබඳ වත් හා සමාදනවිධි ආදිය වදරන ලද්දේය.

තුන්වැනි සමුච්චයක්ඛන්ධකයෙහි පටිච්ඡන්නාපටිච්ඡන්න සංඝාදිසෙසාපත්තින් පිළිබඳ පරිවාසදාන, මානත්තදාන, අබ්භාන යන විනය කර්මයන් පිළිබඳ සියලු විභාග වදරන ලද්දේ වෙයි.

සතරවැනි සමථක්ඛන්ධකයෙහි විවාදධිකරණ, අනුවාදධි කරණ, ආපත්තාධිකරණ කිච්චාධිකරණ, යන චතුර්විධ අධිකරණ හා ඒ ඒ අධිකරණය සම්මුඛාවිනය සතිවිනය, අමූළ්හවිනය, පටිඤ්ඤාතකරණ, යෙභුය්‍යසිකා, තස්සපාපිය්‍යසිකා, තිණවත්ථාරක, යන සත් වැදෑරුම් සමථයෙන් සංහිඳුවාලන අයුරු වදරනලද්දේ වෙයි.

චුල්ලවග්ගපාළියෙහි මේ පළමුවන කාණ්ඩයෙහි කම්මක්ඛන්ධකාදි සතර ඛන්ධකය පමණක් ඇතුළත් කළෙමහ. ඛුද්දකවත්ථු ආදි ඛන්ධකයන් පිළිබඳ හැඳින්වීම දෙවන කාණ්ඩයෙහි ලා පවසමහ. භික්ෂූන් වහන්සේගේ කාය වාක් සංවරය සඳහා ද ආපත්ති ප්‍රතිකර්මාදියෙන් ශීලපාරිශුද්ධිය සඳහා ද චුල්ලවග්ගපාළියෙහි වදළ ඒ ඒ විනය ප්‍රදේශයන් මැනැවින් දැන ඉගෙන ස්වාර්ථ පරාර්ථ සාධනයෙහි උත්සුක වෙත්වා'යි ආශංසනය කරමහ.

මෙවගට,

ලබුගම ලඞ්කානන්ද ස්ථවිර,
ත්‍රිපිටක මණ්ඩලයේ ප්‍රධාන සම්පාදක.

1977. 7. 10 මොල්ලිගොඩ
ප්‍රවචනොදය පිරිවෙන.

# පාලි හෝඩිය
# THE PALI ALPHABET
## IN SINHALA CHARACTERS

### VOWELS

අ a ආ ā ඉ i ඊ ī උ u ඌ ū එ e ඔ o

### CONSONANTS

| | | | | |
|---|---|---|---|---|
| ක ka | ඛ kha | ග ga | ඝ gha | ඞ ṅa |
| ච ca | ඡ cha | ජ ja | ඣ jha | ඤ ña |
| ට ṭa | ඨ ṭha | ඩ ḍa | ඪ ḍha | ණ ṇa |
| ත ta | ථ tha | ද da | ධ dha | න na |
| ප pa | ඵ pha | බ ba | භ bha | ම ma |

ය ya ර ra ල la ව va ස sa හ ha ළ ḷa ං ṃ

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ක ka | කා kā | කි ki | කී kī | කු ku | කූ kū | කෙ ke | කො ko |
| ඛ kha | ඛා khā | ඛි khi | ඛී khī | ඛු khu | ඛූ khū | ඛෙ khe | ඛො kho |
| ග ga | ගා gā | ගි gi | ගී gī | ගු gu | ගූ gū | ගෙ ge | ගො go |

### CONJUNCT - CONSONANTS

| | | | |
|---|---|---|---|
| ක්ක kka | ඤ්ඤ ñña | ත්‍ර tra | ම්ඵ mpha |
| ක්ඛ kkha | ඤ්හ ñha | ද්ද dda | ම්බ mba |
| ක්‍ය kya | ඤ්ච ñca | ද්ධ ddha | ම්භ mbha |
| ක්‍රි kri | ඤ්ඡ, ñcha | ද්‍ර dra | ම්ම mma |
| ක්ව kva | ඤ්ජ, ñja | ද්ව, dva | ම්භ mbha |
| ඛ්‍ය khya | ඤ්ඣ ñjha | ධ්ව dhva | ය්‍ය, yya |
| ඛ්ව khva | ට්ට ṭṭa | න්ත nta | ය්හ yha |
| ග්ග gga | ට්ඨ, ṭṭha | න්ථ ntha | ල්ල lla |
| ග්ඝ ggha | ඩ්ඩ ḍḍa | න්ද nda | ල්‍ය lya |
| ඞ්ක ṅka | ඩ්ඪ ḍḍha | න්ධ ndha | ල්හ lha |
| ග්‍රා grā | ණ්ණ ṇṇa | න්න nna | ව්හ wha |
| ඞ්ඛ ṅkha | ණ්ට ṇṭa | න්හ nha | ස්ස ssa |
| ඞ්ග ṅga | ණ්ඨ ṇṭha | ප්ප ppa | ස්ම sma |
| ඞ්ඝ ṅgha | ණ්ඩ ṇḍa | ප්ඵ ppha | ස්ව sva |
| ච්ච cca | ත්ත tta | බ්බ bba | හ්ම hma |
| ච්ඡ ccha | ත්ථ ttha | බ්භ bbha | හ්ව hva |
| ජ්ජ jja | ත්ව tva | බ්‍ර bra | ළ්හ ḷha |
| ජ්ඣ jjha | | ම්ප mpa | |

ා ි i ී ī ු u ූ ū ෙ e ො o

# ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය

උපදේශක:

මහරගම වටයවත්තපාර-ශ්‍රී වන්ද්‍රශෙඛරාරාමාධිපති අග්‍රමහාපණ්ඩිත බළන්ගොඩ ආනන්දමෛත්‍රෙය මහානායක මහාස්ථවිරපාදයන් වහන්සේ.

සභාපති:

අනුරාධපුර බුද්ධශ්‍රාවක ධර්මපීඨයෙහි (භික්‍ෂු විශ්වවිද්‍යාලයෙහි) අධිපති ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය, රාජකීය පණ්ඩිත කෝදාගොඩ ශ්‍රී ඥානාලෝක දක්‍ෂිණ ලඞ්කාවෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

ප්‍රධාන සම්පාදක:

මොල්ලිගොඩ, ප්‍රවචනෝදය පිරිවෙන්හි උපප්‍රධානාචාර්ය, ත්‍රිපිටක වාගීශ්වර, විමලකීර්ති ශ්‍රී රාජකීය පණ්ඩිත, ලබුගම ලඞ්කානන්ද ශ්‍රී කල්‍යාණී සාමග්‍රීධර්ම මහාසඞ්ඝ සභාවෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

සම්පාදක:

කිරුළපන පූර්වාරාම, නාරාහේන්පිට අභයාරාම යන විහාරද්වයාධිපති ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද, රාජකීය පණ්ඩිත, රද්දැල්ලේ සිරි පඤ්ඤාලෝක ශ්‍රී කල්‍යාණීසාමග්‍රීධර්ම මහාසඞ්ඝසභාවෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

හෙරලියාවල, සුධර්මාරාමාධිපති ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද, රාජකීය පණ්ඩිත, වේඩරුවේ සිරි අනොමදස්සි බටහිර දිශාවෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

හිඳලේ - මාකඩවර විහාරාධිපති රාජකීය පණ්ඩිත, කරහම්පිටිගොඩ සිරි සුමනසාර ස්ථවිරයන් වහන්සේ.

කොළඹ තිඹිරිගස්යායේ අශෝකාරාමාධිපති රාජකීය පණ්ඩිත කරදන සිරි පඤ්ඤාලඞ්කාර නායක ස්ථවිරයන් වහන්සේ.

ලේඛක

කොළඹ, බෞද්ධාලෝක මාවතේහි බෞද්ධාලෝක විහාරාධිපති, පණ්ඩිත, දෙරණගමුවේ සිරි ධම්මපාල - කොළඹ පළාතේ ප්‍රධානසඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

## සඞ්කේත නිරූපණය

සීමු – සීහළක්ඛරමුද්දිත චුල්ලවග්ගපාළි
මජසං – මරම්ම – ඡට්ඨසංගීතියා සොධිත පොත්ථකං
සයා – සයාම – තායයක්ඛරමුද්දිත චූල්ලවග්ගපාළි
PTS – Pali Text Society, Cullavagga Pali
කත්ථචි – ගන්ථන්තරානි

# චුල්ලවග්ග පාළි

## විසය සූචි

### 1. කම්මක්ඛන්ධකං 2—157



### 2. පාරිවාසිකක්ඛන්ධකො 158 - 195



### 3. සමුච්චයක්ඛන්ධකං 196—331

## විසය සූචි



### 4. සමථක්ඛන්ධකං 332-435



සමථක්ඛන්ධකො නිට්ඨිතො චතුත්ථො

# විනයපිටකෙ

# චූළවග්ගපාළි

---

නමො තස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස.

## 1.

## කම්මක්ඛන්ධකං

### 1. තජ්ජනීයකම්මං

1. **තෙන** සමයෙන බුද්ධො භගවා **සාවත්ථියං** විහරති **ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස** ආරාමෙ. තෙන ඛො පන සමයෙන **පණ්ඩුකලොහිතකා** භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: "මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච බ්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා[1] ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමා"ති තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති. උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා සන්තුට්ඨා ලජ්ජිනො කුක්කුච්චකා සික්ඛාකාමා, තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම පණ්ඩුකලොහිතකා භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වක්ඛන්ති: 'මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච බ්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමා'ති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති. උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්තී"ති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං.

---

1. අලමත්ථතරා, කත්ථචි.

# විනයපිටකයෙහි

# චූළවග

---

ඒ භාග්‍යවත් අර්හත් සම්මාසම්බුදුරජානන් වහන්සේට නමස්කාර වේවා.

## 1.

## කම්මක්ඛන්ධකය

### 1. තජ්ජනීයකර්මය

1. ඒ සමයෙහි භගවත් බුදුරජුහු **සැවැත්නුවර** සමීපයෙහි **ජේතවන** නම් වූ **අනේපිඬු** සිටුහුගේ අරමෙහි වැඩ වෙසෙති. එකල්හි වනාහි **පණ්ඩුකය ලොහිතකය** යන දෙ මහණහු, තුමූ ඩබර කරන්නෝ කලහ කරන්නෝ විරුද්ධ වාද කරන්නෝ වාක්කලහ කරන්නෝ සඟමැද අධිකරණ උපදවන්නෝ, ඩබර කරණ කලහ කරණ විරුද්ධ වාද කරණ වාක්කලහ ඇති කරණ සඟමැද අධිකරණ උපදවන වෙනත් යම් භික්ෂූහු වෙත් නම්, ඔවුන් කරා එළැඹ මෙසේ කියත්: "ආයුෂ්මත්වරුනි, මේ මහණ තෙම තොප නො පරදවාවා. තෙපි ඔහුට වඩා පණ්ඩිත ද වඩා ව්‍යක්ත ද වඩා බහුශ්‍රැත ද වඩා සමර්ථ ද වවූ. ඔහුට නො බවූ. අපි දු තොපට පක්ෂ වන්නමු"යනු යි. එයින් නූපන් කලහ ද උපදී. උපන් කලහ ද බොහෝ වීම පිණිස විපුලබව පිණිස පවතී. යම් මහණ කෙනෙක් තුමූ අපිස් ගුණැත්තෝ ද, ලද දූයින් සතුටු වන්නෝ ද, පවෙහි ලජ්ජා ඇත්තෝ ද, කැප නොකැප පිළිබඳ විමැසිලි ඇත්තෝ ද, හික්මෙනු කැමැත්තෝ ද, ඔහු අවඥ කෙරෙත්, දොස් නගත්, නුගුණ පතුරුවා බෙණෙත්: "කෙසේ නම් **පණ්ඩුක ලොහිතක** භික්ෂූහු තුමූ ඩබර කරන්නෝ කලහ කරන්නෝ විවාද කරන්නෝ, වාක් කලහ කරන්නෝ, සඟමැද අධිකරණ උපදවන්නෝ, ඩබර කරණ, කලහ කරණ, විවාද කරණ, වාක්කලහ කරණ, සඟමැද අධිකරණ උපදවන, අන් යම් මහණහු වෙත් නම්, ඔවුන් කරා එළැඹ 'ආයුෂ්මත්වරුනි, මේ මහණතෙම තොප නො පරදවාවා. තෙපි වඩා බලවත් සේ ප්‍රතිවාද කරවූ. තෙපි ඔහුට වඩා පණ්ඩිත ද වඩා ව්‍යක්ත ද වඩා බහුශ්‍රැත ද වඩා සමර්ථ ද වවූ. ඔහුට නො බවූ. අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කීහු ද, එයින් නොඋපන් කලහ උපදී. උපන් කලහ බොහෝ වීම පිණිසත් මහත් වීම පිණිසත් පවතී" යනු යි.

2. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි: "සච්චං කිර භික්ඛවෙ **පණ්ඩුක-ලොහිතකා** භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩන-කාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: 'මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමා'ති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති. උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්තී?"ති. "සච්චං භගවා". විගරහි බුද්ධො භගවා: 'අනනුච්ඡවිකං භික්ඛවෙ තෙසං මොඝපුරිසානං අනනුලොමිකං අප්පතිරූපං අස්සාමණකං අකප්පියං අකරණීයං. කථං හි නාම තෙ භික්ඛවෙ මොඝපුරිසා අත්තනා භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වක්ඛන්ති: 'මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමා'ති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති. උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය පසන්නානං වා භිය්‍යොභාවාය. අථ ඛ්වෙතං භික්ඛවෙ අප්පසන්නානං චෙව අප්පසාදාය පසන්නානඤ්ච එකච්චානං අඤ්ඤථත්තායා'ති.

3. අථ ඛො භගවා තෙ භික්ඛූ අනෙකපරියායෙන විගරහිත්වා දුබ්භරතාය දුප්පොසතාය මහිච්ඡතාය අසන්තුට්ඨියා[1] සඞ්ගණිකාය කොසජ්ජස්ස අවණ්ණං භාසිත්වා අනෙකපරියායෙන සුභරතාය[2] සුපොස-තාය අප්පිච්ඡස්ස සන්තුට්ඨස්ස සල්ලෙඛස්ස ධුතස්ස පාසාදිකස්ස අපචයස්ස විරියාරම්භස්ස වණ්ණං භාසිත්වා භික්ඛූනං තදනුච්ඡවිකං තදනුලොමිකං ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: තෙන හි භික්ඛවෙ සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං කරොතු. එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං: පඨමං පණ්ඩුකලොහිතකා භික්ඛූ චොදෙතබ්බා. චොදෙත්වා සාරෙතබ්බා. සාරෙත්වා ආපත්ති[3] ආරොපෙතබ්බා. ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

---

1. අසන්තුට්ඨතාය - සහ. 2. සුපොසතාය - මජ්ඣං. 3. ආපත්තිං - මජ්ඣං.

2. ඉක්බිති ඒ මහණහු භාග්‍යවතුන් වහන්සේට මේ පවත් සැළ කළහ. එකල්හි භගවත්හු මේ නිදානයෙහි මේ කාරණයෙහි භික්ෂුසඟන රැස් කරවා, "සැබෑ ද, මහණෙනි පණ්ඩුකලෝහිතක මහණහු තුමූ ඩබර කරත්තෝ, කලහ කරත්තෝ, විවාද කරත්තෝ, වාක්කලහ කරත්තෝ, සඟමැද අධිකරණ උපදවත්තෝ, ඩබර කරණ, කලහ කරණ, විවාද කරණ, වාක්කලහ කරණ, සඟමැද අධිකරණ උපදවන, අන් යම් මහණ කෙනෙක් වෙත් නම්, ඔවුන් කරා පැමිණ, "ආයුෂ්මත්වරුනි, මේ තෙමේ තොප නො දිනාවා. තෙපි ඔහුට වඩා බලවත් සේ ප්‍රතිවාද කරවු... අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කියත් ද? එයින් නො උපන් කලහ උපදී. උපන් කලහ බෝ වීම පිණිසත් මහත් වනු පිණිසත් පවතී යනු සැබෑ ද!"යි මෙසේ භික්ෂූන් පුළුවුත්හ. "සැබෑව, භාග්‍යවතුන් වහන්සැ"යි (ඒ මහණහු කීහ.) "මහණෙනි, ඒ හිස් පුරුෂයන්ගේ නුසුදුසු ක්‍රියාවෙක. සස්නට අනුලෝම් නොවූයෙක. අයෝග්‍ය ක්‍රියාවෙක. මහණුනට නුසුදුසු එකෙක. නොකැපයෙක. නො කළ මනාවෙක. මහණෙනි, කෙසේ නම් ඒ හිස් පුරුෂයෝ තුමූ ඩබර කරත්තෝ... සඟමැද අධිකරණ උපදවත්තෝ, කලහ කරණ... සඟමැද අධිකරණ උපදවන යම් අන් මහණ කෙනෙක් වෙත් නම්, ඔවුන් කරා එළැඹ 'ආයුෂ්මත්නි, මේ තෙම තොප නො දිනාවා. තෙපි වඩා බලවත් සේ ප්‍රතිවාද කරවු... අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කීහු ද? එයින් නො උපන් කලහ උපදී. උපන් කලහ බෝ වීම පිණිසත් මහත් වනු පිණිසත් පවතී. මහණෙනි, මේ කාරණය නොපහන් වූවන්ගේ පැහැදීම පිණිස හෝ පහන් වූවන්ගේ ප්‍රසාදය වැඩීම පිණිස හෝ නො වෙයි. වැලි මෙය නොපැහැදුනවුන්ගේ නොපැහැදීම පිණිස ද පැහැදුනු ඇතැමුන්ගේ වෙනස්බව පිණිස ද පවතී" යි භගවත් බුදුහු ගැරැහූහ.

3. ඉක්බිති භගවත්හු ඒ මහණුන් නොයෙක් කරුණින් ගරහා, දුර්භරතාවගේ ද දුෂ්පොෂතාවගේ ද මහෙච්ඡතාවගේ ද අසන්තුෂ්ටතාවගේ ද ගණසඞ්ගණිකාවගේ ද කුසීතභාවයාගේ ද දොස් වදුරා, නොයෙක් කරුණින් සුභරතාවගේ ද සුපොෂතාවගේ ද අල්පෙච්ඡතාවගේ ද සන්තුෂ්ටතාවගේ ද සංලෙඛයාගේ ද ධූතගුණයාගේ ද ප්‍රසාද එළවන සාරූප්‍යයාගේ ද කෙලශාපචයයාගේ (කෙලෙස් බැහැර ලීමේ)ද වීර්‍ය්‍යාරම්භයාගේ ද අනුසස් වදුරා, මහණුනට ඒ කාරණයට සුදුසු වූ ඒ කාරණයට අනුලෝම් වූ ධර්මකථාවක් කොට, මහණුන් අමතා මෙසේ වදාළ සේක: 'මහණෙනි, එසේ නම් සඞ්ඝ තෙමේ (ඇසුරු කරන්නවුන් සහිත) පණ්ඩුක ලෝහිතක යන දෙ මහණුනට තජ්ජනීයකර්මය කෙරේවා. මහණෙනි, එය කට යුත්තේ මෙසේ ය: පළමු කොට පණ්ඩුකලෝහිතක භික්ෂූහු චොදසිතව්‍යයහ (ඒ මහණුනට චෝදනා කට යුතු ය). චෝදනා කොට සමාරසිතව්‍යයහ (වරද සිහි කැරැවිය යුතු ය). සිහි කරවා ඇවැත නැංවිය යුතු ය. ඇවැත නංවා, වියත් සමත් මහණක්හු විසින් සඞ්ඝ තෙමේ (මෙසේ) දන්විය යුත්තේ ය:

4. “සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා කලහකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමාති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං කරෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමාති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං කරොති. යස්සායස්මතො ඛමති පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස කරණං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. පණ්ඩුකලොහිතකා භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: ‘මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමාති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති, උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං කරොති. යස්සායස්මතො ඛමති පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස කරණං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ අත්තනා භණ්ඩනකාරකා කලහකාරකා විවාදකාරකා භස්සකාරකා සඞ්ඝෙ අධිකරණකාරකා, යෙපි චඤ්ඤෙ භික්ඛූ භණ්ඩනකාරකා -පෙ- සඞ්ඝෙ අධිකරණකාරකා, තෙ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: මා ඛො තුම්හෙ ආයස්මන්තො එසො අජෙසි. බලවාබලවං පටිමන්තෙථ. තුම්හෙ තෙන පණ්ඩිතතරා ච ව්‍යත්තතරා ච බහුස්සුතතරා ච අලමත්තතරා ච. මා චස්ස භායිත්ථ. මයම්පි තුම්හාකං පක්ඛා භවිස්සාමා’ති. තෙන අනුප්පන්නානි චෙව භණ්ඩනානි උප්පජ්ජන්ති, උප්පන්නානි ච භණ්ඩනානි භිය්‍යොභාවාය වෙපුල්ලාය සංවත්තන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං කරොති. යස්සායස්මතො ඛමති පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස කරණං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

කතං සඞ්ඝෙන පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී”ති.

4. "ස්වාමීනි, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා. මේ පණ්ඩුක ලෝහිතක භික්ෂූහු තුමූ ඩබර කරන්නාහු, කලහ කරන්නාහු, විවාද උපදවන්නාහු, වාක්කලහ කරන්නාහු, සඞ්ඝමැද අධිකරණ ඇති කරන්නාහු, ඩබර කරණ, කලහ කරණ, විවාද උපදවන, වාක්කලහ කරණ, සඞ්ඝමැද අධිකරණ ඇති කරණ යම් වෙනත් මහණහු ඇත් ද, ඔවුන් කරා එළැඹ 'ආයුෂ්මත්නි, මේ තෙම තොප තෙං දිනවා. වඩා බලවත් කොට ප්‍රතිවාද කරවු. තෙපි ඔහුට වඩා පණ්ඩිත ද වඩා ව්‍යක්ත ද වඩා බහුශ්‍රැත ද වඩා සමර්ථ ද වවු. ඔහුට තෙං බවු. අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කියත්. එයින් නොඋපන් ඩබර ද උපදී. උපන් ඩබර ද බොහෝ වනු පිණිස, මහත්බව පිණිස පවතී. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇත්තේ නම්, සඞ්ඝ තෙමේ පණ්ඩුකලෝහිතක මහණුනට තජ්ජනීයකම්මය කරන්නේ ය. මේ ඥප්තිය ය.

ස්වාමීනි, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා. මේ පණ්ඩුකලෝහිතක මහණහු තුමූ ඩබර කරන්නාහු,... සඞ්ඝමැද අධිකරණ ඇති කරන්නාහු, ඩබර කරණ.... සඞ්ඝමැද අධිකරණ ඇති කරණ යම් වෙනත් මහණහු ඇත් ද, ඔවුන් කරා එළැඹ, 'ආයුෂ්මත්නි, මේ තෙමේ තොප තො දිනාවා... අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කියත්. එයින් නො උපන් ඩබර ද උපදී. උපන් ඩබර ද... මහත්බව පිණිස පවතී. සඞ්ඝ තෙමේ පණ්ඩුකලෝහිතකමහණුනට තජ්ජනීයකම්මය කෙරෙයි. පණ්ඩුකලෝහිතක මහණුනට තජ්ජනීය කම්මය කිරීම යම් ආයුෂ්මත්හට රිසියේ නම්, හේ නිහඬ වේවා. යමකුහට නො රිසියේ නම්, හේ කියාවා.

දෙවනු ද මේ කරුණ කියමි. ස්වාමීනි, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා. මේ පණ්ඩුකලෝහිතකමහණහු තුමූ ඩබර කරන්නාහු... අපි දු තොපට පක්ෂ වන්නමු'යි මෙසේ කියත්. එයින් නොඋපන් ඩබර ද උපදී. උපන් ඩබර ද... මහත්බව පිණිස පවතී. සඞ්ඝ තෙමේ පණ්ඩුක-ලෝහිතකමහණුනට තජ්ජනීයකම්මය කෙරෙයි. පණ්ඩුකලෝහිතක මහණුනට තජ්ජනීයකම්මය කිරීම යම් ආයුෂ්මතක්හට රිසියේ නම්, හේ නිහඬ වේවා. යමක්හට නො රිසියේ නම්, හේ කියාවා.

තෙවනු ද මේ කරුණ කියමි. ස්වාමීනි, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා.... යමක්හට නො රිසියේ නම්, හේ කියාවා.

පණ්ඩුකලෝහිතකමහණුනට සඞ්ඝයා විසින් තජ්ජනීයකම්මය කරණ ලද්දේ ය. එය සඞ්ඝයාට රිසියෙයි. එ හෙයින් නිහඬ ය. මෙය මෙසේ සලකමි" යනු යි.

## අධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අප්පටිපුච්ඡා කතං හොති, අප්පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, දෙසිතාය ආපත්තියා කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මං ච දුවූපසන්තඤ්ච: අචොදෙත්වා කතං හොති, අසාරෙත්වා කතං හොති, ආපත්තිං අනාරොපෙත්වා කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අප්පටිපුච්ඡා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අප්පටිඤ්ඤාය කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

## අධර්මකම් දෙළොස

1. "මහණෙනි, අඞ්ග තුණෙකින් සමන්විත වූ තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද, නො මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නො හමුයෙහි කරණ ලද්දේ වේ ද, නො පිළිවිස කරණ ලද්දේ වේ ද, පිළිණ නො ගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

2. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නොඇවැ-තෙහි කරණ ලදුයේ වේ ද, දේශනාගාමිනී නො වන ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, දෙසූ ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නො මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

3. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: චෝදනා නොකොට කරණ ලදුයේ වේ ද, සිහිපත් නො කරවා කරණ ලදුයේ වේ ද, ඇවැත නොනංවා කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

4. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නො-හමුයෙහි කරණ ලදුයේ වේ ද, අධර්මයෙන් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර (නො සමග)වූ සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

5. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත වූ තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නොපිළිවිස කරණ ලදුයේ වේ ද, අධර්මයෙන් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර (සමග නොවූ) සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වේ.

6. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ: පිළිණ නො ගෙණ කරණ ලදුයේ වේ ද, අධර්මයෙන් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි.

7. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි: නොඇවැ-තෙහි කරණ ලදුයේ වේ ද, අධර්මයෙන් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි.

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්ම-කම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: දෙසිතාය ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සම්මන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අචොදෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මං ච දුවූපසන්තඤ්ච: අසාරෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති, අවිනයකම්මඤ්ච දුවූපසන්තං ච.

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මං ච දුවූපසන්තං ච: ආපත්තිං අනාරො-පෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මං ච දුවූපසන්තං ච.

**අධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.**

## ධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්ම-කම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

8. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි: දෙසීමෙන් පිරිසිදු නොවන ඇවතෙහි කරණ ලද්දේ වේ ද, නොදැනැමින් කරණ ලද්දේ වේ ද, නොසමග සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ.

9. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ: දෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, නොදැනැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ (සමග නො වූ) සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ.

10. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ: චෝදනා නොකොට කරණ ලද්දේ වේ ද, නොදැනැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි.

11. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි: සිහි පත් නොකරවා කරණ ලදුයේ වේ ද, නොදැනැමින් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ.

12. මහණෙනි, අනෙකුදු අඞ්ග තුණෙකින් සමන්විත වූ තජ්ජනීය කම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වෙයි: ඇවත නොනංවා කරණ ලදුයේ වේ ද, නොදැනැමින් කරණ ලදුයේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත වූ තජ්ජනීයකම්මය අධර්මකර්ම ද අවිනයකර්ම ද නොමනා සේ සංහිඳුනෙක් ද වේ.

**අධර්මකර්ම දොළොස නිමි.**

## ධර්මකර්ම දොළොස

1. මහණෙනි, අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: හමුවෙහි කරණ ලද්දේ වේ ද, පිළිවිස කරණ ලද්දේ වේ ද. ප්‍රතිඥාව ගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය ධාර්මික කර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: ආපත්තියා කතං හොති, දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අදෙසිතාය ආපත්තියා කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මඤ්ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: චොදෙත්වා කතං හොති, සාරෙත්වා කතං හොති, ආපත්තිං ආරොපෙත්වා කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: සම්මුඛා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: පටිපුච්ඡා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: පටිඤ්ඤාය කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

2. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීය කර්මය ධාර්මිකකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දෙසීමෙන් පිරිසිදු වන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, නොදෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීයකර්මය ධාර්මිකකර්මයෙක් ද විනය කර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි.

3. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීයකර්මය ධාර්මිකකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: චෝදනා කොට කරණ ලද්දේ වේ ද, සිහි පත් කරවා කරණ ලද්දේ වේ ද, ඇවැත නංවා කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුනෙන් යුක්ත තජ්ජනීයකර්මය ධාර්මිකකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳු-නෙක් ද වෙයි.

4. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීයකර්මය ධාර්මිකකර්මයෙක් ද, විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: හමුවෙහි කරණ ලද්දේ වේ ද දැහැමින් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුනෙන් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි.

5. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: පිළිවිස කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුනෙන් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද විනයකර්මයෙක් ද වෙයි.

6. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීය-කර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා සේ සංහිඳුනෙක් ද වෙයි: ප්‍රතිඥා ගෙණ කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද වෙයි, විනයකර්මයෙක් ද වෙයි, මනා ව සංහිඳුනෙක් ද වෙයි,

7. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද, විනයකර්මයෙක් ද, මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුනෙන් සමන්විත තජ්ජනීයකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: අදෙසිතාය ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: චොදෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: සාරෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: ආපත්තිං ආරොපෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තජ්ජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

ධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.

## ආකඞ්ඛමානඡක්කං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය: භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

8. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් සමන්විත තජ්ජනීය කම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: දෙසීමෙන් පිරිසිඳු වන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ධම්යෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

9. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීය කම්මය ධාර්මිකකම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නොදෙසූ ඇවතෙහි කරණ ලද්දේ වේ ද, ධම්යෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

10. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීය කම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි. චෝදනා කොට කරණ ලද්දේ වේ ද, ධම්යෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

11. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීය-කම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: සිහිපත් කරවා කරණ ලද්දේ වේ ද, ධම්යෙන් කරණ ලද්දේ වේද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

12. මහණෙනි, අන්‍යවූත් අඞ්ග තුණෙකින් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනාලෙස සංහිඳුනෙක් ද වෙයි. ඇවැත නංවා කරණ ලද්දේ වේ ද, ධම්යෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත තජ්ජනීයකම්මය ධම්කම්මයෙක් ද විනයකම්මයෙක් ද මනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

**ධම්කම් දොළොස නිමි.**

## ආකඞ්ඛමාන ජකය

1. මහණෙනි, අඞ්ග තුණෙකින් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ (නම්) තජ්ජනීයකම්මය කරන්නේ ය: ඩබර කරන්නේ කලහ කරන්නේ විරුද්ධවාද කරන්නේ වාක්කලහ කරන්නේ සංඝයා විෂයයෙහි අධිකරණ උපදවන්නේ වේ ද, යමක් ප්‍රකට කොට කීමෙහි අදක්‍ෂ වූ ඇවැත් බහුල කොට ඇති ආපත්තිපරිච්ඡේදරහිත බාලයෙක් වේ ද, ගිහියන් හා එකට මිශ්‍ර වූයේ ශාසනයට අනුලෝම් නොවූ ගෘහීසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැති නම් තජ්ජනීයකම්මය කරන්නේ ය,

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය: අධිසීලෙ සීලවිපන්නො හොති, අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය: බුද්ධස්ස අවණ්ණං භාසති, ධම්මස්ස අවණ්ණං භාසති, සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

4. ඡණ්ණං භික්ඛවෙ භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීය-කම්මං කරෙය්‍ය: එකො භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාද-කාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, එකො බාලො හොති අව්‍යත්තො ආපත්ති බහුලො අනපදානො, එකො ගිහීසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙසං ඛො භික්ඛවෙ ඡණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

5. අපරෙසම්පි භික්ඛවෙ ඡණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය: එකො අධිසීලෙ සීලවිපන්නො හොති, එකො අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, එකො අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙසං ඛො භික්ඛවෙ ඡණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

6. අපරෙසම්පි භික්ඛවෙ ඡණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය: එකො බුද්ධස්ස අවණ්ණං භාසති, එකො ධම්මස්ස අවණ්ණං භාසති, එකො සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙසං ඛො භික්ඛවෙ ඡණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තජ්ජනීයකම්මං කරෙය්‍ය.

ආකඞ්ඛමානඡක්කං නිට්ඨිතං.

2. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය: උත්තම ශීලයෙහි විපත් (නට) සිල් ඇත්තේ වේ ද, උත්තමආචාරයෙහි විපත් ආචාර ඇත්තේ වේ ද, උතුම් වූ සම්‍යග්දෘෂ්ටියෙහි විපත් දිටු ඇත්තේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත වූ මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය: බුදුරුවන්හි අගුණ කියා ද, දම්රුවන්හි අගුණ කියා ද, සඟුරුවන්හි අගුණ කියා ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය.

4. මහණෙනි, භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය: එක් මහණෙක් ඩබර කරන්නේ කලහ කරන්නේ විවාද කරන්නේ වාක්කලහ කරන්නේ සංඝයා විෂය-යෙහි අධිකරණ ඇති කරන්නේ වේ ද, එකෙක් යමක් ප්‍රකට කොට කිමෙහි අදක්ෂ වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ පරිච්ඡේදරහිත ඇවැත් ඇත්තේ බාලයෙක් වේ ද, එකෙක් ගිහීන් හා එකට මිශ්‍ර වූයේ ශාසනානුලොම නොවූ ගෘහීසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසේ ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය.

5. මහණෙනි, අන්‍ය වූත් භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය: එකෙක් උත්තම ශීලයෙහි විපත් සිල් ඇත්තේ වේ ද, එකෙක් උතුම් ආචාරයෙහි විපත් ආචාර ඇත්තේ වේ ද, එකෙක් උතුම් දෘෂ්ටියෙහි විපත් දිටු ඇත්තේ වේ ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය.

6. මහණෙනි, අන්‍ය වූ ද භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, තජ්ජනීයකර්මය කරන්නේ ය. එක් මහණෙක් බුදුරුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් දම්රුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් සඟුරුවන්හි අගුණ කිය යි ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැති වන්නේ තජ්ජනීයකර්මය කරන්නේ ය.

**තජ්ජනීයකර්මය කිරීමට කැමැති වන්නන් පිළිබඳ භාණවාරය නිමි.**

## අට්ඨාරසවත්තං

1. තජ්ජනීයකම්මකතෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මාවත්තනා: න උපසම්පාදෙතබ්බං. න නිස්සයො දාතබ්බො. න සාමණෙරො උපට්ඨාපෙතබ්බො. න භික්ඛුනොවාදකසම්මුති[1] සාදිතබ්බා. සම්මතෙනපි භික්ඛුනියො න ඔවදිතබ්බා. යාය ආපත්තියා සඞ්ඝෙන තජ්ජනීයකම්මං කතං හොති සා ආපත්ති න ආපජ්ජිතබ්බා. අඤ්ඤා වා තාදිසිකා, තතො වා පාපිට්ඨතරා. කම්මං න ගරහිතබ්බං. කම්මිකා න ගරහිතබ්බා. න පකතත්තස්ස භික්ඛුනො උපොසථො ඨපෙතබ්බො. න පවාරණා ඨපෙතබ්බා. න සවචනීයං කාතබ්බං. න අනුවාදො පට්ඨපෙතබ්බො. න ඔකාසො කාරෙතබ්බො. න චොදෙතබ්බො. න සාරෙතබ්බො. න භික්ඛූහි සම්පයොජෙතබ්බන්ති.

අට්ඨාරසවත්තං නිට්ඨිතං.

## නපටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං

1. අථ ඛො සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං අකාසි. තෙ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තන්ති, ලොමං පාතෙන්ති, නෙත්ථාරං වත්තන්ති, භික්ඛූ උපසඞ්කමිත්වා එවං වදෙන්ති: මයං ආවුසො සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තාම, ලොමං පාතෙම, නෙත්ථාරං වත්තාම, කථන්නු ඛො අම්හෙහි පටිපජ්ජිතබ්බන්ති. භගවතො එතමත්ථං ආරොචෙසුං. “තෙන හි භික්ඛවෙ සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතු.”

2. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: උපසම්පාදෙති, නිස්සයං දෙති, සාමණෙරං උපට්ඨාපෙති, භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතො'පි භික්ඛුනියො ඔවදති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

3. අපරෙහි'පි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන තජ්ජනීයකම්මං කතං හොති තං ආපත්තිං ආපජ්ජති. අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං. කම්මං ගරහති. කම්මිකෙ ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

---

1. භික්ඛූ භික්ඛුනි, සස.

## අවොලොස් වත

1. මහණෙනි, තජ්ජනීයකර්මය කරණු ලැබූ මහණ විසින් මනා ව පැවැතිය යුතු යි. මේ එහි ලා මනා පැවැත්ම යි: තමා උපාධ්‍යාය වී උපසම්පදා කම් නො කළ යුතු යි. නිස නො දිය යුතු යි. හෙරණකු තමනට උවටැන් පිණිස නො ගත යුතු යි. භික්ඛුනොවාදකසම්මතිය නො පිළිගත යුතු යි. සම්මතිය ලද්දහු විසින් ද මෙහෙණන්හට අවවාද නො කළ යුතු යි. යම් ඇවැතක් කරණ කොට සංඝයා විසින් තජ්ජනීයකර්මය කරණ ලද්දේ ද, ඒ ඇවැතට නැවත නො පැමිණිය යුතු යි. එබඳු අනෙක් ඇවැතකට හෝ නො පැමිණිය යුතු යි. එයටත් වඩා පවිටු ඇවැතකට හෝ නො පැමිණිය යුතු යි. විනයකර්මය නො ගැරහිය යුතු යි. තජ්ජනීයකර්මය කළ භික්ෂූහු නො ගැරහිය යුත්තාහ. පුවතක් මහණහුගේ උපෝසථකර්මය නො තැබිය යුතු යි. පවාරණය නො තැබිය යුතු යි. සවචනීය කර්මය නොකළ යුතු යි. විහාරයෙහි දෙවුනතනතුර නො දුරිය යුතු යි. චොදනාවට අවසර නොගත යුතු යි. (පියෙවි මහණකුට) චොදනා නො කළ යුතු යි. ඇවැත් සිහිපත් නො කරවිය යුතු යි. භික්ෂූන් භික්ෂූන් හා කලහයට නො යෙදිය යුතු යි.

අවොලොස් වත නිමි.

## නොසංහිඳුවිය යුතු අවොලොස් වත

1. ඉක්බිති සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්හට තජ්ජනීය කර්මය කෙළේ ය. සංඝයා විසින් තජ්ජනීයකර්මය කරණු ලැබූ ඔහු මනා ව පවතිත්. භික්ෂූන් අනුව හැසිරෙත්. නිස්තරණ වත් පුරත්. භික්ෂූන් වෙත එළඹ, ‘‘ඇවැත්නි, සංඝයා විසින් තජ්ජනීයකර්මය කරණු ලැබූ අපි මනා ව පවතිමු, අනුලොම් ව පවතිමු, වරදින් මිදෙනු වස් පැවැතිය යුතු වත පුරමු. දප විසින් කෙසේ පිළිපැදිය යුතු දැ?’යි මෙසේ කියත්. භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මේ කරුණ සැළ කළහ. (එවිට භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක:) ‘‘මහණෙනි, එසේ නම් සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකර්මය සංහිඳුවාවා.’’

2. මහණෙනි, අඞ්ග පසෙකින් යුක්ත මහණහුගේ තජ්ජනීයකර්මය නො සංහිඳුවිය යුතු යි: උපසම්පදා කම් කරයි ද, නිස දෙයි ද, හෙරණකු ලවා උවටැන් කරවා ගණී ද, මෙහෙණනට ඔවා දීමේ සම්මතිය පිළිගණී ද, සම්මත කරණු ලැබූයේත් මෙහෙණනට ඔවා දේ ද, මහණෙනි, මේ අඞ්ග පසින් යුක්ත මහණහුගේ තජ්ජනීයකර්මය නො සංහිඳුවිය යුතු යි.

3. මහණෙනි, අන්‍යවූත් අඞ්ග පසෙකින් යුක්ත මහණහුගේ තජ්ජනීයකර්මය නො සංහිඳුවිය යුතු යි: යම් ඇවැතක් කරණ කොට සංඝයා විසින් තජ්ජනීයකර්මය කරණ ලද ද, ඒ ඇවැතට නැවත පැමිණෙයි ද, එබඳු අන් ඇවැතකට හෝ පැමිණෙයි ද, එයට වඩා පවිටු ඇවැතකට හෝ පැමිණෙයි ද, විනයකර්මය ගරහයි ද, කාරක සඟනට ගරහයි ද, මහණෙනි. මේ අඞ්ග පසෙන් යුක්ත මහණහුගේ තජ්ජනීයකර්මය නො සංහිඳුවිය යුතු යි.

4. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, පවාරණං ඨපෙති, සවචනීයං කරොති, අනුවාදං පට්ඨපෙති, ඔකාසං කාරෙති, චොදෙති, සාරෙති, භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

න පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.

## පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං

1. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න උපසම්පාදෙති, න නිස්සයං දෙති, න සාමණෙරං උපට්ඨාපෙති, න භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතො'පි භික්ඛුනියො න ඔවදති, ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

2. අපරෙහි'පි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන තජ්ජනීයකම්මං කතං හොති තං ආපත්තිං න ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං. කම්මං න ගරහති. කම්මිකෙ න ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

3. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, න පවාරණං ඨපෙති, න සවචනීයං කරොති. න අනුවාදං පට්ඨපෙති, න ඔකාසං කාරෙති, න චොදෙති, න සාරෙති, න භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.

[පටිප්පස්සම්භනං]

1. එවඤ්ච පන භික්ඛවෙ පටිප්පස්සම්භෙතබ්බං: තෙහි භික්ඛවෙ පණ්ඩුකලොහිතකෙහි භික්ඛූහි සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: "මයං භන්තෙ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තාම, ලොමං පාතෙම, නෙත්ථාරං වත්තාම, තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචාමා"ති. දුතියම්පි යාචිතබ්බා, තතියම්පි යාචිතබ්බා. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

4. මහණෙනි, අඞ්ග අටෙකින් යුක්ත මහණහුගේ තජ්ජනීයකම්මය නො නැවැත්විය යුතු යි: ශුද්ධ භික්ෂුවගේ උපොසථය තබයි ද, පවාරණය තබයි ද, සවචනීයකම්මය කරයි ද, වෙහෙර දෙවුකම් කරයි ද, චෝදනාවට අවසර ගණී ද, චෝදනා කරයි ද, ඇවැත් සිහිපත් කරවයි ද, භික්ෂූන් භික්ෂූන් හා කලහයට යොදයි ද, මහණෙනි, මේ අඞ්ග අටෙන් යුක්ත මහණහුගේ තජ්ජනීයකම්මය නො සංහිඳුවිය යුතු යි.

**නොසංහිඳුවිය යුතු අඞ්ග අටොළොස නිමි.**

## සංහිඳුවිය යුතු අටොළොස

1. “මහණෙනි, අඞ්ග පසෙකින් යුක්ත මහණහුගේ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි: උපසම්පදා කම් නොකරයි ද, නිසා නො දෙයි ද, හෙරණකු ලවා උවටැන් කරවා නො ගණී ද, මෙහෙණනට ඔවා දීමෙහි සම්මතිය නො පිළිගණී ද, සම්මතිය ලදුයේ ද මෙහෙණනට ඔවා නො දෙයි ද, මහණෙනි, මේ අඞ්ග පසින් යුක්ත මහණහුගේ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග පසෙකින් යුක්ත මහණනට කළ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි. යම් ඇවැතක් නිසා සංඝයා විසින් තජ්ජනීයකම්මය කරණ ලද්දේ වේ නම් ඒ ඇවැතට නැවත නො පැමිණෙයි ද, එබඳු අන් ඇවැතකටත් නො පැමිණෙයි ද, එයටත් වඩා පවිටු ඇවැතකට හෝ නො පැමිණෙයි ද, විනයකම්මයට නො ගරහයි ද, කම්ම කළ සංඝයාට නො ගරහයි ද, මහණෙනි, මේ අඞ්ග පසින් යුක්ත මහණහට කළ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි.

3. මහණෙනි, අඞ්ග අටෙකින් යුක්ත මහණහුගේ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි: පුවතත් මහණහුගේ උපොසථය නො තබයි ද, පවාරණය නො තබයි ද, සවචනීයකම්මය නො කරයි ද, වෙහෙර දෙවු තනතුර නො දරයි ද, චෝදනාවට අවසර නො ගණී ද, චෝදනා නො කරයි ද, ඇවැත් සිහිපත් නො කරවයි ද, භික්ෂූන් භික්ෂූන් හා කලහයට නො යොදයි ද, මහණෙනි, මේ අඞ්ග අටෙන් යුක්ත මහණහට කළ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි.

**සංහිඳුවිය යුතු අටොළොස නිමි.**

**[සංහිඳුවීම]**

1. මහණෙනි, මෙසේ තජ්ජනීයකම්මය සංහිඳුවිය යුතු යි: මහණෙනි ඒ පණ්ඩුකලෝහිතක භික්ෂූන් විසින් සංඝයා වෙත එළඹ උතුරුසඟ සිවුර එකස් කොට පොරොවා වැඩි මහලු භික්ෂූන්ගේ පා වැඳ, උළුළු යෙන් හිඳ ඇඳිලි බැඳ මෙසේ කිය යුතු වෙයි: “ස්වාමීනි, සංඝයා විසින් තජ්ජනීයකම්මය කරණු ලැබූ අපි මනා ව පවතිමු. භික්ෂූනට අනුව පවතිමු, නිස්තරණ වෘතහි පවතිමු. තජ්ජනීයකම්මයාගේ සංහිඳුවීම යදිමු” යනු යි. දෙවනුවත් යැදිය යුතු යි, තෙවනුවත් යැදිය යුතු යි. ව්‍යක්ත වූ ප්‍රතිබල මහණකු විසින් සංඝ තෙමේ දැන්විය යුතු යි:

2. "සුණාතු මෙ භන්තෙ සඞ්ඝො, ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තන්ති, ලොමං පාතෙන්ති, නෙත්ථාරං වත්තන්ති, තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචන්ති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තන්ති, ලොමං පාතෙන්ති, නෙත්ථාරං වත්තන්ති, තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තන්ති, ලොමං පාතෙන්ති, නෙත්ථාරං වත්තන්ති, තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති පණ්ඩුක-ලොහිතකානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. ඉමෙ පණ්ඩුකලොහිතකා භික්ඛූ සඞ්ඝෙන තජ්ජනීයකම්මකතා සම්මා වත්තන්ති, ලොමං පාතෙන්ති, නෙත්ථාරං වත්තන්ති, තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචන්ති. සඞ්ඝො පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති පණ්ඩුකලොහිත-කානං භික්ඛූනං තජ්ජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

පටිප්පස්සද්ධං සඞ්ඝෙන පණ්ඩුකලොහිතකානං භික්ඛූනං තජ්ජනීය-කම්මං. ඛමති සඞ්ඝස්ස, තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

තජ්ජනීයකම්මං නිට්ඨිතං පඨමං.

2. "වහන්ස, සංඝ තෙමේ මා කියන්න අසාවා. මේ පණ්ඩුක-ලොහිතක භික්ෂූහු සංඝයා විසින් තජ්ජනීයකම්මය කරණු ලැබුවාහු මනා ව පවතිත්. භික්ෂූන්හට අනුකූල ව පවතිත්. නිස්සරණ වතෙහි පිහිටා සිටිත්. තජ්ජනීයකම්මයාගේ සංහිඳුවීම යදිත්. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ නම් සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්හට තජ්ජනීයකම්මය සංහිඳු-වන්නේ ය. මේ ඤත්තිය යි.

වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ පණ්ඩුකලොහිතක භික්ෂූහු සංඝයා විසින් තජ්ජනීයකම්මය කරණු ලැබුවාහු මනා ව පවතිත්. භික්ෂූන්හට අනුකූල ව පවතිත්. නිස්සරණ වතෙහි (වරදින් මිදෙනු වස් පැවැතිය යුතු වතෙහි) පවතිත්. තජ්ජනීයකම්මයාගේ සංහිඳුවීම යදිත්. සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්හට තජ්ජනීයකම්මය සංහිඳුවයි. පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය සංහිඳුවීම යම් ආයුෂ්මතක් හට රුචි වෙයි ද, හෙ තෙමේ නිශ්ශබ්ද වේවා. යමකුට රුචි නො වෙයි නම්, හෙ තෙමේ කියාවා.

දෙවනුවත් මේ කරුණ කියමි. වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ පණ්ඩුකලොහිතක භික්ෂූහු සංඝයා විසින් තජ්ජනීය-කම්මය කරණු ලැබුවාහු මනා සේ පවතිත්. භික්ෂූන්හට අනුකූල ව පවතිත්. නිස්සරණ වතෙහි පවතිත්. තජ්ජනීයකම්මයාගේ සංහිඳුවීම යදිත්. සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය සංහිඳුවයි. පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය නැවැත්වීම යම් ආයුෂ්මතක් හට රුචි වෙයි ද, හෙ තෙමේ නිහඬ වේවා. යමකුට රුචි නො වෙයි නම්, හෙ තෙමේ කියාවා.

තෙවෙනිවත් මේ කරුණ කියමි. වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ පණ්ඩුකලොහිතක භික්ෂූහු සංඝයා විසින් තජ්ජනීයකම්මය කරණු ලැබුවාහු මනා ව පවතිත්. භික්ෂූන් අනුව පවතිත්. නිස්සරණ වතෙහි පවතිත්. තජ්ජනීයකම්මයාගේ සංහිඳුවීම යදිත්. සංඝ තෙමේ පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය සංහිඳුවයි. පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය සංහිඳුවීම යම් ආයුෂ්මතක් හට රුචි වෙයි ද, හෙ තෙමේ නිහඬ වේවා. යමකුට රුචි නො වෙයි නම්, හෙ තෙමේ කියාවා.

පණ්ඩුකලොහිතක භික්ෂූන්ගේ තජ්ජනීයකම්මය සංඝයා විසින් සංහිඳුවන ලදී. සංඝයාට එය රුචි වෙයි. එහෙයින් නිහඬ ය. මෙය මෙසේ සලකමි" යනු යි.

**පළමුවන තජ්ජනීයකම්මය නිමි.**

## 2. නියස්සකම්මං

1. තෙන ඛො පන සමයෙන ආයස්මා සෙය්‍යසකො බාලො හොති, අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා, මූලාය පටිකස්සන්තා, මානත්තං දෙන්තා, අබ්භෙන්තා.

2. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා, -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම ආයස්මා සෙය්‍යසකො බාලො භවිස්සති අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරිස්සති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා, මූලාය පටිකස්සන්තා, මානත්තං දෙන්තා, අබ්භෙන්තා"ති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං.

3. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි:

"සච්චං කිර භික්ඛවෙ සෙය්‍යසකො භික්ඛු බාලො හොති අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා, මූලාය පටිකස්සන්තා, මානත්තං දෙන්තා, අබ්භෙන්තා"ති. "සච්චං භගවා".

4. විගරහි බුද්ධො භගවා: "අනනුච්ඡවිකං භික්ඛවෙ තස්ස මොඝපුරිසස්ස අනනුලොමිකං අප්පතිරූපං අස්සාමණකං අකප්පියං අකරණීයං. කථං හි නාම සො භික්ඛවෙ මොඝපුරිසො බාලො භවිස්සති අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරිස්සති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා, මූලාය පටිකස්සන්තා, මානත්තං දෙන්තා, අබ්භෙන්තා.

## 2. නියස්සකම්මය

1. එ සමයෙහි ආයුෂ්මත් සෙය්‍යසක භික්‍ෂු තෙමේ අව්‍යක්ත වූයේ, ඇවැත් බහුල කොට ඇත්තේ, ආපත්තිපරිච්ඡේදරහිත බාලයෙක් වෙයි. ගිහියන් හා එකට ගැටුනේ අනුලෝම් නොවූ ගිහි සංසර්ගයෙන් යුක්ත ව වෙසෙයි. එහෙයින් භික්‍ෂූහු පිරිවෙස් දෙන්නාහු, මූලායපටිකස්සනා කරන්නාහු, මානත් දෙන්නාහු, අබ්භාන කරන්නාහු කටයුත්තෙහි යෙදුනාහු වෙත්.

2. අපිස් ගුණ ඇති, ලද දෙයින් සතුටු වන සුලු, පවට පිළිකුල් කරණ කැප නො කැප පිළිබඳ විමැසීම කරවා (සැක කරණ) හික්මෙනු කැමැති යම් භික්‍ෂූහු වෙත් ද, ඒ භික්‍ෂූහු “කෙසේ නම් සෙය්‍යසක භික්‍ෂු තෙමේ බාල වූයේ, අව්‍යක්ත වූයේ, ඇවැත් බහුල කොට ඇත්තේ, ආපත්තිපරිච්ඡේද රහිත වූයේ ගිහියන් හා එකට ගැටුණේ නොගැල-පෙන්නා වූ ගිහිසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි ද, එහෙයින් භික්‍ෂූහු පිරිවෙස් දෙන්නාහු, මූලායපටිකස්සනා කරන්නාහු, මානත් දෙන්නාහු අබ්භාන කරන්නාහු බොහෝ කටයුතු ඇත්තාහු වූහ”යි (සෙය්‍යසක මහණහුගේ ක්‍රියාව) ලාමක කොට සිතත්, අගුණ කියත්, අගුණ පතුරු-වත්. ඉක්බිති ඒ භික්‍ෂූහු මේ කරුණ භාග්‍යවතුන් වහන්සේට සැල කළාහු ය.

3. එ කල්හි භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ කරුණෙහි භික්‍ෂුසංඝයා රැස් කරවා, භික්‍ෂූන් විචාළ සේක:

“මහණෙනි, සෙය්‍යසක මහණ තෙමේ අව්‍යක්ත වූයේ, ඇවැත් බහුල කොට ඇත්තේ, ඉමක් නැති ඇවැත් ඇත්තේ, බාලයෙක් වේ ද? ගිහියන් හා එකට ගැටුනේ අනුලෝම් නොවූ ගිහිසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි ද? ‘එහෙයින් භික්‍ෂූහු පිරිවෙස් දෙන්නාහු, මූලායපටිකස්සනා කරන්නාහු, මානත් දෙන්නාහු, අබ්භාන කරන්නාහු බොහෝ කටයුතු ඇත්තෝ වෙත්’ යනු සැබෑ ද?”යි (ඇසූ සේක). “භාග්‍යවතුන් වහන්ස, සැබෑ ය”යි ඔහු උත්තර දුන්හ.

4. “මහණෙනි, ඒ හිස් පුරුෂයාගේ නො සුදුසු ක්‍රියාවෙකි. ශාසනයට අනුලෝම් නොවූ ක්‍රියාවෙකි. අයුත්තෙකි. ශ්‍රමණයනට අයත් නොවූයෙකි, කැප නොවූයෙකි, නොකළ යුත්තෙකි. මහණෙනි, ඒ හිස් පුරුෂ තෙමේ කෙසේ නම් බාල වූයේ, අව්‍යක්ත වූයේ, ඇවැත් බහුල කොට ඇත්තේ, ආපත්තිපරිච්ඡේද රහිත වූයේ ගිහියන් හා එකට ගැටුනේ, අනුලෝම් නොවූ ගිහිසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි ද, එහෙයින් භික්‍ෂූහු පිරිවෙස් දෙන්නාහු, මූලට අදින්නාහු, මානත් දෙන්නාහු, අබ්භාන කරන්නාහු නිතර කටයුත්තෙහි යෙදුනාහු ද වෙත්.

5. "නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය -පෙ-." විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: "තෙන හි භික්ඛවෙ සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං කරොතු නිස්සාය තෙ වත්ථබ්බන්ති. එවං ච පන භික්ඛවෙ කාතබ්බං: පඨමං සෙය්‍යසකො භික්ඛු චොදෙතබ්බො. චොදෙත්වා සාරෙතබ්බො. සාරෙත්වා ආපත්තිං ආරොපෙතබ්බො. ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

6. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං සෙය්‍යසකො භික්ඛු බාලො අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො ගිහිසංසට්ඨො විහරති අනනු-ලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා මූලාය පටිකස්සන්තා මානත්තං දෙන්තා අබ්භෙන්තා. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං කරෙය්‍ය නිස්සාය තෙ වත්ථබ්බන්ති. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං සෙය්‍යසකො භික්ඛු බාලො අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො ගිහිසංසට්ඨො විහරති අනනු-ලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා මූලායපටිකස්සන්තා මානත්තං දෙන්තා අබ්භෙන්තා. සඞ්ඝො සෙය්‍ය-සකස්ස භික්ඛුනො නියස්සකම්මං කරොති නිස්සාය තෙ වත්ථබ්බන්ති. යස්සායස්මතො ඛමති සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්ස කම්මස්ස කරණං නිස්සාය තෙ වත්ථබ්බන්ති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි. -පෙ- තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං සෙය්‍යසකො භික්ඛු බාලො අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො. ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. අපිස්සු භික්ඛූ පකතා පරිවාසං දෙන්තා, මූලාය පටිකස්සන්තා, මානත්තං දෙන්තා, අබ්භෙන්තා. සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං කරොති නිස්සාය තෙ වත්ථබ්බන්ති. යස්සා-යස්මතො ඛමති සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මස්ස කරණං නිස්සාය තෙ වත්ථබ්බන්ති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

කතං සඞ්ඝෙන සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං, නිස්සාය තෙ වත්ථබ්බන්ති. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

5. "මහණෙනි, මෙය නොපහත් වූවන්ගේ පහන් බව පිණිස හෝ නො වෙයි. ... පහන් වූවන්ගේ ඒ පහත් බව වැඩීම පිණිස හෝ නො වෙයි. වැලි දු මහණෙනි, මෙය නොපහත් වූවන්ගේ නොපහන් බව පිණිස ද, පහන් වූ ඇතැමුන්ගේ වෙනස් බව පිණිස ද පවතී ය"යි භාග්‍යවත් බුද්ධරජාණන් වහන්සේ ගැරැහූ සේක. ගරහා දැහැමි කථා කොට භික්ෂූන් ඇමැතූ සේක: "මහණෙනි, එසේ නම් සංඝ තෙමේ සෙය්‍යසක භික්ෂුහට "තා විසින් නිස ගෙණ ආචාර්‍ය්‍ය ආශ්‍රයයෙහි ම විසිය යුතුයැ"යි නියස්සකර්මය කෙරේවා. මහණෙනි, ඒ නියස්සකර්මය ද මෙසේ කළ යුතු යි: පළමු කොට සෙය්‍යසක මහණ තෙමේ චොදනා කළ යුතු යි. චොදනා කොට, ඇවැත සිහිපත් කරවිය යුතු යි. සිහිපත් කරවා ඇවැත නැංවිය යුතු යි. ඇවැත නංවා ව්‍යක්ත වූ ප්‍රතිබල මහණකු විසින් සංඝ තෙමේ මෙසේ දැන්විය යුත්තේ ය:

6. "වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවං, මේ සෙය්‍යසක මහණ නොවියත් වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ ආපත්තිපරිච්ඡේද රහිත බාලයෙක් වෙයි. ගිහියන් හා එකට ගැටුනේ අනුලොම් නොවූ ගිහී සංසග්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි. එහෙයින් භික්ෂූහු පිරිවෙස් දෙන්නාහු මූලායපටිකස්සනය කරන්නාහු මානත් දෙන්නාහු අබ්භාන කරන්නාහු බොහෝ කටයුතු ඇත්තාහු වෙති. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත් නම්, සංඝ තෙමේ සෙය්‍යසක මහණහට 'තා විසින් නිස ගෙණ ආචාර්‍ය්‍ය ආශ්‍රයයෙහි ම විසිය යුතු ය'යි නියස්සකර්මය කරන්නේ ය. මේ ඤත්ති යයි.

වහන්ස, සංඝ තෙමේ මා කියන්න අසාවා. මේ සෙය්‍යසක භික්ෂු තෙමේ අව්‍යක්ත වූ, ඇවැත් බහුල කොට ඇති, ආපත්තිපරිච්ඡේද රහිත බාලයෙක් වෙයි, ගිහියන් හා එකට ගැටුනේ අනුලොම් නොවූ ගිහී සංසග්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි. එහෙයින් භික්ෂූහු පිරිවෙස් දෙන්නාහු, මූලායපටිකස්සනය කරන්නාහු, මානත් දෙන්නාහු අබ්භාන කරන්නාහු කටයුතු ඇත්තාහු වෙති. සංඝ තෙමේ සෙය්‍යසක මහණහට 'තා විසින් නිස ගෙණ ආචාර්‍ය්‍ය ආශ්‍රයයෙහි විසිය යුතු ය'යි නියස්සකර්මය කෙරෙයි. සෙය්‍යසක මහණහට 'තා විසින් නිස ගෙණ ආචාර්‍ය්‍ය ආශ්‍රයයේ විසිය යුතුය'යි නියස්සකර්මය කිරීම යම් ආයුෂ්මතකුට රුචි වෙයි නම් හෙ තෙමේ නිශශබ්ද වේවා. යමකුට රුචි නොවෙයි නම් හෙ තෙමේ කියාවා.

දෙවනු වත් මේ කරුණ කියමි.... තෙවනු වත් මේ කරුණ කියමි. වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ සෙය්‍යසක භික්ෂු තෙමේ අව්‍යක්ත වූයේ, ඇවැත් බහුල කොට ඇත්තේ, ආපත්තිපරිච්ඡේද රහිත බාලයෙක් වෙයි. ගිහියන් හා එකට ගැටුනේ ශාසනයට අනුලොම් නොවූ ගිහි සංසග්ගයෙන් යුක්ත වූයේ වෙසෙසි. එහෙයින් භික්ෂූහු පිරිවෙස් දෙන්නාහු මූලායපටිකස්සනය කරන්නාහු මානත් දෙන්නාහු අබ්භාන කරන්නාහු බොහෝ කටයුතු ඇත්තාහු වෙති. සංඝ තෙමේ සෙය්‍යසක භික්ෂුහට 'තා විසින් නිස ගෙණ ආචාර්‍ය්‍ය ආශ්‍රයයේ විසිය යුතු ය'යි නියස්සකර්මය කෙරෙයි. සෙය්‍යසක භික්ෂුහට 'තා විසින් නිස ගෙණ ඇදුරු ඇසුරෙහි ම විසිය යුතු ය'යි නියස්සකර්මය කිරීම යම් ආයුෂ්මතකුට රුචි වෙයි නම් හෙ තෙමේ නිශශබ්ද වේවා. යමකුට අනභිමත වේ නම් හෙ තෙමේ කියාවා. සංඝයා විසින් සෙය්‍යසක භික්ෂුහට 'තා විසින් නිස ගෙණ ඇදුරු ඇසුරෙහි ම විසිය යුතු ය'යි නියස්සකර්මය කරණ ලදී. සංඝයාට එය අභිමත යි. එහෙයින් නිහඬ ය. මේ කරුණු මෙසේ ධරමි" යනු යි.

## අධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං අධම්මකම්මඤ්ච හොති, අවිනයකම්මඤ්ච දුව්වූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අප්පටිපුච්ඡා කතං හොති, අප්පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං අධම්මකම්මං ච හොති, අවිනයකම්මඤ්ච, දුව්වූපසන්තඤ්ච.

2. අපරෙහි'පි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං අධම්මකම්මං ච හොති, අවිනයකම්මඤ්ච, දුව්වූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, දෙසිතාය ආපත්තියා කතං හොති...

3. අපරෙහි'පි -පෙ- අචොදෙත්වා කතං හොති, අසාරෙත්වා කතං හොති, ආපත්තිං අනාරොපෙත්වා කතං හොති...

4. අපරෙහි'පි -පෙ- අසම්මුඛා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

5. අපරෙහි'පි -පෙ- අප්පටිපුච්ඡා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

6. අපරෙහි'පි -පෙ- අප්පටිඤ්ඤාය කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

7. අපරෙහි'පි -පෙ- අනාපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

8. අපරෙහි'පි -පෙ- අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

9. අපරෙහි,පි -පෙ- දෙසිතාය ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති ...

10. අපරෙහි'පි- පෙ- අචොදෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

11. අපරෙහි'පි -පෙ- අසාරෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති...

12. අපරෙහි'පි -පෙ- ආපත්තිං අනාරොපෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මං ච දුව්වූපසන්තං ච.

**නියස්සකම්මෙ අධම්මකම්ම ද්වාදසකං නිට්ඨිතං.**

## අධම්මකම්මදොළොස

1. "මහණෙනි, අඞ්ග තුනෙකින් යුත් තජ්ජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද, නොසංහිඳුනෙක් ද වෙයි: අසම්මුඛයෙහි කරණ ලද්දේ වෙයි ද, නොපිළිවිස කරණ ලද්දේ වෙයි ද, ප්‍රතිඥ නොගෙණ කරණ ලද්දේ වෙයි ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුත් තජ්ජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද මනාව නොසංහිඳුනෙක් ද වෙයි.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් යුක්ත තජ්ජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද නොසංහිඳුනෙක් ද වෙයි: ඇවැත් නැත්තෙහි කරණ ලද්දේ වෙයි ද, දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද්දේ වෙයි ද, දෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වෙයි ද...

3. අන්‍ය වූ ද... චෝදනා නොකොට කරණ ලද්දේ වෙයි ද, සිහිපත් නො කරවා කරණ ලද්දේ වෙයි ද, ඇවැත නො නංවා කරණ ලද්දේ වෙයි ද...

4. අන්‍ය වූ ද... අසම්මුඛයෙහි කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ (අසමග්‍ර වූ)සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

5. අන්‍ය වූ ද... නොපිළිවිස කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

6. අන්‍ය වූ ද .. පිළිණ නොගෙණ කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

7. අන්‍ය වූ ද .. ඇවැත නැත්තෙහි කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

8. අන්‍ය වූ ද... දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

9. අන්‍ය වූ ද... දෙසූ ඇවැතෙහි කරණ ලද්දේ, වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

10. අන්‍ය වූ ද... චෝදනා නොකොට කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

11. අන්‍ය වූ ද .. සිහිපත් නොකරවා කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද...

12. අන්‍ය වූ ද ... ඇවැත නොනංවා කරණ ලද්දේ වෙයි ද, අධර්මයෙන් කරණ ලද්දේ වෙයි ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වෙයි ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත තජ්ජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද මනාව නො සංහිඳුනෙක් ද වෙයි.

**තජ්ජනීයකර්මයෙහි අධර්මකර්ම දොළොස නිමි.**

## ධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං ධම්ම-කම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං ධම්මකම්මං ච හොති විනය-කම්මං ච සුවූපසන්තං ච.

2. අපරෙහි'පි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: ආපත්තියා කතං හොති, දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අදෙසිතාය ආපත්තියා කතං හොති.

3 අපරෙහි'පි -පෙ- චොදෙත්වා කතං හොති, සාරෙත්වා කතං හොති, ආපත්තිං ආරොපෙත්වා කතං හොති.

4. අපරෙහි'පි -පෙ- සම්මුඛා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

5. අපරෙහි'පි -පෙ- පටිපුච්ඡා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

6. අපරෙහි'පි -පෙ- පටිඤ්ඤාය කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

7. අපරෙහි'පි -පෙ- ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

8. අපරෙහි'පි -පෙ- දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

9. අපරෙහි'පි -පෙ- අදෙසිතාය ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති

10. අපරෙහි'පි -පෙ- චොදෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

11. අපරෙහි'පි -පෙ- සාරෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති.

12. අපරෙහි'පි -පෙ- ආපත්තිං ආරොපෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං නියස්සකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

**නියස්සකම්මෙ ධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.**

## ධර්මකර්මදොළොස

1. මහණෙනි, අඞ්ග තුනෙකින් යුක්ත නියස්සකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වේ: සම්මුඛයෙහි කරණ ලද්දේ වෙයි ද, පිළිවිස කරන ලද්දේ වෙයි ද, පිළිණ ගෙණ කරණ ලද්දේ වෙයි ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත නියස්සකර්මය ධර්මකර්මයෙක් ද විනය-කර්මයෙක් ද, මනා ව සංහිඳුනෙක් ද වේ.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුනෙකින් යුක්ත නියස්සකර්මය ධර්මකර්මයෙක් ද විනය කර්මයෙක් ද මනාව සංහිඳුනෙක් ද වේ: ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දෙසීමෙන් පිරිසිදු වන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, නො දෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුත් නියස්සකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි.

3. අන්‍ය වූ ද... චොදනා කොට කරණ ලද්දේ වේ ද, සිහිපත් කරවා කරණ ලද්දේ වේ ද, ඇවැත නංවා කරණ ලද්දේ වේ ද,...

4. අන්‍ය වූ ද... සම්මුඛයෙහි කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,...

5. අන්‍ය වූ ද... පිළිවිස කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,...

6. අන්‍ය වූ ද... පිළිණ ගෙණ කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,...

7. අන්‍ය වූ ද... ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,...

8. අන්‍ය වූ ද... දෙසීමෙන් පිරිසිදු වන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද...

9. අන්‍ය වූ ද.... නොදෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,....

10. අන්‍ය වූ ද.... චොදනා කොට කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,...

11. අන්‍ය වූ ද .. සිහිපත් කොට කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද,....

12. අන්‍ය වූ ද .. ඇවැත නංවා කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුක්ත නියස්සකර්මය ධර්මකර්මයෙක් ද විනය කර්මයෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි.

**නියස්සකර්මයෙහි ධර්මකර්ම දොළොස නිමි.**

## ආකඞ්ඛමානඡක්කං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො. බාලො හොති අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො. ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

2. අපරෙහි'පි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: අධිසීලෙ සීලවිපන්නො හොති, අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

3. අපරෙහි'පි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: බුද්ධස්ස අවණ්ණං භාසති, ධම්මස්ස අවණ්ණං භාසති, සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

4. තිණ්ණං භික්ඛවෙ භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: එකො භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, එකො බාලො හොති අබ්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, එකො ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

5. අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: එකො අධිසීලෙ සීලවිපන්නො හොති, එකො අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, එකො අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

6. අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය: එකො බුද්ධස්ස අවණ්ණං භාසති, එකො ධම්මස්ස අවණ්ණං භාසති, එකො සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො නියස්සකම්මං කරෙය්‍ය.

නියස්සකම්මෙ ආකඞ්ඛමානඡක්කං නිට්ඨිතං.

## ආකඞ්ඛමානඡක්කය

1. මහණෙනි, අඞ්ග තුණෙකින් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය: ඩබර කරන්නේ කලහ කරන්නේ (ඇවැත් වෙයි නොවෙයි ආදි) විරුඬවාද කරන්නේ වාක්කලහ කරන්නේ සංඝයා විෂයයෙහි අධිකරණ කරන්නේ වේ ද, අව්‍යක්ත වූ ඇවැත් බහුල කොට ඇති ආපත්ති පරිච්ඡේද රහිත බාලයෙක් වේ ද, ගිහීයන් හා එකට ගැටුණේ අනුලොම් නොවූ ගිහි සංසග්ගයෙන් යුක්ත වූයේ වෙසේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය: උත්තම ශීලයෙහි විපන් සිල් ඇත්තේ වේ ද, උත්තම ආචාරයෙහි විපන් ආචාර ඇත්තේ ද, උතුම් සම්‍යග්දෘෂ්ටියෙහි විපන් දිට්ඨි ඇත්තේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්ස-කම්ය කරන්නේ ය.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය: බුදුරුවන්හි අගුණ කියා ද, දම්රුවන්හි අගුණ කියා ද, සඟුරුවන්හි අගුණ කියා ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය.

4. මහණෙනි, භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය: එක් මහණෙක් ඩබර කරන්නේ කලහ කරන්නේ විවාද කරන්නේ වාක් කලහ කරන්නේ සංඝයා කෙරෙහි අධිකරණ කරන්නේ වේ ද, එක් මහණෙක් අව්‍යක්ත වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ ආපත්ති පරිච්ඡේද නොදත් බාලයෙක් වේ ද, එක් මහණෙක් ගිහියන් හා එකට ගැටුනේ ශාසනයට අනුකූල නොවූ ගිහි සංසග්ගයෙන් යුක්ත වූයේ වෙසේ ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය.

5. මහණෙනි, අන්‍ය වූ ද භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය: එක් මහණෙක් උත්තම ශීලයෙහි විපන් සිල් ඇත්තේ වේ ද, එක් මහණෙක් උත්තමාචාරයෙහි විපන් ආචාර ඇත්තේ වේ ද, එක් මහණෙක් උත්තම වූ සම්‍යග්දෘෂ්ටියෙහි විපන් දිට්ඨි ඇත්තේ වේ ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය.

6. මහණෙනි, අන්‍ය වූ ද භික්ෂූන් තිදෙනෙකුන්හට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේය. එක් මහණෙක් බුදුරුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් දම්රුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් සඟුරුවන්හි අගුණ කියයි ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙමේ කැමැත්තේ නම් නියස්සකම්ය කරන්නේ ය.

**නියස්සකම්යෙහි ආකඞ්ඛමානඡක්කය නිමි.**

2. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන **සඞ්ඝො ඤාපෙතබ්බො**:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං සෙය්‍යසකො භික්ඛු සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං සෙය්‍යසකො භික්ඛු සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං සෙය්‍යසකො භික්ඛු සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං සෙය්‍යසකො භික්ඛු සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

පටිප්පස්සද්ධං සඞ්ඝෙන සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

**නියස්සකම්මං නිට්ඨිතං දුතියං.**

## 3. පබ්බාජනීයකම්මං

**[අස්සජිපුනබ්බසුකානං අනාචාරං]**

1. තෙන ඛො පන සමයෙන **අස්සජිපුනබ්බසුකා** නාම **කීටාගිරිස්මිං** ආවාසිකා හොන්ති අලජ්ජිනො පාපභික්ඛූ. තෙ එවරූපං අනාචාරං ආචරන්ති: මාලාවච්ඡං රොපෙන්තිපි රොපාපෙන්තිපි. සිඤ්චන්තිපි, සිඤ්චාපෙන්තිපි. ඔචිනන්තිපි, ඔචිනාපෙන්තිපි. ගන්ථෙන්තිපි, ගන්ථාපෙන්තිපි. එකතොවණ්ටිකමාලං කරොන්තිපි, කාරාපෙන්තිපි. උභතොවණ්ටිකමාලං කරොන්තිපි, කාරාපෙන්තිපි. මඤ්ජරිකං කරොන්තිපි, කාරාපෙන්තිපි. විධූතිකං කරොන්තිපි, කාරාපෙන්තිපි. වටංසකං කරොන්තිපි, කාරාපෙන්තිපි. ආවෙළං කරොන්තිපි, කාරාපෙන්තිපි. උරච්ඡදං කරොන්තිපි, කාරාපෙන්තිපි.

2. ව්‍යක්ත වූ ප්‍රබල මහණකු විසින් සඞ්ඝ තෙමේ මෙසේ දැන්විය යුතු:

“වහන්ස, සඞ්ඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ සෙය්‍යසක මහණ තෙමේ සඞ්ඝයා විසින් නියස්සකම්මය කරණ ලද්දේ මැනැවින් පවතී. (භික්ෂූන්හට) අනුකූල ව පවතී. (අටළොස්) නිස්තරණ වත පුරයි. නියස්ස-කම්මයාගේ සංසිඳීම යදී. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇති කම්මය වේ නම් සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවන්නේ ය. මේ ඤත්තිය යි.

වහන්ස, සඞ්ඝ තෙමේ මාගේ වචනය අසාවා: මේ සෙය්‍යසක මහණ තෙමේ සඞ්ඝයා විසින් නියස්සකම්මය කරණු ලැබුයේ, මනා ව පවතී. අනුලොම් ව පවතී. නිස්තරණ වත පුරයි. නියස්ස කම්මයාගේ සංසිඳීම යදී. සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවයි. සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවීම යම් ආයුෂ්මතකුහට රිසියේ නම් හෙ තෙම නිහඬ වේවා. යමකුට නො රිසියේ නම් හේ කියාවා.

දෙවෙනු ව ද මෙ කරුණ කියමි. වහන්ස, සඞ්ඝ තෙමේ මාගේ වචනය අසාවා: මේ සෙය්‍යසක මහණ තෙමේ සඞ්ඝයා විසින් නියස්සකම්මය කරණු ලැබුයේ මනා ව පවතී. අනුලොම් ව පවතී. නිස්තරණ වත පුරයි. නියස්සකම්මයාගේ සංසිඳීම යදී. සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණ-හුගේ නියස්සකම්මය සංසිඳුවයි. සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවීම යම් ආයුෂ්මතකුහට රිසියේ නම් හේ නිහඬ වේවා. යමකුට නො රිසියේ නම් හේ කියාවා.

තෙවෙනු ව ද මෙ කරුණ කියමි. සඞ්ඝ තෙමේ මාගේ වචනය අසාවා: සඞ්ඝයා විසින් නියස්සකම්මය කරණු ලැබූ මේ සෙය්‍යසක මහණ තෙම මැනැවින් පවතී. අනුලොම් ව පවතී. නිස්තරණ වත් පුරයි. (හේ) නියස්සකම්මයාගේ සංසිඳීම යදී. සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවයි. සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවීම යම් ආයුෂ්මතකුහට රිසියේ නම් හේ නිහඬ වේවා. යමකුට නො රිසියේ නම් හේ කියාවා.

සඞ්ඝයා විසින් සෙය්‍යසක මහණහුගේ නියස්සකම්මය සංසිඳුවන ලදී. සඞ්ඝයාට එය රිසියෙයි. එහෙයින් නිහඬ ය. මේ කාරණය මෙසේ සලකමි”යනු යි.

**දෙවන නියස්සකම්මය නිමියේ ය.**

# 3. පබ්බාජනියකම්මය

## [අස්සජිපුනබ්බසුකයන්ගේ අනාචාර]

1. එ සමයෙහි වූ කලි අස්සජි පුනබ්බසුක නම් වූ පවට පිළිකුල් නො කරණ ලාමක මහණහු කීටාගිරියෙහි ආවාසික වෙති. ඔහු මෙබඳු අනාචාර කෙරෙත්: තුමූ ද මල්පැල සිටුවත්, අනුන් ලවා ද සිටුවවත්. තුමූ ද දිය ඉසිත්, අනුන් ලවා ද ඉස්වත්. තුමූ ද මල් නෙලත්, අනුන් ලවා ද මල් නෙලවත්. තුමූ ද මල්දම් ගොතත්, අනුන් ලවා ද මල්දම් ගොතවත්. එක් පසකට නටු සිටුනාසේ මල්දම් තුමූ ද කරත්, අනුන් ලවා ද කරවත්. දෙපසට නටු සිටුනාසේ මල්දම් තුමූ ද කරත්, අනුන් ලවා ද කරවත්. තුමූ ද මල්කැත් කරත්, අනුන් ලවා ද කරවත්. හිඳි ආදියෙකින් ඇවුනු මල්දම් (විධූතිකාවත්) තුමූ ද කෙරෙත්, අනුන් ලවා ද කරවත්. මුදුන්මල් කඩ (අවතංසක) තුමූ ද කෙරෙත්, අනුන් ලවා ද කරවත්. කණැ පලඳනා මල්දම් තුමූ ද කරත්, අනුන් ලවා ද කරවත්. උර පලඳනාවත් තුමූ ද කරත්, අනුන් ලවා ද කරවත්.

4. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, පවාරණං ඨපෙති, සවචනීයං කරොති, අනුවාදං පට්ඨපෙති, ඔකාසං කාරෙති, චොදෙති, සාරෙති, භික්ඛූහි සම්පයොජෙති; ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

න පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.

## පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං

1. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න උපසම්පාදෙති, න නිස්සයං දෙති, න සාමණෙරං උපට්ඨාපෙති, න භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතොපි භික්ඛුනියො න ඔවදති; ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

2. අපරෙහි'පි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන නියස්සකම්මං කතං හොති තං ආපත්තිං න ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං න ගරහති, කම්මිකෙ න ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

3. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, න පවාරණං ඨපෙති, න සවචනීයං කරොති, න අනුවාදං පට්ඨපෙති, න ඔකාසං කාරෙති, න චොදෙති, න සාරෙති, න භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.

## [පටිප්පස්සම්භනං]

1. එවඤ්ච පන භික්ඛවෙ පටිප්පස්සම්භෙතබ්බං: තෙන භික්ඛවෙ සෙය්‍යසකෙන භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: "අහං භන්තෙ සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තාමි, ලොමං පාතෙමි, නෙත්ථාරං වත්තාමි, නියස්සකම්මස්ස පටිප්පස්සද්ධිං යාචාමී"ති. දුතියම්පි යාචිතබ්බා. තතියම්පි යාචිතබ්බා,

4. මහණෙනි, අඞ්ග අටෙකින් යුත් මහණහුගේ නියස්සකම්මය නො සංහිඳුවිය යුතු: පුවතක් මහණහුගේ පොහොය තබා ද, පවුරුණු තබා ද, සවචනීයකම්මය කෙරේ ද, වෙහෙර දෙටු බව කෙරේ ද, අනුනට චොදනා කිරීමට අවකාශ කරවා ගණී ද, (පුවතක් මහණකුට) චොදනා කෙරේ ද, (ඇවැත්) සිහිපත් කරවා ද, භික්ෂූන් උනුන් හා කලහයෙහි යොදා ද. මහණෙනි, මේ අඞ්ග අටෙන් යුත් මහණහුගේ නියස්සකම්මය නො සංහිඳුවිය යුතු.

නොසංහිඳුවියයුතු අටලොස නිමියේ ය.

## සංහිඳුවියයුතු අටලොස

1. මහණෙනි, අඞ්ග පසෙකින් යුත් මහණහුගේ නියස්සකම්මය සංහිඳුවිය යුතු: තමා උපාධ්‍යාය ව උපසපත් නො කෙරෙයි ද, නිස නො දෙයි ද, හෙරණකු උවටනට යොදා නො ගණී ද, මෙහෙණින්-හට ඔවා දීමේ සම්මතිය නො ඉවසයි ද, සම්මතිය ලදුයේ නමුත් ඔවා නො දෙයි ද, මහණෙනි, මේ පසඟින් යුත් මහණහුගේ නියස්සකම්මය සංහිඳුවිය යුතු.

2. මහණෙනි, අන්‍ය වූ ද පඤ්චාඞ්ගයෙකින් යුක්ත මහණහුගේ නියස්සකම්මය සංහිඳුවිය යුතු: යම් ඇවැතකට සඞ්ඝයා විසින් (ඔහුට) නියස්සකම්මය කරණ ලද්දේ නම්, ඒ ඇවැතට නො පැමිණේ ද, එවැනි අන් ඇවැතකට හෝ නො පැමිණේ ද, එයටත් වඩා ලාමක ඇවැතකට හෝ නො පැමිණේ ද, (කරණ ලද) විනයකම්මය නො ගරහා ද, විනය-කම්මය කළවුන් නො ගරහා ද, මහණෙනි, මේ පසඟින් යුත් මහණහුගේ නියස්සකම්මය සංහිඳුවිය යුතු.

3. මහණෙනි, අඞ්ග අටෙකින් යුත් මහණහුගේ නියස්සකම්මය සංහිඳුවිය යුතු. පුවතක් මහණකුගේ පොහොය නො තබා ද, පවුරුණු නො තබා ද, සවචනීය කම්මය නො කෙරේ ද, වෙහෙරෙහි දෙටු තැන්හි නො සිටී ද, චොදනා පිණිස අවකාශ කරවා නො ගණී ද, චොදනා නො කරයි ද, ඇවැත් සිහිපත් නො කරවයි ද, භික්ෂූන් උනුන් කලහයෙහි නො යොදයි ද, මහණෙනි, මේ අඞ්ග අටින් යුත් මහණහුගේ නියස්ස-කම්මය සංහිඳුවිය යුතු.

සංහිඳුවියයුතු අටලොස නිමියේ ය.

## [සංහිඳුවීම]

1. මහණෙනි, නියස්සකම්මය මෙසේ සංහිඳුවිය යුතු: ඒ සෙය්‍යසක මහණහු විසින් සඞ්ඝයා වෙත එළැඹ උතුරුසඟ එකස් කොට පොරොවා වැඩිමහලු භික්ෂූන්ගේ පා වැඳ උක්කුටුක ව හිඳ ඇඳිලි බැඳ ගෙණ මෙසේ කිය යුතු වන්නේ ය: “වහන්ස, මම සඞ්ඝයා විසින් නියස්සකම්මය කරණු ලැබූයෙමි මැනැවින් පවතිමි. භික්ෂූන් අනුව පවතිමි. (අටොළොස්) නිස්සරණ වත අනුව පවතිමි. නියස්සකම්මයාගේ සංහිඳුවීම යදිමි” යි. දෙවෙනුව ද යැදිය යුතු. තෙවෙනුව ද යැදිය යුතු.

## අට්ඨාරසවත්තං

1. නියස්සකම්මකතෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මා වත්තනා: න උපසම්පාදෙතබ්බං, න නිස්සයො දාතබ්බො, න සාමණෙරො උපට්ඨාපෙතබ්බො, න භික්ඛුනොවාදකසම්මුති සාදිතබ්බා, සම්මතෙනපි භික්ඛුනියො න ඔවදිතබ්බා, යාය ආපත්තියා සඞ්ඝෙන නියස්සකම්මං කතං හොති සා ආපත්ති න ආපජ්ජිතබ්බා, අඤ්ඤා වා තාදිසිකා, තතො වා පාපිට්ඨතරා, කම්මං න ගරහිතබ්බං, කම්මිකා න ගරහිතබ්බා, න පකතත්තස්ස භික්ඛුනො උපොසථො ඨපෙතබ්බො, න පවාරණා ඨපෙතබ්බා, න සවචනීයං කාතබ්බං, න අනුවාදො පට්ඨපෙතබ්බො, න ඔකාසො කාරෙතබ්බො, න චොදෙතබ්බො, න සාරෙතබ්බො, න භික්ඛූහි සම්පයොජෙතබ්බන්ති.

### නියස්සකම්මෙ අට්ඨාරසවත්තං නිට්ඨිතං.

## න පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං

1. අථ ඛො සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං අකාසි නිස්සාය තෙ වත්ථබ්බන්ති. සො සඞ්ඝෙන නියස්සකම්මකතො කල්‍යාණමිත්තෙ සෙවමානො භජමානො පයිරුපාසමානො උද්දිසාපෙන්තො පරිපුච්ඡන්තො බහුස්සුතො හොති ආගතාගමො ධම්මධරො විනයධරො මාතිකාධරො පණ්ඩිතො ව්‍යත්තො මෙධාවී ලජ්ජී කුක්කුච්චකො සික්ඛාකාමො. සො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති. භික්ඛූ උපසඞ්කමිත්වා එවං වදෙති: "අහං ආවුසො සඞ්ඝෙන නියස්සකම්මකතො සම්මා වත්තාමි, ලොමං පාතෙමි, නෙත්ථාරං වත්තාමි, කථං නු ඛො මයා පටිපජ්ජිතබ්බ"න්ති. භගවතො එතමත්ථං ආරොචෙසුං. "තෙන හි භික්ඛවෙ සඞ්ඝො සෙය්‍යසකස්ස භික්ඛුනො නියස්සකම්මං පටිප්පස්සම්භෙතු."

2. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: උපසම්පාදෙති, නිස්සයං දෙති, සාමණෙරං උපට්ඨාපෙති, භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතො'පි භික්ඛුනියො ඔවදති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

3. අපරෙහි'පි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන නියස්සකම්මං කතං හොති තං ආපත්තිං ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං ගරහති, කම්මිකෙ ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො නියස්සකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

## අටළොස්වත

1. මහණෙනි, නියස්සකර්මය කරණු ලැබූ මහණහු විසින් මනා ව පැවතිය යුතුයි. එහි මේ මනා පැවැත්මයි: (තමන් උපාධ්‍යාය ව) උපසම්පදා නො කළ යුතුයි, නිස නො දිය යුතුයි, සාමණේරයෙකු උපස්ථානය පිණිස නො තබාගත යුතුයි, භික්ඛුනොවාදකසම්මතිය නො පිළිගත යුතුයි, ඒ සම්මතිය ලැබූවහු විසින් ද මෙහෙණිනට ඔවා නොදිය යුතුයි, යම් ඇවැතක් කරණකොට සඞ්ඝයා විසින් නියස්සකර්මය කරණ ලද්දේ ද ඒ ඇවැතට නො පැමිණිය යුතුයි, එබඳු අන් ඇවැතකට ද නො පැමිණිය යුතුයි, එයට වඩා පවිටු ඇවැතකට ද නො පැමිණිය යුතුයි, විනයකර්මයට නො ගැරහිය යුතුයි, කර්මය කළ භික්ෂූන්ට නො ගැරහිය යුතුයි, පුවතක් මහණහුගේ පොහොය නො තැබිය යුතුයි, පවාරණය නො තැබිය යුතුයි, සවචනීයකර්මය නො කළ යුතුයි, විනාරයෙහි දෙවූ තනතුරු නො පිහිටිය යුතුයි, චොදනා පිණිස අවසර නො ගත යුතුයි, චොදනා නො කළ යුතුයි, ඇවැත් සිහිපත් නො කරවිය යුතුයි, භික්ෂූන් ඔවු-නොවුන් හා කලහ පිණිස නො යෙදෙවිය යුතුයි.

### නියස්සකර්මයෙහි අටළොස්වත නිමි.

## නොසංහිඳුවියයුතු අටළොස්වත

1. ඉක්බිත්තෙන් සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණහට 'තා විසින් මහතෙරකෙනකුන් ඇසුරු කොට විසිය යුතුයැ'යි නියස්සකර්මය කෙළේ ය. සඞ්ඝයා විසින් නියස්සකර්මය කරණු ලැබූ හෙ තෙම කලණ-මිතුරන් සෙව්තේ, බජනුයේ, ඇසුරු කරණුයේ, උදෙසවනුයේ, නැවත නැවත විචාරණුයේ, වාචොද්ගත කොට ගත් ආගමය ඇති, ධර්මධර, විනයධර, මාතෘකාධර, පණ්ඩිත, ව්‍යක්ත, ප්‍රඥාවත්, ලජ්ජී, සුළුවරදෙහි ද කුකුස් කරණ, ශික්ෂාකාමී වූ බහුශ්‍රැතයෙක් වෙයි. හෙ තෙම මනා ව පවතී. (මන් බැනැර ලා) මහතෙරුන් අනුව පවතී. නිස්සාරණය පිණිස පවතී. භික්ෂූන් කරා එළැඹ, "ඇවැත්නි, මම් සඞ්ඝයා විසින් නියස්සකර්මය කරණ ලදුයෙම් මොනොවට පවතිමි, අනුලොම් වැ පවතිමි, නිස්සාරණය පිණිස පවතිමි. කෙසේ නම් මා විසින් පිළිපැදිය යුතු දැ''යි මෙසේ කියයි. භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මේ පවත් සැළ කළහ. "මහණෙනි, එසේ වී නම් සඞ්ඝ තෙමේ සෙය්‍යසක මහණහුගේ නියස්සකර්මය සංහිඳුවාවා."

2. මහණෙනි, අඞ්ග පසෙකින් යුත් මහණහුගේ නියස්සකර්මය නො සංහිඳුවිය යුතු: උපසපන් කෙරෙයි ද, නිස දෙයි ද, මහරණකු තමාට උවටනෙහි හොඳ ගණී ද, මෙහෙණින්නට ඔවා දීමේ සම්මතිය ඉවසයි ද, සම්මතිය ලැබුයේත් මෙහෙණින්හට ඔවා දෙයි ද, මහණෙනි, මේ අඞ්ග පසින් යුත් මහණහුගේ නියස්සකර්මය නො සංහිඳුවිය යුතු.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග පසෙකින් යුත් මහණහුගේ නියස්ස-කර්මය නො සංහිඳුවිය යුතු: යම් ඇවැතකට සඞ්ඝයා විසින් නියස්සකර්මය කරණ ලද නම්, ඒ ඇවැතට පැමිණේ ද, එවැනි අනිත් ඇවැතකට හෝ පැමිණේ ද, එයට වඩා පවිටු ඇවැතකට හෝ පැමිණේ ද, කර්මය ගරහා ද, කම් කළවුන් ගරහා ද, මහණෙනි, මේ පසගින් යුතු මහණහුගේ නියස්සකර්මය නො සංහිඳුවිය යුතු.

2. තෙ කුලිත්ථීනං කුලධීතානං කුලකුමාරීනං කුලසුණ්හානං කුලදාසීනං එකතොවණ්ටිකමාලං හරන්තිපි, හරාපෙන්තිපි. උභතොවණ්ටිකමාලං හරන්තිපි, හරාපෙන්තිපි. මඤ්ජරිකං හරන්තිපි, හරාපෙන්තිපි. විධූතිකං හරන්තිපි, හරාපෙන්තිපි. වටංසකං හරන්තිපි, හරාපෙන්තිපි. ආවෙළං හරන්තිපි, හරාපෙන්තිපි. උරච්ඡදං හරන්තිපි, හරාපෙන්තිපි.

3. තෙ කුලිත්ථීහි කුලධීතාහි කුලකුමාරීහි කුලසුණ්හාහි කුලදාසීහි සද්ධිං එකභාජනෙපි භුඤ්ජන්ති. එකථාලකෙපි පිවන්ති. එකාසනෙපි නිසීදන්ති. එකමඤ්චෙපි තුවට්ටෙන්ති. එකත්ථරණාපි තුවට්ටෙන්ති. එකපාපුරණාපි තුවට්ටෙන්ති. එකත්ථරණ පාපුරණාපි තුවට්ටෙන්ති. විකාලෙපි භුඤ්ජන්ති. මජ්ජම්පි පිවන්ති. මාලාගන්ධවිලෙපනම්පි ධාරෙන්ති.-

නච්චන්තිපි. ගායන්තිපි. වාදෙන්තිපි. ලාසෙන්තිපි. නච්චන්තියාපි නච්චන්ති. නච්චන්තියාපි ගායන්ති. නච්චන්තියාපි වාදෙන්ති. නච්චන්තියාපි ලාසෙන්ති. ගායන්තියාපි නච්චන්ති. ගායන්තියාපි ගායන්ති. ගායන්තියාපි වාදෙන්ති. ගායන්තියාපි ලාසෙන්ති. වාදෙන්තියාපි නච්චන්ති. වාදෙන්තියාපි ගායන්ති. වාදෙන්තියාපි වාදෙන්ති. වාදෙන්තියාපි ලාසෙන්ති. ලාසෙන්තියාපි නච්චන්ති. ලාසෙන්තියාපි ගායන්ති. ලාසෙන්තියාපි වාදෙන්ති. ලාසෙන්තියාපි ලාසෙන්ති.-

අට්ඨපදෙපි කීළන්ති. දසපදෙපි කීළන්ති. ආකාසෙපි කීළන්ති. පරිහාරපථෙපි කීළන්ති. සන්තිකායපි කීළන්ති. ඛලිකායපි කීළන්ති. ඝටිකායපි කීළන්ති. සලාකහත්ථෙනපි කීළන්ති. අක්ඛෙනපි කීළන්ති. පඞ්ගචීරෙනපි කීළන්ති. වඞ්කකෙනපි කීළන්ති. මොක්ඛචිකායපි කීළන්ති. චිඞ්ගුලකෙනපි කීළන්ති. පත්තාළ්හකෙනපි කීළන්ති. රථකෙනපි කීළන්ති. ධනුකෙනපි කීළන්ති. අක්ඛරිකායපි කීළන්ති. මනෙසිකායපි කීළන්ති. යථාවජ්ජෙනපි කීළන්ති. හත්ථිස්මිම්පි සික්ඛන්ති. අස්සස්මිම්පි සික්ඛන්ති. රථස්මිම්පි සික්ඛන්ති. ධනුස්මිම්පි සික්ඛන්ති. ථරුස්මිම්පි සික්ඛන්ති. හත්ථිස්සපි පුරතො ධාවන්ති, අස්සස්සපි පුරතො ධාවන්ති, රථස්සපි පුරතො ධාවන්ති. ආධාවන්තිපි. උස්සෙළෙන්තිපි. අප්ඵොටෙන්තිපි. නිබ්බුජ්ඣන්තිපි. මුට්ඨීහිපි යුජ්ඣන්ති. රඞ්ගමජ්ඣෙපි සංඝාටිං පත්ථරිත්වා නච්චන්තිං එවං වදෙන්ති: ඉධ භගිනි නච්චස්සූති. නලාටිකම්පි දෙන්ති. විවිධම්පි අනාචාරං ආචරන්ති.

4. තෙන ඛො පන සමයෙන අඤ්ඤතරො භික්ඛු කාසීසු වස්සං වුත්ථො සාවත්ථිං ගච්ඡන්තො භගවන්තං දස්සනාය යෙන කීටාගිරි තදවසරි. අථ ඛො සො භික්ඛු පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය කීටාගිරිං පිණ්ඩාය පාවිසි, පාසාදිකෙන අභික්කන්තෙන පටික්කන්තෙන ආලොකිතෙන විලොකිතෙන සමිඤ්ජිතෙන පසාරිතෙන ඔක්ඛිත්තචක්ඛු ඉරියාපථසම්පන්නො.

2. ඔහු කුලස්ත්‍රීනට කුලදූනට, කුලකුමරියනට, කුලයෙහෙළියනට, කුලදාසියනට එකතොවණ්ටිකමාලාවන් තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. උභතොවණ්ටිකමාලාවන් තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. මල්කැන් තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. පිධිපිතිකාවන් තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. මුදුන්මල්කඩ තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. කණ පළඳනා තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්. උරපළඳනාවන් තුමූ ද ගෙණ යත්, අනුන් අත ද යවත්.

3. ඒ මහණහු කුලස්ත්‍රීන් හා කුලදූන් හා කුලකුමරියන් හා කුල-වධූන් හා කුලදාසියන් හා එක් බඳුනෙහි ද වළඳත්. එක් තලූතැටියෙහි ද බොත්. එක් අස්නෙහි ද හිඳිත්. එක් ඇඳෙහි ද එකට ශයනය කෙරෙත්. එක ඇතිරියක් ඇත්තාහු එකට නිදත්. එක් පොරෝනාවක් ඇත්තාහු ද එකට වැද හෙත්. එක් ඇතිරි එක් පොරෝනා ඇත්තාහු ද එකට වැදහෙත්. නොකල්හි ද බුදිත්. මද්‍යපානය ද කරත්. මල් ගඳ විලෙවුන් ද දරත්. -

නැටීම ද කරත්. ගැයීම ද කරත්. වැයීම ද කරත්. විලාස දක්වත්. නටන්නියට ද නටත්. නටන්නියට ද ගයත්. නටන්නියට ද වයත්. නටන්නියට ද විලාස දක්වත්. ගයන්නියට ද නටත්. ගයන්නියට ද ගයත්. ගයන්නියට ද වයත්. ගයන්නියට ද විලාස දක්වත්. වයන්නියට ද නටත්. වයන්නියට ද ගයත්. වයන්නියට ද වයත්. වයන්නියට ද විලාස දක්වත්. විලාස දක්වන්නියට ද නටත්. විලාස දක්වන්නියට ද ගයත්. විලාස දක්වන්නියට ද වයත්. විලාස දක්වන්නියට ද විලාස දක්වත්. -

අටගෙප් දූ පෝරුවෙහි ද දූ කෙළිත්. දසගෙප් දූ පෝරුවෙහි ද දූ කෙළිත්. අහසේ ද දූ පෝරුව ඇයි සේ සලකා දූ කෙළිත්. කට්ටි-පෙතෙහි ද ක්‍රීඩා කරත්. සන්තික ක්‍රීඩාව ද කරත්. ඛලිකාක්‍රීඩාව ද කරත්. ඝටිකාක්‍රීඩාව ද කරත්. සලාකා හත්ථ ක්‍රීඩාව ද කරත්. පත්දූවෙන් ද ක්‍රීඩා කෙරෙත්. කොළනලා පිඹීමෙන් ද ක්‍රීඩා කරත්. කුඩා නගුලින් හෑමේ ක්‍රීඩාව ද කරත්. කරනම් ගැසීම ද කෙරෙත්. හුලංපෙති කරකැවීමෙන් ද ක්‍රීඩා කරත්. කොළ තැලියෙන් වැලි ආදිය මැනීමෙන් ද ක්‍රීඩා කරත්. කුඩා රියෙන් ද ක්‍රීඩා කෙරෙත්. කුඩා දුන්නෙන් ද ක්‍රීඩා කරත්. අහසේ හෝ පිටේ අකුරු ඇඳ කියැවීමේ ක්‍රීඩාව ද කරත්. සිතූ දෑ කීමේ ක්‍රීඩාව ද කරත්. කණුන් කොරුන් ආදීන් සේ ඉරියවු දක්වීමේ ක්‍රීඩාව ද කරත්. හස්තිශිල්පයෙහි ද හික්මෙත්. අශ්වශිල්පයෙහි ද හික්මෙත්. රථශිල්පයෙහි ද හික්මෙත්. ධනුශශිල්පයෙහි ද හික්මෙත්. කඩුසිප්හි ද හික්මෙත්. ඇතුට පෙරටුව ද දිවෙත්. අසුට පෙරටුව ද දිවෙත්. රථයට පෙරටුව ද දිවෙත්. දිවූ තාක් දුර පෙරළා ද දිව එත්. උස් හඬ නඟත්. අත්පොළසන් දෙත්. මල්ලපොර බදත්. මිටින් පහර දීම ද කරත්. රඟමඬල මැද සඟළ සිවුර එළා 'නැඟණියනි, මෙහි නටන්නැ'යි කියත්. 'මැනව, මැනැවැ'යි කියා සිය නළලෙහි ඇඟිල්ලක් තබා ඇය නළලෙහි ද ඇඟිල්ල තබත්. විවිධ වූ ද නොපණත් කම් කෙරෙත්.

4. එසමයෙහි වනාහි එක්තරා මහණෙක් කාසි ජනපදයෙහි වස්වැස පැවැරූයේ, භාග්‍යවතුන් වහන්සේ දක්නට සැවැත්නුවර බලා යන්නේ, කීටාගිරියට පැමිණියේ ය. ඉක්බිති ඒ මහණ පෙරවරුයෙහි හැඳ පෙරෙව පාසිවුරු ගෙණ (දක්නවුන්) පහදවන සේ යෑමෙන් ද, ඊමෙන් ද, ඉදිරි බැලීමෙන් ද, දෙපස බැලීමෙන් ද, අත් පා හැකිළීමෙන් ද, දිගු කිරීමෙන් ද යුතුව, යට බලා හෙළු ඇස් ඇත්තේ, මනා ඉරියව්වෙන් පිරිපුන් වූයේ කීටාගිරියට පිඬු පිණිස පිවිසියේ ය.

“දුට්ඨො භන්තෙ කීටාගිරිස්මිං ආවාසො. අස්සජිපුනබ්බසුකා නාම කීටාගිරිස්මිං ආවාසිකා අලජ්ජිනො පාපභික්ඛූ. තෙ එවරූපං අනාචාරං ආචරන්ති: මාලාවච්ඡං රොපෙන්ති'පි, රොපාපෙන්ති'පි-පෙ-විවිධම්පි අනාචාරං ආචරන්ති. යෙපි තෙ භන්තෙ මනුස්සා පුබ්බෙ සද්ධා අහෙසුං පසන්නා. තෙ'පි එතරහි අස්සද්ධා අප්පසන්නා' යානිපි තානි සඞ්ඝස්ස පුබ්බෙ දානපථානි, තානිපි එතරහි උපච්ඡින්නානි. රිඤ්චන්ති පෙසලා භික්ඛූ, නිවසන්ති පාපභික්ඛූ. සාධු භන්තෙ භගවා කීටාගිරිං භික්ඛූ පහිණෙය්‍ය, යථායං කීටාගිරිස්මිං ආවාසො සණ්ඨහෙය්‍යාති”. තතොහං භගවා ආගච්ඡාමීති.

11. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි: ''සච්චං කිර භික්ඛවෙ අස්සජි-පුනබ්බසුකා නාම කීටාගිරිස්මිං ආවාසිකා අලජ්ජිනො පාපභික්ඛූ, තෙ එවරූපං අනාචාරං ආචරන්ති: මාලාවච්ඡං රොපෙන්තිපි. රොපාපෙන්ති'පි -පෙ- විවිධම්පි අනාචාරං ආචරන්ති. යෙපි තෙ මනුස්සා පුබ්බෙ සද්ධා අහෙසුං පසන්නා, තෙපි එතරහි අස්සද්ධා අප්පසන්නා. යානිපි තානි සඞ්ඝස්ස පුබ්බෙ දානපථානි, තානිපි එතරහි උපච්ඡින්නානි; රිඤ්චන්ති පෙසලා භික්ඛූ. නිවසන්ති පාපභික්ඛූ''ති. සච්චං භගවා.

12. විගරහි බුද්ධො භගවා: අනනුච්ඡවිකං භික්ඛවෙ තෙසං මොඝපුරිසානං -පෙ-කථං හි නාම තෙ භික්ඛවෙ මොඝපුරිසා එවරූපං අනාචාරං ආචරිස්සන්ති: මාලාවච්ඡං රොපෙස්සන්ති'පි, -පෙ- විවිධම්පි අනාචාරං ආචරිස්සන්ති.

13. නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා සාරිපුත්තමොග්ගල්ලානෙ ආමන්තෙසි: ගච්ඡථ තුම්හෙ සාරිපුත්තා කීටාගිරිං. ගන්ත්වා අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනියකම්මං කරොථ. තුම්හාකං එතෙ සද්ධිවිහාරිනො'ති.

14. “කථං මයං භන්තෙ අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනියකම්මං කරොම. චණ්ඩා තෙ භික්ඛූ ඵරුසා''ති. ''තෙන හි තුම්හෙ සාරිපුත්තා බහුකෙහි භික්ඛූහි සද්ධිං ගච්ඡථා''ති. එවං භන්තෙ'ති ඛො සාරිපුත්තමොග්ගල්ලානා භගවතො පච්චස්සොසුං.

''වහන්ස, කීටාගිරියෙහි ආවාසය දූෂිත ය. කීටාගිරියෙහි ආවාසික වූ අස්සජි පුනබ්බසුක නම් මහණහු අලජ්ජීහු ය. පාපභික්ෂූහු ය. ඔහු මෙබඳු අනාචාර කෙරෙත්: (ගිහීන් සඟන්නට) මල්පැල තුමූත් සිටුවත්, අනුන් ලවා ද සිටුවවත්...විවිධ වූ ද නොපණත්කම් කෙරෙත්. වහන්ස, යම් මිනිස් කෙනෙක් පෙර සැදැහැතියෝ සස්නෑ පැහැදුනෝ වූහු ද උහුත් දැන් සැදැහැ නැත්තෝ නොපැහැදුනෝ වෙති. පෙර සඞ්ඝයාට නිබඳ දෙන දානපථයෝ වූහු නම්, උහු ද දැන් සිඳුනාහු වෙති. ප්‍රියශීල වහන්දෑ ආවාසය හැර යත්. පාපභික්ෂූහු නේවාසික වැ වෙසෙත්. වහන්ස, කීටාගිරියෙහි මේ ආවාසය යම්සේ සුසංස්ථිත වන්නේ නම්, එසේ වනු පිණිස භාග්‍යවතුන් වහන්සේ කීටාගිරියට වහන්දෑ එවන සේක් නම් ඒ මැනව ''යනු යි. වහන්ස, මම එහි සිට එමි යි ඒ මහණ සැළ කෙළේ ය.

11. ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ කාරණයෙහි භික්සඟන රැස් කරවා, ''මහණෙනි, කීටාගිරියෙහි ආවාසික වූ අස්සජි පුනබ්බසුක නම් මහණහු අලජ්ජීහු ය. පාපභික්ෂූහු ය, ඔහු මෙබඳු අනාචාර කෙරෙත් ය, තුමූත් මල් පැල සිටුවත් ය, අනුන් ලවාත් සිටුවවත් ය...විවිධ නොපණත්කම් කෙරෙත් ය, යනු සැබෑ ද? (එසින්) පෙර සැදැහැති වූ සස්නෑ පහන් වූ මිනිස්සු දැන් සැදැහැ නැතියෝ වැ නො-පහන් වැ සිටිත් යැ යනු සැබෑ ද? සඞ්ඝයාට පළමු දුන් දානපථයෝ දැන් සිඳුනාහු වෙත් ය යනුත්, ප්‍රියශීල භික්ෂූහු ආවාසය හැර යත් ය, පාපභික්ෂූහු ආවාසයෙහි වෙසෙත් ය යනුත් සැබෑ දෑ?''යි අසා වදාළ සේක. ''වහන්ස, සැබෑ යැ යි මහණහු පිළිවදන් දුන්හ.

12. එවිට භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මෙසේ ගැරැහූ සේක: ''මහණෙනි, ඒ හිස් පුරුෂයෝ කවර කරුණෙකින් මෙබඳු නො පණත්කම් කෙරෙත් ද, (කුල සඟනු පිණිස) මල්පැල සිටුවත් ද ... විවිධ නොපණත් කම් කෙරෙත් ද, මහණෙනි, මෙය සස්නෑ නොපහන් වූවන්ගේ පැහැදීම පිණිස හෝ පැහැදුනවුන්ගේ පැහැදීම වැඩෙනු පිණිස හෝ නො වේ.

13. මහණෙනි, මෙය නොපැහැදුනවුන්ගේ පැහැදීම පිණිස නොවේ... යි භාග්‍යවතුන් වහන්සේ අස්සජි පුනබ්බසුක භික්ෂූන් වෙසෙසින් ගරහා දැහැමි කථා කොට වදරා, සැරියුත් මුගලන් දෙ නම අමතා, ''ශාරිපුත්‍රයෙනි, තෙපි කීටාගිරියට යවු. ගොස් අස්සජි පුනබ්බසුක මහණුන් කීටාගිරියෙන් නෙරපාලීමේ කර්මය කරවු. ඔහු තොපගේ සද්ධිවිහාරිකයෝ යැ''යි වදාළ සේක.

14. ''වහන්ස, අපි අස්සජි පුනබ්බසුක මහණුනට කීටාගිරියෙන් නෙරපාලීමේ කර්මය (පබ්බාජනීය කර්මය) කෙසේ නම් කරමෝ ද, ඒ මහණහු ඇඩහ, පරොෂ්හ''යි ඒ තෙරණුවෝ වදාළහ. ''එසේ නම් ශාරිපුත්‍රයිනි, තෙපි බොහෝ මහණුන් කැටිව යවු''යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක. ''එසේ ය වහන්සැ'' යි සැරියුත්මුගලන් දෙ නම භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දුන්හ.

මොක්ඛචිකාය'පි කීළන්ති, චිඞ්ගුලකෙන'පි කීළන්ති, පත්තාළ්හකෙන'පි කීළන්ති, රථකෙන'පි කීළන්ති, ධනුකෙන'පි කීළන්ති, අක්ඛරිකාය'පි කීළන්ති, මනෙසිකාය'පි කීළන්ති, යථාවජ්ජෙන'පි කීළන්ති, හත්ථිස්මිම්පි සික්ඛන්ති, අස්සස්මිම්පි සික්ඛන්ති, රථස්මිම්පි සික්ඛන්ති, ධනුස්මිම්පි සික්ඛන්ති, ථරුස්මිම්පි සික්ඛන්ති, හත්ථිස්ස'පි පුරතො ධාවන්ති, අස්සස්ස'පි පුරතො ධාවන්ති, රථස්ස'පි පුරතො ධාවන්ති, ආධාවන්ති'පි, උස්සෙළෙන්ති'පි, අප්පොඨෙන්ති'පි, නිබ්බුජ්ඣන්ති'පි, මුට්ඨීහි'පි යුජ්ඣන්ති, රඞ්ගමජ්ඣෙ'පි සඞ්ඝාටිං පත්ථරිත්වා නච්චන්ති. නච්චන්තිං එවං වදෙන්ති: ඉධ භගිනි නච්චස්සූ'ති, නලාටිකම්පි දෙන්ති. විවිධම්පි අනාචාරං ආචරන්ති.

යෙ'පි තෙ භන්තෙ මනුස්සා පුබ්බෙ සද්ධා අහෙසුං පසන්නා තෙ'පි එතරහි අස්සද්ධා අප්පසන්නා. යානි'පි තානි සඞ්ඝස්ස පුබ්බෙ දානපථානි, තානි'පි එතරහි උපච්ඡින්නානි. රිඤ්චන්ති පෙසලා භික්ඛූ නිවසන්ති පාප-භික්ඛූ. "සාධු භන්තෙ භගවා කීටාගිරිං භික්ඛූ පහිණෙය්‍ය, යථායං කීටාගිරිස්මිං ආවාසො සණ්ඨහෙය්‍යා"ති.

8. එවමාවුසො'ති ඛො සො භික්ඛු තස්ස උපාසකස්ස පටිස්සුත්වා උට්ඨායාසනා යෙන සාවත්ථි තෙන පක්කාමි. අනුපුබ්බෙන යෙන සාවත්ථි, යෙන ජෙතවනං අනාථපිණ්ඩිකස්ස ආරාමො, යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි.

9. ආචිණ්ණං ඛො පනෙතං බුද්ධානං භගවන්තානං ආගන්තුකෙහි භික්ඛූහි සද්ධිං පටිසම්මොදිතුං. අථ ඛො භගවා තං භික්ඛුං එතදවොච: "කච්චි භික්ඛු ඛමනීයං. කච්චි යාපනීයං, කච්චිසි අප්පකිලමථෙන අද්ධානං ආගතො. කුතො ච ත්වං භික්ඛු ආගච්ඡසී"ති. "ඛමනීයං භගවා, යාපනීයං භගවා, අප්පකිලමථෙන චාහං භන්තෙ අද්ධානං ආගතො."

10. ඉධාහං භන්තෙ කාසීසු වස්සං වුත්ථො සාවත්ථිං ආගච්ඡන්තො භගවන්තං දස්සනාය යෙන කීටාගිරි තදවසරිං. අථ ඛ්වාහං භන්තෙ පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය කීටාගිරිං පිණ්ඩාය පාවිසිං. අද්දසා ඛො මං භන්තෙ අඤ්ඤතරො උපාසකො කීටාගිරිස්මිං පිණ්ඩාය චරන්තං. දිස්වාන යෙනාහං තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා මං අභිවාදෙත්වා එතදවොච: "අපි භන්තෙ පිණ්ඩො ලබ්භතී"ති. න ඛො ආවුසො පිණ්ඩො ලබ්භතී"ති. "එහි භන්තෙ ඝරං ගමිස්සාමා"ති. අථ ඛො භන්තෙ සො උපාසකො මං ඝරං නෙත්වා භොජෙත්වා එතදවොච: "කහං භන්තෙ අය්‍යො ගමිස්සතී"ති, "සාවත්ථිං ඛො අහං ආවුසො ගමිස්සාමි භගවන්තං දස්සනායා"ති. "තෙන හි භන්තෙ මම වචනෙන භගවතො පාදෙ සිරසා වන්ද, එවඤ්ච වදෙහි:-

කරණ්ඩ පැනීමෙනුදු කෙළිති. සත්තත්ගුරුවා ඉදි කොට කෙළිති. පත්තැළියෙනුදු කෙළිති. කුඩා රියෙනුදු කෙළිති. කුඩා දුන්නෙනුදු කෙළිති. අකුරුකෙළියෙනුදු කෙළිති. මනසිකායෙනුදු (සිතූදෙය කීමෙන්) කෙළිති. යථාවජ්ජයෙනුදු (සිරුරු දොස් දක්වමින්) කෙළිති. හස්ති ශිල්පයෙහිදු හික්මෙති. අශ්වශිල්පයෙහිදු හික්මෙති. රථශිල්පයෙහිදු හික්මෙති. ධනුශ්ශිල්පයෙහිදු හික්මෙති. ඛඩ්ගශිල්පයෙහිදු හික්මෙති. ඇතු පෙරටුවෙහි දු දුවති. අසු පෙරටුවෙහිදු දුවති. රිය පෙරටුවෙහි ද දුවති. පසුපසට ද දුවති. පෙරට ද දුවති. ප්‍රීතිනාද කෙරෙති. අත්පොළසන් ද දෙති. මල්ලව පොර ද කෙරෙති. මිටු පොර ද කෙරෙති. රඟමඩල මැද සඟළ අතුරා නිළියට "නැඟනියනි, මෙහි නටව"යි මෙසේ කියති. නලළෙහි අත ද තබති. විවිධ වූ ද අනාචාර කෙරෙත්.

වහන්ස, යම් මිනිස් කෙනෙක් පෙර සැදැහැතියෝ සස්නැ පැහැදුනෝ වූහු ද, ඔහුත් දැන් සැදැහැ නැත්තෝ නොපැහැදුනෝ වෙති. පෙර සඞ්ඝයාට නිබද දෙන දානපථයෝ වූහු නම් ඔහු ද දැන් සිඳුනාහු වෙති. ප්‍රියශීල වහන්දෑ (ආවාසය) හැර යත්. පාපභික්ෂූහු නෙවාසික වූහු වෙසෙත්. වහන්ස, කීටාගිරියෙහි මේ ආවාසය යම්සේ සුසංස්ථිත වන්නේ නම්, එසේ වනු පිණිස භාග්‍යවතුන් වහන්සේ කීටාගිරියට වහන්දෑ එවන සේක් නම් ඒ මැනැව" යනු යි.

8. 'ඇවැත්නි, එසේ යැ'යි කියා ම ඒ මහණ තෙම පිළිවදන් දී හුනස්නෙන් නැඟී සැවැත්නුවර බලා නික්මුනේ ය. පිළිවෙළින් ගොස් සැවැත්නුවර ජේතවන නම් අනේපිඬු සිටුහුගේ අරම යම් තැනෙක ද, එහි භාග්‍යවතුන් වහන්සේ වෙත එළැඹියේ ය. එළැඹ භාග්‍යවතුන් වහන්සේ සකසා වැඳ පසෙක හිඳගත්තේ ය.

9. ආගන්තුක භික්ෂූන් හා පිළිසඳර කථා කිරීම භාග්‍යවත් බුදුවරුන් විසින් ආචීර්ණයෙක (බුදුවරුන්ගේ පුරුද්දෙක). ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ ඒ මහණහු බණවා, "මහණ, කිම, යැපියැ හැකි ද? ඉවැසියැ හැකි ද? කිම වෙහෙසක් නැති වැ දික් මඟ ගෙවා ආයේ වෙහි ද? මහණ තෝ කොයින් එන්නෙහි දැ"යි අසා වදාල සේක. "භාග්‍යවතුන් වහන්ස, ඉවැසිය හැකිය. යැපිය හැකිය. වහන්ස, වෙහෙසෙක් ද නැති වැ මම් දික් මඟ ගෙවා ආයෙම් වෙමි.

10. වහන්ස, මම් කසීජනපදයෙහි වස් වැස පැවැරුයෙම්, භාග්‍යවතුන් වහන්සේ දක්නට සැවැතට එනුයෙම්, කීටාගිරියට බටුයෙමි. වහන්ස, ඉක්බිති මම් පෙරවරුයෙහි හැඳ පෙරව පාසිවුරු ගෙණ පිඬු පිණිස කීටාගිරියට පිවිසියෙමි. වහන්ස, එක්තරා උවසුවෙක් කීටාගිරියෙහි පිඬු පිණිස හැසිරෙන මා දුටුයේ ම ය. දැක මා වෙත එළැඹියේ ය. එළැඹ මා සකසා වැඳ "වහන්ස, පිඬු ලැබේ දැ"යි මෙය විචාළේ ය. "ඇවැත්නි, පිඬු නොම ලැබේ ය"යි මම් කීමි. "වහන්ස, වඩින්න. ගෙට යම්හ"යි හේ කී ය. වහන්ස, ඉක්බිති ඒ උවසු තෙම මා සිය ගෙට පමුණුවා වළඳවා, "වහන්ස, ආර්යයන් වහන්සේ කොහි වඩනා සේක් දෝ"යි මෙය ඇසී ය. "ඇවැත්නි, මම් භාග්‍යවතුන් වහන්සේ දක්නට සැවැතට යමි"යි කීමි. "වහන්ස, එසේ නම් මා බසින් භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා හිස් නමා වඳින්න. මෙසේත් සැළ කරන්න:

5. මනුස්සා තං භික්ඛුං පස්සිත්වා එවමාහංසු: ක්වායං අබලබලො විය, මන්දමන්දො විය, භාකුටිකභාකුටිකො විය? කො ඉමස්ස උපගතස්ස පිණ්ඩකම්පි දස්සති? අම්හාකං පන අය්‍යා අස්සජිපුනබ්බසුකා සණ්හා සඛිලා සුඛසම්භාසා මිහිතපුබ්බඞ්ගමා එහිස්වාගතවාදිනො අබ්භාකුටිකා උත්තානමුඛා පුබ්බභාසිනො. තෙසං ඛො නාම පිණ්ඩො දාතබ්බො''ති.

6. අද්දසා ඛො අඤ්ඤතරො උපාසකො තං භික්ඛුං කීටාගිරිස්මිං පිණ්ඩාය චරන්තං. දිස්වාන යෙන සො භික්ඛු තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා තං භික්ඛුං අභිවාදෙත්වා එතදවොච: ''අපි භන්තෙ පිණ්ඩො ලබ්භතී''ති. ''න ඛො ආවුසො පිණ්ඩො ලබ්භතී''ති. ''එහි භන්තෙ ඝරං ගමිස්සාමා''ති.

7. අථ ඛො සො උපාසකො තං භික්ඛුං ඝරං නෙත්වා භොජෙත්වා එතදවොච: ''කහං භන්තෙ අය්‍යො ගමිස්සතී?''ති. ''සාවත්ථිං ඛො අහං ආවුසො ගමිස්සාමි භගවන්තං දස්සනායා''ති. ''තෙන හි භන්තෙ මම වචනෙන භගවතො පාදෙ සිරසා වන්ද. එවං ච වදෙහි: 'දුට්ඨො භන්තෙ කීටාගිරිස්මිං ආවාසො. අස්සජිපුනබ්බසුකා නාම කීටාගිරිස්මිං ආවාසිකා අලජ්ජිනො පාපභික්ඛූ. තෙ එවරූපං අනාචාරං ආචරන්ති: මාලාවච්ඡං රොපෙන්ති'පි. රොපාපෙන්ති'පි. සිඤ්චන්ති'පි, සිඤ්චාපෙන්ති'පි. ඔචිනන්ති'පි, ඔචිනාපෙන්ති'පි. ගන්ථෙන්ති'පි, ගන්ථාපෙන්ති'පි. එකතො වණ්ටිකමාලං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. උභතො වණ්ටිකමාලං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. මඤ්ජරිකං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. විධූතිකං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. වටංසකං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. ආවෙළං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. උරච්ඡදං කරොන්ති'පි, කාරාපෙන්ති'පි. –

තෙ කුලිත්ථීනං කුලධීතානං කුලකුමාරීනං කුලසුණ්හානං කුලදාසීනං එකතො වණ්ටිකමාලං හරන්ති'පි, හරාපෙන්ති'පි. උභතො වණ්ටිකමාලං හරන්ති'පි, හරාපෙන්ති'පි. මඤ්ජරිකං හරන්ති'පි, හරාපෙන්ති'පි. විධූතිකං හරන්ති'පි, හරාපෙන්ති'පි. වටංසකං හරන්ති'පි, හරාපෙන්ති'පි. ආවෙළං හරන්ති'පි, හරාපෙන්ති'පි. උරදච්ඡං හරන්ති'පි, හරාපෙන්ති'පි. කුලිත්ථීහි කුලධීතාහි කුලකුමාරීහි කුලසුණ්හාහි කුලදාසීහි සද්ධිං එකභාජනෙ'පි භුඤ්ජන්ති, එකථාලකෙ'පි පිවන්ති, එකාසනෙ'පි නිසීදන්ති, එකමඤ්චෙ'පි තුවට්ටෙන්ති, එකත්ථරණා'පි තුවට්ටෙන්ති, එකපාවුරණා'පි තුවට්ටෙන්ති, එකත්ථරණපාවුරණා'පි තුවට්ටෙන්ති, විකාලෙ'පි භුඤ්ජන්ති, මජ්ජ'මපි පිවන්ති, මාලාගන්ධවිලෙපනම්පි ධාරෙන්ති. –

නච්චන්ති'පි, ගායන්ති'පි, වාදෙන්ති'පි, ලාසෙන්ති'පි. නච්චන්තියා'පි නච්චන්ති. නච්චන්තියා'පි ගායන්ති. නච්චන්තියාපි වාදෙන්ති, නච්චන්තියා'පි ලාසෙන්ති. [චක්කකං කාතබ්බං] -පෙ- ලාසෙන්තියා'පි නච්චන්ති. ලාසෙන්තියා'පි ගායන්ති. ලාසෙන්තියා'පි වාදෙන්ති. ලාසෙන්තියා'පි ලාසෙන්ති.–

අට්ඨපදෙ'පි කීළන්ති. දසපදෙ'පි කීළන්ති. ආකාසෙ'පි කීළන්ති. පරිහාරපථෙ'පි කීළන්ති. සන්තිකාය'පි කීළන්ති. ඛලිකාය'පි කීළන්ති. සලාකහත්ථෙන'පි කීළන්ති. අක්ඛෙන'පි කීළන්ති. පඞ්ගචීරෙන'පි කීළන්ති. වඞ්කකෙන'පි කීළන්ති. –

5. (කිටාගිරියෙහි) භික්ෂූහු ඒ මහණ දැක මෙසේ කීහ: “ඉතා දුබලයකු බඳු, ඉතා අලසයකු බඳු, බැම හා මුව හකුළුවා ගත් කිපුනක්හු මෙන් හැසිරෙන මේ තැනැත්තේ කවරේ ද ? වෙන පැමිණියා වූ ද මොහුට බත් පිඩකුදු කවරෙක් නම් දෙන්නේ ද ? අපගේ ආයී වූ අස්සජි පුනබ්බසුක දෙ නම වූ කලී තැනට සුදුසු පරිදි කථායෙහි නිපුනයෝ ය. ප්‍රියවචන ඇත්තෝ ය. සුව එළවන පිළිසඳර ඇත්තෝය. මඳ සිනා පෙරටු කොටැත්තෝ ය. ‘එන්නැ, මුඹගේ ස්වාගතයෙකැ’යි කියන්නෝ ය. හකුළුවා නොගත් බැම ඇත්තෝ ය. මුහුණ පා කතා කරන්නෝ ය. පළමු කොට කතා කරන්නෝ ය. පිඩු දියැ යුත්තේ ඔවුන් වහන්සේට ය”යනු යි.

6. එක්තරා උපාසකයෙක් කිටාගිරියෙහි පිඩු පිණිස හැසිරෙණ ඒ වහන්දෑ දිටි ය. දැක ඒ වහන්දෑ කරා එළැඹියේ ය. එළැඹ ඒ වහන්දෑ වැඳ, “වහන්ස, පිඩු ලැබේ ද ?”යි ඇසී ය. “ඇවැත්නි, පිඩු නො ලැබේ යැ”යි එ වහන්දෑ කීහ. “වහන්ස, වඩින්නැ. ගෙට යම්හ”යි උවසු කී ය.

7. ඉක්බිති ඒ උවසු එ වහන්දෑ සිය ගෙට පමුණුවා වළඳවා “වහන්ස, ආයීයන් වහන්සේ කොහි වඩනා සේක් දෑ ?”යි විචාළේ ය. “ඇවැත්නි, භාග්‍යවතුන් වහන්සේ දක්නට සැවැත්නුවරට යමී” යී ඒ වහන්දෑ කීහ.

“වහන්ස, එසේ නම් මාගේ වචනයෙන් භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා හිසින් වඳිනු මැනැවි. මෙසේත් සැල කළ මැනැවි:

“වහන්ස, කීටාගිරියෙහි ආවාසය දූෂිත ය. කීටාගිරියෙහි ආවාසිකවූ අස්සජි පුනබ්බසුක නම් මහණහු අලජ්ජිහු ය, පාපභික්ෂූහු ය. ඔහු මෙ බඳු අනාචාර කෙරෙත්: ගිහිත් සඟන්නට තුමූත් මල් පැළ සිටුවත්, අනුන් ලවා ද සිටුවවත්. තුමූ ද දිය ඉසිත්, අනුන් ලවා ද දිය ඉස්වත්. තුමූ ද මල් නෙලත්, අනුන් ලවා ද මල් නෙලවත්. තුමූ ද මල්දම් ගොතත්. අනුන් ලවා ද ගොතවත්. එක් පසැ නටු ඇති මාලා කෙරෙති, කරවති. දෙපස නටු ඇති මාලා කෙරෙති, කරවත්. මල් කලප් කෙරෙති. කරවති. හිදින් විද කළ මල්දම් කෙරෙති, කරවති. මල්සුඹුළු කෙරෙයි, කරවති. මල්කැරලි කෙරෙති, කරවති. උරසැද කරති, කරවති.

ඔහු කුලස්ත්‍රීන්ට කුලදූන්ට කුලකුමරියන්ට කුලපුණිසාවන්ට කුල-දැසීන්ට එක්පසැ නටු ඇති මාලා ගෙණ යෙති, යවති. දෙපසැ නටු ඇති මාලා ගෙණ යෙති, යවති. මල්කලප් ගෙණ යෙති, යවති. හිදින් විද කළ මල්දම් ගෙණ යෙති, යවති. මල්සුඹුළු ගෙණ යෙති, යවති. මල්කැරලි ගෙණ යෙති, යවති. උරසැද ගෙණ යෙති, යවති. කුලස්ත්‍රීන් කුලදූන් කුලකුමරීන් කුලපුණිසාවන් කුලදැසීන් සමග එක් බඳුනෙහි ද බුදිති. එක් තලියෙහි දු බොති. එක් අස්නෙහි දු හිඳිති. එක් ඇඳෙහිදු හොවිති. එක් තිලි ඇතිව හොවිති. එක් පොරෝණ ඇතිව ද හොවිති. එක්තිලි පොරෝණ ඇතිව ද හොවිති. නොකල්හිදු වළඳති. මත්පැන් ද බොති. මල්ගඳ විලෙවුනුදු දරති. -

නටති. ගයති. වයති. ලාස්‍ය නැටුම් නටති. නිළිය නටන කල්හිදු නටති. නටන කල්හිදු ගයති. නටන කල්හිදු වයති. නටන කල්හිදු ලාස්‍ය කෙරෙති. (චක්‍ර කටයුතු)... ලාස්‍ය කරණ කල්හිදු නටති. ලාස්‍ය කරණ කල්හිදු ගයති. ලාස්‍ය කරණ කල්හිදු වයති. ලාස්‍ය කරණ කල්හිදු ලාස්‍ය කෙරෙති. -

අටපද දූපෝරුයෙහි කෙළිති. දසපද දූපෝරුයෙහිදු කෙළිති. දූපෝරුයෙහි සෙයින් අහස්හි කෙළිති. හිරිමඩලෙහිදු නියෙන් කැට ඇත් මැත් කොට ද කෙළිති. පසැටිනුදු කෙළිති. සිංකෙළියෙනුදු කෙළිති. ලහඅතිනුදු කෙළිති. ලාවටිනුදු කෙළිති. පත්තලිනුදු කෙළිති කුඩා නගුලිනුදු කෙළිති. -

15. "එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං: පඨමං අස්සජිපුනබ්බසුකා භික්ඛූ චොදෙතබ්බා. චොදෙත්වා සාරෙතබ්බා. සාරෙත්වා ආපත්තිං ආරොපෙතබ්බා. ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ අස්සජිපුනබ්බසුකා භික්ඛූ කුලදූසකා පාපසමාචාරා. ඉමෙසං පාපකා සමාචාරා දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. කුලානි ච ඉමෙහි දුට්ඨානි දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයකම්මං කරෙය්‍ය: න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ අස්සජිපුනබ්බසුකා භික්ඛූ කුලදූසකා පාපසමාචාරා. ඉමෙසං පාපකා සමාචාරා දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. කුලානි ච ඉමෙහි දුට්ඨානි දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. සඞ්ඝො අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයකම්මං කරොති: න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති. යස්සායස්මතො ඛමති අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයස්ස කම්මස්ස කරණං න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ අස්සජිපුනබ්බසුකා භික්ඛූ කුලදූසකා පාපසමාචාරා. ඉමෙසං පාපකා සමාචාරා දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. කුලානි ච ඉමෙහි දුට්ඨානි දිස්සන්ති චෙව සුය්‍යන්ති ච. සඞ්ඝො අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයකම්මං කරොති: න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති. යස්සායස්මතො ඛමති අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයස්ස කම්මස්ස කරණං න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

කතං සඞ්ඝෙන අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයකම්මං න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බන්ති. ඛමති සඞ්ඝස්ස, තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

[පබ්බාජනීයකම්මකරණං නිට්ඨිතං.]

## පබ්බාජනීයකම්මෙ අධම්මකම්මද්වාදසකං

.1 තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අප්පටිපුච්ඡා කතං හොති, අප්පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති, අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

15. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක: "මහණෙනි, මෙසේ පබ්බාජනීයකර්මය කළ යුතු: 'පළමු කොට අස්සජි පුනබ්බසුක මහණුන් චෝදිතව්‍යය. චෝදනා කොට වරද සිහිපත් කරවිය යුතු. වරද සිහිපත් කරවා ඇවැත නැංවිය යුතු. ඇවැත නංවා ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් මෙසේ දැන්විය යුතු:

"වහන්ස, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා. මේ අස්සජි පුනබ්බසුක මහණහු කුලදූෂකයෝ ය. පාප සමාචාර ඇත්තෝ ය. මොවුන්ගේ පාප-සමාචාරයෝ දක්නා ද ලැබෙත්. අසනු ද ලැබෙත්. මොවුන් විසින් දූෂිත වූ කුලයෝ දක්නා ද ලැබෙත්. අසනු ද ලැබෙත්. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇත්තේ නම් සඞ්ඝ තෙමේ 'අස්සජි පුනබ්බසුක මහණුන් කීටාගිරියෙහි නො විසියැ යුතු' යැ සි අස්සජි පුනබ්බසුක මහණුන්හට කීටාගිරියෙන් නෙරපීමේ කර්මය (පබ්බාජනීය කර්මය) කෙරෙන්නේ ය මේ ඥප්තිය යි.

වහන්ස, සඞ්ඝ තෙමේ මා කියන්න අසාවා. මේ අස්සජි පුනබ්බසුක මහණහු කුලදූෂකයෝ ය. ලාමක පැවැතුම් ඇත්තෝ ය. මොවුන්ගේ ලාමක-සමාචාරයෝ දක්නා ද ලැබෙත්. අසනු ද ලැබෙත්. මොවුන් විසින් දූෂිත වූ කුලයෝ දක්නා ද ලැබෙත්. අසනු ද ලැබෙත්. සඞ්ඝ තෙමේ 'අස්සජි පුනබ්බසුක භික්ෂූන් කීටාගිරියෙහි නො විසියැ යුතු යැ' යි අස්සජි පුනබ්බසුක මහණුන්හට කීටාගිරියෙන් නෙරපාලීමේ කර්මය කෙරෙයි. 'අස්සජි පුනබ්බසුක මහණුන් විසින් කීටාගිරියෙහි නො විසිය යුතු යැ' යි. අස්සජි පුනබ්බසුක භික්ෂූන් කීටාගිරියෙන් නෙරපාලීමේ කර්මය යම් ආයුෂ්මතකුහට රිසියේ ද, හේ නිහඬ වේවා. යමකුට නො රිසියේ ද හේ කියාවා.

දෙවනු ද මේ කරුණ කියමි...තෙවනු ද මෙ කරුණ කියමි. වහන්ස, සඞ්ඝ තෙම මා කියන්න අසාවා: මේ අස්සජි පුනබ්බසුක මහණහු කුලදූෂකයෝය... යමකුට නො රිසියේ ද හේ කියාවා.

'අස්සජි පුනබ්බසුක මහණුන් කීටාගිරියෙහි නො විසිය යුතු යැ' යි අස්සජි පුනබ්බසුක මහණුනට කීටාගිරියෙන් නෙරපාලීමේ කර්මය කරණ ලද්දේ ය. සඞ්ඝයාට එය රිසියෙයි. එ හෙයින් නිහඬ ය. මෙය මෙසේ දරමි (සලකමි)" යනු යි.

[පබ්බාජනීයකර්මකාරණය නිමි.]

## පබ්බාජනීයකර්මයෙහි අධර්මකර්මද්වාදශකය

1. මහණෙනි, අඞ්ග තුනෙකින් සමන්විත පබ්බාජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නොහමුයෙහි කරණ ලද්දේ වේ ද, නො පිළිවිසැ කරණ ලද්දේ වේ ද, පිළිණ නොගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකර්මය අධර්මකර්මයෙක් ද අවිනය කර්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මං ච දුවූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, දෙසිතාය ආපත්තියා කතං හොති -පෙ-

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අචොදෙත්වා කතං හොති, අසාරෙත්වා කතං හොති, ආපත්තිං අනාරොපෙත්වා කතං හොති -පෙ-

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අසම්මුඛා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අප්පටිපුච්ඡා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අප්පටිඤ්ඤාය කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අනාපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති, -පෙ- දෙසිතාය ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අචොදෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

2. "මහණෙනි, අන්‍යවූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය කම්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: නොඇවැතෙහි කරණ ලදුයේ වේ ද, දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, දෙසන ලද ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වේ.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය-කම්මය අධර්මකර්මයෙක් ද අවිනයකර්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: චෝදනා නො කොට කරණ ලද ද, සිහි පත් නොකරවා කරණ ලද ද, ඇවැත නො නංවා කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීය කම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

4. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය කම්මය අධර්මකර්මයෙක් ද වෙයි...නොහමුයෙහි කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ (නොසමග) සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීය කම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

5. මහණෙනි, අන්‍යවූත් අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය-කම්මය අධර්මකර්මයෙක් ද වෙයි ... නො පිළිවිස කරණ ලද්දේ වේ ද, නො-දැහැමෙන් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

6. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත් පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි... පිළිණ නො ගෙණ කරණ ලද ද, අධර්මයෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

7. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත් පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි... නොඇවැතෙහි කරණ ලද ද, අධර්මයෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

8. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත් පබ්බාජනීය-කම්මය අධර්මකර්මයෙක් ද වෙයි... දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීය-කම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

9. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි... ඇවැත දෙසූ කල්හි කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

10. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය-කම්මය අධර්මකර්මයෙක් ද වෙයි... චෝදනා නො කොට කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය අධර්මකර්මයෙක් ද වෙයි...

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අසාරෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- ආපත්තිං අනාරොපෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං අධම්මකම්මඤ්ච හොති, අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

**පබ්බාජනීයකම්මෙ අධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.**

## ධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං ධම්මකම්මඤ්ච හොති විනයකම්මඤ්ච සුවූපසන්තඤ්ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච: ආපත්තියා කතං හොති, දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අදෙසිතාය ආපත්තියා කතං හොති-පෙ-

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- චොදෙත්වා කතං හොති, සාරෙත්වා කතං හොති, ආපත්තිං ආරොපෙත්වා කතං හොති -පෙ-

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- සම්මුඛා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- පටිපුච්ඡා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- පටිඤ්ඤාය කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

11. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය අධම්මකම්මයෙක් ද වෙයි:... සිහිපත් නොකරවා කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය අධම්මකම්මයෙක් ද වෙයි...

12. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය අධම්මකම්මයෙක් ද අවිනයකම්මයෙක් ද නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි: ඇවැත නො නංවා කරණ ලද ද, නොදැහැමෙන් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය අධම්මකම්මයෙක් ද වෙයි. අවිනය කම්මයෙක් ද වෙයි. නොමනා ලෙස සංහිඳුනෙක් ද වෙයි.

පබ්බාජනීයකම්මයෙහි අධම්මකම් දොළොස නිමියේ ය.

## ධම්මකම්මද්වාදශකය

1. මහණෙනි, අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද විනයකම්මයෙක් ද මොනොවට සංහිඳුනෙක් ද වේ: සම්මුඛයෙහි කරණ ලදුයේ වේ ද, පිළිවිස කරණ ලදුයේ වේ ද, පිළිණ ගෙණ කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද විනයකම්මයෙක් ද මොනොවට සංහිඳුනෙක් ද වේ.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වේ:... ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, දෙශනාගාමිනී ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, නොදෙසනලද ඇවැතෙහි කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි ...

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වේ:... චොදනා කොට කරණ ලදුයේ වේ ද, වරද සිහිපත් කරවා කරණ ලදුයේ වේ ද, ඇවැත නංවා කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි...

4. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි:... හමුයෙහි කරණ ලදුයේ වේ ද, දැහැමෙන් කරණ ලදුයේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලදුයේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි...

5. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි:... පිළිවිස කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි...

6. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි:... චෝදිතයාගෙන් පිළිණ ගෙණ කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකම්මය ධම්මකම්මයෙක් ද වෙයි...

7. අපරේහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

8. අපරේහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති-පෙ-

9. අපරේහිපි භික්ඛවෙ -පෙ- අදෙසිතාය ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

10. අපරේහිපි භික්ඛවෙ -පෙ- චොදෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

11. අපරේහිපි භික්ඛවෙ -පෙ- සාරෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

12. අපරේහිපි භික්ඛවෙ -පෙ- ආපත්තිං ආරොපෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පබ්බාජනීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

පබ්බාජනීයකම්මෙ ධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.

## ආකඞ්ඛමානචුද්දසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය: භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය.

2. අපරේහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය: අධිසීලෙ සීලවිපන්නො හොති; අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙහි ඛො -පෙ-

3. අපරේහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- බුද්ධස්ස අවණ්ණං භාසති, ධම්මස්ස අවණ්ණං භාසති, සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙහි ඛො -පෙ-

7. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය-කර්මය ධර්මකර්මයෙක් ද වෙයි:... ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකර්මය ධර්මකර්මයෙක් ද වෙයි...

8. මහණෙනි, අන්‍ය වූත් අඞ්ග තුණෙකින් සමන්විත පබ්බාජනීය-කර්මය ධර්මකර්මයෙක් ද වෙයි:... දේශනාගාමිනී ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දැහැමින් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකර්මය ධර්මකර්මයෙක් ද වෙයි...

9. මහණෙනි...නොදෙසූ ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද...

10. මහණෙනි...චොදනා කොට කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද...

11. මහණෙනි, ...ඇවැත සිහි පත් කරවා කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, ...

12. මහණෙනි... ඇවැත තංවා කරණ ලද්දේ වේ ද, දැහැමෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සංඝයා විසින් කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත පබ්බාජනීයකර්මය ධර්මකර්මයෙක් ද විනයකර්මයෙක් ද මොනොවට සංහිඳුනෙක් ද වෙයි.

**පබ්බාජනීයකර්මයෙහි ධර්මකර්ම දොළොස නිමි.**

## ආකඞ්ඛමාන චුද්දසකය

1. මහණෙනි, අඞ්ග තුණෙකින් සමන්විත මහණහට සංඝ තෙම කැමැති වන්නේ නම් පබ්බාජනීයකර්මය කරන්නේ ය: ඩබර කරන්නෙක්, කලහ කරන්නෙක්, විරුද්ධවාද කරන්නෙක්, වාක්කලහ කරන්නෙක්, සංඝයා විෂයෙහි අධිකරණ කරන්නෙක් වේ ද, අව්‍යක්ත වූ, ඇවැත් බහුල කොට ඇති, ඉමක් දැක්ක නොහැකි තරම් බොහෝ වූ ඇවැත් ඇති බාලයෙක් වේ ද; මහණුනට නොසුදුසු වූ ගෘහිසංසර්ගයෙන් ගිහියන් හා එකට මුසු වූයේ වෙසේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් සමන්විත මහණහට සංඝ තෙම කැමැති වන්නේ නම් පබ්බාජනීයකර්මය කරන්නේ ය.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් සමන්විත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් පබ්බාජනීයකර්මය කරන්නේ ය: උත්තමශීලයෙහි ශීලවිපන්න වේ ද, උත්තමාචාරයෙහි ආචාරවිපන්න (නට ආචාර ඇත්තේ) වේ ද, උතුම් (සම්‍යග්) දෘෂ්ටියෙහි නටුවා වූ දිට්ඨි ඇත්තේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් පබ්බාජනීයකර්මය කරන්නේ ය.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... බුදුරුවන්හි අගුණ කියා ද, දම්රුවන්හි අගුණ කියා ද, සඟුරුවන්හි අගුණ කියා ද, මේ අඞ්ග තුණින් සමන්විත මහණහට...

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- කායිකෙන දවෙන සමන්නාගතො හොති, වාචසිකෙන දවෙන සමන්නාගතො හොති, කායිකවාචසිකෙන දවෙන සමන්නාගතො හොති, ඉමෙහි ඛො -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- කායිකෙන අනාචාරෙන සමන්නාගතො හොති, වාචසිකෙන අනාචාරෙන සමන්නාගතො හොති, කායිකවාචසිකෙන අනාචාරෙන සමන්නාගතො හොති, ඉමෙහි ඛො -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- කායිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති, වාචසිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති, කායිකවාචසිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති, ඉමෙහි ඛො -පෙ-

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- කායිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති, වාචසිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති, කායිකවාචසිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති, ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය.

8. තිණ්ණං භික්ඛවෙ භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය: එකො භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, එකො බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, එකො ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය.

9. අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය: එකො අධිසීලෙ සීලවිපන්නො හොති, එකො අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, එකො අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති -පෙ-

10. අපරෙසම්පි -පෙ- එකො බුද්ධස්ස අවණ්ණං භාසති, එකො ධම්මස්ස අවණ්ණං භාසති, එකො සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙසං ඛො -පෙ-

11. අපරෙසම්පි -පෙ- එකො කායිකෙන දවෙන සමන්නාගතො හොති, එකො වාචසිකෙන දවෙන සමන්නාගතො හොති, එකො කායිකවාචසිකෙන දවෙන සමන්නාගතො හොති -පෙ-

12. අපරෙසම්පි -පෙ- එකො කායිකෙන අනාචාරෙන සමන්නාගතො හොති, එකො වාචසිකෙන අනාචාරෙන සමන්නාගතො හොති, එකො කායිකවාචසිකෙන අනාචාරෙන සමන්නාගතො හොති -පෙ-

4. මහණෙනි, අන්‍ය වූ ද..කායික ක්‍රීඩායෙන් සමන්විත වේ ද, වාචසික ක්‍රීඩායෙන් සමන්විත වේ ද, කායික වාචසික ක්‍රීඩායෙන් සමන්විත වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත මහණහට...

5. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත මහණහට.... කායික අනාචාරයෙන් යුක්ත වේ ද, වාචසික අනාචාරයෙන් යුක්ත වේ ද, කායික වාචසික අනාචාරයෙන් යුක්ත වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුක්ත මහණහට...

6. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත මහණහට... කායදොරෙහි පැණවූ සික පද කැඩීමෙන් යුත් වේ ද, විසිදොරෙහි පැණවූ සිකපද කැඩීමෙන් යුත් වේ ද, කායදොර විසිදොර දෙක්හි පැණවූ සිකපද කැඩීමෙන් යුත් වේ ද; මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත මහණහට...

7. මහණෙනි; අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත මහණහට... කායික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, වාචසික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, කායිකවාචසික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් සමන්විත මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම්, පබ්බාජනීයකම්මය කරන්නේ ය

8. මහණෙනි, සංඝ තෙමේ කැමැති වන්නේ නම්, මහණුන් තිදෙනකුන්හට පබ්බාජනීයකම්මය කරන්නේ ය: එකෙක් ඩබර කරන්නේ, කලහ කරන්නේ, විරුද්ධ වාද කරන්නේ, සඞ්ඝයා මැඬයෙහි අධිකරණ කරන්නේ වේ ද, එකෙක් අව්‍යක්ත වූ; ඇවැත් බහුල කොටැති, ඉමක් දක්ක නොහෙන තරම් බොහෝ ඇවැත් ඇති බාලයෙක් වේ ද, එකෙක් පැවිද්දහට නොහුදුනු ගෘහීසංසර්ගයෙන් ගිහීන් හා එකට මුසු වූයේ වෙසේ ද, මහණෙනි, සංඝ තෙමේ කැමැති වන්නේ නම්, මේ තුන් මහණුන්හට පබ්බාජනීයකම්මය කරන්නේ ය.

9. මහණෙනි, සංඝ තෙමේ කැමැති වන්නේ නම් අන්‍ය වූ ද මහණුන් තිදෙනකුන්හට පබ්බාජනීයකම්මය කරන්නේ ය: එකෙක් අධිශීලයෙහි ශීලවිපන්න වේ ද, එකෙක් උත්තමාචාරයෙහි ආචාරවිපන්න වේ ද, එකෙක් අතිදෘෂ්ටියෙහි දෘෂ්ටිවිපන්න වේ ද...

10. මහණෙනි, අන්‍ය වූ ද මහණුන් තිදෙනකුන්හට...එකෙක් බුදුරුවන්හි අගුණ කියා ද, එකෙක් දම්රුවන්හි අගුණ කියා ද, එකෙක් සඟුරුවන්හි අගුණ කියා ද, මහණෙනි, මේ මහණුන් තිදෙනාට...

11. මහණෙනි, අන්‍ය වූ ද මහණුන් තිදෙනකුන්හට...එකෙක් කායික දවයෙන් යුත් වේ ද, එකෙක් වාචසික දවයෙන් යුත් වේ ද, එකෙක් කායික වාචසික දවයෙන් යුත් වේ ද, මහණෙනි, මේ මහණුන් තිදෙනාට...

12. මහණෙනි, අන්‍ය වූ ද මහණුන් තිදෙනෙකුන් හට... එකෙක් කායික අනාචාරයෙන් යුක්ත වේ ද, එකෙක් වාචසික අනාචාරයෙන් යුක්ත වේ ද, එකෙක් කායිකවාචසික අනාචාරයෙන් යුක්ත වේ ද...

13. අපරෙසම්පි -පෙ- එකො කායිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති, එකො වාචසිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති, එකො කායිකවාචසිකෙන උපඝාතිකෙන සමන්නාගතො හොති -පෙ-

14. අපරෙසම්පි -පෙ- එකො කායිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති, එකො වාචසිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති, එකො කායිකවාචසිකෙන මිච්ඡාජීවෙන සමන්නාගතො හොති. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පබ්බාජනීයකම්මං කරෙය්‍ය.

**පබ්බාජනීයකම්මෙ ආකඞ්ඛමාන චුද්දසකං නිට්ඨිතං.**

**අට්ඨාරසවත්තං**

1-18. පබ්බාජනීය කම්මකතෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මා වත්තනා: න උපසම්පාදෙතබ්බං, න නිස්සයො දාතබ්බො -පෙ-* න භික්ඛූහි සම්පයොජෙතබ්බන්ති.

**පබ්බාජනීයකම්මෙ අට්ඨාරස වත්තං නිට්ඨිතං.**

## න පටිප්පස්සම්හෙතබ්බ අට්ඨාරසකං

1. අථ ඛො සාරිපුත්තමොග්ගල්ලානප්පමුඛො භික්ඛුසඞ්ඝො කීටාගිරිං ගන්ත්වා අස්සජිපුනබ්බසුකානං භික්ඛූනං කීටාගිරිස්මා පබ්බාජනීයකම්මං අකාසි: 'න අස්සජිපුනබ්බසුකෙහි භික්ඛූහි කීටාගිරිස්මිං වත්ථබ්බ'න්ති. තෙ සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතා න සම්මා වත්තන්ති, න ලොමං පාතෙන්ති, න නෙත්ථාරං වත්තන්ති, භික්ඛූ න ඛමාපෙන්ති, අක්කොසන්ති, පරිභාසන්ති, ඡන්දගාමිතා දොසගාමිතා මොහගාමිතා භයගාමිතා පාපෙන්තිපි, පක්කමන්තිපි, විබ්භමන්තිපි. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛිය්‍යන්ති විපාචෙන්ති:

"කථං හි නාම අස්සජිපුනබ්බසුකා භික්ඛූ සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතා න සම්මා වත්තිස්සන්ති, න ලොමං පාතෙස්සන්ති, න නෙත්ථාරං වත්තිස්සන්ති, භික්ඛූ න ඛමාපෙස්සන්ති, අක්කොසිස්සන්ති, පරිභාසිස්සන්ති, ඡන්දගාමිතා දොසගාමිතා මොහගාමිතා භයගාමිතා පාපෙස්සන්තිපි, පක්කමිස්සන්තිපි, විබ්භමිස්සන්තිපී"ති.

---

* යථා පුබ්බෙ තථා පෙය්‍යාලමුඛෙන ගහෙතබ්බං.

13. මහණෙනි, අන්‍ය වූ ද මහණුන් තිදෙනෙකුන්හට ...එකෙක් කායද්වාරයෙහි පැණවූ සිකපද කැඩීමෙන් යුත් වේ ද; එකෙක් වාග්ද්වාරයෙහි පැණවූ සිකපද කැඩීමෙන් යුත් වේ ද, එකෙක් කායවාග්ද්වාර දෙක්හි පැණවූ සිකපද කැඩීමෙන් යුත් වේ ද...

14. මහණෙනි, අන්‍ය වූ ද මහණුන් තිදෙනෙකුන්හට ...එකෙක් කායික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, එකෙක් වාචසික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, එකෙක් කායිකවාචසික මිථ්‍යාජීවයෙන් යුක්ත වේ ද, මහණෙනි, සංඝ තෙමේ කැමැති වන්නේ නම්, මේ මහණුන් තිදෙනාට පබ්බාජනීයකර්මය කරන්නේ ය.

**පබ්බාජනීයකර්මයෙහි ආකඞ්ඛමාන චතුද්දසකය නිමි.**

## අටොළොස් වත

1-18. මහණෙනි, පබ්බාජනීයකර්මය කරණු ලැබූ මහණහු විසින් මැනැවින් පැවැතිය යුතු යි. එහි මේ මැනැවින් පවත්නා අයුරු යි: තමා උපාධ්‍යාය ව උපසපත් නො කළ යුතු යි, නිස නො දිය යුතු යි...* මහණහු උනුනුන් කලහයෙහි නො යෙදිය යුතුයි.

**පබ්බාජනීයකර්මයෙහි අටොළොස් වත නිමියේ ය.**

## නපටිප්පස්සම්භනඛ්බඅට්ඨාරසකය

1. ඉක්බිති සැරියුත් මුගලන් දෙනම ප්‍රමුඛ කොටැති භික්ෂුසංඝ තෙම කිටාගිරියට වැඩ, 'අස්සජි පුනබ්බසුක මහණුන් කිටාගිරියෙහි නො විසිය යුතු ය'යි අස්සජිපුනබ්බසුක භික්ෂූන් කිටාගිරියෙන් නෙරපීම පිළිබඳ විනයකර්මය කෙළේ ය. සංඝයා විසින් පබ්බාජනීයකර්මය කරණු ලැබූ ඔහු අටොළොස් වත්හි මනා ව නො පවතිත්. අවනත ව නො පවතිත්. නිස්තරණ වත අනුව නො පවතිත්. භික්ෂූන් නො කමවත්. කාරක සංඝයාට ආක්‍රොශ කෙරෙත්. පරිභව කෙරෙත්. ඡන්දයෙන් අගතියට ගිය බවට, ද්වෙෂයෙන් අගතියට ගිය බවට, මොහයෙන් අගතියට ගිය බවට, භයින් අගතියට ගිය බවට පමුණුවත්. (භික්ෂූන් සතර අගතියෙන් ක්‍රියා කළ බව කියත්.) ඒ ඒ දිශාවට (බැහැර) යත්. සිවුරු හැර ද යත්. යම් ඒ භික්ෂුහු ඉච්ඡා තැත්තෝ ද... ඒ භික්ෂුහු (අස්සජි පුනබ්බසුක භික්ෂූන්ගේ ක්‍රියා) ලාමක කොට සිතත්, අගුණ කියත්, අගුණ පතුරුවත්:

"කෙසේ නම් අස්සජි පුනබ්බසුක භික්ෂුහු සංඝයා විසින් පබ්බාජනීයකර්මය කරණු ලැබුවාහු යහපත් ලෙස නො පවතිත් ද, භික්ෂූන්ට අනුව නො යෙත් ද, නිස්තරණ වත්හි නො පිහිටත් ද, භික්ෂූන් කමා නො කරවත් ද, භික්ෂූන්හට ආක්‍රොශ කරත් ද, නිඳා පෙරදූරි දෙෂාරොපණ කරත් ද, ඡන්දයෙන් අගතියට ගිය බවට, ද්වෙෂයෙන් අගතියට ගිය බවට, මොහයෙන් අගතියට ගිය බවට, භයෙන් අගතියට ගිය බවට, පමුණුවත් ද, ඒ ඒ දිශාවන්ට පැන යත් ද, සිවුරු හැර යත් ද" කියා යි.

* මෙහි පෙය්‍යාලයමින් අනනර්ගිත කොටස පෙර මෙන් ගත යුතු.

අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං.

2. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි. "සච්චං කිර භික්ඛවෙ අස්සජිපුනබ්බසුකා භික්ඛූ සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතා න සම්මා වත්තන්ති -පෙ- විබ්භමිස්සන්ති"ති. සච්චං භගවා ති. විගරහි බුද්ධො භගවා -පෙ-* විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: තෙන හි භික්ඛවෙ සඞ්ඝො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතු.

3. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: උපසම්පාදෙති, නිස්සයං දෙති, සාමණෙරං උපට්ඨාපෙති, භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතොපි භික්ඛුනියො ඔවදති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

4. අපරෙහිපි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන පබ්බාජනීයකම්මං කතං හොති තං ආපත්තිං ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං ගරහති, කම්මිකෙ ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

5. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං, පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, පවාරණං ඨපෙති, සවචනීයං කරොති, අනුවාදං පට්ඨපෙති, ඔකාසං කාරෙති, චොදෙති, සාරෙති, භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

**පබ්බාජනීයකම්මෙ න පටිප්පස්සම්භෙතබ්බ අට්ඨාරසකං නිට්ඨිතං.**

## පටිප්පස්සම්භෙතබ්බ අට්ඨාරසකං

1. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න උපසම්පාදෙති, න නිස්සයං දෙති, න සාමණෙරං උපට්ඨාපෙති, න භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතොපි භික්ඛුනියො න ඔවදති; ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

---

* යථා පුබ්බෙ තථා පෙය්‍යාලමුඛානි ගහෙතබ්බං.

ඉක්බිති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මේ කරුණ සැල කළහ.

2. එකල්හි භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ කාරණයෙහි භික්ෂු සංඝයා රැස් කරවා, "සැබෑ ද මහණෙනි, සංඝයා විසින් පබ්බාජනීය කර්ම කරණු ලැබූ අස්සජි පුනබ්බසුක භික්ෂූහු යහපත් සේ නො පවතිත් ද ?... සිවුරු හැර යත් ද ?" යි විචාළ සේක. ඔහු "භාග්‍යවතුන් වහන්ස, සැබෑ යැ" යි කීහ. භාග්‍යවත් බුද්ධරජානන් වහන්සේ ගැරහූ සේක. ...* ගරහා, දැහැමි කථා පවත්වා භික්ෂූන් ඇමතූ සේක: "එසේ නම් මහණෙනි, සංඝ තෙමේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවා වා" යි වදාළ සේක.

3. "මහණෙනි, අංග පසෙකින් යුක්ත භික්ෂූහුගේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවිය යුතු සි: (නො සැවැත්විය යුතු යි.) තෙමේ උපාධ්‍යාය ව උපසම්පදා කරයි ද, නිස දෙයි ද, හෙරණකු ලවා උවටත් කරවා ගණී ද, මෙහෙණනට ඔවා දීමේ සම්මතිය ඉවසයි ද, සම්මතිය ලදුයේත් මෙහෙණින්ට ඔවා දෙයි ද, මහණෙනි, මේ පසකින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවිය යුතු සි.

4. මහණෙනි, අන්‍ය වූ ද පසකින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය නො ම සංහිඳුවිය යුතු ය: යම් ඇවැතකට සංඝයා විසින් පබ්බාජනීය කර්මය කරණ ලද්දේ, ඒ ඇවැතට පැමිණේ ද, එවැනි අන් ඇවැතකට හෝ පැමිණේ ද, එයටත් වඩා ලාමක ඇවැතකට හෝ පැමිණේ ද, කළ කර්මයට ගරහයි ද, කාරක සංඝයාට ගරහයි ද, මහණෙනි, මේ පසකින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවිය යුතු සි.

5. මහණෙනි, අංග අටකින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවිය යුතු සි: පුවතත් මහණහුගේ පොහොය තබයි ද, පවුරුණු තබයි ද, සවචනීය කම් කරයි ද, චෙහෙරෙහි දෙවු තැන් දරයි ද, චොදනාවට අවසර ගැණීම කරයි ද, චොදනා කරයි ද, ඇවැත් සිහිපත් කරවයි ද, භික්ෂූන් හා කලහ පිණිස යෙදෙයි ද, මහණෙනි, 'මේ අටකින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය නො සංහිඳුවිය යුතු සි.

**පබ්බාජනීය කර්මයෙහි නො සංහිඳුවිය යුතු**
**අංග අටොළොස නිමි.**

## සංහිඳුවිය යුතු අංග අටොළොස

1. "මහණෙනි, අංග පසකින් යුක්ත මහණහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවිය යුතු සි. (ඒ පසක නම්) තමන් උපාධ්‍යාය ව උපසම්පදා නො කරයි ද, නිස නො දෙයි ද. හෙරණ ලවා උවටත් නො ගණී ද, මෙහෙණිනට අවවාද දීමේ සම්මතිය නො ඉවසයි ද, සම්මතිය ලදු වත් මෙහෙණිනට ඔවා නො දෙයි ද, මහණෙනි, මේ පසකින් යුත් මහණහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවිය යුතු ය.

---

* පෙයාලයෙන් අන්තර්ගත කොටස් පෙර මෙන් ගත යුතු.

2. අපරෙහිපි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන පබ්බාජනීයකම්මං කතං හොති තං ආපත්තිං න ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං න ගරහති, කම්මිකෙ න ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

3. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, න පවාරණං ඨපෙති, න සවචනීයං කරොති, න අනුවාදං පට්ඨපෙති, න ඔකාසං කාරෙති, න චොදෙති, න සාරෙති, න භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

### පබ්බාජනීයකම්මෙ<br>පටිප්පස්සම්භෙතබ්බ අට්ඨාරසකං නිට්ඨිතං.

1. එවඤ්ච පන භික්ඛවෙ පටිප්පස්සම්භෙතබ්බං: තෙන භික්ඛවෙ පබ්බාජනීයකම්මකතෙන භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො:

“අහං භන්තෙ සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතො සම්මා වත්තාමි, ලොමං පාතෙමි, නෙත්ථාරං වත්තාමි, පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචාමී”ති. දුතියම්පි යාචිතබ්බා, තතියම්පි යාචිතබ්බා.

ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

“සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙය්‍ය, එසා ඤත්ති.

2. මහණෙනි, අන්‍ය වූ ද පංච අඞ්ගයකින් යුක්ත මහණහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවිය යුතු යි. සංඝයා විසින් යම් ඇවැතකට පබ්බාජනීය කර්මය කරණ ලද්දේ වේ ද, ඒ ඇවැතට නො පැමිණෙයි ද, එ වැනි අන් ඇවැතකට හෝ නොපැමිණෙයි ද, එයටත් වඩා ලාමක ඇවැතකට හෝ නො පැමිණෙයි ද, සඞ්ඝයා කල කර්මයට නො ගරහයි ද, කාරක සංඝයාට නො ගරහයි ද, මහණෙනි, මේ පසඟින් යුතු මහණහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවිය යුතු යි.

3. මහණෙනි, අංග අටකින් යුත් මහණහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවිය යුතු යි. පුවතත් මහණහුගේ පොහොය නො තබයි ද, පවුරුණු නො තබයි ද, සවචනීය කම් නො කරයි ද, විහාරයෙහි දෙටු තැන නො සිටියි ද, අවසර ගැණීම නො කරවයි ද, ඇවැත් සිහි පත් නො කරවයි ද, භික්ෂූන් ලවා කලහ නො කරවයි ද, මහණෙනි, මේ අටඟින් යුතු මහණහුගේ පබ්බාජනීයකර්මය සංහිඳුවිය යුතු යි.

පබ්බාජනීය කර්මයෙහි සංහිඳුවිය යුතු
අංග අටෙළොස නිමි.

1. මහණෙනි, පබ්බාජනීය කර්මය මෙසේ සංහිඳුවිය යුතු යः මහණෙනි, ඒ පබ්බාජනීය කර්මය කරණු ලැබූ මහණ විසින් සංඝයා වෙත එළඹ උතුරුසඟ එකාංශ කොට පෙරෙවැ වැඩිමහලු භික්ෂූන්ගේ පාදයන් වැඳ උත්කුටුක ව හිඳ ඇඳිලි බැඳ මෙසේ කිව යුත්තේ යः

"ස්වාමීනි, මම සංඝයා විසින් පබ්බාජනීය කර්මය කරණු ලැබූයෙමි මැනැවින් පවතිමි. භික්ෂූන්හට අනුලෝම ව පවතිමි. නිස්සරණ වතට අනුව පවතිමි. පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම යදිමි"යි. දෙවනුත් යැදිය යුතු ය. තෙවනුත් යැදිය යුතු යි.

සමත් වූ ව්‍යක්ත භික්ෂුනමක් විසින් සංඝ තෙමේ දැන්විය යුතු යිः

'ස්වාමීනි, සංඝ තෙමේ මාගේ වචනය අසා වා. මෙ නම් ඇති මේ භික්ෂු තෙමේ සංඝයා විසින් පබ්බාජනීය කර්මය කරණු ලැබූයේ යහපත් ලෙස පවතියි. භික්ෂූන් අනුව පවතියි. අටළොස් නිස්සරණ වතෙහි පවතියි. පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම (නැවැත්වීම) යදියි. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ නම් සඞ්ඝ තෙමේ මෙ නම් ඇති භික්ෂුහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවා. මේ ඤත්තිය යි.

“සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙය්‍ය.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පබ්බාජනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පබ්බාජනීය-කම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති, පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

පටිප්පස්සද්ධං සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො පබ්බාජනීයකම්මං. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී”ති.

පබ්බාජනීයකම්මං නිට්ඨිතං තතියං.

## 4. පටිසාරණීයකම්මං

1. තෙන ඛො පන සමයෙන ආයස්මා සුධම්මො මච්ඡිකාසණ්ඩෙ චිත්තස්ස ගහපතිනො ආවාසිකො හොති නවකම්මිකො ධුවභත්තිකො. යදා චිත්තො ගහපති සඞ්ඝං වා ගණං වා පුග්ගලං වා නිමන්තෙතුකාමො හොති, තදා න ආයස්මන්තං සුධම්මං අනපලොකෙත්වා සඞ්ඝං වා ගණං වා පුග්ගලං වා නිමන්තෙති.

2. තෙන ඛො පන සමයෙන සම්බහුලා ථෙරා භික්ඛූ - ආයස්මා ච සාරිපුත්තො ආයස්මා ච මහාමොග්ගල්ලානො ආයස්මා ච මහාකච්චානො ආයස්මා ච මහාකොට්ඨිතො ආයස්මා ච මහාකප්පිනො ආයස්මා ච මහාචුන්දො ආයස්මා ච අනුරුද්ධො ආයස්මා ච රෙවතො ආයස්මා ච උපාලි ආයස්මා ච ආනන්දො ආයස්මා ච රාහුලො කාසීසු චාරිකං චරමානා යෙන මච්ඡිකාසණ්ඩො තදවසරිංසු.

"ස්වාමීනි, සඞ්ඝ තෙමේ මාගේ වචනය අසාවා. මේ නම් ඇති මේ භික්ෂු තෙමේ සඞ්ඝයා විසින් පබ්බාජනීයකර්මය කරණු ලැබුයේ යහපත් ලෙස පවතියි. භික්ෂූන් අනුව පවතියි. අටලොස් නිස්තරණ වතෙහි පවතියි. පබ්බාජනීයකර්මයාගේ සංහිඳුවීම (නැවැත්වීම) යදියි. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇත්තේ නම් සඞ්ඝ තෙමේ මේ නම් ඇති මහණහුගේ පබ්බාජනීයකර්මය සංහිඳුවන්නේය.

ස්වාමීනි, සංඝ තෙමේ මාගේ වචනය අසා වා: මේ නම් ඇති භික්ෂු තෙමේ සංඝයා විසින් පබ්බාජනීය කර්මය කරණ ලද්දේ මනාසේ පවතියි. භික්ෂූන් අනුව පවතියි. අටලොස් නිස්තරණ වතට අනුව පවතියි. පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම යදියි. සංඝ තෙමේ මේ නම් ඇති භික්ෂුහුගේ පබ්බාජනීයකර්මය සංහිඳුවයි. මේ නම් ඇති භික්ෂුහු පිළිබඳ පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම යම් ආයුෂ්මතකුට රුචි වේ නම් හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට රුචි නො වේ නම් හෙ තෙම කියාවා.

දෙවෙනු වත් මේ කාරණය කියමි: -පෙ- තෙවෙනු වත් මේ කාරණය කියමි: ස්වාමීනි, සංඝ තෙමේ මාගේ වචනය අසා වා. මේ නම් ඇති මේ භික්ෂු තෙමේ සංඝයා විසින් පබ්බාජනීය කර්මය කරණු ලැබුයේ මැනැවින් පවතියි. භික්ෂූන් අනුව පවතියි. අටොලොස් නිස්තරණ වතට අනුව පවතියි. පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම යදියි. සංඝ තෙමේ මේ නම් ඇති භික්ෂුහුගේ පබ්බාජනීය කර්මය සංහිඳුවයි. මේ නම් ඇති භික්ෂුහු පිළිබඳ පබ්බාජනීය කර්මයාගේ සංහිඳුවීම යම් ආයුෂ්මතකුහට රුචි වේ නම් හෙ තෙම නිශ්ශබ්ද වේ වා. යමකුට රුචි නො වේ නම් හෙ තෙම කියාවා.

සංඝයා විසින් මේ නම් ඇති මහණහුගේ පබ්බාජනීයකර්මය සංහිඳුවන ලදී. (එය) සංඝයාට අභිමත යි. එ හෙයින් නිශ්ශබ්ද යි. මේ කාරණය මෙසේ දරමි."

**තෙවැනි වූ පබ්බාජනීයකර්මය නිමියේ ය.**

## 4. පටිසාරණීයකර්මය

1. එ සමයෙහි ආයුෂ්මත් සුධර්ම නම් ස්ථවිර තෙම මච්ඡිකාසණ්ඩ නම් නුවර චිත්‍ර නම් ගැහැවිහුගේ ආවාසයෙහි වසන්නේ නවකර්මයෙහි යෙදුනේ නිති බත් ලබන්නේ වේ. යම් කලෙක චිත්‍ර ගැහැවි තෙම සඞ්ඝයා හෝ ගණයා හෝ පුද්ගලයකු හෝ පවරණු කැමැති වේ ද, එ කල්හි ආයුෂ්මත් සුධර්ම ස්ථවිරයන් නොවිචාරා සංඝයා හෝ ගණයා හෝ පුද්ගලයකු හෝ නො පවරයි. නො කැඳවයි (නො අමතයි).

2. එ සමයෙහි බොහෝ ස්ථවිර භික්ෂූහු (එ නම්) - ආයුෂ්මත් සාරිපුත්ත තෙරණුවෝ ද, ආයුෂ්මත් මහාමොග්ගල්ලාන තෙරණුවෝ ද, ආයුෂ්මත් මහාකච්චාන තෙරණුවෝ ද, ආයුෂ්මත් මහාකොට්ඨිත තෙරණුවෝ ද, ආයුෂ්මත් මහාකප්පින තෙරණුවෝ ද, ආයුෂ්මත් මහාචුන්ද තෙරණුවෝ ද, ආයුෂ්මත් අනුරුද්ධ තෙරණුවෝ ද, ආයුෂ්මත් රෙවත තෙරණුවෝ ද, ආයුෂ්මත් උපාලි තෙරණුවෝ ද, ආයුෂ්මත් ආනන්ද තෙරණුවෝ ද, ආයුෂ්මත් රාහුල තෙරණුවෝ ද කාසීරට සැරි සරන්නාහු මච්ඡිකාසණ්ඩ නම් නුවරට පැමිණියහ.

3. අස්සොසි ඛො චිත්තො ගහපති 'ථෙරා කිර භික්ඛූ මච්ඡිකාසණ්ඩං අනුප්පත්තා'ති. අථ ඛො චිත්තො ගහපති යෙන ථෙරා භික්ඛූ තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා ථෙරෙ භික්ඛූ අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නං ඛො චිත්තං ගහපතිං ආයස්මා සාරිපුත්තො ධම්මියා කථාය සන්දස්සෙසි සමාදපෙසි සමුත්තෙජෙසි සම්පහංසෙසි. අථ ඛො චිත්තො ගහපති ආයස්මතා සාරිපුත්තෙන ධම්මියා කථාය සන්දස්සිතො සමාදපිතො සමුත්තෙජිතො සම්පහංසිතො ථෙරෙ භික්ඛූ එතදවොච: අධිවාසෙන්තු මෙ භන්තෙ ථෙරා ස්වාතනාය ආගන්තුකභත්තන්ති. අධිවාසෙසුං ඛො ථෙරා භික්ඛූ තුණ්හීභාවෙන.

4. අථ ඛො චිත්තො ගහපති ථෙරානං භික්ඛූනං අධිවාසනං විදිත්වා උට්ඨායාසනා ථෙරෙ භික්ඛූ අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා යෙනායස්මා සුධම්මො තෙනුපසංකමි. උපසඞ්කමිත්වා ආයස්මන්තං සුධම්මං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි. එකමන්තං ඨිතො ඛො චිත්තො ගහපති ආයස්මන්තං සුධම්මං එතදවොච: අධිවාසෙතු මෙ භන්තෙ අය්‍යො සුධම්මො ස්වාතනාය භත්තං සද්ධිං ථෙරෙහීති.

5. අථ ඛො ආයස්මා සුධම්මො "පුබ්බෙ ඛ්වායං චිත්තො ගහපති යදා සඞ්ඝං වා ගණං වා පුග්ගලං වා නිමන්තෙතුකාමො න මං අනප-ලොකෙත්වා සඞ්ඝං වා ගණං වා පුග්ගලං වා නිමන්තෙති. සො'දානි මං අනපලොකෙත්වා ථෙරෙ භික්ඛූ නිමන්තෙසි. දුට්ඨො'දානායං චිත්තො ගහපති අනපෙක්ඛො විරත්තරූපො මයී"ති චිත්තං ගහපතිං එතදවොච: 'අලං ගහපති, න අධිවාසෙමී'ති. දුතියම්පි ඛො -පෙ- තතියම්පි ඛො චිත්තො ගහපති ආයස්මන්තං සුධම්මං එතදවොච: අධිවාසෙතු මෙ භන්තෙ අය්‍යො සුධම්මො ස්වාතනාය භත්තං සද්ධිං ථෙරෙහීති. 'අලං ගහපති, න අධිවාසෙමී'ති. අථ ඛො චිත්තො ගහපති 'කිං මෙ කරිස්සති අය්‍යො සුධම්මො අධිවාසෙන්තො වා අනධිවාසෙන්තො වා'ති ආයස්මන්තං සුධම්මං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා පක්කාමි.

6. අථ ඛො චිත්තො ගහපති තස්සා රත්තියා අච්චයෙන ථෙරානං භික්ඛූනං පණීතං ඛාදනීයං භොජනීයං පටියාදපෙසි. අථ ඛො ආයස්මා සුධම්මො 'යන්නූනාහං චිත්තස්ස ගහපතිනො ථෙරානං භික්ඛූනං පටියත්තං පස්සෙය්‍යන්ති' පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය යෙන චිත්තස්ස ගහපතිනො නිවෙසනං තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි.

3. චිත්‍ත ගෘහපති තෙමේ 'ස්ථවිරභික්ෂූහු මච්ඡිකාෂණ්ඩනගරයට පැමිණියාහු ලු'යි ඇසී ය. ඉක්බිති චිත්‍ත ගෘහපති තෙමේ ස්ථවිර භික්ෂූන් කරා එළැඹියේ ය. එළැඹ ඔවුන් වහන්සේ වැඳ එකත්පසෙක හුන්නේ ය. එකත්පසෙක හුන් චිත්‍ත ගෘහපතිහට ආයුෂ්මත් සාරිපුත්‍ත තෙරණුවෝ දැහැමි කථායෙන් කරුණු දක්වූහ. කුශලධර්මයෙහි සමාදන් කරවූහ. තෙද ගැන්වූහ. (කුසල් දහම් වැඩීමෙහි) මනා ව සතුටු කළහ. ඉක්බිති චිත්‍ත ගෘහපති තෙමේ ආයුෂ්මත් සාරිපුත්‍ත ස්ථවිරයන් විසින් දැහැමි කථාමෙන් දෙලෝ වැඩ දක්වන ලද්දේ, කුසල්දහම්හි සමාදන් කරවන ලද්දේ, තෙද ගන්වන ලද්දේ (උත්සාහී කරණ ලද්දේ), මනා ව සතුටු කරණු ලැබුයේ ස්ථවිර භික්ෂූනට මෙසේ සැල කළේය: "ස්වාමීනි, ස්ථවිරවරුන් වහන්සේ හෙට දවසට මාගේ ආගන්තුක බත ඉවසන සේක්වා"යි. ස්ථවිරභික්ෂූහු නිශ්ශබ්ද භාවයෙන් ඉවැසූහ.

4. ඉක්බිති චිත්‍ත ගෘහපති තෙම ස්ථවිර භික්ෂූන්ගේ ඉවැසීම දැන (අයැදුම පිළිගත් බව දැන) හුනස්නෙන් නැගිට ස්ථවිරභික්ෂූන් වැඳ පැදකුණු කොට ආයුෂ්මත් සුධර්ම තෙරුන් කරා එළඹ උන්වහන්සේ වැඳ එකත්පසෙක සිටියේ ය. එකත්පසෙක සිටි චිත්‍ත ගැහැවි තෙම ආයුෂ්මත් සුධර්ම ස්ථවිරයන් අමතා, "ස්වාමීනි, සුධර්ම ආර්යයන් වහන්සේ සෙට දවස මාගේ බත ස්ථවිරභික්ෂූන් සමග ඉවසන සේක් වා" යි කී ය.

5. ඉක්බිති ආයුෂ්මත් සුධර්ම ස්ථවිර තෙම "මේ චිත්‍ත ගෘහපතියා පෙර යම් දිනක සංඝයා හෝ ගණයා හෝ පුද්ගලයකු හෝ නිමතනු කැමැත්තේ නම්, එ කල මා නො විචාරා සංඝයා හෝ ගණයා හෝ පුද්ගලයකු හෝ නො පවරයි. එහෙත් මෙතෙම දැන් මා නො විචාරා ස්ථවිර භික්ෂූන් පැවැරී ය. මේ චිත්‍ත ගහපති තෙම දැන් මා කෙරෙහි දූෂිත සිතැත්තේ වන, බලාපොරොත්තු නැත්තේ වන, මා කෙරෙහි කලකිරුණේ වනැ"යි සිතී ය. සිතා චිත්‍ත ගෘහපතිහට 'ගෘහපතිය, කම් නැත, නො ඉවසමි'යි කී ය. දෙවනුත්... තෙවනුත් චිත්‍ත ගෘහපති තෙම සුධර්ම ස්ථවිරයනට "ස්වාමීනි, සුධර්ම ආර්යයන් වහන්සේ හෙට දවස පිණිස මාගේ බත ස්ථවිර වරුන් වහන්සේ සමග ඉවසන සේක් වා"යි කී ය. 'ගෘහපතිය, කම් නැත, නො ඉවසමි' යි සුධර්ම තෙර කී ය. ඉක්බිති චිත්‍ත ගෘහපති තෙම 'ආර්ය සුධර්ම තෙමේ ඉවසත්තේ හෝ නොඉවසත්තේ හෝ මට කුමක් කරත්තේ දැ'යි ආයුෂ්මත් සුධර්ම ස්ථවිරයන් වැඳ පැදකුණු කොට නික්ම ගියේ ය.

6. ඉක්බිති චිත්‍ත ගෘහපති තෙමේ ඒ රාත්‍රිය ඇවෑමෙන් ස්ථවිර භික්ෂූන් සඳහා ප්‍රණීත වූ කෑ යුතු බුදිය යුතු ආහාරපාන පිළියෙළ කරවූයේ ය. ඉක්බිති ආයුෂ්මත් සුධර්ම තෙම 'චිත්‍ත ගෘහපති විසින් ස්ථවිර භික්ෂූනට පිළියෙළ කරණ ලද්ද දක්නෙමි නම් ඉතා යෙහෙකැ'යි පෙරවරුයෙහි හැඳ පෙරෙව පාසිවුරු ගෙණ චිත්‍ත ගෘහපතියාගේ නිවෙස්න කරා පැමිණියේ ය. පැමිණ පැණැවූ අස්නෙහි වැඩ හුන්නේ ය.

7. අථ බො චිත්තො ගහපති යෙනායස්මා සුධම්මො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා ආයස්මන්තං සුධම්මං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නං බො චිත්තං ගහපතිං ආයස්මා සුධම්මො එතදවොච: පහූතං බො තෙ ඉදං ගහපති ඛාදනීයං භොජනීයං පටියත්තං. එකා'ච බො ඉධ නත්ථි යදිදං තිලසඞ්ඛුළිකා'ති. "බහුම්හි වත මෙ භන්තෙ රතනෙ බුද්ධවචනෙ විජ්ජමානෙ අය්‍යෙන සුධම්මෙන යදෙව කිඤ්චි භාසිතං යදිදං තිලසඞ්ඛුළිකාති".

8 භූතපුබ්බං භන්තෙ දක්ඛිණාපථකා වාණිජා පුරත්ථිමං ජනපදං අගමංසු වණිජ්ජාය. තෙ තතො කුක්කුටිං ආනෙසුං. අථ බො සා භන්තෙ කුක්කුටි කාකෙන සද්ධිං සංවාසං කප්පෙසි. සා පොතකං ජනෙසි. යදා බො සො භන්තෙ කුක්කුටපොතකො කාකවස්සං වස්සිතුකාමො හොති, 'කාකකුක්කුටා'ති වස්සති. යදා කුක්කුටවස්සං වස්සිතුකාමො හොති, 'කුක්කුටකාකා'ති වස්සති. එවමෙව බො භන්තෙ බහුම්හි රතනෙ බුද්ධවචනෙ විජ්ජමානෙ අය්‍යෙන සුධම්මෙන යදෙව කිඤ්චි භාසිතං යදිදං 'තිලසඞ්ඛුළිකා'ති.

9. "අක්කොසසි මං ත්වං ගහපති. පරිභාසසි මං ත්වං ගහපති. එසො තෙ ගහපති ආවාසො, පක්කමිස්සාමී"ති. "නාහං භන්තෙ අය්‍යං සුධම්මං අක්කොසාමි. න පරිභාසාමි. වසතු භන්තෙ අය්‍යො සුධම්මො මච්ඡිකාසණ්ඩෙ. රමණීයං අම්බාටකවනං. අහං අය්‍යස්ස සුධම්මස්ස උස්සුක්කං කරිස්සාමි චීවරපිණ්ඩපාතසෙනාසනගිලානපච්චයභෙසජ්ජපරික්ඛාරානන්ති." දුතියම්පි බො -පෙ- තතියම්පි බො ආයස්මා සුධම්මො චිත්තං ගහපතිං එතදවොච: "අක්කොසසි මං ත්වං ගහපති. පරිභාසසි මං ත්වං ගහපති. එසො තෙ ගහපති ආවාසො. පක්කමිස්සාමී"ති. "කහං භන්තෙ අය්‍යො සුධම්මො ගමිස්සතී"ති. "සාවත්ථිං බො අහං ගහපති ගමිස්සාමි භගවන්තං දස්සනායා"ති. "තෙන හි භන්තෙ යඤ්ච අත්තනා භණිතං, යං ච මයා භණිතං, තං සබ්බං භගවතො ආරොචෙහි. අනච්ඡරියං බො පනෙතං භන්තෙ යං අය්‍යො සුධම්මො පුනදෙව මච්ඡිකාසණ්ඩං පච්චාගච්ඡෙය්‍යා"ති.

10. අථ බො ආයස්මා සුධම්මො සෙනාසනං සංසාමෙත්වා පත්ත-චීවරමාදාය යෙන සාවත්ථි තෙන පක්කාමි. අනුපුබ්බෙන යෙන සාවත්ථි, ජෙතවනං අනාථපිණ්ඩිකස්ස ආරාමො, යෙන භගවා, තෙනුපසඞ්කමි. උප-සඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො බො ආයස්මා සුධම්මො යඤ්ච අත්තනා භණිතං, යඤ්ච චිත්තෙන ගහපතිනා භණිතං, තං සබ්බං භගවතො ආරොචෙසි.

7. ඉක්බිති චිත්ත ගෘහපති තෙම ආයුෂ්මත් සුධර්මයන් කරා පැමිණියේ ය. පැමිණ ආයුෂ්මත් සුධර්ම ස්ථවිරයන් වැඳ එකත්පසෙක හුන්නේ ය. එක් පසෙක හුන් චිත්ත ගෘහපතියාට ආයුෂ්මත් සුධර්ම ස්ථවිර තෙම "ගෘහපතිය, ඔබ විසින් බොහෝ වූ මේ කෑ යුතු වූ ද බුදිය යුතු වූ ද ආහාරපාන පිළියෙල කරණ ලද්දේ වෙයි. තලසඟලා නම් එක ම දෑයක් පමණක් මෙහි නැතැ"යි කී ය. (එවිට ගැහැවි මෙසේ කී ය:) "ඒකාන්තයෙන් රුවන් වැනි බොහෝ බුදුවදන් ඇති කල්හිත් සුධර්ම ආර්‍යයන් වහන්සේ විසින් 'තලසඟලා' යැ යි සුලු දෑයක් ම කියන ලදි."

8. ස්වාමීනි, පෙර වූවක් කියමි: දක්ෂිණාපථයෙහි වැසි වෙළෙන්දෙක් වෙළෙඳාම පිණිස පෙරදිග ජනපදයට ගියෝ ය. ඔහු එ දෙසින් කිකිළියක ගෙණාවෝ ය. ස්වාමීනි, ඉන් පසු ඒ කිකිළි කවුඩකු හා සංවාස කළා. ඕ තොමෝ පැටියකු වැදූවා. "ස්වාමීනි, යම් විටෙක ඒ කුකුළු පැටියා කවුඩුහඬ කරණු කැමැති වේ ද, එ කල්හි 'කාකකුක්කුට' ය යි හඬ ලයි. යම් කලෙක කුකුළු හඬ හඬ ලනු කැමැති වේ ද, එ කල්හි 'කුක්කුටකාක' ය යි හඬ ලයි. ස්වාමීනි, එ පරිද්දෙන් ම ඒකාන්තයෙන් රුවන් වැනි බොහෝ බුද්ධවචන ඇති කල්හි සුධර්ම ආර්‍යයන් වහන්සේ විසින් යම් ඒ 'තලසඟලා' ය යි කිසිවක් ම කියන ලද "යි කී ය.

9. "ගෘහපතිය, තෝ මට ආක්‍රොශ කෙරෙහි ය. ගෘහපතිය, තෝ මට පරිභව බෙණෙහි ය. ගෘහපතිය, (මෙන්න,) තෙල තොපගේ ආවාසය, මම නික්ම යන්නෙමි"යි කී ය. "ස්වාමීනි, ආර්‍ය සුධර්මයන් වහන්සේට මම ආක්‍රොශ නො කරමි. පරිභව නො කරමි. ස්වාමීනි, ආර්‍ය සුධර්මයන් වහන්සේ මච්ඡිකාසණ්ඩ නගරයෙහි වසන සේක් වා. මේ ඇඹැල්ල චිත්තය සිත් අලවනසුලු ය. මම ආර්‍ය සුධර්මයන් වහන්සේට සිවුරු පිඬුවා සෙනසුන් ගිලන්පස බෙහෙත්පිරිකර පිණිස ඊහා කරමි"යි ගෘහපති තෙම කී ය. දෙවනුත් සුධර්ම ස්ථවිර තෙමේ චිත්ත ගෘහපතිහට "ගැහැවිය, තෝ මට ආක්‍රොශ කෙරෙහි ය. පරිභව කෙරෙහි ය. මෙන්න, තොපගේ ආවාසය, මම මෙහින් බැහැර මි"යි කී ය. "ස්වාමීනි, ආර්‍ය සුධර්මයන් වහන්සේ කොහි වඩිනසේක් දැ"යි හේ ඇසී ය. "ගැහැවිය, මම භාග්‍යවතුන් වහන්සේ දකිනු පිණිස සැවැත් නුවරට යන්නෙමි "යි තෙරණුවෝ කීහ. "ස්වාමීනි, එසේ නම් තමන් වහන්සේ විසින් යමක් කියන ලද ද, මවිසිනුත් යමක් කියන ලද ද, ඒ සියල්ල භාග්‍යවතුන් වහන්සේට සැල කල මැනවි. ස්වාමීනි, යම් හෙයකින් සුධර්ම ආර්‍යයන් වහන්සේ නැවතත් මච්ඡිකාසණ්ඩයට පෙරලා එන්නාහ යන මේ කාරණය නම් පුදුමයක් නො වන්නේ ය"යි ගැහැවි කී ය.

10. ඉක්බිති ආයුෂ්මත් සුධර්ම ස්ථවිර තෙමේ සෙනසුන් තැන් පත් කොට පාසිවුරු රැගෙණ සැවැත් නුවර බලා නික්මිණ. පිළිවෙළින් සැවැත් නුවර දෙව්රම් වෙහෙර භාග්‍යවතුන් වහන්සේ වෙත පැමිණියේ ය. පැමිණ භාග්‍යවතුන් වහන්සේ වැඳ එකත්පසෙක හුන්නේ ය. එකත්පසෙක හුන් සුධර්ම ආයුෂ්මත් තෙමේ යමක් තමා විසින් කියන ලද ද, යමක් චිත්ත ගෘහපතියා විසින් කියන ලද ද, ඒ සියල්ල භාග්‍යවතුන් වහන්සේට සැල කෙළේ ය.

11. විගරහි බුද්ධො භගවා: අනනුච්ඡවිකං මොඝපුරිස අනනුලොමිකං අප්පතිරූපං අස්සාමණකං අකප්පියං අකරණීයං. කථං හි නාම ත්වං මොඝපුරිස චිත්තං ගහපතිං සද්ධං පසන්නං දායකං කාරකං සඞ්ඝුපට්ඨාකං හීනෙන ඛුංසෙස්සසි, හීනෙන වම්භෙස්සසි. නෙතං මොඝපුරිස අප්පසන්නානං වා පසාදාය -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

12. තෙන හි භික්ඛවෙ සඞ්ඝො සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීය-කම්මං කරොතු 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති. එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං:

පඨමං සුධම්මො භික්ඛු චොදෙතබ්බො. චොදෙත්වා සාරෙතබ්බො. සාරෙත්වා ආපත්තිං ආරොපෙතබ්බො. ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං සුධම්මො භික්ඛු චිත්තං ගහපතිං සද්ධං පසන්නං දායකං කාරකං සඞ්ඝුපට්ඨාකං හීනෙන ඛුංසෙසි, හීනෙන වම්භෙසි. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො සුධම්මස්ස භික්ඛුනො පටිසාර-ණීයකම්මං කරෙය්‍ය 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං සුධම්මො භික්ඛු චිත්තං ගහපතිං සද්ධං පසන්නං දායකං කාරකං සඞ්ඝුපට්ඨාකං හීනෙන ඛුංසෙසි, හීනෙන වම්භෙසි. සඞ්ඝො සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීයකම්මං කරොති 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති. යස්සායස්මතො ඛමති සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීයස්ස කම්මස්ස කරණං 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

11. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ගර්හා කළ සේක: "හිස් පුරුෂය, නොනිසි ය, නොසුදුසු ය, නො ගැලපෙන්නේ ය. මහණදමට නොතරම් ය. නොකැප වූවකි. නොකටයුත්තකි. හිස් පුරුෂය, තෝ කෙසේ නම් සැදැහැති පැහැදුනු දායක වූ කැපකරු වූ සංඝයාගේ උපස්ථායක වූ චිත්ත ගෘහපතිහට ලාමක වචනයෙන් නින්දා කෙළෙහි ද ? පහත් වචනයෙන් ගර්හා කෙළෙහි ද? හිස් පුරුෂය, මේ කාරණය නොපැහැදුනවුන්ගේ පැහැදීම පිණිස හෝ පැහැදුනවුන්ගේ ප්‍රසාදබාහුල්‍යය පිණිස හෝ නො වෙයි. වැලි දු හිස් පුරුෂය, මෙය නොපහන් වූවන්ගේ නොපහන්බව පිණිස ද, පහන් වූ ද ඇතැමුන්ගේ වෙනස් බව පිණිස ද පවතියි."... සුධම් භික්ෂුහට ගරහා යදනුරූප දැහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක:

12. මහණෙනි, එහෙයින් සංඝ තෙමේ සුධම් භික්ෂුහට 'තුඹ විසින් චිත්ත ගෘහපති තෙමේ ක්ෂමා කරවිය යුත්තේ ය' යි කියා පටිසාරණීය කම්ය කෙරේ වා.

මහණෙනි, ඒ පටිසාරණීය කම්ය මෙසේ කළ යුතු ය: පළමු කොට සුධම් භික්ෂු තෙමෙ චෝදනා කළ යුතු යි. චෝදනා කොට (කරුණ) සිහි පත් කරවිය යුතු යි. සිහිපත් කරවා ඇවැත නැංවිය යුතු යි. ඇවැත නැංවා ව්‍යක්ත වූ ප්‍රතිබල දක්ෂ මහණකු විසින් සංඝ තෙමේ මෙසේ දැන්විය යුතු යි:

"ස්වාමීනි, සංඝ තෙමේ මාගේ වචනය අසාවා: මේ සුධම් නම් භික්ෂු තෙමේ ශ්‍රද්ධාවත් ප්‍රසන්න වූ දායක වූ කැපකරු වූ සංඝොපස්ථායක වූ චිත්ත නම් ගෘහපතිහට ලාමක වචනයෙන් ආක්‍රොශ කෙළේ ය. ලාමක වචනයෙන් ගර්හා කෙළේ ය. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත් නම් සංඝ තෙමේ සුධම් භික්ෂුහට 'ඔබ විසින් චිත්ත නම් ගැහැවි තෙම ක්ෂමා කරවිය යුත්තේ ය'යි පටිසාරණීය කම්ය කරන්නේය. (කළ යුතු ය.) මේ ඥප්තිය යි.

ස්වාමීනි, සංඝ තෙමෙ මාගේ වචනය අසාවා. මේ සුධම් නම් භික්ෂු තෙමෙ සැදැහැති පැහැදුනා වූ දායක වූ කාරක වූ සංඝඋපස්ථායක වූ චිත්ත නම් ගැහැවිහට ලාමක වචනයෙන් ආක්‍රොශ කෙළේ ය. පහත් වචනයෙන් නින්දා කෙළේ ය. සංඝ තෙමෙ සුධම් භික්ෂුහට 'තා විසින් චිත්ත ගෘහපති තෙම ක්ෂමා කරවිය යුතු ය' යි පටිසාරණීයකම්ය කරයි. යම් ආයුෂ්මතකුහට ඔබ විසින් චිත්ත ගහපති තෙම ක්ෂමා කරවිය යුත්තේය'යි සුධම් භික්ෂුහට පටිසාරණීය කම්ය කිරීම රුචි වේ නම් හෙ- තෙමේ නිශ්ශබ්ද වේවා, යමකුට රුචි නො වේ නම්, හෙ තෙමෙ කියාවා.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං සුධම්මො භික්ඛු චිත්තං ගහපතිං සද්ධං පසන්නං දායකං කාරකං සඞ්ඝුපට්ඨාකං හීනෙන ඛුංසෙසි, හීනෙන වම්භෙසි. සඞ්ඝො සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීයකම්මං කරොති 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති. යස්සායස්මතො ඛමති සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීයස්ස කම්මස්ස කරණං 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

කතං සඞ්ඝෙන සුධම්මස්ස භික්ඛුනො පටිසාරණීයකම්මං 'චිත්තො තෙ ගහපති ඛමාපෙතබ්බො'ති. ඛමති සඞ්ඝස්ස, තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී''ති.

## අධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අපටිපුච්ඡා කතං හොති, අපටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මං ච දුවූපසන්තඤ්ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං අධම්මකම්මං ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, දෙසිතාය ආපත්තියා කතං හොති -පෙ-.

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි-පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අචොදෙත්වා කතං හොති, අසාරෙත්වා කතං හොති, ආපත්තිං අනාරොපෙත්වා කතං හොති -පෙ-

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අසම්මුඛා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අපටිපුච්ඡා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අපටිඤ්ඤාය කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

දෙවනුත් මේ කාරණය කියමි... තෙවනුත් මේ කාරණය කියමි: ස්වාමීනි, සංඝ තෙමේ මා ගේ වචනය අසාවා. මේ සුධම් භික්ෂු තෙමේ ශ්‍රද්ධා ඇති පැහැදුනා වූ පසය දෙන්නා වූ සංඝකෘත්‍ය කරන්නා වූ සංඝයාට උවටන් කරන්නා වූ චිත්ත නම් ගැහැවිහට පහත් වචනයෙන් නින්ද කෙළේ ය. පහත් වචනයෙන් ගැරැහී ය. සංඝ තෙමේ සුධම් භික්ෂුහට 'ඔබ විසින් චිත්ත ගැහැවි තෙම ක්ෂමා කරවිය යුත්තේ යැ' යි පටිසාරණීය කර්මය කරයි. යම් ආයුෂ්මතකුහට 'චිත්ත ගෘහපති තෙම ඔබ විසින් ක්ෂමා කරවිය යුතු ය' යි සුධම් භික්ෂුහට පටිසාරණීයකර්මය කිරීම රුචි වේ නම්, හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට රුචි නො වේ නම් හෙ තෙමේ කියාවා.

සංඝයා විසින් සුධම් භික්ෂුහට 'චිත්ත ගෘහපති තෙමේ ඔබ විසින් ක්ෂමා කරවිය යුතු ය' යි පටිසාරණීයකර්මය කරණ ලදී. සංඝයාට එය රුචි යි. එ හෙයින් නිශ්ශබ්ද ය. මේ කාරණය මෙසේ සලකමි" යි.

## අධම්මකම්මද්වාදසකය

1. මහණෙනි, අංග තුණෙකින් යුක්ත වූ පටිසාරණීය කර්මය නොදැහැමි කමෙක් ද වෙයි. අවිනය කමෙක් ද වෙයි. නොමනාව සංහිඳුනෙක් ද වෙයි: නොහමුයෙහි කරණ ලද්දේ වේද, නොපිළිවිස කරණ ලද්දේ වේ ද, පිළිණ නො ගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අංග තුණින් යුක්ත පටිසාරණීයකර්මය නොදැහැමි කමෙක් ද වෙයි. අවිනය කමෙක් ද වෙයි. මනාව නොසංහිඳුනෙක් ද වෙයි.

2. මහණෙනි, අන්‍ය වූ ද අංග තුණෙකින් යුක්ත වූ පටිසාරණීය කර්මය නොදැහැමි කමෙක් ද වෙයි. අවිනය කමෙක් ද වෙයි. නොමනාව සංසිඳු-නෙක් ද වෙයි: ඇවැත් නැති කල්හි කරණලද්දේ වේ ද, දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද ඇවැත දෙසූ කල්හි කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ තෙඅඟින් යුතු පටිසාරණීයකර්මය...

3. මහණෙනි, අනිත් තෙඅඟෙකින් යුක්තවූ පටිසාරණීයකර්මය ද නොදැහැමි කමෙක් ද වෙයි... චෝදනා නොකොට කරණ ලද ද, සිහිපත් නොකරවා කරණ ලද ද, ඇවැත් නොහංවා කරණ ලද ද...

4. මහණෙනි, අනිත් තෙඅඟකින් යුක්ත වූ පටිසාරණීයකර්මය ද නො දැහැමිකමෙක් ද වෙයි... නොහමුයෙහි කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

5. මහණෙනි, අනිත් තෙඅඟකින් යුක්ත වූ පටිසාරණීයකර්මය ද නොදැහැමිකමෙක් ද වෙයි... නො පිළිවිස කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද,...

6. මහණෙනි, අනිත් තෙඅඟකින් යුක්තවූ පටිසාරණීයකර්මය ද නො දැහැමිකමෙක්ද වෙයි... පිළිණ නොගෙණ කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද යන තුණ යි...

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අනාපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අදෙසනාගාමිනියා ආපත්තියා කතං නොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- දෙසිතාය ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අචොදෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- අසාරෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අධම්මකම්මං ච හොති -පෙ- ආපත්තිං අනාරොපෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති. වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

පටිසාරණීයකම්මෙ අධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.

## ධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මඤ්ච සුවූපසන්තඤ්ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං ධම්මකම්මං ච හොති විනයකම්මං ච සුවූපසන්තං ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පටිසාරණීයකම්මං ධම්මකම්මං ච හොති, විනයකම්මං ච, සුවූපසන්තං ච: ආපත්තියා කතං නොති, දෙසනාගාමිනියා ආපත්තියා කතං නොති, අදෙසිතාය ආපත්තියා කතං හොති -පෙ-

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ධම්මකම්මං ච හොති -පෙ- චොදෙත්වා කතං හොති, සාරෙත්වා කතං හොති, ආපත්තිං ආරොපෙත්වා කතං හොති -පෙ-

7. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නොදැහැමිකමෙක් ද වෙයි... නොඇවැතෙහි කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

8. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නොදැහැමිකමෙක් ද වෙයි... දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

9. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නොදැහැමිකමෙක් ද වෙයි... ඇවැත දෙසූ කල්හි කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

10. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නොදැහැමිකමෙක්ද වෙයි... චෝදනා නොකොට කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

11. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නොදැහැමිකමෙක් ද වෙයි... සිහි නොකරවා කරණ ලද ද, නොදැහමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද...

12. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුතු පටිසාරණීයකම්මය ද නො දැහැමිකමෙක් ද වෙයි... ඇවැත නො නගා කරණ ලද ද, නොදැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර ව කරණ ලද ද... මහණෙනි, මේ තෙ අඟින් යුතු පටිසාරණීය කම්මය නොදැහැමිකමෙක් ද වෙයි. අවිනයකමෙක් ද වෙයි. නොමනාව සංහිඳුනෙක් ද වෙයි.

**පටිසාරණීය කම්මයෙහි අධම්මකම්ම දොළොස නිමියේ ය.**

## ධම්මකම්මද්වාදශකය

1. මහණෙනි, අංග තුනෙකින් යුත් පටිසාරණීයකම්මය දැහැමි කමෙක් ද වෙයි, විනය කමෙක් ද වෙයි, මනා ව සංහිඳුනෙක් ද වෙයි: හමුවෙහි කරණ ලද ද, පිළිවිස කරණ ලද ද, පිළිණ නෙණ කරණ ලද ද, මහණෙනි, මේ තෙ අඟින් යුත් පටිසාරණීයකම්මය දැහැමි කමෙක් ද වෙයි, විනය කමෙක් ද වෙයි, මනා ව සංහිඳුනෙක් ද වෙයි.

2 මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුත් පටිසාරණීයකම්මය ද දැහැමි කමෙක් ද වෙයි, විනයකමෙක් ද වෙයි, මැනැවින් සංහිඳුනෙක් ද වෙයි: ඇවැත ඇති කල්හි කරණ ලද ද, දෙසීමෙන් පිරිසිදු වන ඇවැතෙහි කරණ ලද ද, ඇවත නොදෙසූ කල්හි කරණ ලද ද...

3. මහණෙනි, අතිත් තෙ අඟෙකින් යුත් පටිසාරණීයකම්මය ද ධම්මකම්මයෙක් ද වෙයි... චෝදනා කොට කරණ ලද්දේ වේ ද, සිහිපත් කරවා කරණ ලද්දේ වේ ද, ඇවැත නංවා කරණ ලද්දේ වේ ද ...

කාමයෝ ගසක ගෙඩි හා උපමා ඇත්තෝ ය. බොහෝ දුක් ඇත්තෝ ය. දුක් ආයාස ඇත්තෝ ය. මෙහි ආදීනව බෙහෙවි සි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී.

කාමයෝ මස්කපන කැත්ත හා මස්ලොඹුවකට උපමා ඇත්තෝ ය. බොහෝ දුක් ඇත්තෝ ය. දුක් ආයාස ඇත්තෝ ය. මෙහි ආදීනව බෙහෙවි සි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී.

කාමයෝ සිරියක් හා සූලායුධයකට උපමා ඇත්තෝ ය. බොහෝ දුක් ඇත්තෝ ය. දුක් ආයාස ඇත්තෝ ය. මෙහි ආදීනව බෙහෙවි සි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී.

කාමයෝ සර්පශීර්ෂයකට උපමා ඇත්තෝ ය. බොහෝ දුක් ඇත්තෝ ය. දුක් ආයාස ඇත්තෝ ය. මෙහි ආදීනව බොහෝ යයි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී.

5. ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂූතෙම ඒ භික්ෂූන් විසින් මෙසේ කියනු ලැබූයේ "ඇවැත්නි, යම් මේ අන්තරායකර ධර්මයෝ භාග්‍යවතුන් වහන්සේ විසින් යම් සේ වදාරණ ලද ද, ඒ ධර්ම සෙවනය කරන්නාට අන්තරාය පිණිස ප්‍රමාණ නො වෙත් ය සි සිතිය හැකි සේ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසනලද ධර්මයක් මම දනිමි" සි ඒ ලාමක දෘෂ්ටිය එ ලෙස ම දැඩි කොට ගෙණ ඊට ඇතුල්වී ව්‍යවහාර කෙරෙති

ගද්ධබාධිපුබ්බ අරිට්ඨ මහණ මේ ලාමක මිථ්‍යාදෘෂ්ටියෙන් වෙන් කරන්නට යම් හෙයකින් ඒ භික්ෂූහු අසමත් වූවාහු ද, එකල්හි ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද එතැනට එළඹියාහුය. එළඹ භාග්‍යවතුන් වහන්සේට මේ කාරණය සැල කළාහුය.

6. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ ප්‍රකරණයෙහි භික්ෂුසඞ්ඝයා රැස් කරවා "අරිට්ඨය, 'යම් මේ අන්තරායකර ධර්මයෝ භාග්‍යවතුන් වහන්සේ විසින් යම් සේ වදාරණලද ද, ඒ ධර්මයෝ සෙවනය කරන්නාට අන්තරාය පිණිස ප්‍රමාණ නොවෙත් ය සි සිතිය හැකි සේ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසූ ධර්මයක් මම දනිමි' සි මෙ බඳු ලාමක දෘෂ්ටියක් තට උපන්නේ ය යනු සැබෑද"සි අරිට්ඨ මහණහු පුළුවත් සේක.

"යම් මේ අන්තරායකර ධර්මයෝ භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණලදහු ද, ඒ ධර්මයෝ සෙවනය කරන්නාට අන්තරාය පිණිස සමත් නො වෙත් යැයි සිතිය හැකි සේ, ස්වාමීනි, භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසූ ධර්මයක් මම දනිමි" සි (අරිට්ඨ මහණ කී ය).

"හිස් පුරුෂය, මවිසින් කවරකුට එසේ දෙසූ ධර්මයක් නුඹ දනිහි ද, හිස් පුරුෂය, මවිසින් නන් අයුරින් අන්තරායකර ධර්මයෝ අන්තරායකරහ සි ප්‍රකාශ කරණ ලද්දාහු නො වෙත් ද. සෙවනය කරන්නාට සයමොක් වළකනු පිණිස ඒ දහම් සමත් නො වෙත් ද?

7. මවිසින් කාමයෝ අල්ප ආශ්වාද (රස විඳගැණුම්) ඇත්තෝ ය, බොහෝ දුක් ඇත්තෝ ය, දුක් ආයාස ඇත්තෝ ය, මේ කාමයෙහි ආදීනව බොහෝ ය සි පවසන ලදහ.

අට්ඨිකඞ්කලූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

මංසපෙසූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

තිණුක්කූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

අඞ්ගාරකාසූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

සුපිනකූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

යාචිතකූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

රුක්ඛඵලූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

අසිසූනූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

සත්තිසූලූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

සප්පසිරූපමා කාමා වුත්තා මයා බහුදුක්ඛා බහූපායාසා, ආදීනවො එත්ථ භිය්‍යො.

8. අථ ච පන ත්වං මොඝපුරිස අත්තනා දුග්ගහිතෙන අම්හෙ ච අබ්භාචික්ඛසි, අත්තානඤ්ච ඛණසි, බහුඤ්ච අපුඤ්ඤං පසවසි. තං හි තෙ මොඝපුරිස භවිස්සති දීඝරත්තං අහිතාය දුක්ඛාය. නෙතං මොඝපුරිස අප්පසන්නානං වා පසාදය -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

තෙන හි භික්ඛවෙ සඞ්ඝො අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනියකම්මං කරොතු අසම්භොගං සඞ්ඝෙන.

එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං: පඨමං අරිට්ඨො භික්ඛු ගද්ධබාධිපුබ්බො චොදෙතබ්බො. චොදෙත්වා සාරෙතබ්බො. සාරෙත්වා ආපත්තිං ආරොපෙතබ්බො. ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

ම විසින් කාමයෝ ඇටසැකිල්ලකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ මස්වැදැල්ලකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ තණසුළුකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ අඟුරුවලකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ සිහිනයකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ ඉල්ලාගත්තා ලද්දකට උපමා ඇත්තෝ ය යි... පවසන ලදහ.

ම විසින් කාමයෝ ගසක ගෙඩි හා උපමා ඇත්තෝ ය යි.... පවසන ලදහ.

ම විසින් කාමයෝ මස් කපන කැත්ත හා මස්ලොබුවකට උපමා ඇත්තෝ ය යි.... පවසන ලදහ.

ම විසින් කාමයෝ සිරිය හා හුලාහුඹයට උපමා ඇත්තෝ ය යි.... පවසන ලදහ.

ම විසින් කාමයෝ සර්පසිරසකට උපමා ඇත්තෝය, බොහෝ දුක් ඇත්තෝ ය, බොහෝ ආයාස ඇත්තෝ ය, මේ කාමයෙහි ආදීනව බොහෝ යයි ප්‍රකාශ කරණ ලදහ.

8. එසේ ඇති කල්හිත් හිස්පුරුෂය, තෝ තමන් වරදවා ගත් අදහසින් අපට ද බොරුවෙන් චෝදනා කරන්නෙහි ය. තමන් ගුණ සාරාලන්නෙහි ය. බොහෝ අකුසල් රැස් කරන්නෙහි ය. හිස්පුරුෂය, එය තුඹට බොහෝ කාලයක් අහිත පිණිස දුක් පිණිස වන්නේ ය. හිස්පුරුෂය, මෙය නොපැහැදුනවුන්ගේ පැහැදීම පිණිස හෝ... නො වෙයි. (අරිට්ඨ භික්ෂුහට) ගරහා දැහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක:

මහණෙනි, එසේ නම් සංඝ තෙම ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට ලාමක දෘෂ්ටිය නොදුරලීමෙහි සංඝයා සමග සම්භෝග නැති උක්ඛේපනීය- කම්මය කෙරේවා.

මහණෙනි, (ඒ උක්ඛේපනීයකම්මය) මෙසේ කටයුතු යි. පළමු කොට ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට චෝදනා කළ යුතු යි. චෝදනා කොට (ඇවැත) සිහිපත් කරවිය යුතුයි. (ඇවැත) සිහිපත් කරවා ඇවැත නැංවිය යුතු යි. ඇවැත නංවා ප්‍රතිබල වූ වියත් මහණකු විසින් සංඝතෙමේ දැන්විය යුතු යි:

9. "සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධි-පුබ්බස්ස එවරූපං පාපකං දිට්ඨිගතං උප්පන්නං, "තථාහං භගවතා ධම්මං දෙසිතං ආජානාමි: යථා යෙ'මෙ අන්තරායිකා ධම්මා වුත්තා භගවතා තෙ පටිසෙවතො නාලං අන්තරායායා"ති. සො තං දිට්ඨිං නප්පටි-නිස්සජ්ජති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය, අසම්භොගං සඞ්ඝෙන. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධි පුබ්බස්ස එවරූපං පාපකං දිට්ඨිගතං උප්පන්නං, "තථාහං භගවතා ධම්මං දෙසිතං ආජානාමි: යථා යෙ'මෙ අන්තරායිකා ධම්මා වුත්තා භගවතා තෙ පටිසෙවතො නාලං අන්තරායායා"ති. සො තං දිට්ඨිං නප්පටි-නිස්සජ්ජති. සඞ්ඝො අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරොති අසම්භොගං සඞ්ඝෙන. යස්සායස්මතො ඛමති අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස කරණං අසම්භොගං සඞ්ඝෙන, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස එවරූපං පාපකං දිට්ඨිගතං උප්පන්නං "තථාහං භගවතා ධම්මං දෙසිතං ආජානාමි: යථා යෙ'මෙ අන්තරායිකා ධම්මා වුත්තා භගවතා තෙ පටිසෙවතො නාලං අන්තරායායා"ති. සො තං දිට්ඨිං නප්පටිනිස්සජ්ජති. සඞ්ඝො අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙප-නීයකම්මං කරොති අසම්භොගං සඞ්ඝෙන. යස්සායස්මතො ඛමති අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙප-නීයස්ස කම්මස්ස කරණං අසම්භොගං සඞ්ඝෙන, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

කතං සඞ්ඝෙන අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අසම්භොගං සඞ්ඝෙන. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

10. ආවාසපරම්පරඤ්ච භික්ඛවෙ සංසථ, "අරිට්ඨො භික්ඛු ගද්ධබාධි-පුබ්බො සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො අසම්භොගං සඞ්ඝෙනා"ති.

9. "ස්වාමීනි, සංඝ තෙම මාගේ වචනය අසාවා. ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට "යම් මේ ධර්ම කෙතෙක් අන්තරායකරහ යි භාග්‍යවතුන් වහන්සේ විසින් යම් සේ වදරණ ලදනු ද, ඒ ධර්ම සෙවනය කරන්නහුට අන්තරාය පිණිස නො වෙත් යැ යි සිතිය හැකි සේ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසූ ධර්මයක් මම දනිමි" යි මෙබඳු ලාමක දෘෂ්ටියෙක් උපන්නේ වෙයි. හෙ තෙම ඒ දෘෂ්ටිය නො දුරලයි. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇත්තේ නම්, සංඝතෙම ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සංඝයා සමග ධර්මාමිෂ සම්භොග නැති, ලාමක දෘෂ්ටිය නොදුරලීමෙහි උක්ඛෙපනීයකර්මය කරන්නේ ය. මේ ඥප්තිය යි.

ස්වාමීනි, සංඝ තෙම මාගේ වචනය අසාවා. ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට "යම් මේ අන්තරායකර ධර්මයෝ භාග්‍යවතුන් වහන්සේ විසින් යම් සේ දෙසන ලදනු ද, ඒ ධර්ම සෙවනය කරන්නහුට අන්තරාය පිණිස නො වෙත් යැ යි සිතිය හැකි සේ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසූ ධර්මයක් මම දනිමි"යි මෙබඳු ලාමක දෘෂ්ටියෙක් උපන්නේ වෙයි. හෙ තෙම ඒ ලාමක දෘෂ්ටිය නො දුරලයි. සංඝතෙම ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සංඝයා සමග සම්භොග නැති ඒ ලාමක දෘෂ්ටිය නොදුරලීමෙහි උක්ඛෙපනීයකර්මය කරයි ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සඞ්ඝයා සමග සම්භොග නැති, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීයකර්මය කිරීම යම් ආයුෂ්මතකුට අභිමත නම්, හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට අනභිමත නම් හෙ තෙම කියාවා.

දෙවනුවත් මේ කාරණය කියමි... තෙවනුවත් මේ කාරණය කියමි. ස්වාමීනි, සඞ්ඝ තෙම මාගේ වචනය අසාවා. ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට "යම් මේ අන්තරායකර ධර්මයෝ භාග්‍යවතුන් වහන්සේ විසින් යම්සේ වදරණ ලදහු ද, ඒ ධර්ම සෙවනය කරන්නහුට අන්තරාය පිණිස නොවෙත් යැයි සිතිය හැකි සේ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසූ ධර්මයක් මම දනිමි"යි, මෙබඳු ලාමක දෘෂ්ටියෙක් උපන්නේ වෙයි. ඒ අරිට්ඨ භික්ෂු තෙම ඒ ලාමක දෘෂ්ටිය නො දුරලයි. සඞ්ඝ තෙම ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සඞ්ඝයා සමග සම්භොග නැති, ඒ ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරයි. ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සඞ්ඝයා සමග ධර්මාමිෂ සම්භොග නැති, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීයකර්මය කිරීම යම් ආයුෂ්මතකුට රුචි වේ නම්, හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට රුචි නොවේ නම් හෙ තෙම කියාවා.

සඞ්ඝයා විසින් ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සඞ්ඝයා සමග සම්භොග නැති, ලාමක දෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරණ ලදී. සංඝයාට එය අභිමත යි. එහෙයින් නිශ්ශබ්ද යි. මෙය මෙසේ පිළිගණිමි" යි.

10. මහණෙනි, ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුහට සංඝයා සමග සම්භොග නැති, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලද්දේ යැයි ආවාසයක් පාසා ද දන්වව්.

## අධම්මකම්මද්වාදසකං

1 තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අප්පටිපුච්ඡා කතං හොති, අප්පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අනාපත්තියා කතං හොති, අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, දෙසිතාය ආපත්තියා කතං හොති -පෙ-

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අචොදෙත්වා කතං හොති, අසාරෙත්වා කතං හොති, ආපත්තිං අනාරොපෙත්වා කතං හොති -පෙ-

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අසම්මුඛා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අප්පටිපුච්ඡා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අප්පටිඤ්ඤාය කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අනාපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අදෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- දෙසිතාය ආපත්තියා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අචොදෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

# අධර්මකර්ම දොළොස

1. මහණෙනි, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි කළ අඞ්ග තුණෙකින් යුත් උක්ඛෙපනීය කර්මය නො දැහැමි කර්මයෙක් ද වෙයි. අවිනය කර්මයෙක් ද නො සංසිඳුනෙක් ද වෙයි. නො හමුවෙහි කරණ ලද්දේ වේ ද, නො පිළිවිස කරණ ලද්දේ වේ ද, පිළිණ නොගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, ලාමක දෘෂ්ටිය නො දුරලීමේ කළ මේ අඞ්ග තුණින් යුතු උක්ඛෙපනීය කර්මය නොදැහැමි කර්මයෙක් ද වෙයි. අවිනය කර්මයෙක් ද වෙයි. නො සංසිඳුනෙක් ද වෙයි.

2. මහණෙනි, ලාමක දෘෂ්ටිය නොදුරලීමෙහි අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුක්ත උක්ඛෙපනීය කර්මය නොදැහැමි කර්මයෙක් ද වෙයි. අවිනය කර්මයෙක් ද වෙයි. නො සංසිඳුනෙක් ද වෙයි. නො ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, ඇවැත දෙසූ කල්හි කරණ ලද්දේ වේ ද...

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... චෝදනා නො කොට කරණ ලද ද, සිහිපත් නො කරවා කරණ ලද ද, ඇවැතට නොනංවා කරණ ලද ද...

4. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... නො හමුවෙහි කරණ ලද්දේ වේ ද, නො දැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

5. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... නො පිළිවිස කරණ ලද්දේ වේ ද නො දැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

6. මහණෙනි, අන්‍ය වූ අඞ්ග තුණෙකින්... පිළිණ නො ගෙණ කරණ ලද්දේ වේ ද, නො දැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා ඊසින් කරණ ලද්දේ වේ ද...

7. මහණෙනි, අන්‍ය වූ අඞ්ග තුණෙකින්... නොඇවැතෙහි කරණ ලද්දේ වේ ද, නොදැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි කරණ ලද්දේ වේ ද, නොදැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

9. මහණෙනි, අන්‍යවූ ද අඞ්ග තුණෙකින්... ඇවැත දෙසූ කල්හි කරණ ලද ද, නො දැහැමින් කරණ ලද ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසත් කරණ ලද ද...

10. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින්... චෝදනා නොකොට කරණ ලද්දේ වේ ද, නො දැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අසාරෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති -පෙ-

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ආපත්තිං අනාරොපෙත්වා කතං හොති, අධම්මෙන කතං හොති, වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච.

අධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.

## ධම්මකම්මද්වාදසකං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං ධම්මකම්මඤ්ච හොති විනයකම්මඤ්ච සුවූපසන්තං ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං ධම්මකම්මඤ්ච හොති විනයකම්මඤ්ච සුවූපසන්තඤ්ච.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං ධම්මකම්මඤ්ච හොති, විනයකම්මඤ්ච සුවූපසන්තං ච: ආපත්තියා කතං හොති, දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, අදෙසිතාය ආපත්තියා කතං හොති -පෙ-

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- චොදෙත්වා කතං හොති, සාරෙත්වා කතං හොති, ආපත්තිං ආරොපෙත්වා කතං හොති -පෙ-

4. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- සම්මුඛා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

5. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- පටිපුච්ඡා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

6. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- පටිඤ්ඤාය කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

7. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ආපත්තියා කතං හොති ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

11. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුතු... සිහිපත් නො කරවා කරණ ලද්දේ වේ ද, නොදැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද...

12. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුතු, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි කළ උක්ඛෙපනීය කර්මය නොදැහැමිකමෙක් ද වෙයි. අවිනය කමෙක් ද වෙයි. නොසංහිඳුනෙක් ද වෙයි. ඇවැත නො කංවා කරණ ලද්දේ වේ ද, නොදැහැමින් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුක්ත වූ ලාමක දෘෂ්ටිය නො දුර-ලීමෙහි කළ උක්ඛෙපනීය කර්මය නොදැහැමිකමෙක් ද වෙයි. අවිනය කමෙක් ද වෙයි. නො සංහිඳුනෙක් ද වෙයි.

අධම්මකම් දෙළොස නිමි.

## ධම්මකම් දෙළොස

1. මහණෙනි, අඞ්ග තුණෙකින් යුක්ත වූ ලාමක දෘෂ්ටිය නොදුරලීමෙහි කළ උක්ඛෙපනීය කර්මය දැහැමිකමෙක් ද වෙයි, විනයකමෙක් ද වෙයි, මනා ව සංහිඳුනෙක් ද වෙයි: හමුවෙහි කරණ ලද්දේ වේ ද, පිළිවිස කරණ ලද්දේ වේ ද, පිළිණගෙණ කරණ ලද්දේ වේ ද, මහණෙනි, මේ අඞ්ග තුණෙන් යුතු ලාමක දෘෂ්ටිය නොදුරලීමේ උක්ඛෙපනීය කර්මය දැහැමිකමෙක් ද වෙයි. විනයකමෙක් ද වෙයි. මනා ව සංහිඳුනෙක් ද වෙයි.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුතු ලාමක දෘෂ්ටිය නොදුරලීමේ උක්ඛෙපනීය කර්මය දැහැමිකමෙක් ද වෙයි, විනයකමෙක් ද මනා ව සංහිඳුනෙක් ද වෙයි: ඇවත ඇති කල්හි කරණ ලද ද, දෙසීමෙන් පරිසිදු වන ඇවැතෙහි කරණ ලද ද, ඇවැත නො දෙසූ කල්හි කරණ ලද ද...

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... චෝදනා කොට කරණ ලද ද, සිහිපත් කරවා කරණ ලද ද, ඇවැත නංවා කරණලද ද...

4. මහණෙනි, අන්‍යවූ ද අඞ්ග තුණෙකින් යුත්... හමුවෙහි කරණලද ද, දැහැමින් කරණලද ද සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද...

5. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... පිළිවිස කරණ ලද ද, දැහැමින් කරණ ලද ද සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද...

6. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... පිළිණ ගෙණ කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද,

7. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... ඇවැත ඇති කල්හි කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද,

8. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- දෙසනාගාමිනියා ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

9. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- අදෙසිතාය ආපත්තියා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

10. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- චොදෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

11. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- සාරෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති -පෙ-

12. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි -පෙ- ආපත්තිං ආරොපෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං ධම්මකම්මං ච හොති, විනයකම්මඤ්ච, සුවූපසන්තඤ්ච.

ධම්මකම්මද්වාදසකං නිට්ඨිතං.

## ආකඞ්ඛමානඡක්කං

1. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛ-මානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

2. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛ-මානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: අධිසීලෙ සීලවිපන්නො හොති, අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

3. අපරෙහිපි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛ-මානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: බුද්ධස්ස අවණ්ණං භාසති, ධම්මස්ස අවණ්ණං භාසති, සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නා-ගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො පාටිකාය දිට්ඨියා අප්පටි-නිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

8. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... දෙසීමෙන් පිරිසිදු වන ඇවැතෙහි කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමගි වූ සඞ්ඝයා විසින් කරණ ලද ද...

9. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... දෙසූ ඇවැතෙහි කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද...

10. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... චෝදනා කොට කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද...

11. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... සිහිපත් කරවා කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද....

12. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත්... ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි කළ උක්ඛෙපනීය කර්මය දැහැමිකමෙක් ද වෙයි. විනය කමෙක් ද වෙයි. මනා ව සංහිඳුනෙක් ද වෙයි. ඇවැත නංවා කරණ ලද ද, දැහැමින් කරණ ලද ද, සමග වූ සඞ්ඝයා විසින් කරණ ලද ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුත්, ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි කළ උක්ඛෙපනීය කර්මය දැහැමි කමෙක් ද වෙයි. විනය කමෙක් ද වෙයි. මනාව සංහිඳුනෙක් ද යෙයි.

දැහැමිකම් දොළොස නිමි.

## ආකඞ්ඛමාන ෂට්කය

1. මහණෙනි, අඞ්ග තුණෙකින් යුක්ත භික්ෂුහට සංඝ තෙම කැමැති වන්නේ නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය ඩබර කරන්නේ කලහ කරන්නේ විරුද්ධවාද ඇති කරන්නේ වාක්කලහ කරන්නේ සංඝයා මධ්‍යයෙහි අධිකරණ ඉදිරිපත් කරන්නේ වේ ද, අඥ වූයේ නොවියත් වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ කෙලවරක් නැති ඇවැත් ඇත්තේ වේ ද, ගිහියන් හා එකට ගැටුනේ අනුලෝම් නො වූ ගිහිසංසර්ගයෙන් යුක්ත වැ වසයි ද මහණෙනි, මේ අඞ්ග තුණින් යුතු මහණහට සංඝ තෙම කැමැති නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

2. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත් මහණහට සංඝ තෙම කැමැති නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරන්නේ ය: උත්තම ශීලයෙහි නටුවාවූ සිල් ඇත්තේ ද, උතුම් ආචාරයෙහි නටුවාවූ ආචාර ඇත්තේ ද, උතුම් සම්‍යග්දෘෂ්ටියෙහි විපත් දිටු ඇත්තේ ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුත් මහණහට සංඝ තෙම කැමැති නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

3. මහණෙනි, අන්‍ය වූ ද අඞ්ග තුණෙකින් යුත් මහණහට සංඝ තෙම කැමැති නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය: බුදුරුවන්හි අගුණ කියයි ද, දම්රුවන්හි අගුණ කියයි ද, සඟුරුවන්හි අගුණ කියයි ද, මහණෙනි, මේ අඞ්ග තුණින් යුත් මහණහට සංඝ තෙම කැමැති නම් ලාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

4. තීහඞ්ගෙහි භික්ඛවෙ භික්ඛුනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: එකො භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, එකො බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො, එකො ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

5. අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: එකො අධිසීලෙ සීලවිපන්නො හොති, එකො අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, එකො අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

6. අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය: එකො බුද්ධස්ස අවණ්ණං භාසති, එකො ධම්මස්ස අවණ්ණං භාසති, එකො සඞ්ඝස්ස අවණ්ණං භාසති. ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කරෙය්‍ය.

පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මෙ
ආකඞ්ඛමානඡක්කං නිට්ඨිතං.

## තෙචත්තාළීසවත්තං

1. පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මා වත්තනා: න උපසම්පාදෙතබ්බං, න නිස්සයො දාතබ්බො, න සාමණෙරො උපට්ඨාපෙතබ්බො, න භික්ඛුනොවාදකසම්මුති සාදිතබ්බා, සම්මතෙනාපි භික්ඛුනියො න ඔවදිතබ්බා, යාය ආපත්තියා සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කතං හොති සා ආපත්ති න ආපජ්ජිතබ්බා, අඤ්ඤා වා තාදිසිකා, තතො වා පාපිට්ඨතරා, කම්මං න ගරහිතබ්බං, කම්මිකා න ගරහිතබ්බා, -පෙ- න පකතත්තස්ස භික්ඛුනො උපොසථො ඨපෙතබ්බො, න පවාරණා ඨපෙතබ්බා, න සවචනීයං කාතබ්බං, න අනුවාදො පට්ඨපෙතබ්බො, න ඔකාසො කාරෙතබ්බො, න චොදෙතබ්බො, න සාරෙතබ්බො, න භික්ඛූහි සම්පයොජෙතබ්බන්ති.

පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මෙ
තෙචත්තාළීසවත්තං නිට්ඨිතං.

4. මහණෙනි, භික්ෂූන් තිදෙනකුන්හට සංඝතෙම කැමැති නම් පාපදෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේය: එක් මහණෙක් ඔබර කරන්නේ කලහ කරන්නේ විරුද්ධවාද ඇයිකරන්නේ වාක්කලහ කරන්නේ සංඝයා හමුවේ අධිකරණ කරන්නේ වේ ද, එක් මහණෙක් බාල වූයේ නො වියත් වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ සීමාරහිත ඇවැත් ඇත්තේ වේ ද, එක් මහණෙක් ගිහියන් හා එකට ගැටුනේ අනුලොම නොවූ ගිහිසංසර්ගයෙන් යුක්ත වූයේ වෙසෙයි ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝතෙම කැමැති නම් පාපදෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

5. මහණෙනි, අන්‍ය වූ ද භික්ෂූන් තිදෙනකුන්හට සංඝ තෙම කැමැති නම් පාපදෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරන්නේ ය: එක් මහණෙක් උත්තමශීලයෙහි විපත් සිල් ඇත්තේ ද, උත්තමාචාරයෙහි නටුවා වූ ආචාර ඇත්තේ ද, එක් මහණෙක් උතුම් දෘෂ්ටියෙහි නටුවා වූ දිටු ඇත්තේ වේ ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙම කැමැති නම් පාපදෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

6. මහණෙනි, අන්‍ය වූ ද භික්ෂූන් තිදෙනකුන්හට සංඝ තෙම කැමැති නම් පාපදෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මය කරන්නේ ය: එක් මහණෙක් බුදුරුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් දම්රුවන්හි අගුණ කියයි ද, එක් මහණෙක් සඟුරුවන්හි අගුණ කියයි ද, මහණෙනි, මේ භික්ෂූන් තිදෙනාට සංඝ තෙම කැමැති නම්, පාපදෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරන්නේ ය.

පාමක දෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මයෙහි ආකඞ්ඛමාන ෂට්කය නිමි.

## තෙසාළිස්වත

1. මහණෙනි, පාපදෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණු ලැබූ මහණ විසින් මැනැවින් පැවැතිය යුතුයි. එහි මේ මනා ව පැවැත්ම යි: (තමා උපාධ්‍යාය ව) උපසම්පදා නො කළ යුතු යි. නිශ්‍ර නො දිය යුතු යි. සාමණේරයකු ලවා උවටැන් නො කරවා ගත යුතු යි. මෙහෙණිනට ඔවා දීමේ සම්මතිය නො ඉවසිය යුතු යි. සම්මතිය ලදුයේත් මෙහෙණිනට ඔවා නො දිය යුතු යි. යම් ඇවැතකින් සංඝයා විසින් පාමක දෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලද ද ඒ ඇවැතට නො පැමිණිය යුතු යි. එබඳු අන් ඇවැතකට හෝ නො පැමිණිය යුතු යි. එයට වැඩි පාමක ඇවැතකට හෝ නො පැමිණිය යුතු යි. කර්මය නො ගැරහිය යුතු යි. කර්මය කළවුනට නො ගැරහිය යුතු යි.... පුවතත් මහණහුගේ පොහොය නැකීම නො කළ යුතු යි. පවාරණය නො නැඹිය යුතු යි. සවචනීය කම් නො කළ යුතු යි. විහාරයෙහි අධිපතිබව්හි නො සිටිය යුතු යි. අවසර ගැණීම නො කරවිය යුතු යි. චොදනා නො කළ යුතු යි. ඇවැත් සිහිපත් කරවීම නො කළ යුතු යි. භික්ෂූන් ඔවුනොවුන් කලහයට නො ශෙදවිය යුතු යි.

පාපදෘෂ්ටිය නො දුරලීමේ උක්ඛෙපනීය කර්මයෙහි තෙසාළිස් වත නිමි.

1. අථ ඛො සඞ්ඝො අරිට්ඨස්ස භික්ඛුනො ගද්ධබාධිපුබ්බස්ස පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං අකාසි අසම්භොගං සඞ්ඝෙන. සො සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො විබ්භමි.

2. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම අරිට්ඨො භික්ඛු ගද්ධබාධිපුබ්බො සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො විබ්භමිස්සතී"ති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං.

3. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි: "සච්චං කිර භික්ඛවෙ අරිට්ඨො භික්ඛු ගද්ධබාධිපුබ්බො සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො විබ්භමී"ති. "සච්චං භගවා".

4. විගරහි බුද්ධො භගවා: අනනුච්ඡවිකං -පෙ- කථං හි නාම සො භික්ඛවෙ මොඝපුරිසො සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො විබ්භමිස්සති. නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: "තෙන හි භික්ඛවෙ සඞ්ඝො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතු".

5. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: උපසම්පාදෙති, නිස්සයං දෙති, සාමණෙරං උපට්ඨාපෙති, භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතො'පි භික්ඛුනියො ඔවදති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

1. ඉක්බිති සංඝ තෙම පෙර ගිජුලිහිණියන් මැරූ කුලයෙහි උපන් අරිට්ඨ භික්ෂුහට පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි සංඝයා සමග සම්භොග නැති උක්ඛෙපනීය කර්මය කළේ ය. ඒ අරිට්ඨ භික්ෂු තෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණු ලැබුයේ සිවුරු හැර ගියේ ය.

2. අපිස්සතොස් ගුණ ඇති, පවට පිළිකුල් කරන, හික්මෙනු කැමැති යම් ඒ භික්ෂූහු වෙත් ද, ඔහු "ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂුතෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණු ලද්දේ කෙසේ නම් සිවුරු හැර ගියේ දැ යි" අවඥා කෙරෙත්. දොස් කියත්. නුගුණ පතුරුවත්. ඉක්බිති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මේ කාරණය සැලකළහ.

3. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ කාරණයෙහි භික්ෂු සංඝයා රැස් කරවා, "මහණෙනි, ගද්ධබාධිපුබ්බ අරිට්ඨ භික්ෂු තෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණු ලැබුයේ සිවුරු හැර ගියේ ය යනු සැබෑ දැ"යි විචාළ සේක. "භාග්‍යවතුන් වහන්ස, සැබෑ යැ" යි (භික්ෂූහු පිළිතුරු දුන්හ.)

4. "මහණෙනි, නුසුදුස්සෙක... කෙසේ නම් ඒ හිස් පුරුෂ තෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙ උක්ඛෙපනීය කර්මය කරණු ලද්දේ සිවුරු හැර ගියේ ද" මහණෙනි, මෙය නොපහන් වූවන්ගේ පැහැදීම පිණිස ... නො වේ යැ යි භාග්‍යවත් බුදුරජානන් වහන්සේ වෙසෙසින් ගැරහූ සේක. ගරහා දැහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක: "මහණෙනි, එසේ නම් සංඝ තෙම පාපදෘෂ්ටිය නො බැහැරලීමෙ උක්ඛෙපනීය කර්මය සංහිඳුවාවා.

5. මහණෙනි, අඞ්ග පසෙකින් යුක්ත භික්ෂූහුගේ පාපදෘෂ්ටිය නො දුරලීමෙහි උක්ඛෙපනීය කර්මය නො සංහිඳුවිය යුතු යි. උපසම්පදා කරයි ද, නිසය දෙයි ද, හෙරණකු ලවා උවටන් කරවා ගණී ද, මෙහෙණිනට ඔවා දීමේ සම්මතිය ඉවසයි ද, සම්මතිය ලදුවත් මෙහෙණිනට ඔවා දෙයි ද, මහණෙනි, මේ පසගින් යුතු මහණහට පාපදෘෂ්ටිය නො බැහැරලීමෙ උක්ඛෙපනීය කර්මය නො සංහිඳුවිය යුතු යි.

6. අපරෙහි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කතං හොති තං ආපත්තිං ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං ගරහති, කම්මිකෙ ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

7. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං: පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, පවාරණං ඨපෙති, සවචනීයං කරොති, අනුවාදං පට්ඨපෙති, ඔකාසං කාරෙති, චොදෙති, සාරෙති, භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං න පටිප්පස්සම්භෙතබ්බං.

**පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මෙ නප්පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.**

## පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං

1. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න උපසම්පාදෙති, න නිස්සයං දෙති, න සාමණෙරං උපට්ඨාපෙති, න භික්ඛුනොවාදකසම්මුතිං සාදියති, සම්මතොපි භික්ඛුනියො න ඔවදති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

2 අපරෙහිපි භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: යාය ආපත්තියා සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං කතං හොති තං ආපත්තිං න ආපජ්ජති, අඤ්ඤං වා තාදිසිකං, තතො වා පාපිට්ඨතරං, කම්මං න ගරහති, කම්මිකෙ න ගරහති. ඉමෙහි ඛො භික්ඛවෙ පඤ්චහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

3. අට්ඨහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං: න පකතත්තස්ස භික්ඛුනො උපොසථං ඨපෙති, න පවාරණං ඨපෙති, න සවචනීයං කරොති, න අනුවාදං පට්ඨපෙති, න ඔකාසං කාරෙති, න චොදෙති, න සාරෙති, න භික්ඛූහි සම්පයොජෙති. ඉමෙහි ඛො භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙතබ්බං.

**පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මෙ පටිප්පස්සම්භෙතබ්බඅට්ඨාරසකං නිට්ඨිතං.**

6. මහණෙනි, අනෙකුදු අඞ්ග පසෙකින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය නො සංහිඳුවිය යුතු යි. යම් ඇවැතෙකින් සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලද නම් ඒ ඇවැතට පැමිණෙයි ද, එබදු අන් ඇවැතකට හෝ පැමිණෙයි ද, එයටත් වඩා ලාමක ඇවැතකට හෝ පැමිණෙයි ද, කර්මයට ගරහයි ද, කර්මය කළවුනට ගරහයි ද, මහණෙනි, මේ අඞ්ග පසින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය නො නැවැත්විය යුතු යි.

7. මහණෙනි, අඞ්ග අටෙකින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය නො සංහිඳුවිය යුතු යි. පුවතත් මහණහුගේ පොහොය තබයි ද, පවාරණය තබයි ද, සවචනීය කම් කරයි ද, විහාරයෙහි අධිපති බවීහි සිටියි ද, අවසර ගැණීම කරවයි ද, චොදනා කරයි ද, ඇවැත් සිහිපත් කරවයි ද, භික්ෂූන් ඔවුනොවුන් කලහ පිණිස යොදවයි ද, මහණෙනි, මේ පසගින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමේ උක්ඛෙපනීය කර්මය නො සංහිඳුවිය යුතු යි.

**පාපදෘෂ්ටිය නොබැහැරලීමේ උක්ඛෙපනීය කර්මයෙහි**
**නො සංහිඳුවිය යුතු අංග අටොළොස නිමි**

## සංහිඳුවියයුතු අංග අටොළොස

1. මහණෙනි, අඞ්ග පසෙකින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි: උපසම්පදා නො කරයි ද, නිස නො දෙයි ද, මහණකු උවටනෙහි නො යොදයි ද, මෙහෙණිනට ඔවා දීමේ සම්මුතිය නො ඉවසයි ද, සම්මුතිය ලදුයේත් මෙහෙණිනට ඔවා නො දෙයි ද, මහණෙනි, මේ පසගින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි.

2. මහණෙනි, අනෙකුදු අඞ්ග පසෙකින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි: යම් ඇවැතෙකින් සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලද්දේ නම් ඒ ඇවැතට නො පැමිණෙයි ද, එවැනි අන් ඇවැතකට හෝ නො පැමිණෙයි ද, එයටත් වඩා ලාමක ඇවැතකට හෝ නො පැමිණෙයි ද, කර්මයට නො ගරහයි ද, කර්මය කළවුනට නො ගරහයි ද, මහණෙනි, මේ පසගින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි.

3. මහණෙනි, අඞ්ග අටෙකින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි. පුවතත් මහණක්හුගේ පොහොය නො තබයි ද, පවාරණය නො තබයි ද, සවචනීය කම් නො කරයි ද, විහාරයේ අධිපති බවීහි නො සිටියි ද, අවසර ගැන්වීම නො කරයි ද, චොදනා නො කරයි ද, ඇවැත් සිහිපත් නො කරවයි ද, භික්ෂූන් ඔවුනොවුන් කලහයට නො යොදයි ද, මහණෙනි, මේ අඞ්ග අටින් යුත් මහණහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය සංහිඳුවිය යුතු යි.

## පටිප්පස්සම්භනං

1. එවඤ්ච පන භික්ඛවෙ පටිප්පස්සම්භෙතබ්බං: තෙන භික්ඛවෙ පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතෙන භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා බුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො:

"අහං භන්තෙ සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො සම්මා වත්තාමි, ලොමං පාතෙමි, නෙත්ථාරං වත්තාමි. පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචාමී"ති. දුතියම්පි යාචිතබ්බා. තතියම්පි යාචිතබ්බා.

ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති. පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති. පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි:

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝෙන පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මකතො සම්මා වත්තති, ලොමං පාතෙති, නෙත්ථාරං වත්තති. පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධිං යාචති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං පටිප්පස්සම්භෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයස්ස කම්මස්ස පටිප්පස්සද්ධි, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

පටිප්පස්සද්ධං සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

**පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛෙපනීයකම්මං නිට්ඨිතං සත්තමං.**

**කම්මක්ඛන්ධකො නිට්ඨිතො පඨමො.**

## සංහිඳුවීම

1. මහණෙනි, පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය මෙසේ සංහිඳුවිය යුතු යි: මහණෙනි, පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය කරණු ලැබූ ඒ මහණ විසින් සංඝයා වෙත එළඹ පොරෝණය එකාංශ කොට වැඩිමහලු භික්ෂූන් පා වැඳ උක්කුටුකයෙන් හිඳ දෙඅත් මුදුන තබා වැඳ මෙසේ කිය යුතු යි:

“වහන්ස, මම සඞ්ඝයා විසින් පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙ-පනීය කර්මය කරණු ලැබුයෙමි. මනා ව පවතිමි. භික්ෂූන් අනුව පවතිමි. නිස්තරණ වතෙහි පවතිමි. පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යදිමි” යනුයි. දෙවනුත් යැදිය යුතුයි. තෙවනුත් යැදිය යුතු යි.

වියත් ප්‍රතිබල මහණක්හු විසින් සඞ්ඝ තෙම දැන්විය යුතු යි:

“වහන්ස, සංඝ තෙම මාගේ වචනය අසාවා. මේ නම් ඇති මේ භික්ෂු තෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලද්දේ මැනැවින් පවතියි. භික්ෂූන් අනුව පවතියි. නිස්තරණ වතෙහි පවතියි. පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යදියි. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ නම් සංඝ තෙම මේ නම් ඇති භික්ෂුහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය සංහිඳුවන්නේ ය. මෙ ඥප්තිය යි.

වහන්ස, සංඝ තෙම මාගේ වචනය අසාවා. මේ නම් ඇති මේ භික්ෂු තෙම සඞ්ඝයා විසින් පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය කරණ ලැබුයේ මැනැවින් පවතියි. භික්ෂූන් අනුව පවතියි. අවොලොප් නිස්තරණ වතෙහි පවතියි. පාපදෘෂ්ටිය නොබැහැරලීමේ උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යදියි. සංඝ තෙම මේ නම් ඇති භික්ෂුහුගේ පාප දෘෂ්ටිය නොබැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවයි. මේ නම් ඇති භික්ෂුහුගේ පාපදෘෂ්ටිය නොහැරීමේ උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යම් ආයුෂ්මතකුට අභිමත නම්, හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට අනභිමත නම් හෙ තෙම කියාවා.

දෙවනුත් මේ කාරණය කියමි... තෙවනුත් මේ කාරණය කියමි.

වහන්ස, සංඝ තෙම මාගේ වචනය අසාවා. මේ නම් ඇති මේ භික්ෂු තෙම සංඝයා විසින් පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය කරණ ලද්දේ මැනැවින් පවතියි. භික්ෂූන් අනුව පවතියි. අවලොප් නිස්තරණ වතෙහි පවතියි. පාපදෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යදියි. සංඝ තෙම මේ නම් ඇති භික්ෂුහුගේ පාප-දෘෂ්ටිය නො බැහැරලීමේ උක්ඛෙපනීය කර්මය සංහිඳුවයි. මේ නම් භික්ෂුහුගේ පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මයාගේ සංහිඳුවීම යම් ආයුෂ්මතකුහට අභිමත නම් හෙ තෙම නිශ්ශබ්ද වේවා. යමකුට අනභිමත නම් හෙ තෙම කියාවා.

සංඝයා විසින් මේ නම් භික්ෂුහුගේ පාපදෘෂ්ටිය නොහැරීමෙහි උක්ඛෙපනීය කර්මය සංහිඳුවන ලදී. එය සංඝයාට රිසියෙයි. එහෙයින් මෙසේ නිහඬ ය. මේ කාරණය පිළිගණිමි” යි.

**සත්වැනි වූ පාපදෘෂ්ටිය නොබැහැරලීමෙහි උක්ඛෙපනීය කර්මය නිමි**

**පළමු වන කර්මස්කන්ධකය නිමියේ ය.**

# ඉමම්හි ඛන්ධකෙ වත්ථූ සත්ත.

තස්සුද්දානං:

1. පණ්ඩුලොහිතකා භික්ඛූ සයං භණ්ඩනකාරකා
   තාදිසෙ උපසඞ්කම්ම උස්සහිංසු ච භණ්ඩනෙ.

2. අනුප්පන්නානි ජායන්ති උප්පන්නානි ච වඩ්ඪරෙ
   අප්පිච්ඡා පෙසලා භික්ඛූ උජ්ඣායන්ති පරිසතො[1].

3. සද්ධම්මට්ඨිතිකො බුද්ධො සයම්භූ අග්ගපුග්ගලො
   ආණාපෙසි තජ්ජනීයකම්මං සාවත්ථියං ජිනො.

4. අසම්මුඛා පටිපුච්ඡා පටිඤ්ඤාය කතං ච යං
   අනාපත්ති අදෙසනෙ දෙසිතාය කතං ච යං.

5. අචොදෙත්වා අසාරෙත්වා නාරොපෙත්වා ච යං කතං
   අසම්මුඛා අධම්මෙන වග්ගෙන චාපි යං කතං.

6. අප්පටිපුච්ඡා'ධම්මෙන පුන වග්ගෙන යං කතං
   අප්පටිඤ්ඤායාධම්මෙන වග්ගෙන චාපි යං කතං.

7. අනාපත්ති අධම්මෙන වග්ගෙන චාපි යං කතං
   අදෙසනාගාමිනියං අධම්මවග්ගමෙව ච.

8. දෙසිතාය අධම්මෙන වග්ගෙනාපි තථෙව ච
   අචොදෙත්වා අධම්මෙන වග්ගෙනාපි තථෙව ච.

9. අසාරෙත්වා අධම්මෙන වග්ගෙනාපි තථෙව ච
   ආරොපෙත්වා අධම්මෙන වග්ගෙනාපි තථෙව ච.

10. කණ්හවාරනයෙනෙව සුක්කවාරං විජානියා[2]
    සඞ්ඝො ආකඞ්ඛමානො ච තස්ස තජ්ජනීයං කරෙ.

11. භණ්ඩනං බාලො සංසට්ඨො අධිසීලෙ අජ්ඣාචාරෙ
    අතිදිට්ඨිවිපන්නො'ස්ස සඞ්ඝො තජ්ජනීයං කරෙ.

---

1. පදුස්සතො. මජසං. පරිස්සතො. සිමු. පදුස්සතො. PTS.
2. සුක්කවාරම්පි ජානියා. PTS.

## මේ ඛන්ධකයෙහි වස්තු සතෙකි.

**එහි උද්දානය:**

1. පණ්ඩුකලෝහිතක මහණුහු තුමූ කලහ කරන්නෝ ම එබඳුවන් වෙත එළඹ ඔවුනුදු කලහයෙහි උත්සාහවත් කළහ.

2. එයින් නොඋපන් කලහ උපදී. උපන් කලහ වැඩේ. අල්පෙච්ඡ වූ ප්‍රියශීල භික්ෂූහු පිරිස් වශයෙන් (පිරිස් පිරිස් වැ) දෙස් පවසත්.

3. ලොවට අගපුද්ගල් වූ, තමන් ම සියල්ල දත්, සදහම් බොහෝ කල් පවත්නා කැමැති සම්බුදුරජුන් සැවැත් නුවරදී තජ්ජනීය කර්මය අණැවූහ.

4. නොහමුයෙහි ද නොපිළිවිස ද, පිළිණ නොගෙණ ද යම් කර්මයෙක් කරණ ලද ද, නො ඇවැතෙහි ද දෙසනාගාමිනී නොවූ ඇවැතෙහි ද දෙසූ ඇවැතෙහි ද යම් කර්මයෙක් කරණ ලද ද,

5. චොදනා නොකොට ද සිහිපත් නොකරවා ද ඇවැත නොනංවා ද යමක් කරණ ලද ද, නොහමුයෙහි ද නොදහමින් ද ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයක් කරණ ලද ද,

6. නොපිළිවිස ද අධර්මයෙන් ද නැවැත ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයක් කරණ ලද ද, පිළිණ නොගෙණ ද අධර්මයෙන් ද ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයක් කරණ ලද ද,

7. නො ඇවැතෙහි ද අධර්මයෙන් ද ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයෙක් කරණ ලද ද, දෙසීමෙන් පිරිසිදු නොවන ඇවැතෙහි ද අධර්ම-යෙන් ද ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයෙක් කරණ ලද ද,

8. ඇවැත දෙසූ කල්හි ද අධර්මයෙන් ද එසේ ම ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයෙක් කරණ ලද ද, චොදනා නොකොට ද අධර්මයෙන් ද එසේ ම ව්‍යග්‍ර වූ සංඝයා විසින් ද යම් කර්මයක් කරණ ලද ද,

9. සිහිපත් නො කරවා ද අධර්මයෙන් ද එසේ ම ව්‍යග්‍ර වූ සඟන විසින් ද යම් කර්මයෙක් කරණ ලද ද, එසේ ම ඇවැත නොනංවා ද අධර්මයෙන් ද ව්‍යග්‍ර වූ සංඝයා විසින් ද යම් කර්මයක් කරණ ලද ද, ඒ හැම අධර්මකර්ම යි.

10. කෘෂ්ණපක්ෂයේ වාර ක්‍රමයෙන් ශුක්ලපක්ෂයේ වංරගණන ද දත ගන්නේය. සංඝ තෙම කැමැති වන්නේ ද, ඔහුට තර්ජනීය කර්මය කරන්නේ ය.

11. ඩබර කරන්නේ ද බාලයෙක් වේ ද ගිහිසංසර්ගයෙන් යුක්ත ද, උත්තම ශීලයෙහින් උතුම් ආචාරයෙහින් උතුම් දෘෂ්ටියෙහින් නටුවා වූ ශීලාදිය ඇත්තේ ද සංඝ තෙම ඔහුට තර්ජනීය කර්මය කරන්නේ ය.

12. බුද්ධධම්මස්ස සඞ්ඝස්ස අවණ්ණං යො ච භාසති
තිණ්ණන්නම්පි ච නිකුබ්බතං සඞ්ඝො තජ්ජනීයං කරෙ.

13. භණ්ඩනකාරකො එකො බාලො සංසග්ගනිස්සිතො
අධිසීලෙ අජ්ඣාචාරෙ තථෙව අතිදිට්ඨියා.

14. බුද්ධධම්මස්ස සඞ්ඝස්ස අවණ්ණං යො ච භාසති
තජ්ජනීයකම්මකතස්සෙවං සම්මානුවත්තනා.

15. උපසම්පදනිස්සයා සාමණෙරඋපට්ඨනා
ඔවාදං සම්මතොචාපි න කරෙ තජ්ජනීකතො.

61. නාපජ්ජෙ තං ච ආපත්තිං තාදිසං ච තතො පරං
කම්මං ච කම්මිකෙ චාපි ගරහෙ න තථාවිධො.

17. උපොසථං පවාරණං පකතත්තස්ස නට්ඨපෙ
සවචනීං අනුවාදෙ ඔකාසො චොදනෙන ච.

18. සාරණං සම්පයොගඤ්ච න කරෙය්‍ය තථාවිධො
උපසම්පදනිස්සයං සාමණෙරඋපට්ඨනං.

19. ඔවාදසම්මතෙනාපි පංචධෙහි න සම්මති
තං චාපජ්ජති ආපත්තිං තාදිසිං ච තතො පරං.

20. කම්මං ච කම්මිකෙ චාපි ගරහෙනතා න සම්මයි.
උපොසථං පවාරණං සවචනීයං අනුවාදෙ.

21. ඔකාසො චොදනා චෙව සාරණං සම්පයොජනා.
ඉමෙහට්ඨඞ්ගෙහි යො යුත්තො තජ්ජනා නුපසම්මති.

22. කණ්හවාරනයෙනෙව සුක්කවාරං විජානියා.
බාලො ආපත්තිබහුලො සංසට්ඨො'පි ච සෙය්‍යසො.

12. යමෙක් බුදුරජුන් අගුණ කියාද යමෙක් දහමෙහි අගුණ කියා ද යමෙක් සංඝයාගේ අගුණ කියාද ඒ තුන් මහණුනට ම සඟ තෙමේ තජ්ජනීය කම්ය කරන්නේය.

13. එකෙක් කලහකරු වේ ද, එකෙක් නොවියත් වේ ද, එකෙක් ගිහියසගින් යුත් වේ ද, මේ තුන් දෙනාට ම සඟ තෙමේ තජ්ජනීය කම්ය කරන්නේය. එකෙක් අධිශීලයෙහිත් අනෙකෙක් අධ්‍යාචාරයෙහි එසේ ම අනෙකෙක් අතිදෘෂ්ටියෙහිත් විපන්න වේ ද, (මේ තිදෙනාටම සඟ තෙමේ තජ්ජනීයකම්ය කරන්නේ ය.)

14. යමෙක් බුදුරජුන්ගේ අගුණ කියා ද, ධර්මයේ අගුණකියා ද, සංඝයාගේ අගුණ කියා ද, සඟ තෙමේ ඔවුන් තිදෙනාට ම තජ්ජනීය කම්ය කරන්නේ ය. තජ්ජනීය කම්ය කරණ ලැබූවහුගේ මෙසේ (මතු දක්වෙන සේ) මනා පැවැත්ම විය යුතු:

15. තජ්ජනීයකම්ය කරණ ලැබූ මහණ තෙම තමා උපාධ්‍යාය ව උප-සම්පදාව ද, තමා ඇදුරු වැ නිස දීම ද, හෙරණකුගෙන් උවටන ගැන්ම ද, සම්මත වූ නුමුදු මෙහෙණිනට ඔවා දීම ද. නො කරන්නේ ය.

16. ඒ ඇවැතට ද එබඳු ඇවැතකට ද එයට වඩා පවිටු ඇවැතකට ද නො පැමිණිය යුතු. එවැනි මහණ තෙම කම්යට ද කම්ය කළවුනට ද නො ගරහන්නේ ය.

17. හේ පුවතත් මහණක්හුගේ පොහෝ තිරීම ද පවාරණාව ද නො තබන්නේ ය. සවචනීය කම්ය ද නො කරන්නේ ය. අනුවාදය නො පිහිටුවන්නේ ය. පුවතත් මහණකුට චොදනා කරණ පිණිස අවකාශ නො කරවන්නේ ය. චොදනා නො කරන්නේ ය.

18. පුවතත් මහණකුට ඇවැත් සිහි කරවීම ද, මහණුන් උහුන් හා කලහයෙහි යෙදීම ද, තමා උපාධ්‍යාය වැ උපසම්පදාව ද, ආචාර්‍ය ව නිස-දීම ද, හෙරණකුගෙන් උවටන් ගැන්ම ද නො කරන්නේ ය.

19. අවවාදකසම්මතිය ලද්දහු විසිනුදු මෙහෙණිනට අවවාද නො කරන්නේ ය. ඉදින් මේ පස කරන්නේ නම්, මේ අඞ්ග පස කරණ කොට ගෙන තජ්ජනීය කම්ය නො සංහිඳේ. ඒ ඇවැතට පැමිණේ ද, එබඳු ඇවැතකට පැමිණේ ද, එයට වඩා පවිටු ඇවැතකට පැමිණේ ද,

20. කම්යටත් කම්ය කළවුනටත් ගරහන්නේ ද, ඔහුට කළ තජ්ජනීය කම්ය නො සංහිඳේ. උපොසථය ද පවාරණාව ද සවචනීය කම් ද අනු-වාදපට්ඨපනය ද,

21. අවකාශ කරවීම ද, චොදනා ද, ඇවැත් සිහි කරවීම ද, මහණුන් කලහයෙහි යෙදවීම ද යන මේ අඞ්ග අටින් යමෙක් යුක්ත ද, ඔහුට කළ තජ්ජනීය කම්ය නො සංහිඳෙයි.

22. කෘෂ්ණවාරයට කී නයින් ම ශුක්ලවාරය ද දත ගත්තේ ය. සෙය්‍යසක මහණ තෙම අව්‍යක්ත ද, ඇවැත් බහුල කොට ඇත්තේ ද, ගිහින් හා අනනුලොමික සංසර්ගයෙන් හැසුනේ ද වෙයි.

23. නියස්සකම්මං සම්බුද්ධො ආණාපෙසි මහාමුනි.
කීටාගිරිස්මිං ද්වෙ භික්ඛූ අස්සජි ච පුනබ්බසු.

24. අනාචාරං ච විවිධං ආචරිංසු අසඤ්ඤතා
පබ්බාජනීයං සම්බුද්ධො කම්මං සාවත්ථියං ජිනො
මච්ඡිකාසණ්ඩෙ සුධම්මො චිත්තස්සාවාසිකො අහු.

25. ජාතිවාදෙන ඛුංසෙති සුධම්මො චිත්තුපාසකං
පටිසාරණීයං කම්මං ආණාපෙසි තථාගතො.

26. කොසම්බියං ඡන්නං භික්ඛුං නිච්ඡන්තාපත්තිං පස්සිතුං
අදස්සනෙ උක්ඛිපිතුං ආණාපෙසි ජිනුත්තමො.

27. ඡන්නො තංයෙව ආපත්තිං පටිකාතුං න ඉච්ඡති
උක්ඛෙපනාප්පටිකම්මෙ ආණාපෙසි විනායකො.

28. පාපදිට්ඨි අරිට්ඨස්ස ආසි අඤ්ඤාණනිස්සිතා
දිට්ඨියාප්පටිනිස්සග්ගෙ උක්ඛෙපං ජිනභාසිතං.

29. නියස්සකම්මං පබ්බාජං තථෙව පටිසාරණී
අදස්සනාප්පටිකම්මෙ අනිස්සග්ගෙ ච දිට්ඨියා.

30 දවානාචාරූපඝාතමිච්ඡාආජීවමෙව ච
පබ්බාජනීයකම්මම්හි අතිරෙකපදා ඉමෙ.

31. අලාභාවණ්ණා ද්වෙ පංච ද්වෙ පංචකාති නාමකා
පටිසාරණීයකම්මම්හි අතිරෙකපදා ඉමෙ.

32. තජ්ජනීයං නියස්සං ච ද්වෙ කම්මාපි සාදිසා
පබ්බාජං පටිසාරීනං අත්ථි පදාතිරිත්තතා.

33. තයො උක්ඛෙපනා කම්මා සාදිසා තෙ විභත්තිතො
තජ්ජනීයනයෙනාපි සෙසං කම්මං විජානියා'ති.

කම්මක්ඛන්ධකො නිට්ඨිතො.

23. මහාමුනි වූ සම්බුදුහු නියස්සකම්ය අණවූහ. අස්සජි ද පුනබ්බසු ද යන දෙමහණහු කීටාගිරියෙහි වෙසෙති.

24. සංයම නැති මහණහු විවිධ අනාචාර කළහ. බුදුරජුහු ඔවුන් සඳහා සැවැත්හිදී පබ්බාජනීය කම්ය පැණවූහ. සුධම් ස්ථවිර තෙම මච්ඡිකාසණ්ඩ නුවරෙහි චිත්‍ර ගෘහපතියාගේ ආවාසයෙහි වසන්නේ විය.

25. ඒ සුදම් තෙර චිත්‍ර උපාසකහට ජාතිවාදයෙන් ගටා බෙණෙයි. තථාගත බුදුහු ඒ කරුණෙහි පටිසාරණීය කම්ය පැණවූහ.

26. ඡන්නොත්තම බුදුරජුහු කොසඹෑහිදී ඇවැත දක්නට නො කැමැති ඡන්න මහණහට ඇවැත් නොදැක්මෙහි උක්ඛෙපණීය කම්ය කරන්නට අණවූහ

27. ඡන්න තෙමේ ඒ ඇවැතට පිළියම් කරන්නට නො කැමැත්තේ වෙයි. විනෙතෘ වූ බුදුරජුහු ඇවැතට පිළියම් නොකිරීමෙහි උක්ඛෙපනීය කම් අණවූහ.

28. අරිට්ඨ මහණහට නොදැක්ම නිසා උපන් පාපදෘෂ්ටිය නො බැහැර ලීමෙහි උක්ඛෙපණීය කම්ය බුදුරජුන් විසින් වදරණ ලද්දේ ය.

29. නියස්ස කම්යත් පබ්බාජනීය කම්යත්, එසේ ම පටිසාරණීය කම්යත්, ඇවැත නොදැක්ම, ඇවැතට පිළියම් නොකිරීම, පාපදෘෂ්ටිය බැහැර නො කිරීම යන මෙහි (උක්ඛෙපනීය) කම්යත් (බුදුරජුහු අණවූහ )

30. ක්‍රීඩා අනාචාර උපඝාත මිථ්‍යාආජීව යන මොහු පටිසාරණීය කම්යෙහි අතිරේක පදයෝ යැ.

31. ගිහිනට අලාභ පිණිස නැත් කිරීම පිළිබඳ වූ ගිහින් අඟුණ කිරීම පිළිබඳ වූ ද පංචක දෙකක් දෙකෙකැ යි පටිසාරණීය කම්යෙහි මොහු අතිරේක පදයෝ නම් වෙති.

32. තජ්ජනීය නියස්ස යන කම් දෙදෙන ම සමානහ. පබ්බාජනීය පටිසාරණීය යන කම් දෙදෙනාගේ අතිරේක පදඇති බව ද වේ.

33. උක්ඛෙපණීය කම් තිදෙනෙක. විභාග විසින් ඔහු සමාන හ. තජ්ජනීය කම්යට කී නයින් ම සෙසු කම් දත යුත්තේ ය.

**කම්මක්ඛන්ධකය නිමියේ ය.**

# 2.

# පාරිවාසිකක්ඛන්ධකො

## I. පාරිවාසිකවත්තං

1. තෙන සමයෙන බුද්ධො භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තෙන ඛො පන සමයෙන පාරිවාසිකා භික්ඛූ සාදියන්ති පකතත්තානං භික්ඛූනං අභිවාදනං පච්චුට්ඨානං අඤ්ජලිකම්මං සාමීචිකම්මං ආසනාභිහාරං සෙය්‍යාභිහාරං පාදොදකං පාදපීඨං පාදකඨලිකං පත්තචීවරපටිග්ගහණං නහානෙ පිට්ඨිපරිකම්මං. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛියන්ති විපාචෙන්ති "කථං හි නාම පාරිවාසිකා භික්ඛූ සාදියිස්සන්ති පකතත්තානං භික්ඛූනං අභිවාදනං පච්චුට්ඨානං -පෙ- නහානෙ පිට්ඨිපරිකම්ම" න්ති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං.

2. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි: "සච්චං කිර භික්ඛවෙ පාරිවාසිකා භික්ඛූ සාදියන්ති පකතත්තානං භික්ඛූනං අභිවාදනං පච්චුට්ඨානං -පෙ- නහානෙ පිට්ඨිපරිකම්ම"න්ති. 'සච්චං භගවා'.

3. විගරහි බුද්ධො භගවා: අනනුච්ඡවිකං -පෙ- කථං හි නාම භික්ඛවෙ පාරිවාසිකා භික්ඛූ සාදියිස්සන්ති පකතත්තානං භික්ඛූනං අභිවාදනං පච්චුට්ඨානං අඤ්ජලිකම්මං සාමීචිකම්මං ආසනාභිහාරං සෙය්‍යාභිහාරං පාදොදකං පාදපීඨං පාදකඨලිකං පත්තචීවරපටිග්ගහණං නහානෙ පිට්ඨිපරිකම්මං. නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

4. "න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා සාදිතබ්බං පකතත්තානං භික්ඛූනං අභිවාදනං පච්චුට්ඨානං අඤ්ජලිකම්මං සාමීචිකම්මං ආසනාභිහාරො සෙය්‍යාභිහාරො පාදොදකං පාදපීඨං පාදකඨලිකං පත්තචීවරපටිග්ගහණං නහානෙ පිට්ඨිපරිකම්මං. යො සාදියෙය්‍ය, ආපත්ති දුක්කටස්ස.

5. අනුජානාමි භික්ඛවෙ පාරිවාසිකානං භික්ඛූනං මිථු යථාවුඩ්ඪං අභිවාදනං පච්චුට්ඨානං අඤ්ජලිකම්මං සාමීචිකම්මං ආසනාභිහාරං සෙය්‍යාභිහාරං පාදොදකං පාදපීඨං පාදකඨලිකං පත්තචීවරපටිග්ගහණං නහානෙ පිට්ඨිපරිකම්මං."

# 2.

# පාරිවාසිකක්ඛන්ධකය

## 1. පාරිවාසික වත

1. එ සමයෙහි භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ සැවැත්නුවර නිසා දෙව්රම් නම් වූ අනේපිඬු සිටුහුගේ අරමෙහි වැඩ වසන සේක. එසමයෙහි පිරිවෙස් වසන මහණහු පුවතත් මහණුන්ගේ වැඳීම, දක හුනස්නෙන් නැගිටීම, ඇඳිලි බැඳීම, සාමීචිකම්ය, අසුන් එලැවීම, යහන් එලැවීම, පාසේනා දිය එලැවීම, පාපුටුව හා පාදකඨලිකාව එලවා තැබීම, පාසිවුරු පිළිගැනීම, නැමෙහි පිට පිරියම් කිරීම යන මෙ කිසිදු ඉවසත්. අපිස් ගුණ ඇති... යම් මහණ කෙනෙක් වෙත් ද, ඔහු "කෙසේ නම් පිරිවෙස් වසන මහණහු පුවතත් මහණුන්ගේ වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම... නැමෙහි පිට පිරියම් කිරීම ඉවසත් ද?" යි අවඥ කෙරෙත්, දෙස් කියත්, නුගුණ පතුරුවත්. ඉක්බිති ඒ මහණහු මෙ පවත් භාග්‍යවතුන් වහන්සේට සැල කළහ.

2. එකල්හි භාග්‍යවතුන්වහන්සේ මේ නිදානයෙහි මේ කාරණයෙහි භික්සඟන රැස් කරවා, "මහණෙනි, පිරිවෙස් වසන මහණහු පුවතත් මහණුන්ගේ වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම... නැමෙහි පිටු පිරියම ඉවසත් යනු සැබෑ ද?" යි අසා වදාළසේක. "සැබැව, භාග්‍යවතුන් වහන්සැ"යි මහණහු පිළිවදන් ඇස්වූහ.

3. මහණෙනි, පිරිවෙස් වසන මහණහු කෙසේ නම් පුවතත් මහණුන් ගේ වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම, ඇඳිලි බැඳීම, සාමීචිකම්ය, අසුන් එලැවීම, යහන් එලැවීම, පාසේනා දිය එලැවීම, පාපුටු පාකවෙලි එලැවීම, පාසිවුරු පිළිගැනීම, නැමෙහි පිටුපිරියම යන මෙකී වත් ඉවසත් ද, මහණෙනි, මේය සත්හු නො පහනුන්ගේ පැහැදීම පිණිස ද... නො පවතියැ යි භාග්‍යවතුන් වහන්සේ වෙවසසින් ගැරැහූ සේක. ගරහා දැහැමි කතා කොට මෙසේ වදාළ සේක:

4. "මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින් පුවතත් මහණුන්ගේ වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම, ඇඳිලි බැඳීම, සාමීචිකම්ය, අසුන් එලැවීම, යහන් එලැවීම, පා සේනා දිය එලැවීම, පාපුටුව පාකවෙලිය එලැවීම, පාසිවුරු පිළිගැන්ම, නැමෙහි පිටු පිරියම් යන මෙකී වත් නො ඉවැසිය යුතු. යම් මහණෙක් ඉවසන්නේ ද, ඔහුට දුකුලා ඇවැත් වන්නේ ය.

5. මහණෙනි, පිරිවෙස් වසන මහණුන්හට උතුන් මහලු පිළිවෙළින් වැඳීම, දක හුනස්නෙන් නැගී සිටීම, ඇඳිලි බැඳීම, සාමීචි කම්ය, අසුන් එලැවීම, යහන් එලැවීම, පා සේනා දිය තැබීම, පාපුටුව පාකවෙලිය එලැවීම, පාසිවුරු පිළිගැන්ම, නැමෙහි පිටුපිරියම යන මෙ කී වත් උතුනට මහලු පිළිවෙළින් කිරීම අනුදනිමි."

6. අනුජානාමි භික්ඛවෙ පාරිවාසිකානං භික්ඛූනං පඤ්ච යථාවුඩ්ඪං: උපොසථං, පවාරණං, වස්සිකසාටිකං, ඔණොජනං, භත්තං.

7. තෙන හි භික්ඛවෙ පාරිවාසිකානං භික්ඛූනං වත්තං පඤ්ඤාපෙස්සාමි යථා පාරිවාසිකෙහි භික්ඛූහි වත්තිතබ්බං. පාරිවාසිකෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මා වත්තනා:

8. න උපසම්පාදෙතබ්බං, න නිස්සයො දාතබ්බො, න සාමණෙරො උපට්ඨාපෙතබ්බො, න භික්ඛුනොවාදකසම්මුති සාදිතබ්බා, සම්මතෙනාපි භික්ඛුනියො න ඔවදිතබ්බා, යාය ආපත්තියා සඞ්ඝෙන පරිවාසො දින්නො හොති සා ආපත්ති න ආපජ්ජිතබ්බා, අඤ්ඤා වා තාදිසිකා, තතො වා පාපිට්ඨතරා, කම්මං න ගරහිතබ්බං, කම්මිකා න ගරහිතබ්බා, න පකතත්තස්ස භික්ඛුනො උපොසථො ඨපෙතබ්බො, න පවාරණා ඨපෙතබ්බා, න සවචනීයං කාතබ්බං, න අනුවාදො පට්ඨපෙතබ්බො, න ඔකාසො කාරෙතබ්බො, න චොදෙතබ්බො, න සාරෙතබ්බො, න භික්ඛූහි සම්පයොජෙතබ්බං.

9. න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා පකතත්තස්ස භික්ඛුනො පුරතො ගන්තබ්බං, න පුරතො නිසීදිතබ්බං, යො හොති සඞ්ඝස්ස ආසන-පරියන්තො සෙය්‍යාපරියන්තො විහාරපරියන්තො සො තස්ස පදාතබ්බො, තෙන ච සො සාදිතබ්බො.

10. න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා පකතත්තෙන භික්ඛුනා පුරෙසමණෙන වා පච්ඡාසමණෙන වා කුලානි උපසඞ්කමිතබ්බානි. න ආරඤ්ඤිකඞ්ගං සමාදිතබ්බං, න පිණ්ඩපාතිකඞ්ගං සමාදිතබ්බං, න ච තප්පච්චයා පිණ්ඩපාතො නීහරාපෙතබ්බො 'මා මං ජානිංසූ'ති.

11. පාරිවාසිකෙන භික්ඛවෙ භික්ඛුනා ආගන්තුකෙන ආරොචෙතබ්බං, ආගන්තුකස්ස ආරොචෙතබ්බං, උපොසථෙ ආරොචෙතබ්බං, පවාරණාය ආරොචෙතබ්බං, සචෙ ගිලානො හොති දූතෙනපි ආරොචෙතබ්බං.

12. න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා සභික්ඛුකා ආවාසා අභික්ඛුකො ආවාසො ගන්තබ්බො අඤ්ඤත්‍ර පකතත්තෙන, අඤ්ඤත්‍ර අන්තරායා. න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා සභික්ඛුකා ආවාසා අභික්ඛුකො අනාවාසො ගන්තබ්බො අඤ්ඤත්‍ර පකතත්තෙන, අඤ්ඤත්‍ර අන්තරායා. න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා සභික්ඛුකා ආවාසා අභික්ඛුකො ආවාසො වා අනාවාසො වා ගන්තබ්බො අඤ්ඤත්‍ර පකතත්තෙන, අඤ්ඤත්‍ර අන්තරායා.

6 මහණෙනි, පිරිවෙස් වසන මහණුනට උපොසථ, පවාරණා, වස්සිකසාටිකා ඔණොජන (පසුව ලබන අදහසින් එදිනට තියම් බත නොගෙන හැරීම) චතුශ්ශාල බත ඉවසීම යන පස වැඩිමහලු පිළිවෙල අනුව කිරීම අනුදනිමි.

7. එහෙයින් මහණෙනි, පිරිවෙස් වසන මහණුනට ඔවුන් විසින් පැවැත්විය යුතු පරිදි වූ වත් පණවන්නෙමි. මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින් මොනොවට පැවැතිය යුතු. මේ එහි මොනොවට පැවැත්ම යි:

8. පිරිවෙස් වසන මහණහු විසින් තමා උපාධ්‍යාය වැ උපසම්පදා නො කටයුතු. තමා ඇදුරු වැ නිස නො දියයුතු. සෙරණක් උවටු නො කොට යුතු. භික්ඛුනීඔවාදක සම්මුතිය නො ඉවැසිය යුතු. සම්මුතිය ලද්දහු විසිනුදු මෙහෙණනට ඔවා නො දිය යුතු. යම් ඇවැතෙකින් සඟහු විසින් පිරිවෙස් දෙන ලද ද, ඒ ඇවැත හෝ එ බඳු අන් ඇවැතක් හෝ එයට වඩා ලාමක ඇවැතක් හෝ නො ඇවැද්ද යුතු. කම්ය නො ගැරැහියැ යුතු යැ. කම්ය කළ මහණහු නො ගැරැහියැ යුතුහ. පුවතත් මහණක්හුගේ පොහොය නො තැබියැ යුතු. පවුරුණු නො තැබියැ යුතු. සවචනීය කම්ය නො කළ යුතු. වෙහෙරැ දෙටුතන්හි නො සිටියැ යුතු. අවසර ගැන්ම නො කරවියැ යුතු. පුවතත් මහණක්හට චොදනා නො කට යුතු. ඇවැත් සිහිකරවනු නො කට යුතු. මහණුන් උනුන් හා කලහයෙහි නො යෙදියැ යුතු.

9. මහණෙනි, පිරිවෙස් පුරණ මහණහු විසින් පුවතත් මහණකුහට පෙරටු වැ නො යැ යුතු. පෙරටු වැ නො හින්ද යුතු. සඞ්ඝයාගේ යම් කෙළවරැ අස්නෙක් කෙළවරැ යහනෙක් කෙළවරැ වෙහෙරෙක් වේ ද, එය ඔහුට දියැ යුතු. ඔහු විසිනුත් එය ඉවැසියැ යුතු.

10. මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින් පුවතත් මහණක්හු හා පෙරටු වැ යන මහණකු වැ හෝ පසු වැ යන මහණකු වැ හෝ කුලයෝ නො එළැඹියැ යුතුහ. 'මා පිරිවෙස් පුරන්නකු කොට සෙස්සෝ නො දනිත්වා' යි යන ඒ කාරණයෙන් ආරණ්‍යකාඞ්ගය සමාදන් නො වියැ යුතු. පිණ්ඩපාතිකාඞ්ගය සමාදන් නො වියැ යුතු. පිණ්ඩපාතය නො නෙත්වා ගත යුතු.

11. මහණෙනි, පිරිවෙස් වසන ආගන්තුක මහණහු විසින් නෙවාසික මහණුනට තමා පිරිවෙස් වසන බව සැළ කළ යුතු. පිරිවෙස් වසන නෙවාසික මහණහු විසින් ආගන්තුක මහණහට තමා පිරිවෙස් වසන බව සැළ කළ යුතු. පොහෝ කිරීමෙහිදී (තමා පිරිවෙස් පුරන බව) සැළ කළ යුතු. පවුරුණුයෙහිදී සැළ කළ යුතු. ඉදින් ගේ ගිලන් වේ නම් දූතයකු ලවා නුමුදු සැළ කැරැවියැ යුතු.

12. මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින් පුවතත් මහණක්හු නැති වැ, දසවිධ අන්තරාය අතුරෙන් යම් කිසි අන්තරායයක් නැති වැ, මහණුන් ඇති ආවාසයෙන් මහණුන් නැති ආවාසයට නො යැ යුතු. මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින් මහණුන් ඇති ආවාසයෙන් මහණුන් නැති අනාවාසයට පුවතත් මහණක්හු නැති වැ, අන්තරායයක් නැති වැ, නො යැ යුතු යි. මහණෙනි, පිරිවෙස් වසන මහණහු විසින්, පුවතත් මහණක්හු නැති වැ, අන්තරායයක් නැති වැ, මහණුන් ඇති ආවාසයෙන් මහණුන් නැති ආවාසයට හෝ අනාවාසයට නො යැ යුතු.

# 4.

# සමථක්ඛන්ධකං

## 1. සම්මුඛාවිනයො

තෙන සමයෙන බුද්ධො භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තෙන ඛො පන සමයෙන ඡබ්බග්ගියා භික්ඛූ අසම්මුඛීභූතානං භික්ඛූනං කම්මානි කරොන්ති: තජ්ජනීයම්පි නියස්සම්පි පබ්බාජනීයම්පි පටිසාරණීයම්පි උක්ඛෙපනීයම්පි. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා සන්තුට්ඨා ලජ්ජිනො කුක්කුච්චකා සික්ඛාකාමා, තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම ඡබ්බග්ගියා භික්ඛූ අසම්මුඛීභූතානං භික්ඛූනං කම්මානි කරිස්සන්ති තජ්ජනීයම්පි නියස්සම්පි පබ්බාජනීයම්පි පටිසාරණීයම්පි උක්ඛෙපනීයම්පී"ති.

අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා භික්ඛූ පටිපුච්ඡි*:

සච්චං කිර භික්ඛවෙ ඡබ්බග්ගියා භික්ඛූ අසම්මුඛීභූතානං භික්ඛූනං කම්මානි කරොන්ති: තජ්ජනීයම්පි නියස්සම්පි පබ්බාජනීයම්පි පටිසාරණීයම්පි උක්ඛෙපනීයම්පීති. 'සච්චං භගවා[1]'. විගරහි බුද්ධො භගවා: අනනුච්ඡවිකං භික්ඛවෙ තෙසං මොඝපුරිසානං අනනුලොමිකං අප්පතිරූපං අස්සාමණකං අකප්පියං අකරණීයං. කථං හි නාම තෙ භික්ඛවෙ මොඝපුරිසා අසම්මුඛීභූතානං භික්ඛූනං කම්මානි කරිස්සන්ති: තජ්ජනීයම්පි නියස්සම්පි පබ්බාජනීයම්පි පටිසාරණීයම්පි උක්ඛෙපනීයම්පි. නෙතං භික්ඛවෙ අප්පසන්නානං වා පසාදාය -පෙ- විගරහිත්වා -පෙ-‡ ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

"න භික්ඛවෙ අසම්මුඛීභූතානං භික්ඛූනං කම්මං කාතබ්බං තජ්ජනීයං වා නියස්සං වා පබ්බාජනීයං වා පටිසාරණීයං වා උක්ඛෙපනීයං වා, යො කරෙය්‍ය ආපත්ති දුක්කටස්සා"ති.

### අධම්මවාදීනවක :[2]

අධම්මවාදී පුග්ගලො, අධම්මවාදී සම්බහුලා,[3] අධම්මවාදී සඞ්ඝො, ධම්මවාදී පුග්ගලො, ධම්මවාදී සම්බහුලා, ධම්මවාදී සඞ්ඝො.

1. අධම්මවාදී පුග්ගලො ධම්මවාදිං පුග්ගලං[4] සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛෙති අනුපෙක්ඛෙති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙතං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙන.

2. අධම්මවාදී පුග්ගලො ධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛෙති අනුපෙක්ඛෙති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙතං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූප-කෙන.

---

1. භගවාති - මජසං, සයා. 2. සංඛෙපට්ඨකථාවසෙනයි පොත්ථකෙසු දිස්සති.
3. අධම්මවාදිසම්බහුලා - සී 1, 2. 4. ධම්මවාදිපුග්ගලං - සීමු, සී 1, 2.
* පාඨොයං සීහලමුද්දිතපොත්ථකෙ න දිස්සති.
‡ පෙය්‍යාලෙහි සඞ්ඛිත්තපාඨානි කම්මක්ඛන්ධකෙ ආගතනයෙන වෙදිතබ්බානි.

# 4.

# සමථක්ඛන්ධකය

## 1. සම්මුඛාවිනය

එසමයෙහි භාග්‍යවතුන් වහන්සේ සැවත්නුවර සමීපයෙහි අනේපිඩු සිටුහුගේ දෙව්රම්හි වැඩ වසන සේක. එකල්හි සවග මහණහු නො හමු වූ මහණුන්ට තජ්ජනීය ද නියස්ස ද පබ්බාජනීය ද පටිසාරණීය ද උක්ඛෙපනීය ද යන කම් කෙරෙත්. අපිස් වූ සතොස් වූ ලජ්ජි වූ කුකුස් ඇති යම් ඒ මහණහු වෙත් ද, ඔහු කෙසේ නම් සවගමහණහු නො හමු වූ භික්ෂූන්ට තජ්ජනීය කම්යත් නියස්ස කම්යත් පබ්බාජනීය කම්යත් පටිසාරණීය කම්යත් උක්ඛෙපනීය කම්යත් කෙරෙත් දැ"යි අවමිත් කෙරෙත්. දොස් කියත්. නුගුණ පතුරුවත්.

ඉක්බිති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මෙ කරුණ සැල කළහ. එකල්හි භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ ප්‍රකරණ(ප්‍රස්තාව)යෙහි භික්ෂු සඞ්ඝයා රැස් කරවා භික්ෂූන් පිළිවිසි සේක:

මහණෙනි, සැබෑ ද? සවගමහණහු නො හමු වූ මහණුන්ට තජ්ජනීය කම්යත් නියස්ස කම්යත් පබ්බාජනීය කම්යත් පටිසාරණීය කම්යත් උක්ඛෙපනීය කම්යත් කෙරෙත් දැ යි. 'භාග්‍යවතුන් වහන්ස, සැබව.' භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ගැරහූ සේක. මහණෙනි, ඒ හිස් පුරුෂයන්ගේ නො නිසි ක්‍රියායෙකි. අනුලොම් නො වූවෙකි. පිළිරූ නො වූවෙකි. නො මහණකමෙකි. නො කැප වූවෙකි. නො කට යුත්තෙකි. මහණෙනි, කෙසේ නම් ඒ හිස් පුරුෂයෝ නො හමු වූ මහණුන්ට තජ්ජනීය කම්යත් නියස්ස කම්යත් පබ්බාජනීය කම්යත් පටිසාරණීය කම්යත් උක්ඛෙපනීය කම්යත් කළාහු ද? මහණෙනි, මෙය නො පහන් වූවන්ගේ පැහැදීම පිණිස නො වේ ... ගරහා ... දැහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක:

"මහණෙනි, නො හමු වූ මහණුන්ට තජ්ජනීය හෝ නියස්ස හෝ පබ්බාජනීය හෝ පටිසාරණීය හෝ උක්ඛෙපනීය හෝ කම්ය නො කළ යුතු. යමෙක් කෙරේ නම් ඔහුට දුකුළා වේ"යි.

### අධම්මවාදිනවකය:

අධම්මවාදී පුග්ගල ය, අධම්මවාදී සම්බහුල ය, අධම්මවාදී සඞ්ඝ ය, ධම්මවාදී පුග්ගල ය, ධම්මවාදී සම්බහුල ය, ධම්මවාදී සඞ්ඝ ය (යි මාතිකා නවයෙකි.)

1. අධම්වාදී පුද්ගල තෙමේ "මේ ධම්ය, මේ විනය ය, මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි ධම්වාදී පුද්ගලයාට හඟවයි. සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දැහැමින් සන්හිඳෙයි.

2. අධම්වාදී පුද්ගල තෙමේ "මේ ධම් ය, මේ විනය ය, මේ ශාස්තෘශාසන ය, මෙය ගණිවු, මෙය රුස්වවු"යි ධම්වාදී බොහෝ මහණුන්ට හඟවයි. සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි පුනපුනා පෙන්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දැහැමින් සන්හිඳෙයි.

3. අධම්මවාදී පුග්ගලො ධම්මවාදිං සඞ්ඝං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙන.

4. අධම්මවාදී සම්බහුලා ධම්මවාදිං පුග්ගලං[1] සඤ්ඤාපෙන්ති නිජ්ඣාපෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙන.

5. අධම්මවාදී සම්බහුලා ධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙන්ති නිජ්ඣා-පෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනය-පතිරූපකෙන.

6. අධම්මවාදී සම්බහුලා ධම්මවාදිං සඞ්ඝං[2] සඤ්ඤාපෙන්ති නිජ්ඣාපෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනය-පතිරූපකෙන.

7. අධම්මවාදී සඞ්ඝො ධම්මවාදිං පුග්ගලං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙන.

8. අධම්මවාදී සඞ්ඝො ධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙන.

9. අධම්මවාදී සඞ්ඝො ධම්මවාදිං සඞ්ඝං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, අධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයපතිරූපකෙනාති.

අධම්මවාදිනවකං නිට්ඨිතං.

## ධම්මවාදිනවකං:

1. ධම්මවාදී පුග්ගලො අධම්මවාදිං පුග්ගලං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො අයං විනයො ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙව තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

1. ධම්මවාදිපුග්ගලං - සී 1, 2. සිමු. 2. ධම්මවාදිසඞ්ඝං - සී. 1. 2 සිමු

3. අධම්මවාදී පුද්ගල තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි ධම්මවාදීසඞ්ඝයාට හඟවයි. සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදෙයි.

4. අධම්මවාදී බොහෝ මහණහු "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි ධම්මවාදී පුද්ගලයාට හඟවත්. සිතවත්. පුනපුනා දක්වත්. පෙන්වත්. පුනපුනා පෙන්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදෙයි.

5. අධම්මවාදී බොහෝ මහණහු "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණිවු, මෙය රුස්වවු" යි ධම්මවාදී බොහෝ මහණුන්ට හඟවත්. සිතවත්. දක්වත්. පුනපුනා දක්වත් පෙන්වත්. පුනපුනා පෙන්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදෙයි.

6. අධම්මවාදී බොහෝ මහණහු "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි ධම්මවාදී සඞ්ඝයාට හඟවත්. සිතවත්. දක්වත්. පුනපුනා දක්වත් පෙන්වත් පුනපුනා පෙන්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදේ.

7. අධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය. මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි ධම්මවාදී පුගුලාට හඟවයි සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි පුනපුනා පෙන්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදේ.

8. අධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණිවු, මෙය රුස්වවු"යි. ධම්මවාදී බොහෝ මහණුන්ට හඟවයි. සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. ඉදින් ඒ අධිකරණය මෙසේ සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදේ.

9. අධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්වයි ධම්මවාදී සඞ්ඝයාට හඟවයි. සිතවයි. දක්වයි. පුනපුනා දක්වයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය පිළිරූ වූ නො දූහැමින් සන්හිදේ යි.

අධම්මවාදිනවකය නිමි.

## ධම්මවාදිනවකය

1. ධම්මවාදී පුද්ගල තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය, මෙය ගණුව, මෙය රුස්ව"යි අධම්මවාදී පුද්ගලයාට හඟවයි. සිතවයි. දක්වයි පුනපුනා දක්වයි. බලවයි. පුනපුනා බලවයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිදේ නම් සම්මුඛාවිනය වූ දූහැමින් සන්හිදේ.

2. ධම්මවාදී පුග්ගලො අධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

3. ධම්මවාදී පුග්ගලො අධම්මවාදිං සඞ්ඝං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

4 ධම්මවාදී සම්බහුලා අධම්මවාදිං පුග්ගලං සඤ්ඤාපෙන්ති නිජ්ඣාපෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

5. ධම්මවාදී සම්බහුලා අධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙන්ති නිජ්ඣා-පෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

6. ධම්මවාදී සම්බහුලා අධම්මවාදිං සඞ්ඝං සඤ්ඤාපෙන්ති නිජ්ඣාපෙන්ති පෙක්ඛන්ති අනුපෙක්ඛන්ති දස්සෙන්ති අනුදස්සෙන්ති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

7. ධම්මවාදී සඞ්ඝො අධම්මවාදිං පුග්ගලං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන.

8. ධම්මවාදී සඞ්ඝො අධම්මවාදී සම්බහුලෙ සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති: "අයං ධම්මො, අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හථ, ඉමං රොචෙථා"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙන

9. ධම්මවාදී සඞ්ඝො අධම්මවාදිං සඞ්ඝං සඤ්ඤාපෙති නිජ්ඣාපෙති පෙක්ඛති අනුපෙක්ඛති දස්සෙති අනුදස්සෙති "අයං ධම්මො අයං විනයො, ඉදං සත්ථුසාසනං, ඉමං ගණ්හාහි, ඉමං රොචෙහී"ති. එවඤ්චෙ තං අධිකරණං වූපසම්මති, ධම්මෙන වූපසම්මති සම්මුඛාවිනයෙනා"ති.

ධම්මවාදීනවකං නිට්ඨිතං.

2. ධම්මවාදී පුද්ගල තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණිවූ මෙය රුස්වවූ යි අධම්මවාදී බොහෝ මහණුන්ට හඟවයි. සිතවයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. දක්වයි. පුනපුනා දක්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ

3. ධම්මවාදී පුද්ගල තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණුව මෙය රුස්ව"යි අධම්මවාදී සඞ්ඝයාට හඟවයි. සිතවයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. දක්වයි. පුනපුනා දක්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

4. ධම්මවාදී බොහෝ මහණනු "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණුව මෙය රුස්ව"යි අධම්මවාදී පුද්ගලයාට හඟවත්. සිතවත්. පෙන්වත්. පුනපුනා පෙන්වත්. දක්වත්. පුනපුනා දක්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

5. ධම්මවාදී බොහෝ මහණහු "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණිවූ මෙය රුස්වවූ"යි අධම්මවාදී බොහෝ මහණුන්ට හඟවත්. සිතවත්. පෙන්වත්. පුනපුනා පෙන්වත්. දක්වත්. පුනපුනා දක්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

6. ධම්මවාදී බොහෝ මහණහු "මේ දහම ය. මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණුව මෙය රුස්ව"යි අධම්මවාදී සඞ්ඝයාට හඟවත්. සිතවත්. පෙන්වත්. පුනපුනා පෙන්වත්. දක්වත්. පුනපුනා දක්වත්. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

7. ධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘ-ශාසන ය මෙය ගණුව මෙය රුස්ව"යි අධම්මවාදී පුද්ගලයාට හඟවයි. සිතවයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. දක්වයි. පුනපුනා දක්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

8 ධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය මෙය ගණිවූ මෙය රුස්වවූ"යි අධම්මවාදී බොහෝ මහණුන්ට හඟවයි. සිතවයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. දක්වයි. පුනපුනා දක්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ.

9. ධම්මවාදී සඞ්ඝ තෙමේ "මේ දහම ය මේ විනය ය මේ ශාස්තෘශාසන ය මෙය ගණුව මෙය රුස්ව"යි අධම්මවාදී සඞ්ඝයාට හඟවයි. සිතවයි. පෙන්වයි. පුනපුනා පෙන්වයි. දක්වයි. පුනපුනා දක්වයි. ඉදින් මෙසේ ඒ අධිකරණය සන්හිඳේ නම් සම්මුඛාවිනය වූ දැහැමින් සන්හිඳේ යි.

ධම්මවාදීනවකය නිමි.

## 2. සතිවිනයො

1. තෙන සමයෙන බුද්ධො භගවා රාජගහෙ විහරති වෙළුවනෙ කලන්දකනිවාපෙ. තෙන ඛො පන සමයෙන ආයස්මතා දබ්බෙන මල්ලපුත්තෙන ජාතියා සත්තවස්සෙන අරහත්තං සච්ඡිකතං හොති. යං කිඤ්චි සාවකෙන පත්තබ්බං, සබ්බං තෙන අනුප්පත්තං හොති. නත්ථි චස්ස කිඤ්චි උත්තරිං කරණීයං[1], කතස්ස වා පතිචයො. අථ ඛො ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස රහොගතස්ස පතිසල්ලීනස්ස[2] එවං චෙතසො පරිවිතක්කො උදපාදි: මයා ඛො ජාතියා සත්තවස්සෙන අරහත්තං සච්ඡිකතං. යං කිඤ්චි සාවකෙන පත්තබ්බං, සබ්බං මයා අනුප්පත්තං. නත්ථි ච මෙ කිඤ්චි උත්තරිං කරණීයං, කතස්ස වා පතිචයො. කිං නු ඛො අහං සඞ්ඝස්ස වෙය්‍යාවච්චං කරෙය්‍යන්"ති. අථ ඛො ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස එතදහොසි: "යන්නූනාහං[3] සඞ්ඝස්ස සෙනාසනඤ්ච පඤ්ඤපෙය්‍යං[4], භත්තානි ච උද්දිසෙය්‍යන්"ති.

2. අථ ඛො ආයස්මා දබ්බො මල්ලපුත්තො සායන්හසමයං පතිසල්ලානා වුට්ඨිතො යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො ඛො ආයස්මා දබ්බො මල්ලපුත්තො භගවන්තං එතදවොච: "ඉධ මය්හං භන්තෙ රහොගතස්ස පතිසල්ලීනස්ස එවං චෙතසො පරිවිතක්කො උදපාදි: "මයා ඛො ජාතියා සත්තවස්සෙන අරහත්තං සච්ඡිකතං. යං කිඤ්චි සාවකෙන පත්තබ්බං සබ්බං මයා අනුප්පත්තං. නත්ථි ච මෙ කිඤ්චි උත්තරිං කරණීයං, කතස්ස වා පතිචයො. කිං නු ඛො අහං සඞ්ඝස්ස වෙය්‍යාවච්චං කරෙය්‍යන්"ති. තස්ස මය්හං භන්තෙ එතදහොසි: "යන්නූනාහං සඞ්ඝස්ස සෙනාසනඤ්ච පඤ්ඤපෙය්‍යං, භත්තානි ච උද්දිසෙය්‍යන්"ති. ඉච්ඡාමහං භන්තෙ සඞ්ඝස්ස සෙනාසනඤ්ච පඤ්ඤපෙතුං, භත්තානි ච උද්දිසිතුන්ති. "සාධු සාධු දබ්බ, තෙන හි ත්වං දබ්බ, සඞ්ඝස්ස සෙනාසනඤ්ච පඤ්ඤපෙහි, භත්තානි ච උද්දිසාහී"ති. එවං භන්තෙති ඛො ආයස්මා දබ්බො මල්ලපුත්තො භගවතො පච්චස්සොසි.

3. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: තෙන හි භික්ඛවෙ සඞ්ඝො දබ්බං මල්ලපුත්තං සෙනාසනපඤ්ඤාපකඤ්ච භත්තුද්දෙසකඤ්ච සම්මන්නතු. එවඤ්ච පන භික්ඛවෙ සම්මන්නිතබ්බො: පඨමං දබ්බො යාචිතබ්බො. යාචිත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං සෙනාසනපඤ්ඤාපකඤ්ච භත්තුද්දෙසකඤ්ච සම්මන්නෙය්‍ය. එසා ඤත්ති.

---

1. උත්තරිකරණීයං - මජ්ඣං, සො.
2. පටිසල්ලීනස්ස, මජ්ඣං.
3. යංනූනාහං, මජ්ඣං.
4. පඤ්ඤපෙය්‍යං, මජ්ඣං.

## 2. සතිවිනය

1. එ සමයෙහි භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ රජගහනුවර සමීපයෙහි කලන්දකනිවාප නම් වේළුවනාරාමයෙහි වැඩවසන සේක. එ කල්හි උපතින් සත්වස් ඇති ආයුෂ්මත් දබ්බ මල්ලපුත්‍ර විසින් රහත්බව පසක් කරණ ලද්දේ වෙයි. සව්වකු විසින් පැමිණිය යුතු (ලැබිය යුතු) යම් කිසිවක් ඇත්නම් ඒ සියල්ල උහු විසින් ලබන ලද්දේ වෙයි. උහුට මත්තෙහි කටයුතු කිසිවක් ද නැත. කරණ ලද්දෙහි නැවත වැඩීමෙක් ද නැත. ඉක්බිති එකලා ව විවෙකයෙහි හුන් ආයුෂ්මත් දබ්බමල්ලපුත්හට මෙබඳු චිත්තවිතර්කයෙක් පහළ විය: "උපතින් සත් වස් ඇති මා විසින් රහත්බව පසක් කරණ ලදී. සව්වකු විසින් ලැබිය යුතු යම් කිසිවක් වේ නම් මවිසින් ඒ සියල්ල ලබන ලදී. මට මතු කටයුතු කිසිවක් ද, කරණ ලද්දෙහි නැවත වැඩීමෙක් ද නැත. මම සඟහට වතාවතක් කරනෙම් නම් කිම්දෝයි. ඉක්බිති ආයුෂ්මත් දබ්බමල්ලපුත්හට මෙබඳු සිතෙක් විය: මම සඟහට සෙනසුන් ද පනවම් නම් බත් ද උදෙසම් නම් මනාමැනැ"යි.

2. ඉක්බිති ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ සවස්කල පිළිසලනින් නැගී සිටියේ භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියේ ය. එළඹ භාග්‍යවතුන් වහන්සේ වැඳ එකත්පස් ව හිඳ. එකත්පස් ව හුන් මල්ලපුත් ආයුෂ්මත් දබ්බ තෙමේ භාග්‍යවතුන් වහන්සේට මෙය සැල කෙළේ ය: "වහන්ස, මෙහි එකලා ව විවේකයෙහි හුන් මට මෙබඳු සිත්හසරෙක් පහළ විය: උපතින් සත්වස් ඇති මා විසින් රහත්බව පසක් කරණ ලදී. සව්වකු විසින් යම් කිසිවක් ලැබිය යුතු නම් ඒ සියල්ල මවිසින් ලබන ලදී. මතු කිසි කටයුත්තෙක් ද මට නැත කරණ ලද්දෙහි නැවත වැඩීමෙක් ද නැත. මම සඟහට වතාවතක් කරම් නම් කිම්දෝ"යි. වහන්ස, ඒ මට මෙබඳු සිතෙක් විය: "මම සඟහට සෙනසුන් ද පනවම් නම් බතුදු උදෙසම් නම් මනා මැනැ"යි. "වහන්ස, මම සඟහට සෙනසුන් පනවන්නට ද බත් උදෙසන්නට ද කැමැත්තෙමි"යි. "දබ්බ මැනැවි. මැනැවි. දබ්බ එසේ නම් සඟහටම සෙනසුන් ද පනවවු. බතුදු උදෙසවු" යි. එසේ ය වහන්සැයි ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දිනි.

3. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ ප්‍රකරණයෙහි දැහැමිකතා කොට භික්ෂූන් ඇමතූ සේක: මහණෙනි, එසේ නම් සඞ්ඝ තෙමේ දබ්බමල්ලපුත්‍ර සෙනසුන් පනවන්නකු කොට ද බත් උදෙසන්නකු කොට ද සම්මත කෙරේවා. මහණෙනි, මෙසේ සම්මත කළ යුතු: පළමු කොට දබ්බ යැද්ද යුතු. යැද ව්‍යක්ත පබල මහණකු විසින් සඞ්ඝ තෙමේ දැන්විය යුතු:

"වහන්ස, සඞ්ඝ තෙමේ මා වදන් අසාවා: ඉදින් සඟහට පැමිණි කල් ඇත්තේ නම් සඞ්ඝ තෙමේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර සෙනසුන් පනවන්නකු කොට ද බත් උදෙසන්නකු කොට ද සම්මත කරන්නේ ය. මේ දැන්වීම යි.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: සඞ්ඝො ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං සෙනාසනපඤ්ඤාපකඤ්ච භත්තුද්දෙසකඤ්ච සම්මන්නති. යස්සායස්මතො ඛමති ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සෙනාසනපඤ්ඤාපකස්ස ච භත්තුද්දෙසකස්ස ච සම්මුති[1]. සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

සම්මතො සඞ්ඝෙන ආයස්මා දබ්බො මල්ලපුත්තො සෙනාසන-පඤ්ඤාපකො ච භත්තුද්දෙසකො ච. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

4. සම්මතො ච පනායස්මා දබ්බො මල්ලපුත්තො සභාගානං සභාගානං භික්ඛූනං[2] එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති: යෙ තෙ භික්ඛූ සුත්තන්තිකා තෙසං එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති "තෙ අඤ්ඤමඤ්ඤං සුත්තන්තං සඞ්ගායිස්සන්තී"ති යෙ තෙ භික්ඛූ විනයධරා තෙසං එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති "තෙ අඤ්ඤමඤ්ඤං විනයං විනිච්ඡිනිස්සන්තී"[3]ති. යෙ තෙ භික්ඛූ ධම්මකථිකා තෙසං එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති "තෙ අඤ්ඤමඤ්ඤං ධම්මං සාකච්ඡිස්සන්තී"ති. යෙ තෙ භික්ඛූ ඣායිනො තෙසං එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති "තෙ අඤ්ඤමඤ්ඤං න ව්‍යාබාධිස්සන්තී"ති. යෙ තෙ භික්ඛූ තිරච්ඡානකථිකා කායදඩ්ඪිබහුලා[4] විහරන්ති, තෙසම්පි එකජ්ඣං සෙනාසනං පඤ්ඤාපෙති "ඉමායපිමෙ[5] ආයස්මන්තො[6] රතියා අච්ඡිස්සන්තී"ති. යෙපි තෙ[7] භික්ඛූ විකාලෙ ආගච්ඡන්ති, තෙසම්පි තෙජො-ධාතුං සමාපජ්ජිත්වා තෙනෙව ආලොකෙන සෙනාසනං පඤ්ඤාපෙති.

5. අපිස්සු භික්ඛූ සඤ්චිච්ච විකාලෙ ආගච්ඡන්ති "මයං ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස ඉද්ධිපාටිහාරියං පස්සිස්සාමා"ති. තෙ ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං උපසඞ්කමිත්වා එවං වදෙන්ති: "අම්හාකං ආවුසො දබ්බ සෙනාසනං පඤ්ඤාපෙහී"ති. තෙ ආයස්මා දබ්බො මල්ලපුත්තො එවං වදෙති: කත්ථ ආයස්මන්තා ඉච්ඡන්ති? කත්ථ පඤ්ඤාපෙමීති? තෙ සඤ්චිච්ච දූරෙ අපදිසන්ති: "අම්හාකං ආවුසො දබ්බ ගිජ්ඣකූටෙ පබ්බතෙ සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො චොරපපාතෙ සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො ඉසිගිලිපස්සෙ කාළසිලායං සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො වෙභාරපස්සෙ සත්තපණ්ණිගුහායං සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො සීතවනෙ සප්පසොණ්ඩිකපබ්භාරෙ සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො ගොතමකන්දරායං[8] සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො තින්දුකකන්දරායං[9] සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො තපොදකන්දරායං[10] සෙනාසනං පඤ්ඤාපෙහි අම්හාකං ආවුසො තපොදාරාමෙ සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො ජීවකම්බවනෙ සෙනාසනං පඤ්ඤාපෙහි. අම්හාකං ආවුසො මද්දකුච්ඡිස්මිං[11] මිගදායෙ සෙනාසනං පඤ්ඤාපෙහී"ති.

---

1. සම්මති - සභා.
2. සභාගානං භික්ඛූනං - මජසං.
3. විනිච්ඡිස්සන්ති - PTS.
4. කායදළ්හිබහුලා - මජසං. සභා. සීමු.
5. ඉමායපි ඉමෙ - PTS.
6. ආයස්මන්තා - සී 1, 2 සීමු. සභා.
7. යෙ තෙ - සී 1, 2.
8. ගොතමකකන්දරායං - මජසං.
9. තින්දුකකන්දරායං - මජසං. සභා.
10. තපොදාකන්දරායං - සීමු මජසං.
11. මද්දකුච්ඡිම්හි - මජසං. සභා.

වහන්ස, සඞ්ඝ තෙමේ මාගේ වදන අසාවා. සඞ්ඝ තෙමේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර සෙනසුන් පනවන්නකු කොට ද බත් උද්දෙසන්නකු කොට ද සම්මත කෙරෙයි. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර සෙනසුන් පනවන්නකු කොට ද බත් උද්දෙසන්නකු කොට ද සම්මත කිරීම යම් ආයුෂ්මතකුහට රුස්නේ නම් හෙ තෙමේ නිහඬ වන්නේ ය. යමකුහට රිසි නො වේ නම් හෙ තෙමේ බණන්නේ ය.

සඞ විසින් ආයුෂ්මත් දබ්බමල්ලපුත්තෙමේ සෙනසුන් පනවන්නකු කොට ද බත් උද්දෙසන්නකු කොට ද සම්මත කරණ ලදී. සඞහට රිසියෙයි. එහෙයින් නිහඬ ය. මෙසේ මෙය දරමි”යි.

4. සම්මත කරණ ලද ආයුෂ්මත් දබ්බ මල්ලපුත් තෙමේ සභාග සභාග භික්ෂූන්ට එක්තැනෙක සෙනසුන් පනවයි: යම් භික්ෂූහු සූත්‍රාන්තිකයෝ නම් ‘ඔහු ඔවුනොවුන් සූත්‍රාන්ත සඞ්ගායනා කරත්නාහ’ යි ඔවුනට එක්තැනෙක සෙනසුන් පනවයි. යම් භික්ෂූහු විනයධරයෝ නම් ‘ඔහු ඔවු-නොවුන් විනය විනිශ්චය කරන්නාහු ය’ යි ඔවුනට එක්තැනෙක සෙනසුන් පනවයි. යම් භික්ෂූහු ධර්මකථිකයෝ (ආභිධර්මිකයෝ) නම් ‘ඔහු ඔවුනොවුන් ධර්මය සාකච්ඡා කරත්නාහ’ යි ඔවුනට එක්තැනෙක සෙනසුන් පනවයි. යම් භික්ෂූහු ධ්‍යානලාභීහු නම් ‘ඔහු ඔවුනොවුන් නො පෙළන්නාහ’ යි ඔවුනට එක්තැනෙක සෙනසුන් පනවයි. යම් භික්ෂූහු තිරශ්චීන කථා ඇති ව කය තරකිරීමෙහි තත්පර ව වෙසෙත් නම් ‘මේ ආයුෂ්මත්හු මේ තිරශ්චීන කථා රතියෙන්ද වෙසෙන්නාහ’යි ඔවුනට ද එක්තැනෙක සෙනසුන් පනවයි. යම් භික්ෂූහු නො කල්හි පැමිණෙත් නම් ඔවුනට ද තේජෝධාතුවට සමවැද ඒ ආලෝකයෙන් ම සෙනසුන් පනවයි.

5. භික්ෂූහු දැන දැන ‘අපි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රයාගේ ඉර්ධිපෙළහර දක්නෙමෝ’ යි නොකල්හි නිතර පැමිණෙත්. ඔහු ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර වෙත එළඹ ඇවැත්නි, දබ්බයෙනි, අපට සෙනසුන් පනවාලව යි මෙසේ කියත්. ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ ඔවුනට ‘ආයුෂ්මත්හු කොතැන්හි කැමැති වෙද්ද, කොතැන්හි පනවම් ද’යි මෙසේ කියයි. ඔහු දැන දැන දුර තැන් දක්වත්. “ඇවැත්නි, අපට ගිජ්ඣකූටපර්වතයෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට සොරපවයිත්පවුවෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට ඉසිගිලිපස කළුගල්තලායෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට වෙභාරපවුපස සත්පත්ගොහෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට සීතවනයෙහි නාකෙම්බෙයදෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට ගොතුම් කඳුරැලියෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට තිඹිරි කඳුරැලියෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට තපොද කඳුරැලියෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට තපොදාරාමයෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට ජීවක අඹවෙනෙහි සෙනසුන් පනවාලව. ඇවැත්නි, අපට මද්දකුච්ඡි නම් මුවලැව්හි සෙනසුන් පනවාලව”යි.

6. තෙසං ආයස්මා දබ්බො මල්ලපුත්තො තෙජොධාතුං සමාපජ්ජිත්වා අඞ්ගුලියා ජලමානාය පුරතො පුරතො ගච්ඡති. තෙපි තෙනෙව ආලොකෙන ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස පිට්ඨිතො පිට්ඨිතො ගච්ඡන්ති. තෙසං ආයස්මා දබ්බො මල්ලපුත්තො එවං සෙනාසනං පඤ්ඤපෙති: අයං මඤ්චො, ඉදං පීඨං, අයං භිසි, ඉදං බිම්බොහනං[1], ඉදං උච්චාරට්ඨානං, ඉදං පස්සාවට්ඨානං, ඉදං පානීයං, ඉදං පරිභොජනීයං, අයං කත්තරදණ්ඩො, ඉදං සඞ්ඝස්ස කතිකසණ්ඨානං[2], ඉමං කාලං පවිසිතබ්බං, ඉමං කාලං නික්ඛමිතබ්බන්ති. තෙසං ආයස්මා දබ්බො මල්ලපුත්තො එවං සෙනාසනං පඤ්ඤපෙත්වා පුනදෙව වෙළුවනං පච්චාගච්ඡති.

7. තෙන ඛො පන සමයෙන මෙත්තියභුම්මජකා[3] භික්ඛූ නවකා චෙව හොන්ති අප්පපුඤ්ඤා ච. යානි සඞ්ඝස්ස ලාමකානි සෙනාසනානි තානි තෙසං පාපුණන්ති ලාමකානි ච භත්තානි. තෙන ඛො පන සමයෙන රාජගහෙ මනුස්සා ඉච්ඡන්ති ථෙරානං භික්ඛූනං අභිසඞ්ඛාරිකං දාතුං - සප්පිම්පි තෙලම්පි උත්තරිභඞ්ගම්පි. මෙත්තියභුම්මජකානං පන භික්ඛූනං පාකතිකා දෙන්ති - යථාරද්ධං[4] කණාජකං[5] බිලඞ්ගදුතියං. තෙ පච්ඡාභත්තං පිණ්ඩපාතපටික්කන්තා ථෙරෙ භික්ඛූ පුච්ඡන්ති: 'තුම්හාකං ආවුසො භත්තග්ගෙ කිං අහොසි, තුම්හාකං කිං අහොසී'ති. එකච්චෙව ථෙරා එවං වදන්ති: 'අම්හාකං ආවුසො සප්පි අහොසි. තෙලං අහොසි. උත්තරිභඞ්ගං අහොසී'ති. මෙත්තියභුම්මජකා[3] පන භික්ඛූ එවං වදන්ති: අම්හාකං ආවුසො න කිඤ්චි අහොසි - පාකතිකා යථාරද්ධං[4] කණාජකං- බිලඞ්ගදුතියන්ති.

8. තෙන ඛො පන සමයෙන කල්‍යාණභත්තිකො ගහපති සඞ්ඝස්ස චතුක්කභත්තං දෙති නිච්චභත්තං. සො භත්තග්ගෙ සපුත්තදාරො උපතිට්ඨිත්වා පරිවිසති- අඤ්ඤෙ ඔදනෙන පුච්ඡන්ති, අඤ්ඤෙ සූපෙන පුච්ඡන්ති, අඤ්ඤෙ තෙලෙන පුච්ඡන්ති, අඤ්ඤෙ උත්තරිභඞ්ගෙන පුච්ඡන්ති. තෙන ඛො පන සමයෙන කල්‍යාණභත්තිකස්ස ගහපතිනො භත්තං ස්වාතනාය මෙත්තියභුම්මජකානං භික්ඛූනං උද්දිට්ඨං හොති. අථ ඛො කල්‍යාණභත්තිකො ගහපති ආරාමං අගමාසි කෙනචිදෙව කරණීයෙන. සො යෙනායස්මා දබ්බො මල්ලපුත්තො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නං ඛො කල්‍යාණභත්තිකං ගහපතිං ආයස්මා දබ්බො මල්ලපුත්තො ධම්මියා කථාය සන්දස්සෙසි, සමාදපෙසි, සමුත්තෙජෙසි, සම්පහංසෙසි.

9. අථ ඛො කල්‍යාණභත්තිකො ගහපති ආයස්මතා දබ්බෙන මල්ලපුත්තෙන ධම්මියා කථාය සන්දස්සිතො සමාදපිතො සමුත්තෙජිතො සම්පහංසිතො ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං එතදවොච: කස්ස භන්තෙ අම්හාකං ඝරෙ ස්වාතනාය භත්තං උද්දිට්ඨන්ති? මෙත්තියභුම්මජකානං ඛො ගහපති භික්ඛූනං තුම්හාකං ඝරෙ ස්වාතනාය භත්තං උද්දිට්ඨන්ති. අථ ඛො කල්‍යාණභත්තිකො ගහපති අනත්තමනො අහොසි: කථං හි නාම පාපභික්ඛූ අම්හාකං ඝරෙ භුඤ්ජිස්සන්තීති. ඝරං ගන්ත්වා දාසිං ආණාපෙසි: ''යෙ ජෙ ස්වෙ භත්තිකා ආගච්ඡන්ති, තෙ කොට්ඨකෙ ආසනං පඤ්ඤපෙත්වා කණාජකෙන බිලඞ්ගදුතියෙන පරිවිසා''ති. එවං අය්‍යාති ඛො සා දාසී කල්‍යාණභත්තිකස්ස ගහපතිනො පච්චස්සොසි.

1. බිබ්බොහනං - මජසං. 2. කතිකසන්ඨානං, සීමු.
3. මෙත්තියභුම්ජකා - මජසං. 4. යථාරන්ධං, මජසං. 5. කාණාජකං - සස.

6. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර තෙමේ තේජෝධාතුවට සමවැද ඇඟිල්ල දල්වෙන එළියෙන් ඔවුන්ට පෙරටු ව පෙරටු ව යෙයි. ඔහු ද ඒ එළියෙන් ම ආයුෂ්මත් දබ්බ මල්ලපුත්‍රයාගේ පිටුපස පිටුපස යෙත්. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර තෙමේ ඔවුන්ට මෙසේ සෙනසුන් පනවයි: මේ ඇඳ ය, මේ පුටුව ය, මේ තිරැස ය, මේ කොට්ටය ය, මේ වැසිකිළිය ය, මේ කැසකිළිය ය, මේ පැන් ය, මේ පිරිබොඳුනී ජල ය, මේ සැරයටිය, මේ සඟුන්ගේ කතිකාවත ය, මෙ කල පිවිසිය යුතු, මෙ කල නික්මිය යුතු යි. ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ ඔවුනට මෙසේ සෙනසුන් පනවා නැවත වේළුවනයට පෙරළා එයි.

7. එසමයෙහි මෙත්තියභූමජක මහණහු නවකයෝ ද මඳ පිණැත්තෝ ද වෙති. සඞ්ඝයාගේ යම් ලමු සෙනසුන් ද ලමු බත් ද වෙත් නම් ඔහු ඔවුන්ට පැමිණෙති. එ සමයෙහි රජගහනුවර මිනිස්හු තෙර මහණුන්ට නොයෙක් දසිත් මැනැවිත් සකස් කළ බොජුන් - ගිතෙල් ද තෙල් ද මසවුළු ද දෙන්නට කැමැති වෙත්. මෙත්තියභූමජක මහණුන්ට කාඞ්-කලකැඳ දෙවෙති කොට ඇති පිසූ පරිදි නිමුඹුසාලේ පියවි බත දෙත්. ඔහු පසු බත පිණ්ඩපාතයෙන් වැළකුණහු "ඇවැත්නි, තොපගේ බත්-හලෙහි කිමෙක් වී ද තොපගේ බත්හලෙහි කිමෙක් වී ද?"යි තෙරමහණුන් පුළුවුසිත්. ඇතැම් තෙරහු "ඇවැත්නි, අපට ගිතෙල් වී ය. තෙල් වී ය. මසවුළුවී" යයි මෙසේ කියත්. මෙත්තියභූමජක මහණහු "ඇවැත්නි. අපට කාඞ් දෙවෙති කොට ඇති පිසූ පරිදි නිමුඹුසාලේ පියවි බත හැර කිසිවක් නො වී ය" යි මෙසේ කියත්

8. එ සමයෙහි කල්‍යාණභත්තික ගැහැවි තෙමේ සඟනට නිතිබත් කොට බත් සතරක් දෙයි. හෙ තෙමේ අඹුදරුවන් සමඟ බත්හලෙහි එළඹ සිට වළඳවයි. අන්නු බතින් පුළුවුසිත්. අන්නු සූපයෙන් පුළුවුසිත්. අන්නු තෙලින් පුළුවුසිත්. අන්නු මසවුළුයින් පුළුවුසිත්. එ කල්හි කල්‍යාණභත්තික ගැහැවියාගේ සෙට පිණිස බත (වාර විසින්) මෙත්තියභූමජක භික්ෂූන් සඳහා උදෙසුනයේ වෙයි. ඉක්බිතිව කල්‍යාණභත්තික ගැහැවි තෙමේ කිසියම් කටයුත්තක් සඳහා අරමට ගියේ ය. හෙ තෙමේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රයා වෙත එළඹියේ ය. එළඹ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රයා වැඳ එකත්පස් ව හින. එකත් පස් ව හුන් කල්‍යාණභත්තික ගැහැවිහු ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ දැහැමි කථාවෙන් කරුණු දක්වී ය සමාදන් කරවී ය. තෙද ගැන්වී ය. සතුටු කරවී ය.

9. ඉක්බිති කල්‍යාණභත්තික ගැහැවි තෙමේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රයා විසින් කරුණු දක්වන ලදුයේ සමාදන් කරවනු ලදුයේ තෙද ගන්වනු ලදුයේ සතුටු කරවනු ලදුයේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්හට "වහන්ස, අපගේ ගෙයි සෙට පිණිස බත කවරකුට උදෙසන ලද්දේ දැ"යි මෙය කී ය. ගැහැවි ය, තොපගේ ගෙයි සෙට පිණිස වූ බත මෙත්තියභූමජක භික්ෂූන්ට උදෙසන ලදැ යි. එ කල්හි කල්‍යාණභත්තික ගැහැවි තෙමේ "කෙසේ නම් ලාමකභික්ෂූහු අපගේ ගෙයි වළඳන්නාහු දැ"යි නො සතුටු සිත් ඇත්තේ විය. ගෙට නොස් "එම්බල දැස්ස, සෙට බත්ගන්නා යම් කෙනෙක් පැමිණෙත් නම් දොරකොටුයෙහි අසුන් පණවා කාඞ් දෙවැති කොට ඇති නිවුඩු බතින් වළඳව"යි දැස්ස ඇණවී ය. 'එසේ ය හිමියනී' යි ඒ දැස්ස කල්‍යාණභත්තික ගැහැවියාට පිළිවදන් ඇස්වූ ය.

10. අථ ඛො මෙත්තියභුම්මජකා භික්ඛූ "හිය්‍යො ඛො ආවුසො අම්හාකං කල්‍යාණභත්තිකස්ස ගහපතිනො භත්තං උද්දිට්ඨං. ස්වෙ අම්හෙ කල්‍යාණභත්තිකො ගහපති සපුත්තදාරො උපතිට්ඨිත්වා පරිවිසිස්සති: අඤ්ඤෙ ඔදනෙන පුච්ඡිස්සන්ති. අඤ්ඤෙ සූපෙන පුච්ඡිස්සන්ති. අඤ්ඤෙ තෙලෙන පුච්ඡිස්සන්ති. අඤ්ඤෙ උත්තරිභඞ්ගෙන පුච්ඡිස්සන්තී"ති තෙ තෙනෙව සොමනස්සෙන න චිත්තරූපං රත්තියා සුපිංසු.

11. අථ ඛො මෙත්තියභුම්මජකා භික්ඛූ පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය යෙන කල්‍යාණභත්තිකස්ස ගහපතිනො නිවෙසනං තෙනුපසඞ්කමිංසු. අද්දසා ඛො සා දාසී මෙත්තියභුම්මජකෙ භික්ඛූ දූරතොව ආගච්ඡන්තෙ. දිස්වාන කොට්ඨකෙ ආසනං පඤ්ඤපෙත්වා මෙත්තියභුම්මජකෙ භික්ඛූ එතදවොච: නිසීදථ භන්තෙති. අථ ඛො මෙත්තියභුම්මජකානං භික්ඛූනං එතදහොසි: නිස්සංසයං ඛො න තාව භත්තං සිද්ධං භවිස්සති යථා මයං කොට්ඨකෙ නිසීදාපියාමාති[1] අථ ඛො සා දාසී කණාජකෙන[2] බිලඞ්ගදුතියෙන උපගඤ්ඡි භුඤ්ජථ භන්තෙති. 'මයං ඛො භගිනි නිච්චභත්තිකා'ති. "ජානාමි අය්‍යා නිච්චභත්තිකාති. අපි චාහං හිය්‍යොව ගහපතිනා ආණත්තා: 'යෙ තෙ භික්ඛූ ආගච්ඡන්ති, තෙ කොට්ඨකෙ ආසනං පඤ්ඤපෙත්වා කණාජකෙන බිලඞ්ගදුතියෙන පරිවිසා'ති. භුඤ්ජථ භන්තෙ"ති.

12. අථ ඛො මෙත්තියභුම්මජකා භික්ඛූ "හිය්‍යො ඛො ආවුසො, කල්‍යාණභත්තිකො ගහපති ආරාමං අගමාසි දබ්බස්ස මල්ලපුත්තස්ස සන්තිකෙ. නිස්සංසයං ඛො මයං දබ්බෙන මල්ලපුත්තෙන ගහපතිනො අන්තරෙ[3] පරිභින්නා"ති. තෙ තෙනෙව දොමනස්සෙන න චිත්තරූපං භුඤ්ජිංසු. අථ ඛො මෙත්තියභුම්මජකා භික්ඛූ පච්ඡාභත්තං පිණ්ඩපාත-පටික්කන්තා ආරාමං ගන්ත්වා පත්තචීවරං පටිසාමෙත්වා බහාරාමකොට්ඨකෙ සඞ්ඝාටිපල්ලත්ථිකාය නිසීදිංසු - තුණ්හීභූතා පත්තක්ඛන්ධා අධොමුඛා පජ්ඣායන්තා අප්පටිභානා.

13. අථ ඛො මෙත්තියා භික්ඛුනී යෙන මෙත්තියභුම්මජකා භික්ඛූ තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා මෙත්තියභුම්මජකෙ භික්ඛූ එතදවොච: 'වන්දාමි අය්‍යා'ති. එවං වුත්තෙ මෙත්තියභුම්මජකා භික්ඛූ නාලපිංසු. දුතියම්පි ඛො -පෙ- තතියම්පි ඛො මෙත්තියා භික්ඛුනී මෙත්තිය-භුම්මජකෙ භික්ඛූ එතදවොච: 'වන්දාමි අය්‍යා'ති. තතියම්පි ඛො මෙත්තිය-භුම්මජකා භික්ඛූ නාලපිංසු. 'ක්‍යාහං අය්‍යානං අපරජ්ඣාමි, කිස්ස මං අය්‍යා නාලපන්තී'ති? "තථා හි පන ත්වං භගිනි, අම්හෙ දබ්බෙන මල්ලපුත්තෙන විහෙඨියමානෙ අජ්ඣුපෙක්ඛසී"ති. 'ක්‍යාහං අය්‍යා කරොමී'ති. "සචෙ ඛො ත්වං භගිනි, ඉච්ඡෙය්‍යාසි, අජ්ජෙව භගවා ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං නාසාපෙය්‍යා"ති. 'ක්‍යාහං අය්‍යා කරොමි, කිං මයා සක්කා කාතුන්ති?'

1. නිසීදපෙය්‍යාමාති - සී 1, 2. 2. කාණාජකෙන - සයා. 3. සන්තිකෙ - සයා.

10. එ කල්හි මෙත්තිය භුම්මජක මහණහු "ඇවැත්නි, ඊයේ අපට කල්‍යාණභත්තික ගැහැවිහුගේ බත උදෙසන ලදි. සෙට අඹුදරුවන් සහිත කල්‍යාණභත්තික ගැහැවි තෙමේ එළඹ සිට අප වළඳවන්නේ ය: කෙනෙක් බතින් පුළුවුස්නාහ. කෙනෙක් සූපයෙන් පුළුවුස්නාහ. කෙනෙක් තෙලින් පුළුවුස්නාහ. කෙනෙක් මසවුළින් පුළුවුස්නාහ"යි ඔහු ඒ සොම්නසින් ම සිතූසේ රෑ නිදි නොගත්හ.

11. ඉක්බිති මෙත්තිය භුම්මජක මහණහු පෙරවරු හැඳ පෙරව පාසිවුරු ගෙණ කල්‍යාණභත්තික ගැහැවිහුගේ නිවෙස්න වෙත එළඹියහ. ඒ දැසිය එන්නා වූ මෙත්තිය භුම්මජක මහණුන් දුරදීම දුටු. දැක දොරකොටුයෙහි අතුන් පණවා "වහන්ස, හුන මැනැවැ"යි මෙත්තිය භුම්මජක මහණුන්ට මෙය කීය. එ කල්හි මෙත්තිය භුම්මජක මහණුන්ට "එකැත්තෙන් ම බත නො නිමියේ වන. එහෙයින් අපි කොටුයෙහි හිඳුවනු ලබමෝ"යි මේ සිත විය. එ කල ඒ දැසිය "වහන්ස, වළඳනු මැනැවැ"යි කාඩි දෙවෙනි කොට ඇති කුඩු සහිත (නිවුඩු) බතින් පුතුව එළඹ සිටියා ය. "නැගනියෙනි, අපි මෙහි නිත්‍යබත් ඇත්තමෝ වම්හ"යි. "හිමිනි 'නිත්‍යබත් ඇත්තහ'යි දනිමි. එහෙත් මම ඊයේ ම ගැහැවිනු විසින් 'එම්බා දැසිය, හෙට බත් ගන්නා යම් කෙනෙක් එද්ද, කොටුයෙහි අතුන් පණවා කාඩි දෙවෙනි කොට ඇති නිවුඩු සාලේ බතින් (ඔවුන්) වළඳව'යි අණවන ලද්මි. වහන්ස, වළඳනු මැනවැ"යි.

12. ඉක්බිති මෙත්තිය භුම්මජක මහණහු "ඇවැත්නි, ඊයේ කල්‍යාණ-භත්තික ගැහැවි තෙමේ අරමට දබ්බමල්ලපුතු ලඟට ගියේ ය. එකැතින් ම දබ්බමල්ලපුතු විසින් අපි ගැහැවිහු කෙරෙහි බිඳුවන ලද්දමෝ"යි. ඔහු ඒ දොම්නසින් ම සිතූ සේ නො වැළඳූහ. එ කල්හි මෙත්තියභුම්මජක මහණහු බතින් පසු පිණ්ඩපාතයෙන් වැළකුණාහු අරමට ගොස් පාසිවුරු හැත්පත් කොට තබා - නිහඬ වූවාහු මකු වූවාහු නැමුනු කඳැට ඇත්තාහු යටිහුරු කළ මුව ඇත්තාහු සිතිවිලි සිතමින් කිසිවක් නො වැටහෙන්නාහු බිහි දොරකොටුවෙහි සඟලසිවුරින් අකවටු අවුලුවා ගෙණ හුන්හ.

13. ඉක්බිති මෙත්තියා මෙහෙණ මෙත්තියභුම්මජක මහණුන් වෙත එළඹියා ය. එළඹ මෙත්තියභුම්මජක මහණුන්ට 'හිමියෙනි, වදිමි'යි මෙය කීය. එසේ කී කල්හි මෙත්තියභුම්මජක මහණහු නො බිණූහ. දෙවන වටදු ... තෙවන වටදු මෙත්තියා මෙහෙණ මෙත්තියභුම්මජක මහණුන්ට 'හිමියෙනි, වදිමි' යි මෙය කීය. තෙවන වටදු මෙත්තියභුම්මජක මහණහු නො බිණූහ. "ආර්යයනට මම කිනම් අපරාධයක් කෙළෙම් ද? ආර්යයෝ කුමක් හෙයින් මා හා නො බෙණෙත් දෑ" යි. "නැඟනියෙනි, ඒ එසේ ම ය. දබ්බමල්ලපුතු විසින් අප වෙහෙසනු ලබනුවත් නී උපෙක්ෂා කෙරෙහි"යි. 'ආර්යයෙනි, මම කුමක් කෙරෙම් දෑ' යි. නැඟනියෙනි, ඉදින් නී රිසියවු නම් අද ම භාග්‍යවතුන් වහන්සේ ආයුෂ්මත් දබ්බමල්ලපුතු නාසාලන සේකැ"යි. 'ආර්යයෙනි, මම කුම් කෙරෙම් ද? මවිසින් කිමෙක් කට හැක්කේ දෑ' යි.

14 "එහි ත්වං භගිනි, යෙන භගවා තෙනුපසඞ්කම. උපසඞ්කමිත්වා භගවන්තං එවං වදෙහි: ඉදං භන්තෙ, නච්ඡන්නං නප්පතිරූපං. යායං භන්තෙ දිසා අභයා අනීතිකා අනුපද්දවා, සායං දිසා සභයා සඊතිකා සඋපද්දවා. යතො නිවාතං තතො පවාතං[1]. උදකං මඤ්ඤෙ ආදිත්තං. අය්‍යෙනම්හි දබ්බෙන මල්ලපුත්තෙන දූසිතා"ති. එවං අය්‍යාති ඛො මෙත්තියා භික්ඛුනී මෙත්තියභුම්මජකානං භික්ඛූනං පටිස්සුත්වා[2] යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි. එකමන්තං ඨිතා ඛො සා මෙත්තියා භික්ඛුනී භගවන්තං එතදවොච: "ඉදං භන්තෙ, නච්ඡන්නං නප්පතිරූපං. යායං භන්තෙ දිසා අභයා අනීතිකා අනුපද්දවා, සායං දිසා සභයා සඊතිකා සඋපද්දවා. යතො නිවාතං තතො පවාතං. උදකං මඤ්ඤෙ ආදිත්තං. අය්‍යෙනම්හි දබ්බෙන මල්ලපුත්තෙන දූසිතා"ති.

15. අථ ඛො භගවා එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ භික්ඛුසඞ්ඝං සන්නිපාතාපෙත්වා ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං පටිපුච්ඡි: "සරසි ත්වං දබ්බ, එවරූපං කත්තා යථායං භික්ඛුනී ආහා"ති. "යථා මං භන්තෙ භගවා ජානාතී"ති. දුතියම්පි ඛො භගවා ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං එතදවොච: "සරසි ත්වං දබ්බ, එවරූපං කත්තා යථායං භික්ඛුනී ආහා"ති. "යථා මං භන්තෙ, භගවා ජානාතී"ති. තතියම්පි ඛො භගවා ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං එතදවොච: "සරසි ත්වං දබ්බ, එවරූපං කත්තා යථායං භික්ඛුනී ආහා"ති "යථා මං භන්තෙ භගවා ජානාතී"ති. න ඛො දබ්බ, දබ්බා එවං නිබ්බෙඨෙන්ති. සචෙ තයා කතං, කතන්ති වදෙහි, සචෙ අකතං, අකතන්ති වදෙහීති. "යතොහං භන්තෙ, ජාතො නාභිජානාමි සුපිනන්තෙනපි[3] මෙථුනං ධම්මං පටිසෙවිතා, පගෙව ජාගරො"ති. අථ ඛො භගවා භික්ඛූ ආමන්තෙසි: තෙන හි භික්ඛවෙ, මෙත්තියං භික්ඛුනිං නාසෙථ. ඉමෙ ච භික්ඛූ අනුයුඤ්ජථාති. ඉදං වත්වා භගවා උට්ඨායාසනා විහාරං පාවිසි.

16. අථ ඛො තෙ භික්ඛූ මෙත්තියං භික්ඛුනිං නාසෙසුං. අථ ඛො මෙත්තියභුම්මජකා භික්ඛූ තෙ භික්ඛූ එතදවොචුං: "මා ආවුසො, මෙත්තියං භික්ඛුනිං නාසෙථ. න සා කිඤ්චි අපරජ්ඣති. අම්හෙහි සා උස්සාහිතා කුපිතෙහි අනත්තමනෙහි චාවනාධිප්පායෙහී"ති. "කිං පන තුම්හෙ ආවුසො, ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙථා"ති. 'එවමාවුසො'ති. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම මෙත්තියභුම්මජකා භික්ඛූ ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙස්සන්තී"ති.

---

1. සවාතං - මජසං. 2. පටිස්සුණිත්වා - සසා. 3. සුපිනන්තෙනාපි - සී2.

14. "තෑගතිසෙති, එවූ. තෝ භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹෙව. එළඹ භාග්‍යවතුන් වහන්සේට මෙසේ කියව: වහන්ස, මෙය නො නිසි ය. නො සරුප් ය. වහන්ස, යම් මේ දිශාවක් බිය රහිත නම් උවදුරු රහිත නම් පීඩා රහිත නම් ඒ මේ දිශාව බිය සහිත ය, උවදුරු සහිත ය, පීඩා සහිත ය. යම් තැනෙක මද සුළඟෙකුදු න ද්ද එහි මහ සුළං නැගිණ. දිය ඇවිලගත්තාක් මෙනි. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර භික්ෂුව විසින් මම් දූෂිතයමු"යි. 'එසේ ය, ආයුෂ්මතෙනි'යි මෙත්තියා මෙහෙණ මෙත්තිය-භුම්මජක මහණුන්ට පිළිතුරු දී භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියා ය. එළඹ භාග්‍යවතුන් වහන්සේ වැද එකත්පස් ව සිටියා ය. එකත්පස් ව සිටි ඒ මෙත්තිය මෙහෙණ භාග්‍යවතුන් වහන්සේට මෙය සැල කළාය: "වහන්ස, මෙය නො නිසි ය. නො සරුප් ය. වහන්ස, යම් මේ දිශාවක් බිය රහිත ද පීඩා රහිත ද උවදුරු රහිත ද ඒ මේ දිශාව බිය සහිත ය. පීඩා සහිත ය. උවදුරු සහිත ය. යම් තැනෙක සුළඟෙක් නොවී ද එහි සැඩ සුළං නැගිණි. දිය ඇවිල ගත්තාක් මෙනි. ආයුෂ්මද්දබ්බමල්ලපුත්‍රයන් විසින් දූෂිතයමු"යි.

15. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මේ නිදානයෙහි මේ ප්‍රස්තාවයෙහි භික්ෂුසඝ රැස් කරවා ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර පුළුවුත් සේක. "දබ්බ, යම්සේ මේ මෙහෙණ කිවුද "තෙපි මෙබන්දක් කළහු සිහි කරවු ද"යි. "වහන්ස, භාග්‍යවතුන් වහන්සේ යම් සේ මා දන්නා සේක් ද (-එසේ මම් දතයුතු වෙමියි)" දෙවන වටදු භාග්‍යවතුන් වහන්සේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රට මෙය වදාළ සේක: "දබ්බ, මේ මෙහෙණ යම්සේ කිවුද තෙපි මෙබන්දක් කළහු සිහි කරවු ද"යි. "වහන්ස, භාග්‍යවතුන් වහන්සේ යම්සේ මා දන්නා සේක් ද (-එසේ මම් දතයුතු වෙමියි.)" තෙවන වටදු භාග්‍යවතුන් වහන්සේ ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රට මෙය වදාළ සේක. "දබ්බ, යම්සේ මේ මෙහෙණ කිවුද, තෙපි මෙබන්දක් කළහු සිහි කරවු ද"යි? "වහන්ස, භාග්‍යවතුන් වහන්සේ යම්සේ මා දන්නා සේක්ද (-එසේ මම් දතයුතු වෙමියි.)" දබ්බ, දබ්බ (පණ්ඩිත)යෝ මෙසේ පරප්‍රත්‍යයෙන් (අනුන් පිහිටෙන්) නිරවුල් නොකෙරෙත්. ඉදින් තා විසින් කරණ ලද නම් කරණ ලදැ යි කියව, ඉදින් නො කරණලද නම් නො කරණ ලදැ යි කියව යි. "වහන්ස, මම උපන් තැන් පටන් සිහිනයකුදු මෙවුන්දම් සෙවුනෙම් නො ම දනිමි. පිබිදියෙම් කියනු ම කවරේ ද"යි. එ කල්හි භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන් ඇමතූ සේක: "මහණෙනි, එසේ නම් මෙත්තියා මෙහෙණ (ශ්‍රමණලිංග නාසනායෙන්) නසවූ. මේ (මෙහෙයු) මහණුන් ද විමසවු"යි. මෙය වදරා භාග්‍යවතුන් වහන්සේ හුනස්නෙන් නැගී වෙහෙරට වැඩි සේක.

16. ඉක්බිති ඒ භික්ෂූහු මෙත්තියා මෙහෙණ නැසූහ. (සිවුරු හැරවූහ). එ කල්හි මෙත්තියභුම්මජක මහණහු ඒ භික්ෂූන්ට මෙය කීහු: "ඇවැත්නි, මෙත්තියා මෙහෙණ නනමක් නසවු. ඕ තොමෝ කිසි අපරාධයක් නො කෙරෙයි. කිපියා වූ නො සතුටු සිත් ඇති නොරණ අදහස් ඇති අප විසින් ඕ උත්සාහවත් කරණ ලදු" යි. ඇවැත්නි, කිමෙක් ද? තෙපි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රට අමූලික සීලවිපත්තියෙන් චෝදනා කරවු ද යි? 'ඇවැත්නි, එසේ' යි. යම් ඒ මහණහු අපිස් වූවාහු ... ඔහු අවමන් කෙරෙත්, නුගුණ කියත්, දෙස් පතළ කෙරෙත්: කෙසේ නම් මෙත්තියභුම්මජක මහණහු ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රට අමූලික සීලවිපත්තියෙන් චෝදනා කෙරෙත් ද යි.

17. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං -පෙ- සච්චං කිර භික්ඛවෙ, මෙත්තියභුම්මජකා භික්ඛූ දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්තීති?. 'සච්චං භගවා'. විගරහි බුද්ධො භගවා -පෙ- විගරහිත්වා -පෙ- භික්ඛූනං තදනුච්ඡවිකං තදනුලොමිකං ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

18. තෙන හි භික්ඛවෙ, සඞ්ඝො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දෙතු. එවඤ්ච පන භික්ඛවෙ දාතබ්බො: තෙන භික්ඛවෙ දබ්බෙන මල්ලපුත්තෙන සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා බුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: "ඉමෙ මං භන්තෙ, මෙත්තියභුම්මජකා භික්ඛූ අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. සොහං භන්තෙ සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචාමී"ති. දුතියම්පි යාචිතබ්බො -පෙ- තතියම්පි යාචිතබ්බො: "ඉමෙ මං භන්තෙ මෙත්තියභුම්මජකා භික්ඛූ අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. සොහං සතිවෙපුල්ලප්පත්තො. තතියම්පි භන්තෙ සඞ්ඝං සතිවිනයං යාචාමී"ති.

19. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ මෙත්තියභුම්මජකා භික්ඛූ ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. ආයස්මා දබ්බො මල්ලපුත්තො සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දදෙය්‍ය. එසා ඤත්ති

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ මෙත්තියභුම්මජකා භික්ඛූ ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. ආයස්මා දබ්බො මල්ලපුත්තො සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචති. සඞ්ඝො ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දෙති. යස්සායස්මතො ඛමති ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයස්ස දානං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි. සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: ඉමෙ මෙත්තියභුම්මජකා භික්ඛූ ආයස්මන්තං දබ්බං මල්ලපුත්තං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. ආයස්මා දබ්බො මල්ලපුත්තො සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචති. සඞ්ඝො ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දෙති. යස්සායස්මතො ඛමති ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයස්ස දානං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.

දින්නො සඞ්ඝෙන ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයො. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

17. ඉක්බිති ඒ මහණහු භාග්‍යවතුන් වහන්සේට මේ කරුණ සැල කළහ... මහණෙනි, සැබෑ ද, මෙත්තිය භුම්මජක මහණහු දබ්බමල්ලපුත්තට අමූලික සීලවිපත්තියෙන් චෝදනා කෙරෙද්ද යි? 'භාග්‍යවතුන් වහන්ස, සැබෑවි'. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ගැරහූ සේක... ගරහා... භික්ෂූන්ට එයට සුදුසු වූ එයට අනුලෝම වූ දහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක:

18. මහණෙනි, එසේ නම් සඞ්ඝ තෙමේ සිහියෙන් විපුලබවට පැමිණි දබ්බමල්ලපුත්තට සතිවිනය දේවා. මහණෙනි, මෙසේ දිය යුතු: මහණෙනි, ඒ දබ්බමල්ලපුත්ත විසින් සඞ්ඝයා වෙත එළඹ උතුරුසඟ එකස් කොට මහලු මහණුන්ගේ පා වැද උළුක්කෙන් හිඳ ඇඳිලි බැඳ මෙසේ කියයුතු වන්නේ ය: "වහන්ස, මේ මෙත්තියභුම්මජක මහණහු අමූලික සීල-විපත්තියෙන් මට චෝදනා කෙරෙත්. වහන්ස, ඒ මම සමෘතිවිපුලත්වයට (සමෘතිඅවිප්‍රවාසයට) පැමිණියෙමි සඞ්ඝයාගෙන් සතිවිනය යදිමි" යි. දෙවන වටද යැද්ද යුතු ...තෙවන වටද යැද්ද යුතු: වහන්ස, මේ මෙත්තිය භුම්මජක මහණහු අමූලික සීලවිපත්තියෙන් මට චෝදනා කෙරෙති. ඒ මම සමෘති විපුලත්වයට පැමිණියෙමි. වහන්ස, තෙවන වටද සඞ්ඝයාගෙන් සතිවිනය යදිමි" යි.

19. ව්‍යත්පබල මහණකු විසින් සඞ්ඝ තෙමේ දැන්විය යුත්තේ ය:

"වහන්ස, සඞ්ඝ තෙමේ මා වදන අසාවා. මේ මෙත්තියභුම්මජක මහණහු ආයුෂ්මත් දබ්බමල්ලපුත්තට අමූලික සීලවිපත්තියෙන් චෝදනා නගත්. ආයුෂ්මත් දබ්බමල්ලපුත් තෙමේ සිහිවිපුල බවට පැමිණියේ සඞ්ඝයාගෙන් සතිවිනය යදී. ඉදින් සඟහට පැමිණි කල් ඇත්තේ නම් සඞ්ඝ තෙමේ සිහිවිපුල බවට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්තට සතිවිනය දෙන්නේය. මේ ඥප්තිය යි.

වහන්ස, සඞ්ඝ තෙමේ මා වදන අසාවා. මේ මෙත්තියභුම්මජක මහණහු ආයුෂ්මත් දබ්බමල්ලපුත්තට මුල් නැති සිල්විපතින් චෝදනා නගත්. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර තෙමේ සමෘතිවිපුලත්වයට පැමිණියේ සඞ්ඝයාගෙන් සමෘතිවිනය ඉල්ලයි. සඞ්ඝ තෙමේ සමෘතිවිපුලත්වයට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රයාට සමෘතිවිනය දෙයි. සමෘතිවිපුලත්වයට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රහට සමෘතිවිනය දීම යම් ආයුෂ්මතකුහට රිසියේ නම් ඒ නිහඬ වන්නේ ය. යමකුහට රිසි නො වේ නම් හේ බණන්නේ ය.

දෙවන වටද මේ අරුත කියමි ... තෙවන වටද මේ අරුත කියමි: වහන්ස, සඞ්ඝ තෙමේ මා වදන අසාවා. මේ මෙත්තියභුම්මජක මහණහු මුල් නැති සිල්විපතින් ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රහට චෝදනා නගත්. ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර තෙමේ සමෘතිවිපුලත්වයට පැමිණියේ සඞ්ඝයාගෙන් සතිවිනය යදියි. සඞ්ඝ තෙමේ සමෘතිවිපුලත්වයට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රහට සතිවිනය දෙයි. සමෘතිවිපුලත්වයට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රහට සතිවිනය දීම යම් ආයුෂ්මතකුහට රිසියේ නම් හේ නිහඬ වන්නේ ය. යමකුහට රිසි නො වේ නම් හේ බණන්නේ ය.

සමෘතිවිපුලත්වයට පැමිණි ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍රහට සඞ්ඝයා විසින් සතිවිනය දෙන ලදී. සඞ්ඝයාට රිසියේ. එහෙයින් නිහඬ ය. මෙසේ මෙය දරමි" යි.

පඤ්චිමානි භික්ඛවෙ ධම්මිකානි සතිවිනයස්ස දානානි: සුද්ධො හොති භික්ඛු අනාපත්තිකො, අනුවදන්ති ච නං, යාචති ච, තස්ස සඞ්ඝො සතිවිනයං දෙති, ධම්මෙන සමග්ගෙන[1] ඉමානි ඛො භික්ඛවෙ, පඤ්ච ධම්මිකානි සතිවිනයස්ස දානානීති.*

**සතිවිනයො නිට්ඨිතො.**

## 3. අමූළ්හවිනයො

1. තෙන ඛො පන සමයෙන ගග්ගො භික්ඛු උම්මත්තකො හොති චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං.[2] භික්ඛූ ගග්ගං භික්ඛුං උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති: "සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා"ති. සො එවං වදෙති: "අහං ඛො ආවුසො, උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කත"න්ති. එවම්පි තං වුච්චමානා චොදෙන්තෙව: "සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා"ති.

2. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: "කථං හි නාම භික්ඛූ ගග්ගං භික්ඛුං උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙස්සන්ති: 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'[3]ති. සො එවං වදෙති: 'අහං ඛො ආවුසො, උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කත'න්ති. එවම්පි තං වුච්චමානා චොදෙන්තෙව: "සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා"ති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං. සච්චං කිර භික්ඛවෙ -පෙ- සච්චං. භගවා විගරහි බුද්ධො භගවා -පෙ-. විගරහිත්වා -පෙ- ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

3. තෙන හි භික්ඛවෙ, සඞ්ඝො ගග්ගස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයං දෙතු. එවඤ්ච පන භික්ඛවෙ දාතබ්බො: තෙන භික්ඛවෙ, ගග්ගෙන භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: "අහං භන්තෙ, උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. මං භික්ඛූ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති: "සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා"ති. ත්යාහං එවං වදාමි:-

---

1. සමග්ගො - PTS.

* "එත්ථ සුද්ධස්ස අනාපත්තිකස්ස දානං එකං, අනුවදිතස්ස එකං, යාචිතස්ස එකං, සඞ්ඝෙන දානං එකං, ධම්මෙන සමග්ගෙහි දානං එකන්ති එවං පඤ්ච. එතානි පන එකෙක අඞ්ගවසෙන න ලබ්භන්ති. තස්මා දෙසනාමත්තමෙවෙතං" - සමන්තපාසාදිකා

2. භාසිතපරික්කන්තං - මජසං, සයා. 3. 'ආපජ්ජිත්වා' තිපි පාඨො, - අට්ඨකථා

19. මහණෙනි, මේ දැහැමි සතිවිනය දීම් පසෙකි: මහණ තෙමේ ඇවැත් නැත්තේ පිරිසිදු වූයේ වෙයි. ඔහුට චෝදනාත් කෙරෙති. (හෙතෙමේ මීත්) යදී. ඔහුට සඞ්ඝ තෙමේ සතිවිනය දෙයි. දැහැමින් සමඟ ව දෙයි මහණෙනි, මේ දැහැමි සතිවිනය දීම් පසයි.*

**සතිවිනය නිමියේ ය.**

## 3. අමූළ්හවිනය

1. එ සමයෙහි ගග්ග මහණ තෙමේ සිත් පෙරළියෙන් වූ උමතු ඇතියේ වෙයි. සිත් පෙරළීමෙන් උමතු වූ ඔහු විසින් බසින් කිණූ කයින් මැඩූ බොහෝ නො සරුප්කම් කරණ ලද්දේ වෙයි. සිත් පෙරළුණු උමතුවූවහු විසින් කරණ ලද නො සරුප්කම් හෙතු කොට ගෙණ භික්ෂූහු ගග්ග මහණහට “මෙබඳු ඇවැත් අවත් ආයුෂමත් ඒ ඇවැත සිහි කෙරේවා” යි ඇවැතින් චොදනා කෙරෙත්. හෙ තෙමේ මෙසේ කියයි: “ඇවැත්නි, මම සිත් පෙරළීමෙන් උමතු වීමි. සිත් පෙරළීමෙන් උමතු වූ මා විසින් වචනයෙන් කියූ කයින් මැඩූ බොහෝ නො සරුප්කම් කරණ ලදි. මම එය නො සමරමි. මුළා වූ මා විසින් මෙය කරණ ලදැ”යි. මෙසේ කියනු ලබත්තාහු ද “මෙබඳු ඇවැත් අවත් ආයුෂමත් ඒ ඇවැත සිහි කෙරේවා”යි ඔහුට චොදනා කෙරෙත් ම ය.

2. යම් මහණහු අපිස් වූවාහු නම් ... ඔහු අවමන් කෙරෙත්, නුගුණ කියත්, දොස් පහළ කෙරෙත්: “සිත් පෙරළීමෙන් උමතු වූවහු විසින් කළ කම් හෙතු කොට ගෙණ භික්ෂූහු කෙසේ නම් ගග්ග මහණහට ‘මෙබඳු ඇවැත් අවත් ආයුෂමත් ඒ ඇවැත සිහි කෙරේවා’යි ඇවැතින් චොදනා කළාහු ද – සෙ තෙමේ මෙසේ කියයි: ‘ඇවැත්නි, මම සිත් පෙරළීමෙන් උමතු වීමි. සිත් පෙරළීමෙන් උමතු වූ ඒ මා විසින් බසින් කිණූ කයින් මැඩූ බොහෝ නො සරුප්කම් කරණ ලදි. මම එය නො සමරමි. මුළාවූ මා විසින් මෙය කරණ ලදැ’යි. මෙසේ කියනු ලබත්තාහු ද ‘මෙබඳු ඇවැත් අවත් ආයුෂමත් ඒ ඇවැත සිහි කෙරේවා’ යි ඔහුට චොදනා කෙරෙත් ම ය. ඉක්බිති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මේ කරුණ සැල කළහ. මහණෙනි, සැබෑ ද ... ‘භාග්‍යවතුන් වහන්ස, සැබැවි.’ භාග්‍යවත් බුදුරජානන් වහන්සේ ගැරහූ සේක .. ගරහා... දැහැමි කථා කොට භික්ෂූන් ඇමතූ සේක:

3 මහණෙනි, එසේ නම් සඞ්ඝ තෙමේ ගග්ග මහණහට අමූළ්හවිනය දේවා. මහණෙනි, මෙසේ දිය යුතු: මහණෙනි, ගග්ග මහණහු විසින් සඟ වෙත එළඹ උතුරුසඟල එකස් කොට වැඩිමහලු මහණුන්ගේ පා වැඳ උළුල්ලෙන් හිඳ ඇඳිලි බැඳ මෙසේ කිය යුතු වන්නේ ය: වහන්ස, මම සිත් පෙරළීමෙන් උමතු වීමි. සිත් පෙරළීමෙන් උමතු වූ ඒ මා විසින් බසින් කියනලද කයින් මඩනා ලද බොහෝ නො සරුප්කම් කරණ ලදි. සිත් පෙරළුණු උමතු වූවහු විසින් කරණ ලද නො සරුප්කම් හේතු කොට ගෙණ “මෙබඳු ඇවැතකට පැමිණි ආයුෂමත් ඒ ඇවැත සිහි කෙරේවා”යි භික්ෂූහු මට ඇවතින් චොදනා කෙරෙත් ඔවුන්ට මම මෙසේ කියමි: –

* සතිවිනය දීම මේ පස් කරුණින් යුක්තවූයේ දැහැමිකම් වේ යනු මෙහි අර්ථයි.

"අහං ඛො ආවුසො, උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කතන්ති. එවම්පි මං වුච්චමානා චොදෙන්තෙව: 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. සොහං භන්තෙ අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචාමී"ති. දුතියම්පි යාචිතබ්බො -පෙ- තතියම්පි යාචිතබ්බො: "අහං භන්තෙ උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. මං භික්ඛූ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති. 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. ත්‍යාහං එවං වදාමි: අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො, තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කත"න්ති. එවම්පි මං වුච්චමානා චොදෙන්තෙව: 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. සොහං භන්තෙ අමූළ්හො. තතියම්පි භන්තෙ, සඞ්ඝං අමූළ්හවිනයං යාචාමී"ති.

4. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ගග්ගො භික්ඛු උම්මත්තකො අහොසි චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. භික්ඛූ ගග්ගං භික්ඛුං උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති: 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. සො එවං වදෙති: 'අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කතන්ති. එවම්පි මං වුච්චමානා චොදෙන්තෙව. 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති සො අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ගග්ගස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයං දදෙය්‍ය එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ගග්ගො භික්ඛු උම්මත්තකො අහොසි චිත්තවිපරියාසකතො තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. භික්ඛූ ගග්ගං භික්ඛුං උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්තිව 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. සො එවං වදෙති:

"ඇවැත්නි, මම වූ කලි සිත් පෙරළීමට පත් උමතුවෙකිම් වීමි. සිත් පෙරළීමට පත් උමතුවකු වූ ඒ මා විසින් බසින් කියන ලද, කයින් කරණ ලද බොහෝ අශ්‍රාමණක දෑ (මහණුන් විසින් නො කටයුතු නොසරුප්කම්) කරණ ලදී. මම එය නො සමරමි. සිහි මුළා වූ මා විසින් එය කරණ ලදී යනුවෙනි." මෙසේත් (මා විසින්) කියනු ලබන ඒ මහණහු මට "ආයුෂ්මත් තෙමේ මෙ බඳු ඇවතකට පැමිණියා සිහි කෙරේවා"යි චෝදනා කෙරෙත් ම ය. වහන්ස ඒ මම (දන්) පහ වූ සිහි මුළාව ඇත්තෙම් (සිහිමුළායෙන් මිදුනෙම්) සංඝයා වෙතින් අමූළ්හ විනයය ඉල්ලමි"යි යාච්ඤා කළ යුතු. දෙවෙනි වර ද ......යාච්ඤා කළ යුතු. තෙවෙනි වර ද, "වහන්ස, මම සිත් පෙරළීමට පත් උමතුවෙකිම් වීමි. සිත්පෙරළීමට පත් උමතුවකු වූ ඒ මා විසින් බසින් කියන ලද කයින් කරණ ලද බොහෝ අශ්‍රාමණක දෑ (මහණුන් විසින් නොකටයුතු නො සරුප්කම්) කරණ ලදි. සිත් පෙරළීමට පත් උමතුවකු වූ මා විසින් කරණ ලද දෑ කරණ කොට ගෙන, "ආයුෂ්මත්තෙමේ මෙ බඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා"යි මට ඇවැතින් චෝදනා කෙරෙත්. මම ඔවුනට මෙසේ කියමි: "ඇවැත්නි, මම වූ කලි සිත් පෙරළීමට පත් උමතුවෙකිම් වීමි. සිත්පෙරළීමට පත් උමතුවකු වූ ඒ මා විසින් බසින් කියන ලද කයින් කරණ ලද බොහෝ අශ්‍රාමණක දෑ (මහණුන් විසින් නොකටයුතු නොසරුප්කම්) කරණ ලදී. මම එය නො සමරමි. සිහි මුළා වූ මා විසින් එය කරණ ලදී" යනුවෙනි. මෙසේත් (මා විසින්) කියනු ලබන ඒ මහණහු මට "ආයුෂ්මත් තෙමේ මෙ බඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා"යි චෝදනා කෙරෙත් ම ය. වහන්ස, ඒ මම (දන්) පහ වූ සිහි මුළාව ඇත්තෙම (සිහි මුළායෙන් මිදුණෙම්) තුන්වැනි වරද සංඝයා වෙතින් අමූළ්හ විනයය ඉල්ලමි"යි යාච්ඤා කළ යුතු.

4. ව්‍යක්ත වූ ප්‍රබල වූ මහණක්හු විසින් සංඝ තෙමේ මෙසේ දන්විය යුතු: "වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා: මේ ගර්ග මහණ තෙම උමතු වූයේ සිත් පෙරළීමට පැමිණියේ විය. උමතු වූ සිත් පෙරළියට පත් වචනයෙන් කියන ලද්දවූ ද කයින් කරණ ලද්දවූ ද බොහෝ අශ්‍රාමණක දෑ (මහණුනට නො සරුප් වූ බොහෝ දෑ) කරණ ලද්දේ ය. මහණහු උමතු වූ සිත් පෙරළියට පැමිණ කරණ ලද දෑ කරණ කොට ගෙන ගර්ග මහණහට "ආයුෂ්මත් තෙමේ මෙබඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා"යි ඇවැතින් චෝදනා කෙරෙත්. හෙ තෙම ඇවැත්නි, මම වූ කලි උමතු වූයෙම් සිත් පෙරළියට පැමිණියෙම් වීමි. උමතු වූ සිත් පෙරළියට පැමිණි ඒ මා විසින් වචනයෙන් ද කයින් ද බොහෝ අශ්‍රාමණක නොසරුප් කම් කරණ ලදි. මම ඒ දෑ නො සමරමි. ඒ දෑ සිහි මුළා වූ මා විසින් කරණ ලද්දේ යැ' යි මෙසේ කියයි. ඔහු මෙසේ කියනු ලබන්නාහු ද ඒ මහණහට 'ආයුෂ්මත් තෙමේ මෙබඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා'යි චෝදනා කෙරෙත් ම ය. සිහි මුළායෙන් මිදුණු හෙතෙම සංඝයා වෙතින් අමූළ්හ විනය යදී. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ වී නම්, සංඝ තෙමේ සිහිමුළා බැවින් මිදුණු ගර්ග මහණහට අමූළ්හ විනය දෙන්නේ ය. මේ ඥප්ති යි (දැනුම් දීම යි).

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා: මේ ගර්ග මහණ තෙම සිත් පෙරළියට පැමිණි උමතුවෙක් විය. සිත් පෙරළියට පත් උමතු වූ ඔහු විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක දෑ (මහණුනට නො සරුප් දෑ) කරණ ලදී. මහණහු සිත් පෙරළියට පැමිණි උමතු වූ මොහු විසින් කරණ ලද දෑ කරණ කොට ගෙන 'ආයුෂ්මත් තෙමේ මෙබඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා"යි ගර්ග මහණහට ඇවැතින් චෝදනා කෙරෙත් ම ය. (එවිට) හෙ තෙමේ මෙසේ කියයි:

අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරිකන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කතන්ති. එවම්පි නං වුච්චමානා චොදෙන්තෙව 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතා'ති. සො අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචති. සඞ්ඝො ගග්ගස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයං දෙති. යස්සායස්මතො ඛමති ගග්ගස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයස්ස දානං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි -පෙ- දින්නො සඞ්ඝෙන ගග්ගස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයො. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමීති.

5. තීණිමානි භික්ඛවෙ අධම්මිකානි අමූළ්හවිනයස්ස දානානි. තීණි ධම්මිකානි.

කතමානි තීණි අධම්මිකානි අමූළ්හවිනයස්ස දානානි? ඉධ පන භික්ඛවෙ භික්ඛු ආපත්තිං ආපන්නො හොති තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො සරමානො ච එවං වදෙති: න ඛො අහං ආවුසො සරාමි එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. අධම්මිකං අමූළ්හවිනයස්ස දානං.

ඉධ පන භික්ඛවෙ භික්ඛු ආපත්තිං ආපන්නො හොති තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො සරමානො ච එවං වදෙති: සරාමි ඛො අහං ආවුසො යථා සුපිනන්තෙනාති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. අධම්මිකං අමූළ්හවිනයස්ස දානං.

ඉධ පන භික්ඛවෙ භික්ඛු ආපත්තිං ආපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො අනුම්මත්තකො උම්මත්තකාලයං කරොති: අහම්පි ඛො එවං කරොමි, තුම්හෙපි එවං කරොථ, මය්හම්පි එතං කප්පති, තුම්හාකම්පෙතං කප්පතීති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. අධම්මිකං අමූළ්හවිනයස්ස දානං. ඉමානි තීණි අධම්මිකානි අමූළ්හවිනයස්ස දානානි.

'ඇවැත්නි, සිත් පෙරළීයට පැමිණි උමතුවෙක් වීමි...' යනුවෙනි. හේ සිහි මුළාවෙන් මිදුනේ සංඝයා වෙතින් අමූළ්හවිනයය ඉල්ලයි, සංඝ තෙමේ සිහිමුළාවෙන් මිදුණු ගග්ග මහණහට අමූළ්හවිනයය දෙයි. ගග්ග මහණහට අමූළ්හ විනයය දීම යම් ආයුෂ්මතක්හට රිසියෙයි නම් හේ නිහඬ වේවා. යම් ආයුෂ්මතක් හට නො රිසියෙයි නම් හේ කියාවා.

දෙවනු ව ද මෙ කරුණ කියමි... තෙවනු ව ද මෙ කරුණ කියමි... සංඝයා විසින් සිහිමුළාවෙන් මිදුණු ගග්ග මහණහට අමූළ්හ විනයය දෙන ලද්දේ ය. එය සඞ්ඝයාට රිසියෙයි. එ හෙයින් නිහඬ වෙයි. මෙසේ මෙ කරුණ තුවණින් සලකමි''.

5. මහණෙනි, මේ නො දැහැමි වූ අමූළ්හවිනයය දීම් තුනෙකි. දැහැමි වූ අමූළ්හවිනයය දීම් තුනෙකි.

නොදැහැමි වූ අමූළ්හවිනය දන තුන කවර? යත්: මහණෙනි, මෙහි මහණ තෙම ඇවැතකට පැමිණියේ වෙයි. ඔහුට සංඝ තෙමේ හෝ බොහෝ භික්ෂූහු හෝ එක් පුඟුලෙක් හෝ ''ආයුෂ්මත් තෙමේ 'මෙබඳු ඇවැතකට පැමිණියෙමි'යි සිහි කෙරේ වා''යි චෝදනා කෙරෙයි. හේ සිහි කරන්නේ ම ''ඇවැත්නි මෙබඳු ඇවැතකට පැමිණියෙම් වෙමියි නො ම සිහි කරමි''යි මෙසේ කියයි. සඞ්ඝයා ඔහුට අමූළ්හවිනය දෙයි. මේ නො දැහැමි වූ අමූළ්හවිනය දීමෙකි.

මහණෙනි, මෙහි මහණෙක් ඇවැතකට පැමිණියේ වෙයි. ඔහුට සංඝ තෙමේ හෝ බොහෝ මහණහු හෝ එක් පුඟුලෙක් හෝ 'මෙබඳු ඇවැතකට පැමිණියෙමි යි ආයුෂ්මත් තෙමේ සිහි කෙරේවා'යි ඔහුට චෝදනා කෙරෙයි. හේ සිහි කරන්නේ ම 'ඇවැත්නි, සිහිනයෙකින් මෙන් සිහි කරමි'යි මෙසේ කියයි. ඔහුට සංඝයා අමූළ්හ විනය දෙයි. මේ නොදැහැමි වූ අමූළ්හවිනයය දීමෙකි.

මහණෙනි, මෙහි මහණෙක් ඇවැතකට පැමිණියේ වෙයි. සංඝ තෙමේ හෝ බොහෝ මහණහු හෝ එක් පුද්ගලයෙක් හෝ 'මෙබඳු ඇවැතකට පැමිණියෙම් වෙමි'යි ආයුෂ්මත් තෙමේ සිහි කෙරේවා' යි ඔහුට චෝදනා කෙරෙයි, හේ උමතු නොවන්නේ ම 'මමත් මෙසේ කෙරෙමි, තෙපිත් මෙසේ කරනු, මටත් මෙය කැප ය, තොපටත් මෙය කැප වේ'යැ යි උමතුවක්හු සේ කථා කෙරෙයි. සංඝයා ඔහුට අමූළ්හවිනයය දෙයි. මේ නොදැහැමි වූ අමූළ්හවිනය දනයෙකි. මෙසේ අමූළ්හවිනයයා ගේ මේ නොදැහැමි වූ දීම් තුනෙකි.

6. කතමානි තීණි ධම්මිකානි අමූළ්හවිනයස්ස දානානි? ඉධ පන භික්ඛවෙ භික්ඛු උම්මත්තකො හොති චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. තමෙනං චොදෙන්ති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා; සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො අසරමානො ව එවං වදෙති. න ඛො අහං ආවුසො සරාමි එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. ධම්මිකං අමූළ්හවිනයස්ස දානං.

ඉධ පන භික්ඛවෙ භික්ඛු උම්මත්තකො හොති චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. තමෙනං චොදෙන්ති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො අසරමානො'ව එවං වදෙති: සරාමි ඛො අහං ආවුසො යථාසුපිනන්තෙනාති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. ධම්මිකං අමූළ්හවිනයස්ස දානං.

ඉධ පන භික්ඛවෙ භික්ඛු උම්මත්තකො හොති චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. තමෙනං චොදෙන්ති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො උම්මත්තකො උම්මත්තකාලයං කරොති: අහම්පි එවං කරොමි, තුම්හෙපි එවං කරොථ. මය්හම්පි එතං කප්පති, තුම්හාකම්පෙතං කප්පතීති. තස්ස සඞ්ඝො අමූළ්හවිනයං දෙති. ධම්මිකං අමූළ්හවිනයස්ස දානං.

ඉමානි තීණි ධම්මිකානි අමූළ්හවිනයස්ස දානානීති.

## පටිඤ්ඤාතකරණං

7. තෙන ඛො පන සමයෙන ඡබ්බග්ගියා භික්ඛූ අප්පටිඤ්ඤාය භික්ඛූනං කම්මානි කරොන්ති තජ්ජනියම්පි නියස්සම්පි පබ්බාජනියම්පි පටිසාරණියම්පි උක්ඛෙපනියම්පි. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා –පෙ– තෙ උජ්ඣායන්ති ඛියන්ති විපාචෙන්ති: කථං හි නාම ඡබ්බග්ගියා භික්ඛූ අප්පටිඤ්ඤාය භික්ඛූනං කම්මානි කරිස්සන්ති තජ්ජනියම්පි පබ්බාජනියම්පි නියස්සම්පි පටිසාරණියම්පි උක්ඛෙපනියම්පීති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං –පෙ– සච්චං කිර භික්ඛවෙ –පෙ–

6. දැහැමි වූ අමූළ්හ විනයයා ගේ දීම තුන කවර යත්: මහණෙනි, මෙහි මහණෙක් සිත් පෙරළියට ගිය උමතුවෙක් වෙයි. සිත් පෙරළියට ගිය උමතු වූ ඔහු විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක දෑ කරන ලද්දේ වෙයි. සංඝයා හෝ බොහෝ භික්ෂූහු හෝ එක් පුඟුලෙක් හෝ 'තමා මෙබඳු ඇවැතකට පැමිණෙන්නා ආයුෂ්මත් තෙමේ සිහි කෙරේවා' යි ඔහුට චෝදනා කෙරෙයි. හේ සිහි නොකරන්නේ ම 'ඇවැත්නි, මෙබඳු ඇවැතකට පැමිණියෙමි'යි මම නො ම සිහි කෙරෙමි'යි මෙසේ කියයි. සංඝ තෙමේ ඔහුට අමූළ්හවිනයය දෙයි. අමූළ්හවිනයයා ගේ ඒ දීම දැහැමි ය.

මහණෙනි, මෙහි මහණෙක් වනාහි සිත් පෙරළියට ගිය උමතුවෙක් වෙයි. සිත් පෙරළියට පැමිණි උමතු වූ ඔහු විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක දෑ කරන ලද්දේ වෙයි. සංඝයා හෝ බොහෝ මහණහු හෝ එක් පුඟුලෙක් හෝ තමා මෙබඳු ඇවැතකට පැමිණියා ආයුෂ්මත් තෙමේ සිහි කෙරේවා'යි ඔහුට චෝදනා කෙරෙයි. හේ සිහි නො කරනුයේ ම 'ඇවැත්නි, මම සිහිනෙන් මෙන් සිහි කෙරෙමි යි මෙසේ කියයි. සංඝයා ඔහුට අමූළ්හවිනය දෙයි. ඒ අමූළ්හවිනයයා ගේ දානය දැහැමි යි.

මහණෙනි, මෙහි මහණෙක් වනාහි සිහි පෙරළියට ගිය උමතුවෙක් වෙයි. සිහි පෙරළියට ගිය උමතු වූ ඔහු විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක දෑ කරන ලද්දේ වෙයි සංඝයා හෝ බොහෝ මහණහු හෝ එක් පුඟුලෙක් (එක් මහණෙක්) හෝ ඔහුට 'මෙබඳු ඇවැතකට තමා පැමිණියා ආයුෂ්මත් තෙමේ සිහි කෙරේවා' යි චෝදනා කෙරෙයි. හේ උමතු වූයේ 'මමත් මෙසේ කරමි, තෙපිත් මෙසේ කරවු, මටත් මෙය කැප ය, තොපටත් මෙය කැප යැ'යි උමතු අයුරක් කරයි. සංඝ තෙමේ ඔහුට අමූළ්හවිනයය දෙයි. අමූළ්හවිනයයාගේ ඒ දීම දැහැමි යි.

මේ දැහැමි වූ අමූළ්හවිනය දීම තුන ය.''

## ප්‍රතිඥාතකරණය

7. ඒ සමයෙහි වනාහි ෂඩ්වර්ගික භික්ෂූහු අප්‍රතිඥයෙන් (වරද කළමහ යි වුදිතයන්ගේ ප්‍රතිඥාවක් නැති ව) මහණුනට තර්ජනීය කර්ම්ය ද නියස්සකර්ම්ය ද පබ්බාජනීය කර්ම්ය ද පටිසාරණීයකර්මය ද උක්ඛෙපනීය කර්මය ද කරත්. යම් මහණ කෙනෙක් අල්පේච්ඡ ද ... ඔහු කෙසේ නම් ෂවැගි මහණහු ප්‍රතිඥා රහිත ව මහණුනට තජ්ජනියකර්මයත් නියස්ස කර්මයත් පබ්බාජනියකර්මයත් පටිසාරණීයකරමයත් උක්ඛෙපනීය කර්මයත් කෙරෙත් දැ'යි අවමන් කෙරෙත් දෙස් කියත්, නුගුණ පතුරු-වත්. ඉක්බිති ඒ මහණහු භාග්‍යවතුන් වහන්සේට මෙ පවත් සැල කළහ... මහණෙනි, ඒ සැබෑ ද?... අසා වදළ සේක.

සච්චං භගවා -පෙ- විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: න භික්ඛවෙ අපටිඤ්ඤාය භික්ඛූනං කම්මං කාතබ්බං තජ්ජනීයං වා නියස්සං වා පබ්බාජනීයං වා පටිසාරණීයං වා උක්ඛෙපනීයං වා. යො කරෙය්‍ය[1] ආපත්ති දුක්කටස්ස.

8. එවං ඛො භික්ඛවෙ අධම්මිකං හොති පටිඤ්ඤාතකරණං: එවං ධම්මිකං. කථඤ්ච භික්ඛවෙ අධම්මිකං හොති පටිඤ්ඤාතකරණං? භික්ඛු පාරාජිකං අජ්ඣාපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: පාරාජිකං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: න ඛො අහං ආවුසො පාරාජිකං අජ්ඣාපන්නො, සඞ්ඝාදිසෙසං අජ්ඣාපන්නොති තං සඞ්ඝො සඞ්ඝාදිසෙසෙන කාරෙති අධම්මිකං පටිඤ්ඤාතකරණං.

භික්ඛු පාරාජිකං අජ්ඣාපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා පාරාජිකං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: න ඛො අහං ආවුසො පාරාජිකං අජ්ඣාපන්නො, ථුල්ලච්චයං -පෙ- පාචිත්තියං -පෙ- පාටිදෙසනීයං -පෙ- දුක්කටං -පෙ- දුබ්භාසිතං අජ්ඣාපන්නො'ති. තං සඞ්ඝො දුබ්භාසිතෙන කාරෙති අධම්මිකං පටිඤ්ඤාතකරණං. භික්ඛු සඞ්ඝාදිසෙසං -පෙ- ථුල්ලච්චයං -පෙ- පාචිත්තියං -පෙ- පාටිදෙසනීයං -පෙ- දුක්කටං -පෙ- දුබ්භාසිතං අජ්ඣාපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: දුබ්භාසිතං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: න ඛො අහං ආවුසො දුබ්භාසිතං අජ්ඣාපන්නො, පාරාජිකං අජ්ඣාපන්නොති තං සඞ්ඝො පාරාජිකෙන කාරෙති අධම්මිකං පටිඤ්ඤාතකරණං.

භික්ඛු දුබ්භාසිතං අජ්ඣාපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: දුබ්භාසිතං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: න ඛො අහං ආවුසො දුබ්භාසිතං අජ්ඣාපන්නො, සඞ්ඝාදිසෙසං අජ්ඣාපන්නොති -පෙ- ථුල්ලච්චයං -පෙ- පාචිත්තියං -පෙ- පාටිදෙසනීයං -පෙ- දුක්කටං අජ්ඣාපන්නොති. තං සඞ්ඝො දුක්කටෙන කාරෙති, අධම්මිකං පටිඤ්ඤාතකරණං. එවං ඛො භික්ඛවෙ අධම්මිකං හොති පටිඤ්ඤාතකරණං.

9. කථඤ්ච භික්ඛවෙ ධම්මිකං හොති පටිඤ්ඤාතකරණං: භික්ඛු පාරාජිකං අජ්ඣාපන්නො හොති. තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: පාරාජිකං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: ආමාවුසො පාරාජිකං අජ්ඣාපන්නොති. තං සඞ්ඝො පාරාජිකෙන කාරෙති ධම්මිකං පටිඤ්ඤාතකරණං.

1. කාරෙය්‍ය — මජසං.

'සැබෑව, භාග්‍යවතුන්වහන්සැ'යි මහණුහු පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ... ගරහා දැහැමි කතා කොට, "මහණෙනි, ප්‍රතිඥා නැති ව මහණුනට තජ්ජනියකර්මය හෝ නියස්සකර්මය හෝ පබ්බාජනීය කර්මය හෝ පටිසාරණීයකර්මය හෝ උක්ඛෙපනීයකර්මය හෝ නො කළ යුතු. යමෙක් එය කරන්නේ නම්, ඔහුට දුකුළා ඇවැත් වන්නේ ය.

8. මහණෙනි පටිඤ්ඤාතකරණය මෙසේ (මතු දැක්වෙන පරිදි) නො දැහැමි වේ, මෙසේ දැහැමි වේ. මහණෙනි, පටිඤ්ඤාතකරණය කෙසේ නො දැහැමි වේ ද යත්: මහණෙක් පරිජි ඇවැතට පැමිණියේ වෙයි. ඔහුට සංඝයා හෝ බොහෝ මහණුහු හෝ එක් මහණෙක් හෝ 'ආයුෂ්මත් තෙමේ පරිජි ඇවැතට පැමිණියේ වේ යැ යි චොදනා කෙරෙයි. එවිට හෙතෙම 'ඇවැත්නි, මම පරිජි ඇවැතට නොපැමිණියෙමි. සඝාවශෙෂ ඇවැතට පැමිණියෙමි'යි මෙසේ කියයි. සංඝ තෙමේ ඔහුට සඝාවශෙෂ ඇවැතින් විනයකර්මය කරවයි. මේ නො දැහැමි ප්‍රතිඥාතකරණ යි.

මහණෙක් පරිජි ඇවැතකට පැමිණියේ වෙයි. ඔහුට සංඝයා හෝ බොහෝ මහණුහු හෝ එක් මහණෙක් හෝ 'ආයුෂ්මත් තෙමේ පරිජි ඇවැතට පැමිණියේ වේ' යැ යි චොදනා කෙරෙයි. හෙතෙම 'ඇවැත්නි, මම පරිජි ඇවැතට නො පැමිණියෙමි. මම තුලැසි ඇවැතට පැමිණියෙමි... පචිති ඇවැතට ... පාටිදෙසනිය ඇවැතට ... දුකුළා ඇවැතට ... දුබැසි ඇවැතට පැමිණියෙමි යි මෙසේ කියයි. සංඝ තෙමේ ඔහුට දුබැසි ඇවැතින් විනයකර්ම කරවයි. මේ ද නොදැහැමි ප්‍රතිඥාතකරණ යි.

මහණෙක් දුබැසි ඇවැතකට පැමිණියේ වෙයි. ඔහුට සංඝයා හෝ බොහෝ මහණුහු හෝ එක් පුඟුලෙක් හෝ 'ආයුෂ්මත් තෙමේ දුබැසි ඇවැතට පැමිණියේ වේ යැ'යි චොදනා කෙරෙයි. ඒ මහණ තෙම 'ඇවැත්නි මම දුබැසි ඇවැතට නො පැමිණියෙමි. සඝාවශෙෂ ඇවැතට පැමිණියෙමි' යි ... 'තුලැසි ඇවැතට පැමිණියෙමි'යි ... 'පචිති ඇවැතට ... පාටිදෙසනිය ඇවැතට... දුකුළා ඇවැතට පැමිණියෙමි'යි මෙසේ හේ කියයි. සංඝ තෙමේ ඔහුට දුකුළා ඇවැතින් විනයකර්මය කරවයි. මේ ප්‍රතිඥාතකරණය නො දැහැමි වේ. මහණෙනි, මෙසේ ම ප්‍රතිඥාතකරණය නොදැහැමි වේ.

9. මහණෙනි, ප්‍රතිඥාතකරණය කෙසේ නම් දැහැමි වේ ද? යත්: මහණෙක් පරිජි ඇවැතට පැමිණියේ වෙයි. ඔහුට සංඝයා හෝ බොහෝ මහණුහු හෝ එක් පුඟුලෙක් හෝ 'ආයුෂ්මත් තෙමේ පරිජි ඇවැතට පැමිණියේ වේ යැ' යි චොදනා කෙරෙයි. හෙ තෙම 'එසේ ය, ඇවැත්නි, පරිජි ඇවැතට පැමිණියෙමි යි මෙසේ කියයි. සංඝ තෙමේ ඔහුට පරිජි ඇවැතින් විනයකර්මය කරවයි. මේ ප්‍රතිඥාතකරණය දැහැමි වේ.

භික්ඛු සඞ්ඝාදිසෙසං -පෙ- ථුල්ලච්චයං -පෙ- පාචිත්තියං -පෙ- පාටිදෙසනීයං -පෙ- දුක්කටං -පෙ- දුබ්භාසිතං අජ්ඣාපන්නො හොති තමෙනං චොදෙති සඞ්ඝො වා සම්බහුලා වා එකපුග්ගලො වා: දුබ්භාසිතං ආයස්මා අජ්ඣාපන්නොති. සො එවං වදෙති: ආම ආවුසො දුබ්භාසිතං අජ්ඣාපන්නොති. තං සඞ්ඝො දුබ්භාසිතෙන කාරෙති. ධම්මිකං පටිඤ්ඤාතකරණං.

එවං ඛො භික්ඛවෙ ධම්මිකං හොති පටිඤ්ඤාතකරණන්ති.

## යෙභුය්‍යසිකා

10. තෙන ඛො පන සමයෙන භික්ඛු සඞ්ඝමජ්ඣෙ භණ්ඩනජාතා කලහජාතා විවාදාපන්නා අඤ්ඤමඤ්ඤං මුඛසත්තීහි විතුදන්තා විහරන්ති. න සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං. භගවතො එතමත්ථං ආරොචෙසුං. අනුජානාමි භික්ඛවෙ එවරූපං අධිකරණං යෙභුය්‍යසිකාය වූපසමෙතුං.

11. පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතො භික්ඛු සලාකගාහාපකො සම්මන්නිතබ්බො: යො න ඡන්දාගතිං ගච්ඡෙය්‍ය, න දොසාගතිං ගච්ඡෙය්‍ය, න මොහාගතිං ගච්ඡෙය්‍ය, න භයාගතිං ගච්ඡෙය්‍ය, ගහිතාගහිතඤ්ච ජානෙය්‍ය: එවඤ්ච පන භික්ඛවෙ සම්මන්නිතබ්බො: පඨමං භික්ඛු යාචිතබ්බො. යාචිත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාම භික්ඛුං සලාකගාහාපකං සම්මන්නෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: සඞ්ඝො ඉත්ථන්නාමං භික්ඛුං සලාකගාහාපකං සම්මන්නති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො සලාකගාහාපකස්ස සම්මුති, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. සම්මතො සඞ්ඝෙන ඉත්ථන්නාමො භික්ඛු සලාකගාහාපකො. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

මහණෙක් සඝාවසෙස් ඇවැතට... ථුල්ලැසි ඇවැතට... පචිති ඇවැතට ... පාටිදෙසනීය ඇවැතට... දුකුළා ඇවැතට... දුබැසි ඇවැතට පැමිණියේ වෙයි. ඔහුට සංඝ තෙමේ හෝ බොහෝ මහණහු හෝ එක් පුඟුලෙක් හෝ 'ආයුෂ්මත් තෙමේ දුබැසි ඇවැතට පැමිණියේ යැ'යි චොදනා කෙරෙයි. හේ 'එසේ යැ ඇවැත්නි දුබැසි ඇවැතට පැමිණියෙමි'යි මෙසේ කියයි. ඔහුට සංඝ තෙමේ දුබැසි ඇවැතින් විනයකර්මය කරවයි. මේ ප්‍රතිඥාතකරණය දැහැමි වේ.

**මහණෙනි, මෙසේ ම ප්‍රතිඥාතකරණය දැහැමි වේ.**

## යෙභුය්‍යසිකාව

10. එ සමයෙහි වනාහි භික්ෂූහු සංඝයා මැදදී උපන් කලහ ඇත්තාහු, හටගත් ඩබර ඇත්තාහු, විවාදපන්න වූවාහු ඔවුනොවුන් මුව නැමැති අඩයැටිවලින් විදුනෝ වැ වෙසෙත්. ඒ අධිකරණය සන්හිඳුවන්නට (භික්ෂූහු) සමත් නො වෙත්. භාග්‍යවතුන් වහන්සේට මෙ කරුණ සැලකළහ. "මහණෙනි, මෙබඳු අධිකරණය යෙභුය්‍යසිකායෙන් (ධර්මවාදීන් වැඩිතරම් දෙනකුගේ මතින් කරන ශමථයෙන්) සන්හිඳුවන්නට අනුදනිමි"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

(නව ද එය කරන සැටි මෙසේ ද වදාළ සේක:)

11. "මහණෙනි, යම් මහණෙක් ඡන්දයෙන් අගතියට නො යන්නේ ද, ද්වේෂයෙන් අගතියට නො යන්නේ ද, මොහයෙන් අගතියට නො යන්නේ ද, බියෙන් අගතියට නො යන්නේ ද, ගත් නොගත් සලාකා දන්නේ ද මෙ කී අංග පසින් යුත් මහණ තෙම සලාකා ගන්වන්නෙක් කොට සම්මත කටයුතු. මහණෙනි, මෙසේ වනාහි සම්මත කටයුතු: "පළමු කොට මහණෙක් යැදියැ යුතු: යැද, ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් සංඝ තෙමේ මෙසේ දන්වියැ යුතු:

'වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ වී නම් (මෙයට සුදුසු කාලය යැ යි හැඟේ නම්) සංඝ තෙමේ මෙ නම් මහණහු සලාකගන්වන්නකු කොට සම්මත කරන්නේ ය. මේ ඥප්තිය (දැනුම් දීම) යි.

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා. සංඝ තෙමේ මෙ නම් මහණහු සලාකා ගන්වන්නකු කොට සම්මත කෙරෙයි. මෙ මහණහු සලාකා ගන්වන්නකු කොට සම්මත කිරීම යම් ආයුෂ්මතක්හට රිසියේ නම්, හේ නිහඬ වේවා. යම් ආයුෂ්මතක්හට නො රිසියෙන්නේ නම්, හේ කියා වා. සඞ්ඝයා විසින් මෙ නම් මහණ තෙම සලාකා ගන්වන්නෙක් කොට සම්මත විය. සඞ්ඝයාට එය රිසියෙයි. එ හෙයින් නිහඬ ය. මෙසේ මෙය දරමි (සලකමි") යනුවෙනි.

12. දස ඉමෙ භික්ඛවෙ අධම්මිකා සලාකගාහා, දස ධම්මිකා.

කතමෙ දස අධම්මිකා සලාකගාහා: ඔරමත්තකඤ්ච අධිකරණං හොති. න ච ගතිගතං හොති. න ච සරිතසාරිතං හොති. ජානාති 'අධම්මවාදී බහුතරා'ති. අප්පෙව නාම අධම්මවාදී බහුතරා අස්සූති. ජානාති සඞ්ඝො භිජ්ජිස්සතීති අප්පෙව නාම සඞ්ඝො භිජ්ජෙය්‍යාති. අධම්මෙන ගණ්හන්ති. වග්ගා ගණ්හන්ති, න ච යථාදිට්ඨියා ගණ්හන්ති, ඉමෙ දස අධම්මිකා සලාකගාහා.

කතමෙ දස ධම්මිකා සලාකගාහා: න ච ඔරමත්තකං අධිකරණං හොති, ගතිගතඤ්ච හොති, සරිතසාරිතඤ්ච හොති, ජානාති ධම්මවාදී බහුතරාති. අප්පෙව නාම ධම්මවාදී බහුතරා අස්සූති. ජානාති සඞ්ඝො න භිජ්ජිස්සතීති අප්පෙව නාම සඞ්ඝො න භිජ්ජෙය්‍යාති. ධම්මෙන ගණ්හන්ති, සමග්ගා ගණ්හන්ති, යථාදිට්ඨියා ච ගණ්හන්ති, ඉමෙ දස ධම්මිකා සලාකගාහාති.

## තස්සපාපියසිකා

13. තෙන ඛො පන සමයෙන උවාළො[1] භික්ඛු සඞ්ඝමජ්ඣෙ ආපත්තියා අනුයුඤ්ජියමානො අවජානිත්වා පටිජානාති, පටිජානිත්වා අවජානාති, අඤ්ඤෙන අඤ්ඤං පටිචරති, සම්පජානමුසා භාසති. යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: කථං හි නාම උවාළො භික්ඛු සඞ්ඝමජ්ඣෙ ආපත්තියා අනුයුඤ්ජියමානො අවජානිත්වා පටිජානිස්සති, පටිජානිත්වා අවජානිස්සති, අඤ්ඤෙන අඤ්ඤං පටිචරිස්සති, සම්පජානමුසා භාසිස්සතීති.

1. උපවාළො - මජසං.

12. "මහණෙනි, මේ නො දැහැමි සලාකා ගැන්වීම් දසයෙක, දැහැමි සලාකා ගැන්වීම් දසයෙක.

නොදැහැමි සලාකා ගැන්වීම් දසය කවර යැ: අධිකරණය අල්පමාත්‍ර එකෙක් වෙයි, ආවාස දෙක තුනකට නො ගියේ වෙයි (නොහොත් දෙතුන් වරක් විනිශ්චය නො කරන ලද්දේ වෙයි). දෙතුන් වරක් ඒ මහණුන් විසින් සිහි නො කරන ලද්දේ ද අනුන් ලවා සිහි නොකරවන ලද්දේ ද වෙයි. අධර්මවාදීහු වැඩිතරම් යැ යි දනී. අධර්මවාදීහු වැඩිතරම් වන්නාහු නම් ඉතා යෙහෙකැ යි සිතා සලාකා ගන්වයි. සඞ්ඝයා ඞිඳෙතැ යි දනී. සංඝයා බිඳෙතොත් ඉතා යෙහෙකැ යි සිතා සලාකා ගන්වයි. නො දැහැමින් (අධර්මවාදී අපි වඩා බලවත් වන්නමු. යි සිතා සලාකා දෙක දෙක බැගින්) ගනිත්. ව්‍යග්‍ර වැ (ධර්මවාදී) සලාකා අඩු වනු පිණිස ධර්මවාදී දෙදෙනෙක් එක් සලාකාව බැගින්) ගනිත්. තමන් ගේ දෘෂ්ටිය වූ පරිදි සලාකා නො ගනිත්. මේ නොදැහැමි සලාකා ගැනුම් දසය යැ.

දැහැමි සලාකා ගැනුම් දසය කවර යැ: අධිකරණය අල්පමාත්‍ර නො වෙයි, ආවාසයනට ගියේ වෙයි (නොහොත් දෙතුන් වරක් විනිශ්චය කරන ලද්දේ වෙයි, ඒ මහණුන් විසින් දෙතුන් වරක් සිහි කරන ලද්දේ ද අනුන් ලවා සිහි කරවන ලද්දේ ද වෙයි. ධර්මවාදීන් ඉතා වැඩිතරම් ගණනෙක් වෙති යි දනී, සංඝයා නො බිඳෙන්නේ යැ යි, සංඝයා නො බිඳෙන්නේ නම් ඉතා යෙහෙකැ යි දනී. දැහැමින් සලාකා ගනිත්, (දෙදෙනෙක් එක සලාකාවක් නො ගෙන) සමග වැ සලාකා ගනිත්, (පක්ෂය තර කැරැ ගැන්ම පිණිස නො වැ) තමන් ගේ දෘෂ්ටිය පරිදි සලාකා ගනිත්. මේ දැහැමි සලාකා ගැනුම් දසය යැ''යි ද වදාළ සේක.

## තස්සපාපියාසිකාව

13. එ සමයෙහි වනාහි උවාළ නම් මහණ තෙම සඟ මැදදී ඇවැතින් පිරික්සනු ලබනුයේ, අවඥ කොට ප්‍රතිඥ කෙරෙයි. ප්‍රතිඥ කොට අවඥ කෙරෙයි. එකෙකින් අනෙකක් වසාලයි, දැන බොරු කියයි. යම් මහණ කෙනෙක් අල්පේච්ඡ ද, ඔහු ... උවාළ මහණ තෙම කෙසේ නම් සඟ මැදදී ඇවැතින් පිරික්සනු ලබනුයේ කෙසේ නම් අවඥ කොට ප්‍රතිඥ කරන්නේ ද, ප්‍රතිඥ කොට අවඥ කරන්නේ ද, එකෙකින් අනෙකක් වසාලන්නේ ද, දැන දැන බොරු කියන්නේ ද'යි පහත් කොට සිතත්, දොස් කියත්, අඟුණ පතුරුවත්.

14. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං. 'සච්චං කිර භික්ඛවෙ -පෙ-' 'සච්චං භගවා -පෙ-' විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි: තෙන හි භික්ඛවෙ සඞ්ඝො උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං කරොතු. එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං: පඨමං උවාළො භික්ඛු චොදෙතබ්බො: චොදෙත්වා සාරෙතබ්බො: සාරෙත්වා ආපත්තිං ආරොපෙතබ්බො: ආපත්තිං ආරොපෙත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං උවාළො භික්ඛු සඞ්ඝමජ්ඣෙ ආපත්තියා අනුයුඤ්ජියමානො අවජානිත්වා පටිජානාති. පටිජානිත්වා අවජානාති. අඤ්ඤෙන අඤ්ඤං පටිචරති. සම්පජානමුසා භාසති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං උවාළො භික්ඛු -පෙ- සම්පජානමුසා භාසති. සඞ්ඝො උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං කරොති. යස්සායස්මතො ඛමති උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මස්ස කරණං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි -පෙ-.

කතං සඞ්ඝෙන උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං. ඛමති සඞ්ඝස්ස, තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

පඤ්චිමානි භික්ඛවෙ ධම්මිකානි තස්සපාපියසිකාකම්මස්ස කරණානි: අසුචි ච හොති අලජ්ජී ච සානුවාදො ච, තස්ස සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරොති ධම්මෙන සමග්ගො[1]. ඉමානි ඛො භික්ඛවෙ පඤ්ච ධම්මිකානි තස්සපාපියසිකාකම්මස්ස කරණානි.

---

1. සමග්ගෙන - මජසං

14. ඉක්බිති ඒ මහණහු භාග්‍යවතුන් වහන්සේට මේ පවත් සැල කළාහු ය. 'මහණෙනි, ... සැබෑ ද?' යි භාග්‍යවතුන් වහන්සේ අසා වදාළ සේක. 'සැබෑව වහන්සැ'යි මහණහු පිළිවදන් දුන්හ ... භාග්‍යවතුන් වහන්සේ ... ගරහා දැහැමි කථා කොට මහණුන් බණවා, 'මහණෙනි, එසේ වී නම් සඞ්ඝ තෙමේ උවාළ මහණහට තස්සපාපියසිකා කර්මය (පාපෝත්සන්න පුද්ගලයාට කළ යුතු විනයකර්මය) කෙරේ වා. මහණෙනි, මෙසේ එය කළ යුතු: පළමු කොට උවාළ තෙම චෝදිතව්‍ය ය. චෝදනා කොට ඇවැත සිහි කැරවිය යුතු. සිහි කරවා ඇවැත නැංවිය යුතු. ඇවැත නංවා ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් සඞ්ඝ තෙමේ මෙසේ දන්විය යුතු:

"සඞ්ඝ තෙමේ මගේ වචනය අසාවා. මේ උවාළ මහණ තෙම සඞ මැදදී ඇවැතින් පිරික්සනු ලබන්නේ, අවමන් කොට පිළිත කෙරෙයි, පිළිත කොට අවමන් කෙරෙයි. එකෙකින් අනෙකක් වසාලයි, දන දන බොරු කියයි. ඉදින් සඞ්ඝයාට පැමිණි කල් ඇත්තේ (සුදුසු කල් ඇත්තේ) වී නම්, සංඝ තෙමේ උවාළ මහණ හට තස්සපාපියසිකාකර්මය කරන්නේ ය. මේ ඥප්තිය යැ.

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා. මේ උවාළ මහණ තෙම... දන දන බොරු කියයි. සංඝ තෙමේ උවාළ මහණහට තස්සපාපියසිකාකර්මය කෙරෙයි. උවාළ මහණහට තස්සපාපියසිකාකර්මය කිරීම යම් මහණකුහට රිසියෙයි ද හේ නිහඬ වේවා. යම් මහණකුට නොරිසියෙයි ද හේ කියාවා. දෙවැනි වර ද මේ කරුණ කියමි. ... තෙවෙනි වර ද මේ කරුණ කියමි......

සංඝයා, විසින් උවාළ මහණහට තස්සපාපියසිකාකර්මය කරණ ලදී. එය සංඝයාට රිසියෙයි, එහෙයින් නිහඬ ය. මෙසේ මේ කරුණ දරමි (සලකමි)" යනුවෙනි.

මහණෙනි, දැහැමි වූ මේ තස්සපාපියසිකාකර්ම කිරීම පසෙකි. මහණ තෙම අපිරිසිදු වූ කාය වාක් කර්ම ඇත්තේ වේ ද, අලජ්ජී වේ ද (දන දන ඇවැත් අවදනා සුලුවේ ද), උපවාද සහිත වේ ද, ඕහුට සංඝ තෙමේ තස්සපාපියසිකාකර්මය කෙරෙයි ද, එ ද සමග වූ සංඝ තෙමේ ධර්මය වූ පරිදි කෙරෙයි ද — මහණෙනි, මේ දැහැමි වූ තස්සපාපියසිකා කර්මය කිරීම පස ය.

## අධම්මකම්ම ද්වාදසකං

15. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං තස්සපාපියසිකා කම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච: අසම්මුඛා කතං හොති, අප්පටිපුච්ඡා කතං හොති, අප්පටිඤ්ඤාය කතං හොති. -පෙ-

ආපත්තිං අනාරොපෙත්වා කතං හොති අධම්මෙන කතං හොති වග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තස්සපාපියසිකාකම්මං අධම්මකම්මඤ්ච හොති අවිනයකම්මඤ්ච දුවූපසන්තඤ්ච. (යථා තජ්ජනීයකම්මං එවං විත්ථාරෙතබ්බං.)

## ධම්මකම්ම ද්වාදසකං

16. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතං තස්සපාපියසිකා කම්මං ධම්මකම්මඤ්ච හොති විනයකම්මඤ්ච සුවූපසන්තඤ්ච: සම්මුඛා කතං හොති, පටිපුච්ඡා කතං හොති, පටිඤ්ඤාය කතං හොති -පෙ- ආපත්තිං ආරොපෙත්වා කතං හොති, ධම්මෙන කතං හොති, සමග්ගෙන කතං හොති. ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතං තස්සපාපියසිකාකම්මං ධම්මකම්මඤ්ච හොති විනය කම්මඤ්ච සුවූපසන්තඤ්ච (යථා තජ්ජනීයකම්මෙ සුක්කපක්ඛං එවං විත්ථාරෙතබ්බං.)

## ආකඞ්ඛමාන ඡක්කං

17. තීහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය: භණ්ඩනකාරකො හොති කලහකාරකො විවාදකාරකො භස්සකාරකො සඞ්ඝෙ අධිකරණකාරකො, බාලො හොති අව්‍යත්තො ආපත්ති බහුලො අනපදානො ගිහීසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහීසංසග්ගෙහි: ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො අකඞ්ඛමානො සඞ්ඝො තස්ස පාපියසිකා කම්මං කරෙය්‍ය.

## අධර්ම කර්ම දොළොස

15. මහණෙනි, අඞ්ග තුනෙකින් සමන්විත වූ තස්සපාපියාසිකා කර්මය අධර්මකර්මයෙක් ද අවිනය කර්මයෙක් ද නොමනාසේ සන්සිඳුනෙක් ද වෙයි. (කවර අංග තුනෙකින් ද? යත්:) නො හමුයෙහි කරණ ලද්දේ වේ ද, නොපිළිවිස කරණ ලද්දේ වේ ද, පිළිණ නොගෙන කරණ ලද්දේ වේ ද, මේ අඞ්ග තුනින් සමන්විත තස්සපාපියාසිකා කර්මය අධර්මකර්ම ද අවිනය කර්ම ද නොමනා ලෙස සන්හිඳුනෙක් ද වෙයි. ......

ඇවැත නො නභා කරණ ලද්දේ වේ ද, නො දැහැමෙන් කරණ ලද්දේ වේ ද, ව්‍යග්‍ර වූ සංඝයා විසින් කරණ ලද්දේ වේ ද මේ අංග තුනින් සමන්විත වූ තස්සපාපියාසිකා කර්මය අධර්ම කර්ම ද අවිනයකර්ම ද නොමනා ලෙස සන්හිඳුනෙක් ද වෙයි.

## ධර්ම කර්ම දොළොස

16. මහණෙනි, අඞ්ග තුනෙකින් සමන්විත වූ තස්සපාපියාසිකා කර්මය ධර්මකර්ම ද විනයකර්ම ද මොනොවට සංහිඳුනෙක් ද වෙයි. (කවර අඞ්ග තුනෙකින් සමන්විත කර්මයෙක් ද යත්:) හමුයෙහි කරණ ලද්දේ වේ ද, පිළිවිස කරණ ලද්දේ වේ ද, ප්‍රතිඥයෙන් (ප්‍රතිඥා ගෙන) කරණ ලද්දේ වේ ද — මේ අඞ්ග තුනෙන් සමන්විත කර්මය යි.

.........ඇවැත නංවා කරණ ලද්දේ වේ ද, ධර්මයෙන් කරණ ලද්දේ වේ ද, සමග්‍ර සඞ්ඝයා විසින් කරණ ලද්දේ වේ ද — මහණෙනි, මේ අංග තුනින් සමන්විත තස්සපාපියාසිකා කර්මය ධර්මකර්මයක් ද විනය කර්මයෙක් ද මොනොවට සංසිඳුනු කර්මයෙක් ද වෙයි. [තජ්ජනිය කර්මයෙහි ශුක්ල පක්ෂය යම්සේ ද එසේ විස්තර කළ යුතු.]

## ආකාංක්ෂමාණ ෂට්කය

17. මහණෙනි, අඞ්ග තුනෙකින් සමන්විත වූ මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය: ඩබර කරන්නේ 'කලහ කරන්නේ විවාද කරන්නේ වාක්කලහ කරන්නේ වේ ද, සංඝයා විෂයයෙහි අධිකරණ උපදවන්නේ වේ ද, අනුවණ වූයේ නොවි-යත් වූයේ ඇවැත් බහුල කොට ඇත්තේ සස්නට අනුලොම් නොවූ ගෘහී සංසර්ගයෙන් ගිහියන් හා මිශ්‍ර ව වෙසේ ද, මහණෙනි, මෙසේ වූ අඞ්ග තුනෙකින් යුත් මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් තස්සපාපි-යාසිකා කර්මය කරන්නේ ය.

අපරෙහි පි භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය: අධිසීලෙ සීලවිපන්නො හොති. අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති, ඉමෙහි ඛො භික්ඛවෙ තීහි -පෙ-3

අපරෙහි පි භික්ඛවෙ තීහි -පෙ- බුද්ධස්ස අවණ්ණං භාසති; ධම්මස්ස අවණ්ණං භාසති, සඞ්ඝස්ස අවණ්ණං භාසති: ඉමෙහි ඛො භික්ඛවෙ තීහඞ්ගෙහි සමන්නාගතස්ස භික්ඛුනො ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය.4

තිණ්ණං භික්ඛවෙ භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය: එකො භණ්ඩනකාරකො හොති -පෙ- එකො සඞ්ඝෙ අධිකරණකාරකො, එකො බාලො හොති අව්‍යත්තො ආපත්තිබහුලො අනපදානො. එකො ගිහිසංසට්ඨො විහරති අනනුලොමිකෙහි ගිහිසංසග්ගෙහි: ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකාකම්මං කරෙය්‍ය.4

අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තස්ස පාපියසිකාකම්මං කරෙය්‍ය: එකො අධිසීලෙ සීලවිපන්නො හොති, එකො අජ්ඣාචාරෙ ආචාරවිපන්නො හොති, එකො අතිදිට්ඨියා දිට්ඨිවිපන්නො හොති, ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං -පෙ-5

අපරෙසම්පි භික්ඛවෙ තිණ්ණං -පෙ- එකො බුද්ධස්ස අවණ්ණං භාසති. එකො ධම්මස්ස අවණ්ණං භාසති, එකො සඞ්ඝස්ස අවණ්ණං භාසති, ඉමෙසං ඛො භික්ඛවෙ තිණ්ණං භික්ඛූනං ආකඞ්ඛමානො සඞ්ඝො තස්සපාපියසිකා කම්මංකරෙය්‍ය.6

ආකඞ්ඛමාන ඡක්කං නිට්ඨිතං.

මහණෙනි, අන් අඞ්ග තුනෙකින් ද සමන්විත වූ මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය: අධි-ශීල විෂයයෙහි (උපසම්පද ශීලයෙහි) විපන් සිල් ඇත්තේ වේ ද, උත්තම ආචාර විෂයයෙහි (ශ්‍රමණාචාරයෙහි) විපන් ආචාර ඇත්තේ වේ ද, උත්තම දෘෂ්ටි විෂයයෙහි (සම්‍යග්දෘෂ්ටියෙහි) විපන් දෘෂ්ටි ඇත්තේ වේ ද, මහණෙනි, මෙසේ වූ අඞ්ග තුනෙකින් යුත් මහණහට සංඝ තෙමේ කැමැති වන්නේ නම් තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය. 2

මහණෙනි, අන් අඞ්ග තුනෙකින් ද සමන්විත මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම් තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය; බුදුනට දෙස් නගා ද, දහමට දෙස් කියා ද සඟනට දෙස් කියා ද මහණෙනි, මේ අඞ්ග තුනින් යුත් මහණහට සංඝ තෙමේ කැමැත්තේ නම්, තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය. 3

මහණෙනි, සංඝ තෙමේ කැමැත්තේ තුන් මහණ කෙනකුනට තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය: එක් මහණෙක් ඩබර කරන්නේ වෙයි ද... එක් මහණෙක් සංඝයා කෙරෙහි අධිකරණ කරන්නේ වෙයි ද... එක් මහණෙක් අඥාන ත් අව්‍යක්තත් වේ ද, ආපත්ති බහුල කොටැත්තේ ආපත්තිපරිච්ඡේදය ද නො දන්නේ වේ ද ... එක් මහණෙක් පැවිද්දාට අනුලෝම නොවූ ගෘහීසංසර්ගයෙන් ගිහියන් හා මිශ්‍ර වැ වෙසේ ද මහණෙනි, සංඝ තෙමේ කැමැත්තේ නම් මේ තුන් මහණුනට තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය. 4

මහණෙනි, අන් තුන් මහණ කෙනකුනට සංඝ තෙමේ කැමැති වන්නේ තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය. එක් මහණෙක් අධිශීල-යෙහි ශීලවිපන්න වෙයි, එකෙක් අධ්‍යාචාරයෙහි (උතුම් ශ්‍රමණාචාරයෙහි) ආචාරවිපන්න වෙයි, එකෙක් අතිදෘෂ්ටියෙහි (සම්‍යග්දෘෂ්ටියෙහි) දෘෂ්ටි-විපන්න වෙයි. මහණෙනි, මේ තුන් මහණුනට සංඝ තෙමේ කැමැත්තේ නම් තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය. 5

මහණෙනි, අන් තුන් මහණ කෙනකුනට සංඝ තෙමේ කැමැති වන්නේ තස්සපාපියාසිකාකර්මය කරන්නේ ය: එක් මහණෙක් බුදුනට දෙස් කියයි, එකෙක් දහමට දෙස් කියයි, එකෙක් සංඝයාට දෙස් කියයි. මහණෙනි, මේ තුන් මහණුනට සංඝ තෙමේ කැමැත්තේ තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය. 6

ආකාංක්ෂමාණ ෂට්කය නිමියේ ය.

## අට්ඨාරස වත්තං

18. තස්සපාපියසිකාකම්මකතෙන භික්ඛවෙ භික්ඛුනා සම්මා වත්තිතබ්බං. තත්‍රායං සම්මා වත්තනා: න උපසම්පාදෙතබ්බං, න නිස්සයො දාතබ්බො, න සාමණෙරො උපට්ඨාපෙතබ්බො, න භික්ඛුනොවාදකසම්මුති සාදිතබ්බා, සම්මතෙනපි භික්ඛුනියො න ඔවදිතබ්බා -පෙ- න භික්ඛූහි සම්පයොජෙතබ්බන්ති.

අථ ඛො සඞ්ඝො උවාළස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං අකාසි.

## තිණවත්ථාරකං

19. තෙන ඛො පන සමයෙන භික්ඛූනං භණ්ඩනජාතානං කලහජාතානං විවාදපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. අථ ඛො තෙසං භික්ඛූනං එතදහොසි: අම්හාකං ඛො භණ්ඩනජාතානං කලහජාතානං විවාදපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය: කථන්නු ඛො අම්හෙහි පටිපජ්ජිතබ්බන්ති.

20. භගවතො එතමත්ථං ආරොචෙසුං. ඉධ පන භික්ඛවෙ භික්ඛූනං භණ්ඩනජාතානං කලහජාතානං විවාදපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං, තත්‍ර චෙ භික්ඛූනං එවං හොති අම්හාකං ඛො භණ්ඩනජාතානං කලහජාතානං, විවාදපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍යාති අනුජානාමි භික්ඛවෙ එවරූපං අධිකරණං තිණවත්ථාරකෙන වූපසමෙතුං.

## අටළොස් වත

18. මහණෙනි, තස්සපාපියසිකාකර්මය කරණු ලැබූ මහණහු විසින් මැනැවින් පැවැතියැ යුතු. එහි ලා මෙ මනා පැවැත්ම යි: ඔහු විසින් (තමා උපාධ්‍යාය ව උපසම්පද නො කළ යුතු යි, (තමා ආචාර්ය ව) නිස නො දිය යුතු යි, හෙරණකු තමා වෙත නො තබා ගත යුතු යි, භික්ඛුනිඕවාදක සම්මතිය නො ඉවැසිය යුතු යි, සම්මතිය ලද මහණහු විසින් ද මෙහෙණනට ඕවා නො දිය යුතු යි, ... භික්ෂූන් ඔවුනොවුන් හා කලහ පිණිස නො යෙදවිය යුතු යි.[1]

ඉක්බිති සංඝ තෙමෙ උවාළ මහණහට තස්සපාපියසිකාකර්මය කළේ ය.

## තෘණාවස්තාරකය

19. එ සමයෙහි වනාහි උපන් ඩබර ඇති, උපන් කලහ ඇති, විවාදපන්න ව වසන මහණුන් විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක කම් කරණ ලද්දේ වෙයි. එ කල වනාහි ඒ මහණුනට මෙ සිත විය; "උපන් ඩබර ඇති ව උපන් කලහ ඇති ව විවාදපන්න ව වසන අප විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ ආශ්‍රාමණක දෑ කරණ ලද්දේ වෙයි. ඉදින් අපි මෙ ඇවැත්වලින් ඔවුනොවුනට පිළියම් කරවත්නමෝ නම්, ඒ අධිකරණය රළු බව පිණිස, සැඩ බව පිණිස, භේදය පිණිස පවතින්නේ ය. මෙහි අප විසින් කෙසේ පිළිපැදිය යුතු වන්නේ ද?" යනුවෙනි.

20. ඔහු භාග්‍යවතුන් වහන්සේට මෙ පවත් සැල කළාහ. (භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදළ සේක:) "මහණෙනි, මෙහි උපන් ඩබර ඇති ව, උපන් කළහ ඇති ව විවාදපන්නා ව වසනා මහණුන් විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වේ ද, ඉදින් එහි මහණුනට උපන් ඩබර ඇති ව උපන් කලහ ඇති ව විවාදපන්නා ව වසන අප විසින් වාචසික වූත් කායික වූත් බොහෝ ආශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ ය, ඉදින් අපි මෙ ඇවැත්වලින් ඔවුනොවුනට චෝදනා කරන්නමෝ නම් ඒ අධිකරණය කර්කශ බව පිණිස, චණ්ඩ බව පිණිස, භේදය පිණිස පවත්නේ ය යන්න විය හැක්කැ'යි මෙසේ සිතෙක් වන්නේ නම්, මහණෙනි, මෙබඳු අධිකරණය තෘණාවස්තාරකයෙන් (තණකොළින් කසළ වසාලන්නාක් මෙන් කිරීමෙන්) සන්සිඳුවන්නට අනුදනිමි"යි යනු යි.

---

1. මෙහි සම්පූර්ණ පාඨය මෙයි ම 84, 85 පිටු බලා දත යුතු.

එවඤ්ච පන භික්ඛවෙ වූපසමෙතබ්බං: සබ්බෙහෙව එකජ්ඣං සන්නිපතිතබ්බං: සන්නිපතිත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං -පෙ- සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම, සියා පි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉමං අධිකරණං තිණවත්ථාරකෙන වූපසමෙය්‍ය ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තන්ති.

21. එකතො පක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සකො පක්ඛො ඤාපෙතබ්බො: සුණන්තු මෙ ආයස්මන්තා. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- භාසිතපරික්කන්තං. සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම සියා පි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය. යදායස්මන්තානං පත්තකල්ලං අහං යා චෙව ආයස්මන්තානං ආපත්ති, යා ච අත්තනො ආපත්ති, ආයස්මන්තානඤ්චෙව අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තන්ති.

අථාපරෙසං එකතො පක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සකො පක්ඛො ඤාපෙතබ්බො:

සුණන්තු මෙ ආයස්මන්තා. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- භෙදාය සංවත්තෙය්‍ය. යදායස්මන්තානං පත්තකල්ලං අහං යා චෙව ආයස්මන්තානං ආපත්ති, යා ච අත්තනො ආපත්ති ආයස්මන්තානඤ්චෙව අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තන්ති.

22. එකතො පක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අම්හාකං භණ්ඩනජාතානං -පෙ- භෙදාය සංවත්තෙය්‍ය. යදි සඞ්ඝස්ස පත්තකල්ලං අහං යා චෙව ඉමෙසං ආයස්මන්තානං ආපත්තියා ච අත්තනො ආපත්ති ඉමෙසං චෙව ආයස්මන්තානං අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං: එසා ඤත්ති.

මහණෙනි, මෙසේ එය සංසිඳුවිය යුතු: ''සියලු දෙනා ම එක් තැනෙක රැස් විය යුතු. රැස් වැ ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණක්හු විසින් 'වහන්ස, සඞ්ඝ තෙමේ මගේ වචනය අසාවා. උපන් ඩබර ඇති......අප විසින්......බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ ය. ඉදින් අපි මේ ඇවැත්වලින් ඔවුනොවුනට චෝදනා කරන්නමෝ නම්, ඒ අධිකරණය ඇතැම් විට කර්කශ බව පිණිස, චණ්ඩ බව පිණිස, භෙදය පිණිස පැවැතිය හැක්ක. ඉදින් සංඝයාට ප්‍රාප්ත කාලය ඇත්තේ වේ නම් සංඝ තෙමේ දළ වරද හැර, ගිහියනට ගැරැහුම් ආදියෙන් යුත් වරද හැර, ඉතිරි මේ සියලු අධිකරණය තෘණාවස්තාරකයෙන් සංසිඳුවන්නේ යැ'යි මෙසේ සංඝ තෙමේ දැන්විය යුතු.

21. එක් පක්ෂයෙක වූ මහණුන් අතුරෙන් ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණක්හු විසින් 'ආයුෂ්මත්හු මගේ වචනය අසත් වා. උපන් ඩබර ඇති ......අප විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි. ඉදින් අපි මේ ඇවැත්වලින් ඔවුනොවුනට චෝදනා කරන්නමෝ නම් ඒ අධිකරණය කර්කශ බව පිණිස, චණ්ඩ බව පිණිස, භෙදය පිණිස, පවතිනු ඇත. ඉදින් ආයුෂ්මතුන්හට පැමිණි කල් ඇත්තේ වී නම්, මම්, ආයුෂ්මතුන් ගේ යම් ඇවැතෙක් වේ ද, තමා ගේ යම් ඇවැතෙක් වේ ද, ඒ හැම ආයුෂ්මතුනට වැඩ පිණිස ද තමාට වැඩ පිණිස ද, දළවරද හැරපියා, ගිහියනට නිගා කිරීම් ආදි විසින් වූ (ගෘහීප්‍රතිසංයුක්ත) වරද ද හැර පියා, සඟ මැද දී තෘණාවස්තාරකයෙන් දෙසන්නෙමි'යි ස්වකීය පක්ෂය ඥාපයිතව්‍ය ය (සිය පසට දැන්විය යුතු).

එ කල්හි එක් පක්ෂයෙක වූ අනිත් මහණුන් අතුරෙන් ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණක්හු විසින්,

ආයුෂ්මත්හු මගේ වචනය අසත් වා. උපන් ඩබර ඇති...... අප විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි. ඉදින් අපි මේ ඇවැත් වලින් ඔවුනොවුනට චෝදනා කරන්නමෝ නම්...... භේදය පිණිස පවතිනු ඇත. ඉදින් ආයුෂ්මතුන්හට පැමිණි කල් ඇත්තේ වී නම්, මම්, ආයුෂ්මතුන්ගේ යම් ඇවැතෙක් වේ ද, තමාගේ යම් ඇවැතෙක් වේ ද, ඒ හැම ආයුෂ්මතුනට වැඩ පිණිස ද තමහට වැඩ පිණිස ද, දළ වරද හැර පියා ගිහියනට ගැරැහුම් ආදි විසින් වූ (ගෘහීප්‍රතිසංයුක්ත) වරද ද හැර පියා, සඟ මැද දී තෘණවස්තාරකයෙන් දෙසන්නෙමි යි සිය පසට දැන්විය යුතු.

22. එක් පසෙක වූ මහණුන් අතුරෙන් ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් සංඝ තෙමේ මෙසේ දැන්විය යුතු: වහන්ස, සඞ්ඝ තෙමේ මගේ වචනය අසා වා, උපන් ඩබර ඇති......අප විසින්......බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි......භේදය පිණිස පැවැතිය හැක්ක. ඉදින් සඞ්ඝයාට පැමිණිකල් ඇත්තේ වී නම්, මම්, මේ ආයුෂ්මතුන්ගේ යම් ඇවැතෙක් වේ ද, තමාගේ යම් ඇවැතෙක් වේ ද, මේ ආයුෂ්මතුන් හට වැඩ පිණිස ද, තමහට වැඩ පිණිස ද, සඟ මැද දී ස්ථූල වරදත් ගිහියනට ගැරැහුම් ඈ විසින් කළ වරදත් හැර ඒ ඉතිරි සියලු වරද තෘණවස්තාරකයෙන් දෙසන්නෙමි. මේ ඥප්තිය යි.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- හෙතුය සංවත්තෙය්‍ය. අහං යා චෙව ඉමෙසං ආයස්මන්තානං ආපත්ති යා ච අත්තනො ආපත්ති, ඉමෙසඤ්චෙව ආයස්මන්තානං අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙමි ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. යස්සායස්මතො ඛමති අම්හාකං ඉමාසං ආපත්තීනං සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසනා ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං සො තුණ්හස්ස යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දෙසිතා අම්හාකං ඉමා ආපත්තියො සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමීති.

**23.** අථාපරෙසං එකතො පක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- හෙතුය සංවත්තෙය්‍ය. යදි සඞ්ඝස්ස පත්තකල්ලං අහං -පෙ- සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං, ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- හෙතුය සංවත්තෙය්‍ය. අහං -පෙ- සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙමි ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. යස්සායස්මතො ඛමති අම්හාකං ඉමාසං ආපත්තීනං සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසනා ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දෙසිතා අම්හාකං ඉමා ආපත්තියො සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. ඛමති සඞ්ඝස්ස, තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී'ති.

එවඤ්ච පන භික්ඛවෙ තෙ භික්ඛූ තාහි ආපත්තීහි වුට්ඨිතා හොන්ති ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං ඨපෙත්වා දිට්ඨාවිකම්මං ඨපෙත්වා යෙ න තත්ථ හොන්තීති.

වහන්ස, සඞ්ඝ තෙමේ මගේ වචනය අසා වා. උපන් ඩබර ඇති......අප විසින්......බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි. එය......භේදය පිණිස පවතින්නේ ය. මේ ආයුෂ්මතුන්ගේ යම් ඇවැතෙක් වේ ද, තමාගේ යම් ඇවැතෙක් වේ ද, ඒ හැම, සුලු වරදත් ගෘහී ප්‍රතිසංයුක්ත වරදත් හැර මේ ආයුෂ්මත්නට වැඩ පිණිස ද තමහට වැඩ පිණිස ද සඟ මැද දී මම දෙසමි. ස්ථූල වරදත් ගෘහිප්‍රතිසංයුක්ත වරදත් හැරපියා අපගේ මේ සෙසු සියලු ඇවැතුන් තෘණවස්තාරකයෙන් දෙසීම යම් ආයුෂ්මතකුට රිසි යෙන්නේ ද හේ නිහඬ වේවා, යමකුට නො රිසියෙන්නේ ද හේ කියාවා.

ස්ථූල වරද ද ගෘහී ප්‍රතිසංයුක්ත වරද ද හැර පියා, මේ සෙසු ඇවැත්හු අප විසින් සඟ මද දී දෙසන ලදහ. සංඝයාට රිසියෙයි. එහෙයින් නිහඬ වෙයි. මෙසේ මෙය සලකමි'යි යනුවෙනි.

23. අනතුරු ව අන් එක් පසෙක වූ මහණුන් අතුරෙන් ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් සංඝ තෙමේ මෙසේ දන්විය යුතු:

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා. උපන් ඩබර ඇති,... අප විසින් ...... බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි. එය..... ..භේදය පිණිස පවතින්නේ ය. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ වී නම්, මේ ආයුෂ්මතුන්ගේ යම් ඇවැතෙක් වේ ද, තමාගේ යම් ඇවැතෙක් වේ ද, ඒ හැම ස්ථූල වරදත් ගෘහිප්‍රතිසංයුක්ත වරදත් හැරපියා මේ ආයුෂ්මතුන් හට වැඩ පිණිස ද, සඟ මැද දී මම දෙසන්නෙමි. මේ ඥප්තිය යි.

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා. උපන් ඩබර ඇති...... අප විසින් ...... බොහෝ අශ්‍රාමණක ක්‍රියා කරණ ලද්දේ වෙයි......එය ...භේදය පිණිස පවත්නේ ය. මේ ආයුෂ්මතුන්ගේ යම් ඇවැතෙක් වේ ද, තමාගේ යම් ඇවැතෙක් වේ ද, ඒ හැම ස්ථූල වරදත් ගෘහී ප්‍රතිසංයුක්ත වරදත්, හැර මේ ආයුෂ්මතුන්හට වැඩ පිණිස ද තමහට වැඩ පිණිස ද සඟ මැද දී මම දෙසමි. ස්ථූල වරදත් ගෘහිප්‍රතිසංයුක්ත වරදත් හැර පියා අප-ගේ මේ සෙසු සියලු ඇවැතුන් තෘණාවස්තාරකයෙන් දෙසීම යම් ආයුෂ්-මතකුට රිසියෙන්නේ ද හේ නිහඬ වේවා, යමක්හට නො රිසියෙන්නේ ද, හේ කියාවා.

ස්ථූල වරද ද ගෘහිප්‍රතිසංයුක්ත වරද ද හැරපියා මේ සෙසු ඇවැත්හු අප විසින් සඟ මැද දී දෙසන ලදහ. සංඝයාට රිසියෙයි. එහෙයින් නිහඬ වෙයි. මෙසේ මෙය සලකමි' යනුවෙනි.

මහණෙනි, මෙසේ වනාහි ඒ මහණහු ස්ථූල ඇවැතුත් හැර, ගෘහි-ප්‍රතිසංයුක්ත ඇවැතුත් හැර, යම් කෙනෙකුනට මෙය නො රිසියෙන්නේ නම් ඔවුන් ගේ එ බව පැවසීම හැර යම් කෙනෙක් එහි නො වූවත් නම් ඔවුන් ද හැර, ඉතිරි හැම ඇවැත් කෙරෙන් නැඟී සිටියාහු වෙත්.''

## චත්තාරි අධිකරණානි

24. තෙන ඛො පන සමයෙන භික්ඛූ'පි භික්ඛුනීහි විවදන්ති, භික්ඛුනියො පි භික්ඛූහි විවදන්ති. ඡන්නො පි භික්ඛු භික්ඛුනීනං අනුපඛජ්ජ භික්ඛූහි සද්ධිං විවදති, භික්ඛුනීනං පක්ඛං ගාහෙති, යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා -පෙ- තෙ උජ්ඣායන්ති ඛීයන්ති විපාචෙන්ති: කථං හි නාම ඡන්නො භික්ඛු භික්ඛුනීනං අනුපඛජ්ජ භික්ඛූහි සද්ධිං විවදිස්සති, භික්ඛුනීනං පක්ඛං ගාහෙස්සතීති. අථ ඛො තෙ භික්ඛූ භගවතො එතමත්ථං ආරොචෙසුං. 'සච්චං කිර භික්ඛවෙ -පෙ-' 'සච්චං භගවා -පෙ-'.

විගරහිත්වා ධම්මිං කථං කත්වා භික්ඛූ ආමන්තෙසි:

25. චත්තාරිමානි භික්ඛවෙ අධිකරණානි විවාදධිකරණං අනුවාදධිකරණං ආපත්තාධිකරණං කිච්චාධිකරණං.

තත්ථ කතමං විවාදධිකරණං? ඉධ පන භික්ඛවෙ භික්ඛූ විවදන්ති ධම්මොති වා අධම්මොති වා විනයොති වා අවිනයොති වා භාසිතං ලපිතං තථාගතෙනාති වා අභාසිතං අලපිතං තථාගතෙනාති වා ආචිණ්ණං තථාගතෙනාති වා, අනාචිණ්ණං තථාගතෙනාති වා. පඤ්ඤත්තං තථාගතෙනාති වා අපඤ්ඤත්තං තථාගතෙනාති වා ආපත්තීති වා අනාපත්තීති වා ලහුකා ආපත්තීති වා ගරුකා ආපත්තීති වා සාවසෙසා ආපත්තීති වා අනවසෙසා ආපත්තීති වා දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා, යං තත්ථ භණ්ඩනං කලහො විග්ගහො විවාදො නානාවාදො අඤ්ඤථාවාදො විපච්චතාය වොහාරො මෙධකං[1] ඉදං වුච්චති විවාදධිකරණං.

තත්ථ කතමං අනුවාදධිකරණං? ඉධ පන භික්ඛවෙ භික්ඛූ භික්ඛූ අනුවදන්ති සීලවිපත්තියා වා ආචාරවිපත්තියා වා දිට්ඨිවිපත්තියා වා ආජීවවිපත්තියා වා, යො තත්ථ අනුවාදො අනුවදනා අනුල්ලපනා අනුභණනා අනුසම්පවඞ්කතා අබ්භුස්සහනතා අනුබලප්පදානං, ඉදං වුච්චති අනුවාදධිකරණං.

1. මෙධගං (මජසං)

## සතර අධිකරණ

24. එ සමයෙහි වනාහි මහණහු ද මෙහෙණුන් හා විවාද කෙරෙත්, මෙහෙණහු ද මහණුන් හා විවාද කෙරෙත්. ඡන්න මහණ ද මෙහෙණන්... මැදට වැද මහණුන් හා විවාද කෙරෙයි. මෙහෙණන්ගේ පක්ෂය ගන්වයි. අල්පේච්ඡ වූ ... යම් මහණ කෙනෙක් වෙත් ද, ඔහු ඡන්න මහණ තෙම කෙසේ නම් මෙහෙණන් මැදට වැද මහණුන් හා විවාද කරන්නේ ද? මෙහෙණන්ගේ පක්ෂය ගන්වන්නේ ද?'යි අවඥ කෙරෙත්, දොස් නඟත්, අගුණ පතුරුවා බෙණෙත්. ඉක්බිති ඒ මහණහු භාග්‍යවතුන් වහන්සේට මේ පවත් සැල කළාහ. 'මහණෙනි, එය සැබෑ ද?'යි භාග්‍යවතුන් වහන්සේ අසා වදාළ සේක. 'වහන්ස සබෑවැ'යි ඒ මහණහු පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ ඔවුන් ගරහා, දැහැමි කතා කොට, ඔවුන් බණවා මෙය වදාළ සේක:

25. ''මහණෙනි, විවාදධිකරණය, අනුවාදධිකරණය, ආපත්‍යාධිකරණය, කෘත්‍යාධිකරණයැ යි මේ සතර අධිකරණ කෙනෙක් වෙත්.

එහි විවාදධිකරණය කවර යැ මහණෙනි, මෙහි මහණහු 'මේ දහමැ යි කියා හෝ නොදහමැ යි කියා හෝ විනයයැ යි කියා හෝ අවිනයයැ යි කියා හෝ තථාගතයන් විසින් වදරණ ලද්දේ ය, පවසන ලද්දේයැ යි කියා හෝ තථාගතයන් විසින් නො වදරණ ලද්දේ ය, නො පවසන ලද්දේ යැ යි කියා හෝ තථාගතයන් විසින් ආචීර්ණ (කරණ ලද) යැ යි කියා හෝ තථාගතයන් විසින් අනාචීර්ණයැ යි කියා හෝ තථාගතයන් විසින් පණවන ලද යි කියා හෝ තථාගතයන් විසින් නො පණවන ලද යි කියා හෝ මේ ඇවැතැ යි කියා හෝ මේ නො ඇවැතැ යි කියා හෝ මේ ලුහු ඇවැතැ යි කියා හෝ මේ ගරු ඇවැතැයි කියා හෝ මේ සාවශෙෂ ඇවැතැයි කියා හෝ මේ අනවශෙෂ ඇවැතැයි කියා හෝ මේ දුළුල් ඇවැතැ යි කියා හෝ මේ නොදුළුල් ඇවැතැ යි කියා හෝ විවාද කෙරෙත් ද, එහි යම් අරගලයෙක් කලහයෙක් විග්‍රහයෙක් විවාදයෙක් නානා වාදයෙක් අන්‍යථාවාදයෙක් විරුද්ධ ව්‍යවහාරයෙක් (පරුෂවචනයෙක්) කල බැගෑතියෙක් වෙයි ද මේ විවාදධිකරණ යැ යි කියනු ලැබේ.

එහි අනුවාදධිකරණ නම් කවර යැ? මහණෙනි, මෙහි මහණහු ශීල-විපත්තියෙන් හෝ ආචාරවිපත්තියෙන් හෝ දෘෂ්ටිවිපත්තියෙන් හෝ ආජීව විපත්තියෙන් හෝ චෝදනා කෙරෙත් ද, එහි යම් අනුවාදයෙක් (චෝදනා-වෙක්), අනුවදනයෙක්, පුන පුනා දොස් නැඟීමෙක් පුන පුනා දොස් කීමෙක් පුන පුනා අවනත කරන බවෙක්, දිරිගන්වා කීමෙක්, අනුබල දීමෙක් වේ ද, මෙය අනුවාදධිකරණ නමැ යි කියනු ලැබේ.

තත්ථ කතමං ආපත්තාධිකරණං? පඤ්චපි ආපත්තික්ඛන්ධා ආපත්තාධිකරණං, සත්තපි ආපත්තික්ඛන්ධා ආපත්තාධිකරණං: ඉදං වුච්චති ආපත්තාධිකරණං.

තත්ථ කතමං කිච්චාධිකරණං? යා සඞ්ඝස්ස කිච්චයතා කරණීයතා අපලොකනකම්මං ඤත්තිකම්මං ඤත්තිදුතියකම්මං ඤත්තිචතුත්ථකම්මං ඉදං වුච්චති කිච්චාධිකරණං.

25. විවාදාධිකරණස්ස කිං මූලං? ඡ විවාදමූලානි විවාදාධිකරණස්ස මූලං, තීණිපි අකුසලමූලානි විවාදාධිකරණස්ස මූලං තීණිපි කුසලමූලානි විවාදාධිකරණස්ස මූලං.

කතමානි ඡ විවාදමූලානි විවාදාධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛු කොධනො හොති උපනාහී. යො සො භික්ඛවෙ භික්ඛු කොධනො හොති උපනාහී. සො සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සඞ්ඝෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සික්ඛාය පි න පරිපූරකාරී හොති. යො සො භික්ඛවෙ භික්ඛු සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි -පෙ- සඞ්ඝෙ පි -පෙ- සික්ඛාය පි න පරිපූරකාරී, සො සඞ්ඝෙ විවාදං ජනෙති. සො හොති විවාදො බහුජන අහිතාය බහුජන අසුඛාය බහුනො ජනස්ස අනත්ථාය අහිතාය දුක්ඛාය දෙවමනුස්සානං. එවරූපං චෙ තුම්හෙ භික්ඛවෙ විවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස විවාදමූලස්ස පහානාය වායමෙය්‍යාථ. එවරූපං චෙ තුම්හෙ භික්ඛවෙ විවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා න සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස විවාදමූලස්ස ආයතිං අනවස්සවාය පටිපජ්ජෙය්‍යාථ, එවමෙතස්ස පාපකස්ස විවාදමූලස්ස පහානං හොති. එවමෙතස්ස පාපකස්ස විවාදමූලස්ස ආයතිං අනවස්සවො හොති.

එහි ආපත්තාධිකරණ නම් කවර යැ? ඇවැත් කඳු පස ම ආපත්තාධි-කරණ යි, ඇවැත්කඳු සත ම ආපත්තාධිකරණ යි. මේ ආපත්තාධිකරණ නමැ යි කියනු ලැබේ.

එහි කිච්චාධිකරණ නම් කවර යැ? අපලොකනකර්ම ය, ඥප්ති-කර්ම ය, ඥප්තිද්විතීයකර්ම ය, ඥප්තිචතුර්ථකර්ම යැ යි සංඝයාගේ යම් ඒකාන්තයෙන් කර්ම කළ යුතු බවෙක්, කාර්ය භාවයෙක් වේ ද, මේ කිච්චාධිකරණයැ යි කියනු ලැබේ.

25. විවාදාධිකරණයාගේ මුල කවර යැ? විවාද මූල සය විවාදාධි-කරණයට මුල් ය. තුන් අකුසල් මුල් ද විවාදාධිකරණයට මුල් ය. තුන් කුසල් මුල් ද විවාදාධිකරණයට මුල් ය.

කවර විවාද මුල් සයෙක් විවාදාධිකරණයට මුල වේ ද යත්: මහණෙනි, මෙහි මහණෙක් ක්‍රෝධ කරන්නේ වේ ද, බද්ධ වෛර ඇත්තේ වේ ද, හේ ශාස්තෘන් වහන්සේ කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවතුම් නැත්තේ වෙසෙයි, ධර්මය කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ශික්ෂායෙහි ද පරිපූරකාරී (සම්පූර්ණ කරන්-නේ) නො වෙයි, මහණෙනි, යම් මහණෙක් ශාස්තෘන් වහන්සේ කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවතුම් නැත්තේ වෙසෙයි ද, ධර්මය කෙරෙහි ද ...... සඞ්ඝයා කෙරෙහි ද ...... ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වෙයි ද, හේ සඞ්ඝයා කෙරෙහි විවාද උපදවයි. ඒ විවාදය බොහෝ දෙනාට අවැඩ පිණිස, බොහෝ දෙනාට නො සුව පිණිස බොහෝ දෙනාට අනර්ථ පිණිස, දෙව් මිනිසුන් හට අහිත පිණිස දුක් පිණිස වෙයි. මහණෙනි, මෙබඳු විවාද මූලය ඉදින් තමා කෙරෙහි හෝ තමාගෙන් පිටත්හි හෝ දක්නේ නම්, මහණෙනි, එහි තෙපි ලාමක වූ ඒ විවාදමූලයේ ම ප්‍රහාණය පිණිස වෑයම් කරවු. මහණෙනි, ඉදින් තෙපි එබඳු විවාදමූලයක් තමන් කෙරෙහි හෝ තමන්ගෙන් පිටත්හි හෝ (අනුන් කෙරෙහි හෝ) නො දක්නහු නම්, මහණෙනි, තෙපි එහි ලා ඒ විවාද-මූලයාගේ ම මත්තෙහි තමන් කෙරෙහි පහළ නොවන්නට පිළිපදිවු. මෙසේ මේ ලාමක වූ විවාදමූලයාගේ ප්‍රහාණය වෙයි, මෙසේ මේ විවාදමූලයාගේ මත්තෙහි නොඉපැද්ම වේ.

26. පුන ච පරං භික්ඛවෙ භික්ඛු මක්ඛී හොති පළාසී -පෙ- ඉස්සුකී හොති මච්ඡරී -පෙ- සඨො හොති මායාවී -පෙ- පාපිච්ඡො හොති මිච්ඡාදිට්ඨී -පෙ- සන්දිට්ඨිපරාමාසී හොති ආධානගාහී දුප්පටිනිස්සග්ගී. යො සො භික්ඛවෙ භික්ඛු සන්දිට්ඨිපරාමාසී හොති අධානගාහී දුප්පටිනිස්සග්ගී. සො සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො. ධම්මෙ පි අගාරවො විහරති අප්පතිස්සො. සඞ්ඝෙ පි අගාරවො විහරති අප්පතිස්සො. සික්ඛාය පි න පරිපූරකාරී හොති. යො සො භික්ඛවෙ භික්ඛු සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො. ධම්මෙ පි -පෙ- සඞ්ඝෙපි -පෙ- සික්ඛාය පි න පරිපූරිකාරී, සො සඞ්ඝෙ විවාදං ජනෙති. සො හොති විවාදෙ බහුජන අහිතාය බහුජන අසුඛාය බහුනො ජනස්ස අනත්ථාය අහිතාය දුක්ඛාය දෙවමනුස්සානං. එවරූපඤ්චෙ තුම්හෙ භික්ඛවෙ විවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා සමනුපස්සෙය්‍යාථ තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස විවාදමූලස්ස පහානාය වායමෙය්‍යාථ. එවරූපඤ්චෙ තුම්හෙ භික්ඛවෙ විවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා න සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස විවාදමූලස්ස ආයතිං අනවස්සවාය පටිපජ්ජෙය්‍යාථ. එවමෙතස්ස පාපකස්ස විවාදමූලස්ස පහානං හොති. එවමෙතස්ස පාපකස්ස විවාදමූලස්ස ආයතිං අනවස්සවො හොති. ඉමානි ඡ විවාදමූලානි විවාදධිකරණස්ස මූලං.

27. කතමානි තීණි අකුසලමූලානි විවාදධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛූ ලුද්ධචිත්තා විවදන්ති, දුට්ඨචිත්තා විවදන්ති, මූළ්හචිත්තා විවදන්ති, ධම්මොති වා අධම්මොති වා විනයොති වා අවිනයොති වා භාසිතං ලපිතං තථාගතෙනාති වා අභාසිතං අලපිතං තථාගතෙනාති වා, ආචිණ්ණං තථාගතෙනාති වා අනාචිණ්ණං තථාගතෙනාති වා පඤ්ඤත්තං තථාගතෙනාති වා අපඤ්ඤත්තං තථාගතෙනාති වා ආපත්තීති වා අනාපත්තීති වා ලහුකාපත්තීති වා ගරුකාපත්තීති වා, සාවසෙසා ආපත්තීති වා අනවසෙසා ආපත්තීති වා, දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා, ඉමානි තීණි අකුසලමූලානි විවාදධිකරණස්ස මූලං.

26. තව ද අනෙකක් කියමි. මහණෙනි, මහණෙක් ගුණමකු වූයේ වේ ... ඊර්ෂ්‍යා ඇත්තේ මසුරු වේ, ... ශඨ වූයේ මායා සහිත වේ, ... ලාමක ඊප්සා ඇත්තේ මිසදිටු වේ, ... තමා ගත් දෘෂ්ටිය දැඩි කොට ගත්තේ ආධානගාහී වූයේ තමාගේ දෘෂ්ටිය දුරලිය නො හැක්කේ වේ. මහණෙනි, යම් මහණෙක් තමාගේ දෘෂ්ටි දැඩි කොට ගත්තේ ආධානගාහී (දෘඪග්‍රාහී වූයේ) ත් දුක සේ බැහැර කළයුතු දෘෂ්ටි ඇත්තේත් වේ නම්, හේ ශාස්තෘහු කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ධර්මය කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වෙයි. මහණෙනි, යමෙක් ශාස්තෘහු කෙරෙහිත් ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසේ නම්, ධර්මය කෙරෙහිත් ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසේ නම්, සඞ්ඝයා කෙරෙහිත් ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසේ නම්, ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වේ නම්, හේ සඞ්ඝයා කෙරෙහි විවාද උපදවයි. ඒ විවාදය බොහෝ දෙනාට අවැඩ පිණිස, බොහෝ දෙනාට නොසුව පිණිස, බොහෝ දෙනාට අනර්ථ පිණිස, දෙව්මිනිසුනට අහිත පිණිස, දුක් පිණිස වෙයි. මහණෙනි, මෙබඳු වූ විවාදමූලයක් තෙපි තමන් කෙරෙහි හෝ තමන්ගෙන් පිටත්හි හෝ දක්නහු නම්, මහණෙනි, එහි ලා තෙපි ඒ ලාමක වූ විවාදමූලයාගේ ම ප්‍රහාණය පිණිස වැයම් කරවු. මහණෙනි, මෙබඳු වූ විවාදමූලයක් තමන් කෙරෙහි හෝ තමන්ගෙන් පිටත්හි හෝ තෙපි නො දක්නහු නම්, මහණෙනි, එහි ලා තෙපි ඒ ලාමක විවාදමූලයාගේ ම මත්තෙහි තමන් සතන්හි නො පහළ වනුවට පිළිපදිවු. මෙසේ ඒ ලාමක වූ විවාදමූලයාගේ ප්‍රහාණය වෙයි. මෙසේ මේ ලාමක වූ විවාදමූලයාගේ මත්තෙහි නොඉපැද්ම වෙයි. මේ විවාදමූල සය විවාදධිකරණයට මූල ය.

27. කවර අකුසල් මුල් තුනෙක් විවාදධිකරණයට මූල වේ ද යත්: මහණෙනි, මෙහි මහණහු ‘දහමැ යි කියා හෝ නොදහමැ යි කියා හෝ විනයයැ යි කියා හෝ අවිනයයැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් වදරණලද්දේ ය, පවසන ලද්දේ යැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් නොවදරණ ලද්දේ ය. නො පවසන ලද්දේ යැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් ආචීර්ණ යැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් අනාචීර්ණ යැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් පණවන ලද යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් නො පණවන ලද යි කියා හෝ ඇවැතැ යි කියා හෝ නොඇවැතැ යි කියා හෝ ලුහු ඇවැතැ යි කියා හෝ ගුරු ඇවැතැ යි කියා හෝ සාවශෙෂ ඇවැතැ යි කියා හෝ අනවශෙෂ ඇවැතැ යි කියා හෝ දුළුල් ඇවැතැ යි කියා හෝ නොදුළුල් ඇවැතැ යි කියා හෝ ලුබ්ධ සිතැත්තෝ විවාද කෙරෙත් ද, විෂ්ට සිතැත්තේ විවාද කෙරෙත් ද. මූඪ සිතැත්තෝ විවාද කෙරෙත් ද, මෙසේ මේ තුන් අකුසල් මුල් විවාදධිකරණයට මුල් වේ.

කතමානි තීණි කුසලමූලානි විවාදාධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛූ අලුද්ධචිත්තා විවදන්ති, අදුට්ඨචිත්තා විවදන්ති, අමූළ්හචිත්තා විවදන්ති: ධම්මොති වා අධම්මොති වා –පෙ– දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා ඉමානි තීණි කුසලමූලානි විවාදාධිකරණස්ස මූලං.

28. අනුවාදාධිකරණස්ස කිං මූලං? ඡ අනුවාදමූලානි අනුවාදාධිකරණස්ස මූලං. තීණි පි අකුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං. තීණි පි කුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං. කායො පි අනුවාදාධිකරණස්ස මූලං වාචාපි අනුවාදාධිකරණස්ස මූලං.

කතමානි ඡ අනුවාදමූලානි අනුවාදාධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛු කොධනො හොති උපනාහී. යො[1] සො භික්ඛු කොධනො හොති උපනාහී සො සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සඞ්ඝෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සික්ඛාය පි න පරිපූරකාරී හොති. යො සො භික්ඛවෙ භික්ඛු සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි –පෙ– සඞ්ඝෙ පි –පෙ– සික්ඛාය පි න පරිපූරකාරී. සො සඞ්ඝෙ අනුවාදං ජනෙති. සො හොති අනුවාදො බහුජන අහිතාය බහුජන අසුඛාය බහුනො ජනස්ස අනත්ථාය අහිතාය දුක්ඛාය දෙවමනුස්සානං. එවරූපඤ්චෙ තුම්හෙ භික්ඛවෙ අනුවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස අනුවාදමූලස්ස පහානාය වායමෙය්‍යාථ. එවරූපඤ්චෙ තුම්හෙ භික්ඛවෙ අනුවාදමූලා අජ්ඣත්තං වා බහිද්ධා වා න සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස අනුවාදමූලස්ස ආයතිං අනවස්සවාය පටිපජ්ජෙය්‍යාථ. එවමෙතස්ස පාපකස්ස අනුවාදමූලස්ස පහානං හොති. එවමෙතස්ස පාපකස්ස අනුවාදමූලස්ස ආයතිං අනවස්සවො හොති.

1. යො. හොති – න. ම

කවර කුසල්මුල් තුනෙක් විවාදධිකරණයට මුල් වේ ද යත්: මහණෙනි, මෙහි මහණ කෙනෙක් දහමැ යි කියා හෝ නොදහමැ යි කියා හෝ ... දුළුල් ඇවැතැ යි කියා හෝ නොදුළුල් ඇවැතැ යි කියා හෝ ලුබ්ධ නොවූ සිතැත්තාහු විවාද කෙරෙත් ද, විෂ්ට නොවූ සිතැත්තාහු විවාද කෙරෙත් ද, මූඪ නොවූ සිතැත්තාහු විවාද කෙරෙත් ද, මෙහි මේ තුන් කුසල් මුල් විවාදධිකරණයට මුල් වේ.

28. අනුවාදධිකරණයට මුල කවර යැ? අනුවාදයට (චෝදනාවට) මුල් වූ දැ සය අනුවාදධිකරණයට මුල් වේ. තුන් අකුසල් මුල් ද අනුවාදධිකරණයට මුල් වේ. තුන් කුසල් මුල් ද අනුවාදධිකරණයට මුල් වේ. කය ද අනුවාදධිකරණයට මුල් වේ, වචනය ද අනුවාදධිකරණයට මුල් වේ.

කවර නම් අනුවාදමූල සයෙක් අනුවාදධිකරණයට මුල් වේ ද යත්: මහණෙනි, මෙහි මහණෙක් ක්‍රෝධ කරන්නේ, බැඳගත් වෛර ඇත්තේ වෙයි. මහණෙනි, යම් මහණෙක් ක්‍රෝධ කරන්නේ, බද්ධ වෛර ඇත්තේ වේ ද, හෙ තෙම ශාස්තෲහු කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ධර්මය කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වෙයි. මහණෙනි, යම් මහණෙක් ශාස්තෲහු කෙරෙහි ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි ද, ධර්මය කෙරෙහි ද...සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි ද, ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වෙයි ද, හෙ තෙම සඞ්ඝයා කෙරෙහි චෝදනා උපදවයි. ඒ චෝදනාව බොහෝ දෙනාට අහිත පිණිස, බොහෝ දෙනාට නොසුව පිණිස, බොහෝ දෙනාට අවැඩ පිණිස, දෙවිමිනිසුන්හට අහිත පිණිස දුක් පිණිස වෙයි. මහණෙනි, ඉදින් තෙපි මෙබඳු අනුවාදමූලයක් තමන් කෙරෙහි හෝ තමන්ගෙන් බැහැර හෝ දක්නාහු නම්, මහණෙනි, තෙපි එහි ඒ ලාමක වූ අනුවාදමූලයාගේ ම ප්‍රහාණය පිණිස වැයම් කරවු. මහණෙනි, ඉදින් තෙපි මෙබඳු අනුවාදමූලයක් තමන් කෙරෙහි හෝ තමන්ගෙන් බැහැර හෝ නො දක්නාහු නම්, මහණෙනි, එහි ලාමක වූ අනුවාදමූලයාගේම මත්තෙහි නොඉපැදීම පිණිස පිළිපදිවු. මෙසේ මේ ලාමක වූ අනුවාදමූලයේ ප්‍රහාණය වෙයි, මෙසේ මේ ලාමක වූ අනුවාදමූලයේ මත්තෙහි නොඉපැදීම වෙයි.

29. පුන ච පරං භික්ඛවෙ භික්ඛු මක්ඛී හොති පළාසී -පෙ- ඉස්සුකී හොති මච්ඡරී -පෙ- සඨො හොති මායාවී -පෙ- පාපිච්ඡො හොති මිච්ඡාදිට්ඨී -පෙ- සන්දිට්ඨිපරාමාසී හොති ආධානගාහී දුප්පටිනිස්සග්ගී. යො සො භික්ඛවෙ භික්ඛු සන්දිට්ඨිපරාමාසී හොති ආධානගාහී දුප්පටිනිස්සග්ගී. සො සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සඞ්ඝෙ පි අගාරවො විහරති අප්පතිස්සො, සික්ඛාය පි න පරිපූරකාරී හොති. යො සො භික්ඛවෙ භික්ඛු සත්ථරි පි අගාරවො විහරති අප්පතිස්සො, ධම්මෙ පි -පෙ- සඞ්ඝෙ පි -පෙ- සික්ඛාය න පරිපූරකාරී, සො සඞ්ඝෙ අනුවාදං ජනෙති. සො හොති[1] අනුවාදෙ බහුජන අහිතාය බහුජනඅදුඛාය බහුනො ජනස්ස අනත්ථාය අහිතාය දුක්ඛාය දෙවමනුස්සානං. එවරූපං චෙ තුම්හෙ භික්ඛවෙ අනුවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස අනුවාදමූලස්ස පහානාය වායමෙය්‍යාථ. එවරූපං චෙ තුම්හෙ භික්ඛවෙ අනුවාදමූලං අජ්ඣත්තං වා බහිද්ධා වා න සමනුපස්සෙය්‍යාථ, තත්‍ර තුම්හෙ භික්ඛවෙ තස්සෙව පාපකස්ස අනුවාද-මූලස්ස ආයතිං අනවස්සවාය පටිපජ්ජෙය්‍යාථ. එවමෙතස්ස පාපකස්ස අනුවාදමූලස්ස පහානං හොති. එවමෙතස්ස පාපකස්ස අනුවාදමූලස්ස ආයතිං අනවස්සවො හොති. ඉමානි ඡ අනුවාදමූලානි අනුවාදාධිකරණස්ස මූලං.

30. කතමානි තීණි අකුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං ලුද්ධචිත්තා අනුවදන්ති, දුට්ඨචිත්තා අනුවදන්ති, මූළ්හචිත්තා අනුවදන්ති, සීලවිපත්තියා වා ආචාරවිපත්තියා වා දිට්ඨිවිපත්තියා වා ආජීවවිපත්තියා වා, ඉමානි තීණි අකුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං.

කතමානි තීණි කුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං අලුද්ධචිත්තා අනුවදන්ති, අදුට්ඨචිත්තා අනුවදන්ති, අමූළ්හචිත්තා අනුවදන්ති, සීලවිපත්තියා වා ආචාරවිපත්තියා වා දිට්ඨිවිපත්තියා වා ආජීවවිපත්තියා වා ඉමානි තීණි කුසලමූලානි අනුවාදාධිකරණස්ස මූලං.

---

1. යො හොති– ත. ම.     2. දුද්දසිකො– ත. ම

29. තව ද අනෙකක් කියමි. මහණෙනි, මහණෙක් ගුණමකු වූයේ ඊර්ෂ්‍යා කරණුයේ මසුරු වූයේ වෙයි, ශඨ වූයේ මායා ඇත්තේ ... ලාමක ඊර්ෂ්‍යා ඇත්තේ ... මිසදිටු වෙයි ... තමාගේ දෘෂ්ටිය දැඩි කොට ගන්නා සුලු වූයේ ආධානගාහී දුප්පටිනිස්සග්ගී (දුරලීමට දුෂ්කර දෘෂ්ටි ඇත්තේ) වෙයි. හේ ශාස්තෘහු කෙරෙහි ද ගෞරව නැත්තේ, යටත්පැවැතුම් නැත්තේ වෙසෙයි, ධර්මය කෙරෙහි ද ගෞරව නැත්තේ, යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ, යටත් පැවැතුම් නැත්තේ වෙසෙයි, ශික්ෂායෙහි ද පරිපූරකාරී නො වෙයි. මහණෙනි, යම් මහණෙක් ශාස්තෘහු කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙන්නේද, ධර්මය කෙරෙහි ද ... සඞ්ඝයා කෙරෙහි ද ගෞරව නැත්තේ යටත් පැවැතුම් නැත්තේ වෙසෙන්නේ ද, ශික්ෂායෙහි පරිපූරකාරී නොවන්නේ ද, හේ සඞ්ඝයා කෙරෙහි අනුවාද (චෝදනා) උපදවයි. ඒ අනුවාදය බොහෝ දෙනාට අහිත පිණිස බොහෝ දෙනාට නොසුව පිණිස, බොහෝ දෙනාට අවැඩ පිණිස, දෙව්මිනිසුනට අහිත පිණිස, දුක් පිණිස වෙයි. මහණෙනි, ඉදින් තෙපි මෙබඳු අනුවාදමූලයක් තමා කෙරෙහි හෝ තමන්ගෙන් බැහැර හෝ දක්නහු නම්, මහණෙනි, එහි ලා ඒ ලාමක වූ අනුවාදමූලයේ ප්‍රහාණය පිණිස වැයම් කරවු, මහණෙනි, ඉදින් මෙබඳු අනුවාදමූලයක් තමන් කෙරෙහි හෝ තමන්ගෙන් බැහැර හෝ නො දක්නහු නම්, මහණෙනි, තෙපි එහි ලා ඒ ලාමක අනුවාදමූලයේ මත්තෙහි නො ඉපැද්ම පිණිස පිළිපදිවු. මෙසේ මේ ලාමක අනුවාදමූලයේ ප්‍රහාණය වෙයි. මෙසේ මේ ලාමක අනුවාදමූලයේ මත්තෙහි නොඉපැද්ම වෙයි. මේ අනුවාදමූල සය අනුවාදධිකරණයේ මූල ය:

30. කවර තුන් අකුසල්මුල් කෙනෙක් අනුවාදධිකරණයට මුල් වෙත් ද යත්: මහණෙනි, මෙහි මහණ කෙනෙක් ශීලවිපත්තියෙන් හෝ ආචාරවිපත්තියෙන් හෝ දෘෂ්ටිවිපත්තියෙන් හෝ ආජීවවිපත්තියෙන් හෝ මහණකුට ලුබ්ධ සිතැත්තාහු චෝදනා කෙරෙත් ද, ද්විෂ්ට සිතැත්තාහු චෝදනා කෙරෙත් ද, මූඪ සිතැත්තාහු චෝදනා කෙරෙත් ද, (මෙහිලා) මේ තුන් අකුසල් මුල්හු අනුවාදධිකරණයට මුල් වෙත්.

කවර තුන් කුසල්මුල් කෙනෙක් අනුවාදධිකරණයට මුල් වෙත් ද යත්: මහණෙනි, මෙහි මහණහු මහණකුට ශීලවිපත්තියෙන් හෝ ආචාරවිපත්තියෙන් හෝ දෘෂ්ටිවිපත්තියෙන් හෝ ආජීවවිපත්තියෙන් හෝ අලුබ්ධ සිතැත්තාහු චෝදනා කෙරෙත් ද, අද්විෂ්ට සිතැත්තාහු චෝදනා කෙරෙත් ද අමූඪ සිතැත්තාහු චෝදනා කෙරෙත් ද, (මෙසේ) මේ තුන් කුසල්මුල්හු අනුවාදධිකරණයට මුල් වෙත්.

31. කතමො කායො අනුවාදාධිකරණස්ස මූලං? ඉධෙකච්චො දුබ්බණ්ණො හොති දුද්දසිකො ඔකොටිමකො බව්හාබාධො කාණො වා කුණී වා ඛඤ්ජො වා පක්ඛහතො වා යෙන නං අනුවදන්ති. අයං කායො අනුවාදාධිකරණස්ස මූලං.

කතමා වාචා අනුවාදාධිකරණස්ස මූලං? ඉධෙකච්චො දුබ්බචො හොති මම්මනො එළගලවාචො යායං නං අනුවදන්ති, අයං වාචා අනුවාදාධිකරණස්ස මූලං.

32. ආපත්තාධිකරණස්ස කිං මූලං? ඡ ආපත්තිසමුට්ඨානා ආපත්තාධිකරණස්ස මූලං. අත්ථාපත්ති කායතො සමුට්ඨාති න වාචාතො න චිත්තතො. අත්ථාපත්ති වාචාතො සමුට්ඨාති න කායතො න චිත්තතො. අත්ථාපත්ති කායතො ච වාචාතො ච සමුට්ඨාති න චිත්තතො. අත්ථාපත්ති කායතො ච චිත්තතො ච සමුට්ඨාති න වාචාතො. අත්ථාපත්ති වාචාතො ච චිත්තතො ච සමුට්ඨාති න කායතො. අත්ථාපත්ති කායතො ච වාචාතො ච චිත්තතො ච සමුට්ඨාති. ඉමෙ ඡ ආපත්තිසමුට්ඨානා ආපත්තාධිකරණස්ස මූලං

33. කිච්චාධිකරණස්ස කිං මූලං? කිච්චාධිකරණස්ස එකං මූලං: සඞ්ඝො.

34. විවාදාධිකරණං කුසලං අකුසලං අව්‍යාකතං. විවාදාධිකරණං සියා කුසලං සියා අකුසලං සියා අව්‍යාකතං. තත්ථ කතමං විවාදාධිකරණං කුසලං? ඉධ භික්ඛවෙ භික්ඛූ කුසලචිත්තා විවදන්ති ධම්මොති වා අධම්මොති වා -පෙ- දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා. යං තත්ථ භණ්ඩනං කලහො විග්ගහො විවාදො නානාවාදො අඤ්ඤථාවාදො විපච්චතාය වොහාරො මෙධගං ඉදං වුච්චති විවාදාධිකරණං කුසලං.

තත්ථ කතමං විවාදාධිකරණං අකුසලං? ඉධ භික්ඛවෙ භික්ඛූ අකුසලචිත්තා විවදන්ති ධම්මොති වා අධම්මොති වා -පෙ- දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා. යං තත්ථ භණ්ඩනං කලහො විග්ගහො විවාදො නානාවාදො අඤ්ඤථාවාදො විපච්චතාය වොහාරො මෙධගං ඉදං වුච්චති විවාදාධිකරණං අකුසලං.

31. කවර කයෙක් අනුවාදධිකරණයට මුල් වේ ද? යත්: මෙහි එක්තරා මහණෙක් යමෙකින් සෙස්සෝ ඔහුට චෝදනා කරන්නාහු නම් එසේ වූ නොමනා පැහැ ඇත්තේ, නොමනා දැකුම් ඇත්තේ, අඟුටුමිටි වූයේ,බොහෝ ආබාධ ඇත්තේ,කණෙක් හෝ කොරෙක් හෝ පිළෙක් හෝ පක්ෂඝාතියෙක් හෝ වෙයි. මේ ඔහුගේ කය (මෙසේ) අනුවාදධිකරණයට මුල් වෙයි.

කවර වචනයෙක් අනුවාදධිකරණයට මුල් වෙයි ද? යත්: මෙහි එක්තරා මහණෙක් යමෙකින් සෙස්සෝ ඔහුට චෝදනා කෙරෙද්ද එසේ වූ දුර්වචයෙක්, මුමුනන්නෙක්, කෙලතොලුවෙක් වෙයි. මෙහි මේ වචනය අනුවාදධිකරණයට මුල් වන නියා යි.

32. ආපත්‍යධිකරණයට මුල කවර යැ ආපත්තිසමුට්ඨාන සය ආපත්‍යධිකරණයට මුල් වෙයි. යම් ඇවැතෙක් කයෙන් නැඟේ ද, වචනයෙන් නො නැඟේ ද සිතින් නො නැඟේ ද එසේ වූ ඇවැතෙක් ඇත. යම් ඇවැතෙක් වචනයෙන් නැඟේ ද, කයින් නො නැඟේ ද සිතින් නො නැඟේ ද එසේ වූ ඇවැතෙක් ඇත. යම් ඇවැතෙක් කයිනුත් වචනයෙනුත් නැඟේ ද, සිතින් නො නැඟේ ද, එසේ වූ ඇවැතෙක් ඇත. යම් ඇවැතෙක් කයිනුත් සිතිනුත් නැඟේ ද, වචනයෙන් නො නැඟේ ද, එසේ වූ ඇවැතෙක් ඇත. යම් ඇවැතෙක් වචනයෙනුත් සිතිනුත් නැඟේ ද, කයින් නො නැඟේ ද, එසේ වූ ඇවැතෙක් ඇත. යම් ඇවැතෙක් කයිනුත් වචනයෙනුත් සිතිනුත් නැඟේ ද, එසේ වූ ඇවැතෙක් ඇත. මේ ආපත්තිසමුට්ඨාන සය ආපත්‍යධිකරණයට මුල් ය.

33. කෘත්‍යාධිකරණයට මුල කවර යැ? කෘත්‍යාධිකරණයට එක් මුලෙකි. ඒ සඞ්ඝ තෙමේ ය.

34. විවාදධිකරණය කුසල් වේ ද? අකුසල් වේ ද? නැතහොත් අව්‍යාකෘත වේ ද? යත්: විවාදධිකරණය ඇතැම් එකෙක් කුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අකුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අව්‍යාකෘත වන්නේ ය. ඔවුන් අතුරෙන් කුසල් වූ විවාදධිකරණය කවර යැ? මහණෙනි, මෙහි මහණ කෙනෙක් කුසල් සිතැත්තාහු මේ ධර්මයැ යි කියා හෝ අධර්මයැ යි කියා හෝ ... දුළුල් ඇවැතැ යි කියා හෝ නො දුළුල් ඇවැතැයි කියා හෝ විවාද කෙරෙත්. එහි යම් ඩබරයෙක් කලහයෙක් විග්‍රහයෙක් විවාදයෙක් නානාවාදයෙක් අන්‍යථාවාදයෙක් පරුෂ ව්‍යවහාරයෙක් අරගලයෙක් වේ ද, මේ කුසල් වූ විවාදධිකරණයැ යි කියනු ලැබේ.

එහි අකුසල් වූ විවාදධිකරණය කවර යැ? මහණෙනි, මෙහි මහණ-කෙනෙක් අකුසල් සිතැත්තාහු ධර්මයැ යි කියා හෝ අධර්මයැ යි කියා හෝ ... දුළුල් ඇවැතැ යි කියා හෝ නොදුළුල් ඇවැතැ යි කියා හෝ විවාද කෙරෙත්. එහි යම් ඩබරයෙක් කලහයෙක් පරුෂ ව්‍යවහාරයෙක්, අරගල-යෙක් වේ ද, මේ අකුසල් වූ විවාදධිකරණයැ යි කියනු ලැබේ.

තත්ථ කතමං විවාදාධිකරණං අබ්‍යාකතං? ඉධ භික්ඛවෙ භික්ඛූ අබ්‍යාකතචිත්තා විවදන්ති ධම්මොති වා අධම්මොති වා –පෙ– දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා. යං තත්ථ භණ්ඩනං කලහො –පෙ– වොහාරො මෙධගං ඉදං වුච්චති විවාදාධිකරණං අබ්‍යාකතං.

අනුවාදාධිකරණං කුසලං, අකුසලං, අබ්‍යාකතං. අනුවාදාධිකරණං සියා කුසලං සියා අකුසලං සියා අබ්‍යාකතං.

තත්ථ කතමං අනුවාදාධිකරණං කුසලං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං කුසලචිත්තා අනුවදන්ති සීලවිපත්තියා වා ආචාරවිපත්තියා වා දිට්ඨිවිපත්තියා වා ආජීවවිපත්තියා වා. යො තත්ථ අනුවාදෙ අනුවදනා අනුල්ලපනා අනුභණනා අනුසම්පවඞ්කතා අබ්භුස්සහනතා අනුබලප්පදානං ඉදං වුච්චති අනුවාදාධිකරණං කුසලං.

තත්ථ කතමං අනුවාදාධිකරණං අකුසලං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං අකුසලචිත්තා අනුවදන්ති සීලවිපත්තියා වා –පෙ– ආජීවවිපත්තියා වා, යො තත්ථ අනුවාදෙ –පෙ– අබ්භුස්සහනතා අනුබලප්පදානං ඉදං වුච්චති අනුවාදාධිකරණං අකුසලං. තත්ථ කතමං අනුවාදාධිකරණං අබ්‍යාකතං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං අබ්‍යාකතචිත්තා අනුවදන්ති සීලවිපත්තියා වා –පෙ– ආජීවවිපත්තියා වා. යො තත්ථ අනුවාදෙ –පෙ– අනුබලප්පදානං ඉදං වුච්චති අනුවාදාධිකරණං අබ්‍යාකතං.

36. ආපත්තාධිකරණං අකුසලං අබ්‍යාකතං? ආපත්තාධිකරණං සියා අකුසලං සියා අබ්‍යාකතං. නත්ථි ආපත්තාධිකරණං කුසලං.

තත්ථ කතමං ආපත්තාධිකරණං අකුසලං? යං ජානන්තො සඤ්ජානන්තො චෙච්ච අභිවිතරිත්වා වීතික්කමො, ඉදං වුච්චති ආපත්තාධිකරණං අකුසලං.

එහි අව්‍යාකෘත වූ විවාදිකරණය කවර යැ? මහණෙනි, මෙහි මහණහු අව්‍යාකෘත සිතැත්තාහු, මේ දහමැ යි කියා හෝ නොදහමැ යි කියා හෝ ... මේ දුළුල් ඇවැතැ යි කියා හෝ මේ නොදුළුල් ඇවැතැ යි කියා හෝ විවාද කෙරෙත්. එහි යම් ඩබරයෙක්, කලහයෙක් පරුෂ ව්‍යවහාරයෙක්, අරගලයෙක් වේ ද, මෙය අව්‍යාකෘත විවාදධිකරණයැ යි කියනු ලැබේ.

35. අනුවාදධිකරණය කුසල් වේ ද? අකුසල් වේ ද? අව්‍යාකෘත වේ ද? අනුවාදධිකරණය ඇතැම් එකෙක් කුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අකුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අව්‍යාකෘත වන්නේ ය.

ඔවුන් අතුරෙන් කුසල් වූ අනුවාදධිකරණය කවරේ ද? යත්: මහණෙනි, මෙහි මහණ කෙනෙක් කුසල් සිතැත්තෝ මහණකුට ශීලවිපත්තියෙන් ආචාරවිපත්තියෙන් හෝ දෘෂ්ටිවිපත්තියෙන් හෝ ආජීවවිපත්තියෙන් හෝ චෝදනා කෙරෙත්. එහි යම් චෝදනාවෙක්, දෙස් නැඟීමෙක්, පුන පුනා දෙස් මතු කොට කීමෙක්, පුන පුනා දෙස් බිණීමෙක්, පුන පුනා තිදෙරින් නැමීමෙක්, වෙසෙසින් උත්සාහ කිරීමෙක්, අනුබල දීමෙක් වේ ද, මේ කුසල් වූ අනුවාදධිකරණයැ යි කියනු ලැබේ.

එහි අකුසල් වූ අනුවාදධිකරණය කවරේ ද යත්: මහණෙනි, මෙහි මහණ කෙනෙක් අකුසල් සිතැත්තෝ මහණකුට ශීලවිපත්තියෙන් හෝ ... ආජීවවිපත්තියෙන් හෝ චෝදනා කෙරෙත් ද, එහි යම් චෝදනාවෙක් ... උත්සාහ කිරීමෙක්, අනුබල දීමෙක් වේ ද, මේ අකුසල් වූ අනුවාදධිකරණයැ යි කියනු ලැබේ.

එහි අව්‍යාකෘත වූ අනුවාදධිකරණය කවරේ වේ ද? මහණෙනි, මෙහි මහණ කෙනෙක් අව්‍යාකෘත සිතැත්තෝ මහණකුට ශීලවිපත්තියෙන් හෝ ... ආජීවවිපත්තියෙන් හෝ චෝදනා කෙරෙත් ද ... එහි යම් චෝදනාවෙක් ... අනුබල දීමෙක් වේ ද, මෙය අව්‍යාකෘත අනුවාදධිකරණයැ යි කියනු ලැබේ.

36. ආපත්‍යධිකරණය අකුසල් වේ ද? අව්‍යාකෘත වේ ද? කිසි ආපත්‍යධිකරණයෙක් (ඇවැත් පිළිබඳ නඩුවෙක්) අකුසල් වන්නේ ය, කිසි ආපත්‍යධිකරණයෙක් අව්‍යාකෘත වන්නේ ය. කුසල් වූ ආපත්ත්‍යාධිකරණයෙක් නැත.

එහි අකුසල් වූ ආපත්ත්‍යාධිකරණය කවරේ ද? දන්නේ, හඳුනන්නේ, සිතා, උපක්‍රම විසින් මැඩ යම් සිකපදයක්හු පිළිබඳ ව්‍යතික්‍රමයෙක් වේ ද, මේ අකුසල් වූ ආපත්ත්‍යාධිකරණයැ යි කියනු ලැබේ.

තත්ථ කතමං ආපත්තාධිකරණං අබ්‍යාකතං? යං අජානන්තො අසඤ්ජානන්තො අචෙච්ච අනභිවිතරිත්වා වීතික්කමො, ඉදං වුච්චති ආපත්තාධිකරණං අබ්‍යාකතං.

37. කිච්චාධිකරණං කුසලං අකුසලං අබ්‍යාකතං? කිච්චාධිකරණං සියා කුසලං, සියා අකුසලං, සියා අබ්‍යාකතං.

තත්ථ කතමං කිච්චාධිකරණං කුසලං? යං සඞ්ඝො කුසලචිත්තො කම්මං කරොති අපලොකනකම්මං ඤත්තිකම්මං ඤත්තිදුතියකම්මං ඤත්තිචතුත්ථකම්මං, ඉදං වුච්චති කිච්චාධිකරණං කුසලං.

තත්ථ කතමං කිච්චාධිකරණං අකුසලං? යං සඞ්ඝො අකුසලචිත්තො කම්මං කරොති අපලොකනකම්මං ඤත්තිකම්මං ඤත්තිදුතියකම්මං ඤත්තිචතුත්ථකම්මං, ඉදං වුච්චති කිච්චාධිකරණං අකුසලං.

තත්ථ කතමං කිච්චාධිකරණං අබ්‍යාකතං? යං සඞ්ඝො අබ්‍යාකතචිත්තො කම්මං කරොති අපලොකනකම්මං ඤත්තිකම්මං ඤත්තිදුතියකම්මං ඤත්තිචතුත්ථකම්මං, ඉදං වුච්චති කිච්චාධිකරණං අබ්‍යාකතං.

38. විවාදො විවාදාධිකරණං, විවාදො නො අධිකරණං, අධිකරණං නො විවාදො, අධිකරණඤ්චෙව විවාදො ච. සියා විවාදො විවාදාධිකරණං, සියා විවාදො නො අධිකරණං, සියා අධිකරණං නො විවාදො, සියා අධිකරණඤ්චෙව විවාදො ච.

තත්ථ කතමො විවාදො විවාදාධිකරණං? ඉධ භික්ඛූ විවදන්ති ධම්මොති වා අධම්මොති වා -පෙ- දුට්ඨුල්ලා ආපත්තීති වා අදුට්ඨුල්ලා ආපත්තීති වා. යං තත්ථ භණ්ඩනං කලහො විග්ගහො විවාදො නානාවාදො අඤ්ඤථාවාදො විපච්චතාය වොහාරො මෙධකං අයං විවාදො විවාදාධිකරණං.

එහි අව්‍යාකෘත වූ ආපත්ත්‍යාධිකරණය කවරේ ද යත්: නොදන්නේ, නොහඳුනන්නේ, නො සිතා, උපක්‍රම නො කොට යම් සික පදයක් පිළිබඳ ව්‍යතික්‍රමයෙක් වේ ද, මේ අව්‍යාකෘත වූ ආපත්ත්‍යාධිකරණයැ යි කියනු ලැබේ.

37. කෘත්‍යාධිකරණය කුසල් ද අකුසල් ද අව්‍යාකෘත ද යත්: ඇතැම් කෘත්‍යාධිකරණයෙක් කුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අකුසල් වන්නේ ය, ඇතැම් එකෙක් අව්‍යාකෘත වන්නේ ය.

එහි කුසල් වූ කෘත්‍යාධිකරණය කවරේ ද සඞ්ඝ තෙමේ කුසල් සිතැත්තේ අපලෝකනකර්ම ඥප්තිකර්ම, ඥප්තිද්විතීයකර්ම, ඥප්ති චතුර්ථ කර්ම යන යම් කර්මයක් කරන්නේ ද, මේ කුසල් වූ කෘත්‍යාධිකරණයැ යි කියනු ලැබේ.

එහි අකුසල් වූ කෘත්‍යාධිකරණය කවරේ ද? සඞ්ඝ තෙමේ අකුසල් සිතැත්තේ අපලෝකනකර්ම, ඥප්තිකර්ම, ඥප්තිද්විතීයකර්ම, ඥප්ති චතුර්ථකර්ම යන යම් කර්මයක් කරන්නේ ද, මේ අකුසල් වූ කෘත්‍යාධිකරණයැ යි කියනු ලැබේ.

එහි අව්‍යාකෘත වූ කෘත්‍යාධිකරණය කවරේ ද? සඞ්ඝ තෙමේ අව්‍යාකෘත සිතැත්තේ ආලොකනකර්ම, ඥප්තිකර්ම, ඥප්තිද්විතීයකර්ම, ඥප්ති චතුර්ථ කර්ම යන යම් කර්මයක් කරන්නේ ද, මෙය අව්‍යාකෘත වූ කෘත්‍යාධිකරණයැ යි කියනු ලැබේ.

38. විවාදයෙක් වූ විවාදධිකරණයෙකි, විවාදයෙක් වූ අධිකරණ නො වූවෙකි, අධිකරණයෙක් වූ විවාද නො වූයෙකි, අධිකරණ ද විවාද ද වූවෙකි. ඇතැම් විවාදයෙක් විවාදධිකරණ වන්නේ ය, ඇතැම් විවාදයෙක් අධිකරණ නො වන්නේය, ඇතැම් අධිකරණයෙක් විවාද නො වන්නේ ය, ඇතැම් එකෙක් අධිකරණ ද විවාද ද වන්නේ ය.

එහි කවර විවාදයෙක් විවාදධිකරණ වේ ද යත්: මහණෙනි, මෙහි මහණහු ධර්ම යැ යි කියා හෝ අධර්ම යැ යි කියා හෝ ... දුළුල් ඇවැතැ යි කියා හෝ නොදුළුල් ඇවැතැ යි කියා හෝ විවාද කෙරෙත්. එහි යම් අරගලයෙක්, කලහයෙක්, උත්තනට විරුද්ධ කැත්මෙක්, විරුද්ධ වාදයෙක්, නානාවාදයෙක්, අන් පරිද්දෙකින් වූ වාදයෙක්, සිතැ දුක් පහළ කරනු පිණිස වූ වචනයෙක්, රළු බස් දෙඩුමෙක් වේ ද, මේ විවාදය විවාදධිකරණ වෙයි.

තත්ථ කතමො විවාදො නො අධිකරණං? මාතා පි පුත්තේන විවදති, පුත්තො පි මාතරා විවදති, පිතා පි පුත්තේන විවදති, පුත්තො පි පිතරා විවදති, භාතා පි භාතරා විවදති, භාතා පි භගිනියා විවදති, භගිනී පි භාතරා විවදති, සහායො පි සහායෙන විවදති. අයං විවාදො නො අධිකරණං.

තත්ථ කතමං අධිකරණං නො විවාදො? අනුවාදාධිකරණං ආපත්තාධිකරණං කිච්චාධිකරණං, ඉදං අධිකරණං නො විවාදො.

තත්ථ කතමං අධිකරණඤ්චෙව විවාදො ච? විවාදාධිකරණං අධිකරණඤ්චෙව විවාදො ච.

39. අනුවාදො අනුවාදාධිකරණං, අනුවාදො නො අධිකරණං, අධිකරණං නො අනුවාදො, අධිකරණඤ්චෙව අනුවාදො ච, සියා අනුවාදො අනුවාදාධිකරණං, සියා අනුවාදො නො අධිකරණං, සියා අධිකරණං නො අනුවාදො, සියා අධිකරණඤ්චෙව අනුවාදො ච.

තත්ථ කතමො අනුවාදො අනුවාදාධිකරණං? ඉධ භික්ඛවෙ භික්ඛූ භික්ඛුං අනුවදන්ති සීලවිපත්තියා වා ආචාරවිපත්තියා වා දිට්ඨිවිපත්තියා වා ආජීවවිපත්තියා වා. යො තත්ථ අනුවාදො අනුවදනා අනුල්ලපනා අනුභණනා අනුසම්පවඞ්කතා අබ්භුස්සහනතා අනුබලප්පදානං, අයං අනුවාදො අනුවාදාධිකරණං.

තත්ථ කතමො අනුවාදො නො අධිකරණං? මාතා පි පුත්තං අනුවදති, පුත්තො පි මාතරං අනුවදති, පිතා පි පුත්තං අනුවදති, පුත්තො පි පිතරං අනුවදති, භාතා පි භාතරං අනුවදති, භාතා පි භගිනිං අනුවදති, භගිනී පි භාතරං අනුවදති, සහායො පි සහායං අනුවදති, අයං අනුවාදො නො අධිකරණං.

තත්ථ කතමං අධිකරණං නො අනුවාදො? ආපත්තාධිකරණං කිච්චාධිකරණං විවාදාධිකරණං, ඉදං අධිකරණං නො අනුවාදො.

තත්ථ කතමො අධිකරණඤ්චෙව අනුවාදො ච? අනුවාදාධිකරණං අධිකරණඤ්චෙව අනුවාදො ච.

එහි කවර විවාදයෙක් අධිකරණ නො වේ ද යත්: මව ද පුතු හා විවාද කෙරෙයි, පුතා ද මව හා විවාද කෙරෙයි, පියා ද පුතු හා විවාද කෙරෙයි, පුතා ද පියා හා විවාද කෙරෙයි, බෑයා ද බිහිනිය හා විවාද කෙරෙයි, බිහිනි ද බෑයා හා විවාද කෙරෙයි, යහළුවා ද යහළුවා හා විවාද කෙරෙයි. මේ විවාදය යි, අධිකරණයෙක් නො වේ.

එහි කවර දයෙක් අධිකරණ වේ ද? විවාදයෙක් නො වේ ද? යත්: අනුවාදධිකරණය ද ආපත්ත්‍යාධිකරණය ද යන කෘත්‍යාධිකරණය ද යන මෙය අධිකරණ වෙයි, විවාදයෙක් නො වෙයි.

එහි කවරෙක් අධිකරණයත් විවාදයත් වේ ද යත්: විවාදධිකරණය අධිකරණයත් විවාදයත් වේ.

39. අනුවාද වූ අනුවාදධිකරණයෙකි, අනුවාද වූ අධිකරණ නො වූයෙකි, අධිකරණ වූ අනුවාද නොවූයෙකි, අධිකරණ ද අනුවාද වූයෙකි, ඇතැම් අනුවාදයෙක් අනුවාදධිකරණ වන්නේ ය, ඇතැම් අනුවාදයෙක් අධිකරණ නො වන්නේ ය, ඇතැම් අධිකරණයෙක් අනුවාද නො වන්නේ ය, ඇතැම් එකෙක් අධිකරණ ද අනුවාද ද වන්නේ ය.

එහි කවර අනුවාදයෙක් අනුවාදධිකරණ වේ ද යත්: මහණෙනි, මෙහි මහණහු මහණකුට ශීලවිපත්තියෙන් හෝ ආචාරවිපත්තියෙන් හෝ දෘෂ්ටිවිපත්තියෙන් හෝ ආජීවවිපත්තියෙන් හෝ චෝදනා කෙරෙත්. එහි යම් අනුවාදයෙක් (චෝදනාවෙක්) දොස් නැඟීමෙක්, පුන පුනා දොස් මතු කොට කීමෙක්, පුන පුනා දොස් පිඹීමෙක්, පුන පුනා තිදෙරින් නැඟීමෙක්, වෙසෙසින් උත්සාහ කිරීමෙක්, අනුබල දීමෙක් වෙයි ද, මේ අනුවාදය අනුවාදධිකරණ වේ.

එහි කවර අනුවාදයෙක් අධිකරණ නො වේ ද යත්: මව ද පුතුට චෝදනා කෙරෙයි, පුතා ද මවට චෝදනා කෙරෙයි, පියා ද පුතාට චෝදනා කෙරෙයි, පුතා ද පියාට චෝදනා කෙරෙයි, බෑයා ද බෑයාට චෝදනා කෙරෙයි, බෑයා ද බිහිනියට චෝදනා කෙරෙයි, බිහිනි ද බෑයාට චෝදනා කෙරෙයි, යහළුවා ද යහළුවාට චෝදනා කෙරෙයි. මේ අනුවාදය යි (චෝදනාව යි), අධිකරණයෙක් නො වෙයි.

එහි කිමෙක් අධිකරණ වේ ද? අනුවාද නො වේ ද යත්: ආපත්ත්‍යාධිකරණය, කෘත්‍යාධිකරණය, විවාදධිකරණය යන මේ අධිකරණ වෙයි, අනුවාද නො වෙයි.

එහි කවරෙක් අධිකරණයත් අනුවාදයත් වේ ද යත්: අනුවාදධිකරණය අධිකරණ ද වේ අනුවාද ද වේ.

**40.** ආපත්ති ආපත්තාධිකරණං, ආපත්ති නො අධිකරණං, අධිකරණං නො ආපත්ති, අධිකරණඤ්චෙව ආපත්ති ච, සියා ආපත්ති ආපත්තාධිකරණං, සියා ආපත්ති නො අධිකරණං, සියා අධිකරණං නො ආපත්ති, සියා අධිකරණඤ්චෙව ආපත්ති ච.

තත්ථ කතමං ආපත්ති ආපත්තාධිකරණං? පඤ්චපි ආපත්තික්ඛන්ධා ආපත්තාධිකරණං, සත්තපි ආපත්තික්ඛන්ධා ආපත්තාධිකරණං, අයං ආපත්ති ආපත්තාධිකරණං.

තත්ථ කතමං ආපත්ති නො අධිකරණං? සොතාපත්ති සමාපත්ති, අයං ආපත්ති නො අධිකරණං.

තත්ථ කතමං අධිකරණං නො ආපත්ති? කිච්චාධිකරණං විවාදාධිකරණං අනුවාදාධිකරණං ඉදං අධිකරණං නො ආපත්ති.

තත්ථ කතමං අධිකරණඤ්චෙව ආපත්ති ච? ආපත්තාධිකරණං අධිකරණඤ්චෙව ආපත්ති ච.

41. කිච්චං කිච්චාධිකරණං, කිච්චං නො අධිකරණං, අධිකරණං නො කිච්චං, අධිකරණඤ්චෙව කිච්චඤ්ච සියා කිච්චං කිච්චාධිකරණං, සියා කිච්චං නො අධිකරණං, සියා අධිකරණං නො කිච්චං, සියා අධිකරණඤ්චෙව කිච්චඤ්ච.

තත්ථ කතමං කිච්චං කිච්චාධිකරණං? යා සඞ්ඝස්ස කිච්චයතා කරණීයතා අපලොකනකම්මං ඤත්තිකම්මං ඤත්තිදුතියකම්මං ඤත්තිචතුත්ථකම්මං, ඉදං කිච්චං කිච්චාධිකරණං.

තත්ථ කතමං කිච්චං නො අධිකරණං? ආචරියකිච්චං උපජ්ඣායකිච්චං සමානුපජ්ඣායකිච්චං සමානාචරියකිච්චං ඉදං කිච්චං නො අධිකරණං.

තත්ථ කතමං අධිකරණං නො කිච්චං? විවාදාධිකරණං අනුවාදාධිකරණං ආපත්තාධිකරණං, ඉදං අධිකරණං නො කිච්චං.

තත්ථ කතමං අධිකරණඤ්චෙව කිච්චඤ්ච? කිච්චාධිකරණං අධිකරණඤ්චෙව කිච්චඤ්ච.

40. ආපත්ති වූ ආපත්ත්‍යාධිකරණයෙකි, ආපත්ති වූ අධිකරණ නො වූ එකෙක, අධිකරණ වූ ආපත්ති නොවූ එකෙක, අධිකරණ ද ආපත්ති ද වූ එකෙක, ඇතැම් ආපත්තියෙක් ආපත්ත්‍යාධිකරණ වන්නේ ය, ඇතැම් ආපත්තියෙක් අධිකරණ නො වන්නේ ය, ඇතැම් අධිකරණයෙක් ආපත්ති නො වන්නේ ය, ඇතැම් එකෙක් අධිකරණත් ආපත්තිත් වන්නේ ය.

එහි ආපත්ති වූ ආපත්ත්‍යාධිකරණය කවරේ ද ආපත්තිස්කන්ධ පස ම ආපත්ත්‍යාධිකරණ යි, ආපත්තිස්කන්ධ සත ම ආපත්ත්‍යාධිකරණ යි. මේ ආපත්ති ද ආපත්ත්‍යාධිකරණ ද වූ දය යි.

එහි කවර දයෙක් ආපත්ති වේ ද? අධිකරණ නොවේ ද යත්: කෘත්‍යාධිකරණය විවාදාධිකරණය අනුවාදාධිකරණය යන මේ අධිකරණ වෙයි, ආපත්ති නො වෙයි.

එහි කවර එකෙක් ආපත්ති වේ ද, අධිකරණ නො වේ ද යත්: ශ්‍රෝත ආපත්තිය ද සමාපත්තිය ද යන මේ ආපත්ති යි, අධිකරණ නො වෙයි.

එහි කවර එකෙක් අධිකරණ වේ ද, ආපත්ති නො වේ ද? යත්: කෘත්‍යාධිකරණය විවාදාධිකරණය අනුවාදාධිකරණය යන මෙය අධිකරණ යි, ආපත්ති නො වේ.

එහි කවරෙක් අධිකරණත් ආපත්තිත් වේ ද යත්: ආපත්ත්‍යාධිකරණය අධිකරණ ද ආපත්ති ද වේ.

41. කෘත්‍යය වූ කෘත්‍යාධිකරණයෙකි, කෘත්‍යය වූ අධිකරණ නො වූයෙකි, අධිකරණ වූ කෘත්‍යය නොවූයෙකි, අධිකරණ ද කෘත්‍ය ද වූයෙකි. ඇතැම් කෘත්‍යයෙක් කෘත්‍යාධිකරණ වන්නේ ය, ඇතැම් කෘත්‍යයෙක් අධිකරණ නො වන්නේ ය, ඇතැම් අධිකරණයෙක් කෘත්‍ය නො වන්නේ ය, ඇතැම් එකෙක් අධිකරණ ද කෘත්‍ය ද වන්නේ ය.

එහි කවර කෘත්‍යයෙක් කෘත්‍යාධිකරණ වේ ද යත්: අපලෝකන කර්ම, ඥප්ති කර්ම, ඥප්තිවිතීයකර්ම, ඥප්තිචතුර්ථකර්ම යන සංඝයා ගේ යම් කෘත්‍ය කරන බවෙක් කටයුතු කරන බවෙක් වේ ද, මේ කෘත්‍ය ද කෘත්‍යාධිකරණ ද වේ.

එහි කවර කෘත්‍යයෙක් අධිකරණ නො වේ ද යත්: ඇදුරන් පිළිබඳ කිස, උපාධ්‍යායයා පිළිබඳ කිස, සමාන උපාධ්‍යායයා පිළිබඳ කිස, සමානාචාර්යා පිළිබඳ කිස යන මේ අධිකරණ නොවූ කෘත්‍යය ය.

එහි කවරෙක් කෘත්‍ය නොවූ අධිකරණයෙක් වේ ද යත්: විවාදාධි-කරණ අනුවාදාධිකරණ ආපත්ත්‍යාධිකරණ යන මෙය අධිකරණ ය, කෘත්‍ය නො වේ.

එහි කවර එකෙක් අධිකරණයත් කෘත්‍යයත් වේ ද යත්: කෘත්‍යාධි-කරණය අධිකරණය ද වේ, කෘත්‍යය ද වේ.

## අධිකරණ වූපසමනං

42. විවාදාධිකරණං කතිහි සමථෙහි සම්මති? විවාදාධිකරණං ද්වීහි සමථෙහි සම්මති සම්මුඛාවිනයෙන ච යෙභුය්‍යසිකාය ච.

සියා විවාදාධිකරණං එකං සමථං අනාගම්ම යෙභුය්‍යසිකං එකෙන සමථෙන සම්මෙය්‍ය සම්මුඛාවිනයෙනා?ති. සියා'ති'ස්ස වචනීයං. යථා කථං විය? ඉධ භික්ඛූ විවදන්ති ධම්මො ති වා අධම්මො ති වා. විනයො ති වා අවිනයො ති වා, භාසිතං ලපිතං තථාගතෙනාති වා, අභාසිතං අලපිතං තථාගතෙනාති වා, ආචිණ්ණං තථාගතෙනාති වා, අනාචිණ්ණං තථාගතෙනාති වා, පඤ්ඤත්තං තථාගතෙනාති වා, අපඤ්ඤත්තං තථාගතෙනාති වා, ආපත්තීති වා, අනාපත්තීති වා, ලහුකාපත්තීති වා, ගරුකාපත්තීති වා, සාවසෙසාපත්තීති වා, අනවසෙසාපත්තීති වා, දුට්ඨුල්ලාපත්තීති වා, අදුට්ඨුල්ලාපත්තීති වා, තෙ චෙ භික්ඛූ භික්ඛූ සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං, ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන.

43. කිඤ්ච තත්‍ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා.

කා ච තත්‍ථ සඞ්ඝසම්මුඛතා? යාවතිකා භික්ඛූ කම්මපත්තා තෙ ආගතා හොන්ති ඡන්දාරහානං ඡන්දො ආහටො හොති, සම්මුඛීභූතා න පටික්කොසන්ති, අයං තත්‍ථ සඞ්ඝසම්මුඛතා.

කා ච තත්‍ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා? යෙන ධම්මෙන යෙන විනයෙන යෙන සත්‍ථුසාසනෙන තං අධිකරණං වූපසම්මති අයං තත්‍ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා.

කා ච තත්‍ථ පුග්ගලසම්මුඛතා? යො ච විවදති, යෙන ච විවදති, උභො අත්තපච්චත්ථිකා සම්මුඛීභූතා හොන්ති, අයං තත්‍ථ පුග්ගලසම්මුඛතා.

## අධිකරණ සන්හිඳුවීම

**42.** විවාදධිකරණය ශමථ කීයෙකින් සන්හිඳේද? සම්මුඛාවිනයෙන් ද යෙභුය්‍යසිකායෙන් ද යන ශමථ දෙකින් සන්හිඳේ.

විවාදධිකරණය යෙභුය්‍යසිකා නම් එක් ශමථයට නො පැමිණ සම්මුඛාවිනය නම් වූ එක් ශමථයෙන් සන්හිඳෙන්නේ ය යන්න විය හැකි ද? විය හැක්කැ යි ඕහුට කිය යුතු. ඒ කෙසේ ද යත්: මෙහි මහණහු ධර්මයැ යි හෝ අධර්මයැ යි හෝ විනයයැ යි හෝ අවිනය යැ යි හෝ තථාගතයන් වහන්සේ විසින් වදරන ලදැ යි දෙසන ලදැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් නො වදරන ලදැ යි නො දෙසන ලදැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් පුරුදු කරන ලදැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් පුරුදු නො කරන ලදැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් පනවන ලදැ යි කියා හෝ තථාගතයන් වහන්සේ විසින් නො පනවන ලදැ යි කියා හෝ ඇවැතැ යි කියා හෝ නොඇවැතැ යි කියා හෝ ලුහු ඇවැතැ යි කියා හෝ ගුරු ඇවැතැ යි කියා හෝ සාවශෙෂ ඇවැතැ යි කියා හෝ අනවශෙෂ ඇවැතැ යි කියා හෝ දුළුල් ඇවැතැ යි කියා හෝ නොදුළුල් ඇවැතැයි කියා හෝ විවාද කෙරෙත් ද, මහණෙනි, ඉදින් එ මහණහු මේ අධිකරණය සන්හිඳුවන්නට හැකි වෙත් ද, මහණෙනි, එසේ කලැ මේ අධිකරණය සන්හිඳුවන ලදැ යි කියනු ලැබෙ. කිමෙකින් සන්හිඳුවන ලද්දේ ද යත්: සම්මුඛවිනයයෙන් සංසිඳුවන ලද්දේ ය.

**43.** එහි සම්මුඛාවිනය යනු කිමෙක් ද? සංඝ සම්මුඛතාව, ධර්ම-සම්මුඛතාව විනයසම්මුඛතාව, පුද්ගලසම්මුඛතාව යන මොහු ය.

එහි සංඝසම්මුඛතාව කවර යැ? යම් පමණ භික්ෂු කෙනෙක් විනය කර්‍මයට සුදුසු වෙත් ද, ඔහු ආවාහු වෙත් ද, ඡන්දය දීමට සුදුසු මහණුන් ගේ ඡන්දය ගෙනෙන ලද්දේ වේ ද, හමු වූ මහණහු ප්‍රතික්‍රෝශ නො කෙරෙත් ද මෙය එහි සඞ්ඝ සම්මුඛතාව වේ. එහි ධම්සම්මුඛතා විනය සම්මුඛතා කවුරු යැ? යම් විනයයෙකින්, යම් ශාස්තෘශාසනයෙකින් ඒ අධිකරණය සංසිඳේ ද, මේ ධර්ම විනය දෙක එහි ධර්මසම්මුඛතා විනයසම්මුඛතා නම් වේ.

එහි පුද්ගල සම්මුඛතා නම් කවර යැ? යමෙකුත් විවාද කෙරෙ ද, යමකු හාත් විවාද කෙරේ ද,

ඒ දෙ පසෙහි වූවෝ හමු වූවාහු වෙත් ද, මෙ එහි පුද්ගල සම්මුඛතා යි.

එවං වූපසන්තඤ්චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති ඛීයනකං පාචිත්තියං.

තෙ චෙ භික්ඛවෙ භික්ඛූ න සක්කොන්ති තං අධිකරණං තස්මිං ආවාසෙ වූපසමෙතුං, තෙහි භික්ඛවෙ භික්ඛූහි යස්මිං ආවාසෙ බහුතරා[1] භික්ඛූ සො ආවාසො ගන්තබ්බො. තෙ චෙ භික්ඛවෙ භික්ඛූ තං ආවාසං ගච්ඡන්තා අන්තරාමග්ගෙ සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා.

44. කා ච තත්ථ සඞ්ඝසම්මුඛතා? යාවතිකා භික්ඛූ කම්මප්පත්තා තෙ ආගතා හොන්ති, ඡන්දාරහානං ඡන්දො ආහටො හොති, සම්මුඛීභූතා න පටික්කොසන්ති, අයං තත්ථ සඞ්ඝසම්මුඛතා.

කා ච තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා? යෙන ධම්මෙන යෙන විනයෙන යෙන සත්ථුසාසනෙන තං අධිකරණං වූපසම්මති, අයං තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා.

කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච විවදති, යෙන ච විවදති, උභො අත්ථපච්චත්ථිකා සම්මුඛීභූතා හොන්ති, අයං තත්ථ පුග්ගලසම්මුඛතා. එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති, උක්කොටනකං පාචිත්තියං, ඡන්දදායකො ඛීයති, ඛීයනකං පාචිත්තියං.

තෙ චෙ භික්ඛවෙ භික්ඛූ තං ආවාසං ගච්ඡන්තා[2] අන්තරාමග්ගෙ න සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං, තෙහි භික්ඛවෙ භික්ඛූහි තං ආවාසං ගන්ත්වා ආවාසිකා භික්ඛූ එවමස්සු වචනීයා: ඉදං ඛො ආවුසො අධිකරණං එවං ජාතං එවං සමුප්පන්නං, සාධායස්මන්තො ඉදං[3] අධිකරණං වූපසමෙන්තු ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන, යථයිදං අධිකරණං සුවූපසන්තං අස්සාති.

1. සම්බහුලා - මජසං.
2. ආගච්ඡන්තා - මජසං.
3. ඉමං - මජසං.

මහණෙනි, මෙසේ සංසිඳුවන ලද අධිකරණය ඉදින් කාරක මහණෙක් (එයට සම්බන්ධ වූ මහණෙක්) උත්කෝටනය කරන්නේ ද, (යලිත් විසඳනු පිණිස මතු කරන්නේ ද), ඔහුට උත්කොටනක පාචිත්තිය ඇවැත වේ. ඡන්දය දුන් මහණෙක් විතිශ්චයට දෙස් නගයි ද, ඔහුට ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

මහණෙනි, ඉදින් ඒ මහණහු ඒ ආවාසයෙහි දී ඒ අධිකරණය සන්හිඳුවන්නට නොහැකි වන්නාහු නම්, යම් ආවාසයෙක ගණනින් වැඩිතරම් මහණ කෙනෙක් වෙත් නම්, ඒ මහණුන් විසින් එකී ආවාසය කරා යා යුතු වෙයි. මහණෙනි, ඉදින් ඒ මහණහු අතරමඟදී ඒ අධිකරණය සන්හිඳුවන්නට හැකි වන්නාහු නම්, මහණෙනි, මේ අධිකරණය සන්හිඳුවන ලදැයි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුවන ලද ද යත්: සම්මුඛාවිනයයෙනි.

එහි සම්මුඛාවිනයය කිමෙක් ද? සංඝසම්මුඛතා ධර්මසම්මුඛතා විනයසම්මුඛතා පුද්ගලසම්මුඛතා යන සතර ය.

44. එහි සඞ්ඝසම්මුඛතා නම් කවර යැ? යම් පමණ මහණ කෙනෙක් ඒ විනයකර්මයට සුදුසු නම් ඔහු ආවාහු වෙත් ද, ඡන්දය දීමට සුදුසු මහණුන්ගේ ඡන්දය ගෙනෙන ලද්දේ වේ ද, හමු වූ මහණහු ප්‍රතික්‍රෝශ නො කෙරෙද්ද. (නො වළකාලත් ද ) මේ එහි සඞ්ඝ සම්මුඛතා යි.

එහි ධර්මසම්මුඛතා විනයසම්මුඛතා නම් කවුරු යැ? යම් ධර්මයෙකින් යම් විනයයෙකින් යම් ශාස්තෘශාසනයෙකින් ඒ අධිකරණය සංසිඳෙන්නේ ද, මේ එහි ධර්මසම්මුඛතා විනයසම්මුඛතා යි.

එහි පුද්ගලසම්මුඛතා නම් කවර යැ? යමෙකුත් විවාද කෙරෙයි ද, යමක්හු හාත් විවාද කෙරෙයි ද, දෙපසැ වූවෝත් හමු වූවාහු වෙත් ද, මේ එහි පුද්ගලසම්මුඛතා යි. මහණෙනි මෙසේ සංසිඳුවන ලද අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ ද (යලි මතු කරන්නේ ද) ඔහුට උත්කෝටනක පාචිත්තිය ඇවැත වෙයි, ඡන්දය දුන් මහණ තෙම දෙස් නගන්නේ නම් ඔහුට ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

මහණෙනි, ඉදින් ඒ මහණහු ඒ ආවාසයට යන්නාහු, අතරමඟදී ඒ අධිකරණය සන්හිඳුවන්නට නො හැකිවන්නාහු නම්; මහණෙනි, ඒ මහණුන් විසින් ඒ ආවාසයට ගොස්, "ඇවැත්නි, මේ අධිකරණය වූකලී මෙසේ උපන, මෙසේ පහළ විය. ඇවැත්නි, යාචඤා කරම්හ, යම්සේ මේ අධිකරණය මොනොවට සන්හිඳුණේ වන්නේ ද, එසේ ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සන්හිඳුවත් වා"යි ඒ මහණහු කියයුතු වන්නාහ (ඒ මහණුනට කිය යුතු වන්නේය).

සචෙ භික්ඛවෙ ආවාසිකා භික්ඛූ වුඩ්ඪතරා හොන්ති, ආගන්තුකා භික්ඛූ නවකතරා, තෙහි භික්ඛවෙ ආවාසිකෙහි භික්ඛූහි ආගන්තුකා භික්ඛූ එවමස්සු වචනීයා: ඉඞ්ඝ තුම්හෙ ආයස්මන්තො මුහුත්තං එකමන්තං හොථ යාව මයං මන්තෙමාති. සචෙ පන භික්ඛවෙ ආවාසිකා භික්ඛූ නවකතරා හොන්ති ආගන්තුකා භික්ඛූ වුඩ්ඪතරා තෙහි භික්ඛවෙ ආවාසිකෙහි භික්ඛූහි ආගන්තුකා භික්ඛූ එවමස්සු වචනීයා: තෙන හි තුම්හෙ ආයස්මන්තො මුහුත්තං ඉධෙව තාව හොථ යාව මයං මන්තෙමාති.

45. සචෙ පන භික්ඛවෙ ආවාසිකානං භික්ඛූනං මන්තයමානානං එවං හොති: න මයං සක්කොම ඉමං අධිකරණං වූපසමෙතුං ධම්මෙන විනයෙන සත්ථුසාසනෙනාති, න තං අධිකරණං ආවාසිකෙහි භික්ඛූහි සම්පටිච්ඡිතබ්බං.

සචෙ පන භික්ඛවෙ ආවාසිකානං භික්ඛූනං මන්තයමානානං එවං හොති: සක්කොම මයං ඉමං අධිකරණං වූපසමෙතුං ධම්මෙන විනයෙන සත්ථුසාසනෙනාති, තෙහි භික්ඛවෙ ආවාසිකෙහි භික්ඛූහි ආගන්තුකා භික්ඛූ එවමස්සු වචනීයා "සචෙ තුම්හෙ ආයස්මන්තො අම්හාකං ඉදං අධිකරණං යථාජාතං යථාසමුප්පන්නං ආරොචෙස්සථ, යථා ච මයං ඉමං අධිකරණං වූපසමෙස්සාම ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන තථා සුවූපසන්තං භවිස්සති, එවං මය ඉමං අධිකරණං සම්පටිච්ඡිස්සාම. නො චෙ තුම්හෙ ආයස්මන්තො අම්හාකං ඉමං අධිකරණං යථාජාතං යථාසමුප්පන්නං ආරොචෙස්සථ, යථා ච මයං ඉමං අධිකරණං වූපසමෙස්සාම ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන- තථා න සුවූපසන්තං භවිස්සති, න මයං ඉමං අධිකරණං සම්පටිච්ඡිස්සාමාති. එවං සුපරිග්ගහිතං ඛො භික්ඛවෙ කත්වා ආවාසිකෙහි භික්ඛූහි තං අධිකරණං සම්පටිච්ඡිතබ්බං.

46. තෙහි භික්ඛවෙ ආගන්තුකෙහි භික්ඛූහි ආවාසිකා භික්ඛූ එවමස්සු වචනීයා: "යථාජාතං යථා සමුප්පන්නඤ්ච මයං ඉමං අධිකරණං ආයස්මන්තාන ආරොචෙස්සාම. සචෙ ආයස්මන්තා සක්කොන්ති එත්තකෙන වා එත්තකෙන වා අන්තරෙන ඉමං අධිකරණං වූපසමෙතුං ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන තථා සුවූපසන්තං භවිස්සති. එවං මයං ඉමං අධිකරණං ආයස්මන්තානං නිය්‍යාදෙස්සාම. නො චෙ ආයස්මන්තා සක්කොන්ති එත්තකෙන වා එත්තකෙනවා අන්තරෙන ඉමං අධිකරණං වූපසමෙතුං ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන. තථා න සුවූපසන්තං භවිස්සති, න මයං ඉමං අධිකරණං ආයස්මන්තානං නිය්‍යාදෙස්සාම. මයමෙව ඉමස්ස අධිකරණස්ස සාමිනො භවිස්සාමාති.

මහණෙනි, ඉදින් ආවාසයෙහි වැසි මහණහු වඩා මහලුත් ආගන්තුක මහණහු වඩා නවකත් වෙත් ද, මහණෙනි, ඒ ආවාසවාසී මහණුන් විසින් "ආයුෂ්මත්නි, එසේ නම් අපි යම්තාක් මන්ත්‍රණය කරන්නමු ද ඒ තාක් තෙපි මොහොතක් එක් පසෙක හිඳිවූ"යැ යි මෙසේ ආගන්තුක මහණුනට කිය යුතු වන්නේ ය.

45. මහණෙනි, ඉදින් මන්ත්‍රණ කරන්නාවූ ආවාසික මහණුනට "අපි මේ අධිකරණය ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් සන්හිඳුවන්නට නො හැකි වන්නමෝ"යි මෙසේ සිතෙක් වන්නේ නම්, ආවාසවාසී මහණුන් විසින් ඒ අධිකරණය (සන්හිඳුවීමට) නො පිළිගත යුතු.

මහණෙනි, ඉදින් මන්ත්‍රණය කරන ආවාසික මහණුනට "අපි මේ අධිකරණය ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් සන්හිඳුවන්නට හැකි වන්නමෝ"යි මෙසේ සිතෙක් වන්නේ නම්, "ආයුෂ්මත්නි ඉදින් තෙපි අපට මේ අධිකරණය උපන් පරිදි පහළ වූ පරිදි දන්වන්නහු නම්, යම්සේ අපි මේ අධිකරණය ධර්මය වූ පරිදි විනය වූ පරිදි, ශාස්තෘශාසනය වූ පරිදි සන්හිඳුවන්නමෝ නම්, එසේ මොනොවට සන්හිඳුවන ලද්දේ වන්නේ නම්, මෙසේ ඇති කල්හි අපි මේ අධිකරණය පිළිගන්නමු ආයුෂ්මතුනි, ඉදින් තෙපි මේ අධිකරණය උපන් පරිදි පහළ වූ පරිදි අපට නො දන්වන්නහු නම්, යම්සේත් අපි ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සන්හිඳුවන්නමෝ නම්, එය එසේ මොනොවට සන්හිඳුවන ලද්දෙක් නො වන්නේ නම් එසේ කල්හි අපි මේ අධිකරණය නො පිළිගන්නමු"යි ඒ ආගන්තුක මහණුනට කිය යුතු වන්නේ ය. මහණෙනි, මෙසේ ආවාසික මහණුන් විසින් මනාව පිරිසිඳ ගන්නා ලද්දක් කොට, ඒ අධිකරණය පිළිගත යුතු.

46. මහණෙනි, ඒ ආගන්තුක මහණුන් විසින් ආවාසික මහණුනු මෙසේ කිය යුතු වන්නාහ (ආවාසික මහණුනට මෙසේ කිය යුතු වන්නේ ය): "උපන් පරිදි හටගත් පරිදි අපි මේ අධිකරණය ආයුෂ්මතුනට දන්වන්නමු. ඉදින් ආයුෂ්මත්හු මෙතෙක් හෝ මෙතෙක් හෝ අන්තරෙකින් (කලෙකින්) ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සංසිඳුවන්නට හැකි වන්නාහු නම්, එසේ මොනොවට සන්හිඳුවන ලදුයේ වන්නේ ය. මෙසේ අපි ආයුෂ්මතුනට මේ අධිකරණය පවරන්නමු. ඉදින් ආයුෂ්මත්හු මෙතෙක් හෝ මෙතෙක් හෝ කලෙකින් ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සන්හිඳුවන්නට නො හැකි වන්නාහු නම්, එසේ මොනොවට සන්හිඳුවන ලද්දෙක් නො වන්නේ නම්; අපි මේ අධිකරණය ආයුෂ්මත්නට නො ම පවරන්නමු. අපි ම මේ අධිකරණයේ ස්වාමීහු වන්නමු" යනු යි.

එවං සුපරිග්ගහිතං ඛො භික්ඛවෙ තං ආගන්තුකෙහි භික්ඛූහි තං අධිකරණං ආවාසිකානං භික්ඛූනං නිය්‍යාදෙතබ්බං. තෙ චෙ භික්ඛවෙ භික්ඛූ සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං, ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං සුවූපසන්තං"'.

කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති ඛීයනකං පාචිත්තියං.

## උබ්බාහිකාය වූපසමනං

47. තෙහි චෙ භික්ඛවෙ භික්ඛූහි තස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ අනග්ගානි[1] චෙව භස්සානි ජායන්ති න චෙතස්ස[2] භාසිතස්ස අත්ථො විඤ්ඤායති. අනුජානාමි භික්ඛවෙ එවරූපං අධිකරණං උබ්බාහිකාය වූපසමෙතුං.

දසහඞ්ගෙහි සමන්නාගතො භික්ඛු උබ්බාහිකාය සම්මන්නිතබ්බො: සීලවා හොති පාතිමොක්ඛසංවරසංවුතො. විහරති ආචාරගොචරසම්පන්නො අණුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවී සමාදාය සික්ඛති සික්ඛාපදෙසු. බහුස්සුතො හොති සුතධරො සුතසන්නිචයො, යෙ තෙ ධම්මා ආදිකල්‍යාණා මජ්ඣෙකල්‍යාණා පරියොසානකල්‍යාණා සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං අභිවදන්ති. තථාරූපාස්ස ධම්මා බහුස්සුතා හොන්ති ධතා[3] වචසා පරිචිතා මනසානුපෙක්ඛිතා දිට්ඨියා සුප්පටිවිද්ධා. උභයානි ඛො පනස්ස පාතිමොක්ඛානි විත්ථාරෙන ස්වාගතානි හොන්ති සුවිභත්තානි සුප්පවත්තීනි සුවිනිච්ඡිතානි සුත්තසො අනුබ්‍යඤ්ජනසො. විනයෙ ඛො පන ඨිතො[4] හොති අසංහීරො පටිබලො හොති උභො අත්ථපච්චත්ථිකෙ අස්සාසෙතුං සඤ්ඤාපෙතුං නිජ්ඣාපෙතුං පෙක්ඛෙතුං පසිදිතුං[5] පසාදෙතුං අධිකරණසමුප්පාදවූපසමකුසලො හොති අධිකරණං ජානාති. අධිකරණසමුදයං ජානාති. අධිකරණනිරොධං ජානාති. අධිකරණනිරොධගාමිනීපටිපදං ජානාති. අනුජානාමි භික්ඛවෙ ඉමෙහි දසහඞ්ගෙහි සමන්නාගතං භික්ඛුං උබ්බාහිකාය සම්මන්නිතුං.

---

1. අනන්තානි - මජසං.
2. නචෙකස්ස - මජසං.
3. ධාතා - මජසං.
4. ඡෙකො - මජසං.
5. පසාදිතුං - වි- මජසං.

මහණෙනි, මෙසේ මනාව පිරිසිඳ ගන්නා ලද්දක් කොට ආගන්තුක භික්ෂූන් විසින් ඒ අධිකරණය ආවාසික භික්ෂූනට පැවැරිය යුතු. ඉදින් ඒ මහණහු ඒ අධිකරණය සන්හිඳුවන්නට හැකි වන්නාහු නම්, මහණෙනි, මේ අධිකරණය මොනොවට සන්හිඳුවන ලදැයි කියනු ලැබේ.

කිමෙකින් සන්හිඳුවනලද්දේ ද යත්: සම්මුඛාවිනයයෙනි. එහි සම්මුඛා විනය නම් කවර යැ? සංඝසම්මුඛතාව ධර්මසම්මුඛතාව විනයසම්මුඛතාව පුද්ගලසම්මුඛතාව යන සතර ය ... මහණෙනි, මෙසේ සන්හිඳුවන ලද අධිකරණයක් ඉදින් කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ ද, ඔහුට උත්කෝටනක පාචිත්තිය ඇවැත වෙයි. ඉදින් ඡන්දදායක මහණෙක් එයට දෙස් නඟන්නේ නම් ඔහුට ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

## උබ්බාහිකායෙන් සන්හිඳුවීම

47. මහණෙනි, ඒ මහණුන් විසින් ඒ අධිකරණය විනිශ්චය කරණු ලබන කල්හි කෙළවරක් නැති කතාබස් (කථාප්‍රතිකථාවෝ) උපදින්නාහු ද, මේ කියන ලද වචනයෙහි අර්ථය නොහැඟෙන්නේ ද, මහණෙනි, මෙබඳු වූ අධිකරණය උබ්බාහිකායෙන් සන්හිඳුවන්නට අනුදනිමි.

මහණෙනි, උබ්බාහිකාව පිණිස අංග දශයෙකින් සමන්විත වූ මහණෙක් සම්මත කටයුතු ය. මහණ තෙම සිල්වත් වෙයි ද, පාතිමොක්ඛසංවර සීලයෙන් හැවුරුණේ, ආචාර ගෝචර දෙකින් යුක්ත වූයේ අල්පමාත්‍ර වූ ද වරදවල බිය දක්නා සුලු වූයේ වෙසෙයි ද (1), ශික්ෂා පදයන්හි සමාදන් වැ ගෙන හික්මෙයි ද (2) බොහෝ ඇසූපිරූ තැන් ඇත්තේ වේ ද, ඇසූ පිරූ දැ සිතින් දරන්නේ, ඇසූ පිරූ දැ සිතෙහි රැස් කොට ඇත්තේ වෙයි ද (3) ආදියෙහි යහපත් වූ මධ්‍යයෙහි යහපත් වූ, පර්‍යවසානයෙහි යහපත් වූ යම් ධර්ම කෙනෙක් අර්ථ සහිත වූ, ව්‍යංජන සහිත වූ හැම අයුරින් ම පිරිපුන් වූ පිරිසිදු මහ බඹසර මොනොවට පවසත් නම්, එ බඳු වූ ධර්මයෝ ඔහු විසින් බොහෝ සෙයින් අසන ලද්දහු (සිතින්) දරණ ලද්දහු වචනයෙන් පුරුදු කරණ ලද්දහු සිතින් පුනපුනා සලකා බලන ලද්දහු, දෘෂ්ටියෙන් මොනොවට පිළිවිදිනා ලද්දහු වෙත් ද (4), ඔහු විසින් උභය පාතිමොක්ඛයෝ විස්තර වශයෙන් මොනොවට ප්‍රගුණ කරණ ලද්දහු, සූත්‍ර වශයෙන් අනුව්‍යංජන වශයෙන් මොනොවට බෙදන ලද්දහු, මොනොවට පිහිටුවන ලද්දහු මොනොවට විනිශ්වය කරණ ලද්දහු වෙත් ද (5), විනයයෙහි තර වැ පිහිටියේ නො හැකුලුනේ වේ ද, තම පසෙහි වූවනටත් විරුද්ධ පක්ෂයෙහි වූවනටත් (කරුණු) හඟුන්වන්නට, කරුණු සිතන්නට, සලකා බලවන්නට, කරුණු තමාත් දකින්නට, දෙ පස ම පහදවන්නට සමර්ථ වෙයි ද (6), අධිකරණ ඉපැදීමෙහි හේතුව සංසිඳුවීමෙහි දක්ෂ වේ ද (7), අධිකරණය දනී ද, අධිකරණයේ හේතුව දනී ද, අධිකරණයේ නිරුද්ධිය දනී ද, අධිකරණ නිරුද්ධිය පිණිස යා යුතු මඟ දනී ද, මහණෙනි, මේ අංග දශයෙන් සමන්විත වූ මහණහු උබ්බාහිකාව පිණිස සම්මත කරන්නට අනුදනිමි.

එවඤ්ච පන භික්ඛවෙ සම්මන්නිතබ්බො: පඨමං භික්ඛු යාචිතබ්බො. යාචිත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං ඉමස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ අනග්ගානි චෙව භස්සානි ජායන්ති න චෙකස්ස භාසිතස්ස අත්ථො විඤ්ඤායති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාමඤ්ච ඉත්ථන්නාමඤ්ච භික්ඛුං සම්මන්නෙය්‍ය උබ්බාහිකාය ඉමං අධිකරණං වූපසමෙතුං එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අම්හාකං ඉමස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ අනග්ගානි චෙව භස්සානි ජායන්ති න චෙකස්ස භාසිතස්ස අත්ථො විඤ්ඤායති. සඞ්ඝො ඉත්ථන්නාමඤ්ච ඉත්ථන්නාමඤ්ච භික්ඛුං සම්මන්නති උබ්බාහිකාය ඉමං අධිකරණං වූපසමෙතුං. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස ච ඉත්ථන්නාමස්ස ච භික්ඛුනො සම්මුති උබ්බාහිකාය ඉමං අධිකරණං වූපසමෙතුං සො තුණ්හස්ස යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

සම්මතො සඞ්ඝෙන ඉත්ථන්නාමො ච ඉත්ථන්නාමො ච භික්ඛු උබ්බාහිකාය ඉමං අධිකරණං වූපසමෙතුං. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමීති.

තෙ චෙ භික්ඛවෙ භික්ඛු සක්කොන්ති තං අධිකරණං උබ්බාහිකාය වූපසමෙතුං. ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන. කිඤ්ච තත්ථ සම්මුඛා විනයස්මිං? සඞ්ඝසම්මුඛතා[1] ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති-උක්කොටනකං පාචිත්තියං.

තෙහි චෙ භික්ඛවෙ භික්ඛූහි තස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ තත්‍රාස්ස භික්ඛු ධම්මකථිකො, තස්ස නෙව සුත්තං ආගතං හොති නො සුත්තවිභඞ්ගො. සො අත්ථං අසල්ලක්ඛෙන්තො ව්‍යඤ්ජනච්ඡායාය අත්ථං පටිබාහති. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන තෙ භික්ඛු ඤාපෙතබ්බා:

1. සඞ්ඝසම්මුඛතා – ථා. ම. සො.

මහණෙනි, මේ මතු කියන පරිදි සම්මත කටයුතු ය: පළමු කොට මහණ තෙමේ ඉල්ලිය යුතුය. ඉල්ලා ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් සංඝ තෙමේ මෙසේ දැන්විය යුතු:

"වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා: අප විසින් මේ නඩුව විනිශ්චය කරණු ලබන කල්හි කෙළවරක් නැති කතාබස් (කථා ප්‍රතිකථාවෝ) උපදනාහු ද වෙත්. (එයින්) මේ කියන ලද වචනයා ගේ අදහස ද නො හැඟෙයි. ඉදින් සංඝයාට පැමිණි කල් ඇත්තේ වී නම් සංඝ තෙමේ මෙනම් මහණහු ද මෙනම් මහණහු ද මේ අධිකරණය සන්හිඳුවන්නට උබ්බාහිකාව පිණිස සම්මත කරන්නේ ය. මේ ඥප්තිය යැ (දැන්වීම යැ).

සංඝ තෙමේ මාගේ වචනය අසාවා. අප විසින් මේ නඩුව විනිශ්චය කරණු ලබන කල්හි කෙළවරක් නැති කතාබස්හු උපදනාහු වෙත්. (එයින් මේ කියන ලද වචනයේ අර්ථ ද නො හැඟෙයි. (එ බැවින්) සංඝ තෙමේ මේ නඩුව සන්හිඳුවන්නට උබ්බාහිකාව පිණිස මෙනම් මහණහු ද මෙනම් මහණහු ද සම්මත කෙරෙයි. යම් ආයුෂ්මතකුට මේ නඩුව සන්හිඳුවන්නට උබ්බාහිකාව පිණිස මෙනම් මහණහු ද මෙනම් මහණහු ද සම්මත කිරීම රිසියෙයි ද, හේ නිහඬ වේවා. යමකුට නො රිසියෙයි ද හේ කියාවා.

මේ නඩුව සන්හිඳුවන්නට මෙනම් මහණ ද උබ්බාහිකාව පිණිස සංඝයා විසින් සම්මත විය. සංඝයාට එය රිසි යෙයි. එහෙයින් නිහඬ ය. මෙසේ මෙකරුණ සලකමි. (පිළිගනිමි)" යනු යි

මහණෙනි, ඉදින් ඒ මහණහු උබ්බාහිකායෙන් ඒ නඩුව සන්හි වන්-නට හැකි වන්නාහු නම්, මහණෙනි, මේ නඩුව සන්හිඳුනේ යැ යි යනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද යත්: සම්මුඛාවිනයයෙන් ය. එහි සම්මුඛාවිනයය කිමෙක් ද? ධර්මසම්මුඛතාව විනය සම්මුඛතාව පුද්ගල-සම්මුඛතාව ......මහණෙනි, මෙසේ සන්හිඳුනු නඩුව කාරකයෙක් (ඒ නඩුවට සම්බන්ධ වූයෙක්) යළිදු විසඳනු පිණිස උත්කෝටනය කරන්නේ නම් (මතු කරන්නේ නම්) උත්කෝටනක පචිති ඇවැත් වෙයි.

මහණෙනි, ඉදින් ඒ මහණුන් විසින් ඒ නඩුව විනිසනු ලබන කල්හි එහි ධර්මකථික මහණෙක් වන්නේ නම්, ඔහුට සූත්‍රය (පාතිමොක්ඛය) ප්‍රගුණ ව නොආයේ ද සූත්‍ර විභංගය පුහුණු ව නොම ආයේ ද හේ අර්ථය නොසලකන්නේ ව්‍යංජනච්ඡායායෙන් අර්ථය ප්‍රතිබාහනය කෙරෙයි ද, (එබඳු තැන) ව්‍යක්ත වූ ප්‍රතිබල වූ ඒ මහණහු මෙසේ දැන්විය යුත්තාහු ය:

සුණාතු මෙ ආයස්මන්තා. අයං ඉත්ථන්නාමො භික්ඛු ධම්මකථිකො. ඉමස්ස නෙව සුත්තං ආගතං හොති. නො සුත්තවිභඞ්ගො. සො අත්ථං අසල්ලක්ඛෙන්තො ව්‍යඤ්ජනච්ඡායාය අත්ථං පටිබාහති. යදායස්මන්තානං පත්තකල්ලං ඉත්ථන්නාමං භික්ඛුං වුට්ඨාපෙත්වා අවසෙසා ඉමං අධිකරණං වූපසමෙය්‍යාමාති.

තෙ චෙ භික්ඛවෙ භික්ඛු තං භික්ඛුං වුට්ඨාපෙත්වා සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං– ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා –පෙ– එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං.

තෙහි චෙ භික්ඛවෙ භික්ඛූහි තස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ තත්‍රාස්ස භික්ඛු ධම්මකථිකො. තස්ස සුත්තං හි ඛො ආගතං හොති නො සුත්තවිභඞ්ගො. සො අත්ථං අසල්ලක්ඛෙන්තො ව්‍යඤ්ජනච්ඡායාය අත්ථං පටිබාහති. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන තෙ භික්ඛු ඤාපෙතබ්බා:[1]

සුණාතු මෙ ආයස්මන්තා, අයං ඉත්ථන්නාමො භික්ඛු ධම්මකථිකො. ඉමස්ස සුත්තං හි ඛො ආගතං හොති නො සුත්තවිභඞ්ගො. සො අත්ථං අසල්ලක්ඛෙන්තො ව්‍යඤ්ජනච්ඡායාය අත්ථං පටිබාහති. යදායස්මන්තානං පත්තකල්ලං ඉත්ථන්නාමං භික්ඛුං වුට්ඨාපෙත්වා අවසෙසා ඉමං අධිකරණං වූපසමෙය්‍යාමාති.

තෙ චෙ භික්ඛවෙ භික්ඛු තං භික්ඛුං වුට්ඨාපෙත්වා සක්කොන්ති තං අධිකරණං වූපසමෙතුං ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛා විනයෙන. කිඤ්ච තත්ථ සම්මුඛා විනයස්මිං? ධම්මසම්මුඛතා විනය සම්මුඛතා පුග්ගලසම්මුඛතා –පෙ– එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං.

1. ඤාපෙතබ්බො — වි.

"ආයුෂ්මත්හු මාගේ වචනය අසත්වා, මේ මෙනම් මහණ තෙම ධර්මකථික ය, මොහුට සූත්‍රය (උභයමාතෘකාව) ප්‍රගුණ වැ නො ආයේ ය. සූත්‍ර විභඞ්ගය ප්‍රගුණ ව නොම ආයේ ය. හේ අර්ථය නො සලකන්නේ ව්‍යංජනච්ඡායායෙන් අර්ථය ප්‍රතිබාහන කෙරෙයි. ඉදින් ආයුෂ්මත්නට සුදුසු කල් ඇත්තේ වී නම් මෙනම් මහණහු නඟාසිටුවා (හෙවත් බැහැර කොට) ඉතිරි වූ අපි මේ අධිකරණය සන්හිඳුවමෝ වා" යනුවෙනි.

මහණෙනි, ඉදින් ඒ මහණහු ඒ මහණහු නඟාසිටුවා ඒ අධිකරණය සන්හිඳුවන්නට හැකි වන්නාහු නම්, මහණෙනි, (එසේ කල්හි) මේ අධිකරණය සන්හිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද යත්: සම්මුඛාවිනයයෙනි. එහි සම්මුඛාවිනයය කවරේ ද? ධර්මසම්මුඛතාව, විනය සම්මුඛතාව, පුද්ගලසම්මුඛතාව ... යි. මහණෙනි, ඉදින් මෙසේ සන්හිඳුනු අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ නම් ඔහුට උත්කෝටනක පාචිත්තිය ඇවැත වේ.

මහණෙනි, ඉදින් ඒ මහණුන් විසින් ඒ අධිකරණය විනිසනු ලබන කල්හි එහි ධර්මකථික මහණෙක් වන්නේ නම්, ඔහුට සූත්‍රය (උභය මාතෘකාව) ප්‍රගුණ ව ආයේ වේ නම්, සූත්‍රවිභඞ්ගය ප්‍රගුණ වැ නො ආයේ වේ නම්, හේ අර්ථය නො සලකන්නේ ව්‍යංජනච්ඡායායෙන් අර්ථය ප්‍රතිබාහන කෙරේ නම්, ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණක්හු විසින් ඒ මහණහු මෙසේ දැන්විය යුත්තාහ:

"ආයුෂ්මත්හු මාගේ වචනය අසත්වා, මේ මෙනම් මහණ තෙම ධර්මකථිකයෙක් ය. මොහුට සූත්‍රය (උභය මාතෘකාව) වූ කලි ප්‍රගුණ වැ ආයේ වෙයි, සූත්‍රවිභඞ්ගය ප්‍රගුණ ව නො ආයේ ය. හෙ තෙම අරුත් නො සලකන්නේ ව්‍යංජනච්ඡායායෙන් අරුත බැහැර කෙරෙයි. ඉදින් අයුෂ්මත්නට සුදුසු කල් වී නම් මෙනම් මහණහු නඟාසිටුවා (බැහැර කොට) ඉතිරි වූ අපි මේ අධිකරණය සන්හිඳුවමෝ වා" යනුයෙනි.

මහණෙනි, ඉදින් ඒ මහණහු ඒ මහණහු නඟාසිටුවා (බැහැර කොට) ඒ අධිකරණය සන්හිඳුවන්නට හැකි වන්නාහු නම්, මහණෙනි, මේ අධිකරණය සන්හිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද? යත්: සම්මුඛාවිනයයෙන් ය. එහි සම්මුඛාවිනයය කවරේ යැ? ධර්මසම්මුඛතාව විනය සම්මුඛතාව, පුද්ගල සම්මුඛතාව ......යැ. මහණෙනි, ඉදින් මෙසේ සන්හිඳුනු අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ වී නම්, ඔහුට උත්කොටනක පාචිත්තිය ඇවැත වේ.

## යෙභුය්‍යසිකා විනයං

48. තෙ චෙ භික්ඛවෙ භික්ඛූ න සක්කොන්ති තං අධිකරණං උබ්බාහිකාය වූපසමෙතුං, තෙහි භික්ඛවෙ භික්ඛූහි තං අධිකරණං සඞ්ඝස්ස නිය්‍යාදෙතබ්බං: න මයං භන්තෙ සක්කොම ඉමං අධිකරණං උබ්බාහිකාය වූපසමෙතුං. සඞ්ඝො ඉමං අධිකරණං වූපසමෙතූති. අනුජානාමි භික්ඛවෙ එවරූපං අධිකරණං යෙභුය්‍යසිකාය වූපසමෙතුං.

පඤ්චහඞ්ගෙහි සමන්නාගතො භික්ඛු සලාකග්ගාහාපකො[1] සම්මන්නිතබ්බො. යො න ඡන්දාගතිං ගච්ඡෙය්‍ය, න දොසාගතිං ගච්ඡෙය්‍ය, න මොහාගතිං ගච්ඡෙය්‍ය, න භයා ගතිං ගච්ඡෙය්‍ය, ගහිතාගහිතඤ්ච ජානෙය්‍ය -පෙ- එවං ච පන භික්ඛවෙ සම්මන්නිතබ්බො - පඨමං භික්ඛු යාචිතබ්බො. යාචිත්වා බ්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

"සුණාතු මෙ භන්තෙ සංඝො. යදි සංඝස්ස පත්තකල්ලං, සංඝො ඉත්ථන්නාමං භික්ඛුං සලාකග්ගාහාපකං සම්මන්නෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සංඝො. සංඝො ඉත්ථන්නාමං භික්ඛුං සලාකගාහාපකං සම්මන්නති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො සලාකගාහාපකං සම්මති. සො තුණ්හස්ස යස්ස නක්ඛමති. සො භාසෙය්‍ය. සම්මතො සඞ්ඝෙන ඉත්ථන්නාමො භික්ඛු සලාකගාහාපකො. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී"ති.

තෙන සලාකගාහාපකෙන භික්ඛුනා සලාකා ගාහෙතබ්බා. යථා බහුතරා භික්ඛූ ධම්මවාදිනො වදන්ති තථා තං අධිකරණං වූපසමෙතබ්බං. ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච යෙභුය්‍යසිකාය ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා. කා ච තත්ථ සඞ්ඝසම්මුඛතා? යාවතිකා භික්ඛූ කම්මප්පත්තා තෙ ආගතා හොන්ති. ඡන්දාරහානං ඡන්දො ආහටො හොති, සම්මුඛීභූතා න පටික්කොසන්ති. අයං තත්ථ සඞ්ඝසම්මුඛතා.

1. සලාකගාහාපකො - ස. ම.

## යෙභුය්‍යසිකා විනය

48. මහණෙනි, ඉදින් ඒ මහණහු ඒ අධිකරණය උබ්බාහිකායෙන් සන්හිඳුවන්නට නො හැක්කාහු නම්, මහණෙනි, ඒ මහණුන් විසින් "වහන්ස, අපි මේ අධිකරණය උබ්බාහිකායෙන් සන්හිඳුවන්නට නො හැක්කමු. සංඝ තෙමේ මේ අධිකරණය සන්හිඳුවා වා"යි කියා ඒ අධිකරණය සංඝයාට මෙසේ පැවරිය යුතු. මහණෙනි, මෙ බඳු අධිකරණය යෙභුය්‍යසිකායෙන් සංන්හිඳුවන්නට අනුදනිමි.

අංග පසෙකින් සමන්විත මහණෙක් සලාකාග්‍රාහකයෙක් (සලාකා ගන්වන්නෙක්) කොට සම්මත කට යුතු: යමෙක් ඡන්දයෙන් අගතියට නො යන්නේ ද, ද්වේෂයෙන් අගතියට නොයන්නේ ද, මෝහයෙන් අගතියට නො යන්නේ ද, බියෙන් අගතියට නො යන්නේ ද, ගත් නොගත් සලාකා දන්නේ ද ... මෙබඳු වූ මහණ තෙම සලාකාග්‍රාහාපකයෙක් කොට සම්මත කළ යුතු වේ. මහණෙනි, මෙසේ සම්මත කළ යුතු ය: පළමු කොට මහණ තෙමේ යැදියැ යුතු. යැද ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් (මෙසේ) සංඝ තෙමේ දැන්විය යුතු: "වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා ඉදින් සංඝයාට ප්‍රාප්තකාලය වේ නම්, සංඝ තෙමේ මෙනම් මහණහු සලාකා ගන්වන්නකු කොට සම්මත කරන්නේ ය. මේ දැන්වීම යැ.

වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා. සංඝ තෙමේ මෙනම් මහණහු සලාකාග්‍රාහාපකයකු කොට සම්මත කෙරෙයි. යම් ආයුෂ්මතක් හට මෙනම් මහණහු සලාකාග්‍රාහාපකයකු කොට සම්මත කිරීම රිසියෙන්නේ නම්, හේ නිහඬ වේ වා. යමකුට නො රිසියෙන්නේ හේ හෝ කියාවා.

සංඝයා විසින් මෙනම් මහණ සලාකාග්‍රාහාපකයකු කොට සම්මත විය. සංඝයාට රිසියෙයි. එහෙයින් නිහඬ ය: මෙසේ මෙය සලකමි" යනු යි.

ඒ සලාකාග්‍රාහාපක මහණහු විසින් සලාකා ගැන්වියැ යුතු ය. බහුතර වූ ධම්වාදී මහණහු කියද්ද, එසේ ඒ අධිකරණය සන්හිඳුවිය යුතු ය.

මහණෙනි, (මෙසේ) මේ අධිකරණය සන්හිඳුණේ යැ යි කියැ යුතු. කිමෙකින් සන්හිඳුණේ ද යත්: සම්මුඛාවිනයයෙන් ද යෙභුය්‍යසිකායෙන් ද යන දෙකෙනි. එහි සම්මුඛාවිනයය කිමෙක් ද? සංඝසම්මුඛතාව, ධම්සම්මුඛතාව, විනයසම්මුඛතාව, පුද්ගලසම්මුඛතාව යන සතර ය. එහි සංඝ සම්මුඛතා නම් කවරයැ? යම් පමණ මහණ කෙනෙක් කම්ප්‍රාප්ත නම් ඔහු පැමිණියාහු වෙත් ද, ඡන්දය දෙන්නට සුදුසු මහණුන්ගෙන් ඡන්දය ගෙනෙන ලද්දේ වෙයි ද හමු වූ මහණහු ආක්‍රෝශ පරිභව නො කෙරෙත් ද, මේ එහි සංඝසම්මුඛතා නමි.

කා ච තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා? යෙන ධම්මෙන යෙන විනයෙන යෙන සත්ථුසාසනෙන තං අධිකරණං වූපසම්මති, අයං තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා.

කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච විවදති යෙන ච විවදති උභො අත්ථපච්චත්ථිකා සම්මුඛීභූතා හොන්ති, අයං තත්ථ පුග්ගලසම්මුඛතා.

කා ච තත්ථ යෙභුය්‍යසිකා? යා යෙභුය්‍යසිකා කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටික්කොසනා–අයං තත්ථ යෙභුය්‍යසිකා.

එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති, ඛීයනකං පාචිත්තියන්ති.

## තිවිධ සලාකගාහො

49. තෙන ඛො පන සමයෙන සාවත්ථියා එවං ජාතං එවං සමුප්පන්නං අධිකරණං හොති. අථ ඛො තෙ භික්ඛූ අසන්තුට්ඨා සාවත්ථියා සඞ්ඝස්ස අධිකරණවූපසමනෙන. අස්සොසුං ඛො අමුකස්මිං කිර ආවාසෙ සම්බහුලා ථෙරා විහරන්ති බහුස්සුතා ආගතාගමා ධම්මධරා විනයධරා මාතිකාධරා පණ්ඩිතා ව්‍යත්තා මෙධාවිනො ලජ්ජිනො කුක්කුච්චකා සික්ඛාකාමා. තෙ චෙ ථෙරා ඉමං අධිකරණං වූපසමෙය්‍යුං ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන, එවමිදං අධිකරණං සුවූපසන්තං අස්සාති. අථ ඛො තෙ භික්ඛූ තං ආවාසං ගන්ත්වා තෙ ථෙරෙ එතදවොචුං: ඉදං භන්තෙ අධිකරණං එවං ජාතං එවං සමුප්පන්නං; සාධු භන්තෙ ථෙරා ඉමං අධිකරණං වූපසමෙන්තු ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන යථයිදං අධිකරණං සුවූපසන්තං අස්සාති.

50. අථ ඛො තෙ ථෙරා යථා සාවත්ථියා සඞ්ඝෙන අධිකරණං වූපසමිතං, යථා සුවූපසන්තං, තථා තං අධිකරණං වූපසමෙසුං.

එහි ධම්සම්මුඛතා විනයසම්මුඛතා නම් කවර යැ? යම් ධම්යෙකින්, යම් විනයයෙකින්, යම් ශාස්තෘශාසනයෙකින් ඒ අධිකරණය සන්හිඳේ ද, මේ එහි ධම්සම්මුඛතා යැ. විනය සම්මුඛතා යැ.

එහි පුද්ගලසම්මුඛතා නම් කවර යැ? යමෙකුත් විවාද කෙරෙයි ද, යමකු හාත් විවාද කෙරෙයි ද, ඒ තම පසෙහි වූ පුඟුලාත් විරුද්ධ පක්ෂයෙහි වූ පුඟුලාත් යන දෙදෙන හමු වූවාහු වෙත් ද, මේ එහි පුද්ගලසම්මුඛතා යැ.

එහි යෙභුය්‍යසිකාව කවර යැ? යම් යෙභුය්‍යසිකාවෙක් වේ ද, කම්ය පිළිබඳ ක්‍රියාවෙක්, කිරීමෙක්, එළැඹීමෙක් වෙතට එළඹීමෙක්, ඉවසීමෙක් ප්‍රතික්‍රොශ නො කිරීමෙක් වෙයි ද, මේ එහි යෙභුය්‍යසිකාව යැ,

මහණෙනි, මෙසේ සන්හිඳුනු අධිකරණය කාරකයෙත් (එයට) සම්බන්ධ වූ මහණෙක් උත්කෝටනය කරන්නේ ද (ඉදිරියට අදනේ ද) ඔහුට උත්කෝටනක පාචිත්තිය ඇවැත වේ, විනිශ්චයයෙහි ඡන්දය දුන් මහණෙක් ඒ විනිශ්චයට දොස් කියන්නේ නම් ඛියනක පාචිත්තිය ඇවැත වේ.

## ත්‍රිවිධ සලාකාග්‍රාහය

49. එ සමයෙහි වනාහි සැවැත් නුවර මෙසේ පහළ වූ, මෙසේ උපන් අධිකරණයෙක් වෙයි. එ කල්හි එ මහණහු සැවැත් නුවර සංඝයා ගේ අධිකරණ සන්හිඳුවීමෙන් නො සතුටු වූවාහු ය. ඔහු 'අසෝ ආවාසයෙහි බහුශ්‍රැත වූ වාචෝද්ගත වැ ආ ආගමධම්ය ඇති, ධම්ධර වූ විනයධර වූ, මාතෘකාධර වූ, පණ්ඩිත වූ ව්‍යක්ත වූ ප්‍රඥ ඇති, ලජ්ජී වූ, කුකුස් කරන්නා වූ ශික්ෂාකාමී වූ බොහෝ තෙරහු වසත් ල, ඉදින් ඒ තෙරහු මේ අධිකරණය ධම්යෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් සන්හිඳුවන්නාහු නම් මෙසේ මේ අධිකරණය මොනොවට සංසිඳුනෙක් වන්නේ යැ'යි ඇසූහ. ඉක්බිති ඒ මහණහු ඒ ආවාසයට ගොස් ඒ තෙරුන් බණවා, "වහන්ස, මේ අධිකරණය මෙසේ පහළ විය., මෙසේ උපන්නේ ය., වහන්ස, යාච්ඤා කරම්හ. තෙරහු ධම්යෙන් විනයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය යම්සේ මොනොවට සන්හිඳුවන වන්නේ ද එසේ මේ අධිකරණය සන්හිඳුවත් වා'යි මෙ බස් කීහ.

50. එ කල්හි ඒ තෙරහු සැවැත් නුවර සංඝයා විසින් ඒ අධිකරණය යම් සේ සන්හිඳුවන ලද්දේ ද, (එහෙයින් ම) මොනොවට සන්හිඳුනේ වේ ද, එසේ ඒ අධිකරණය සන්හිඳුවූහ.

අථ ඛො තෙ භික්ඛූ අසන්තුට්ඨා සාවත්ථියා සඞ්ඝස්ස අධිකරණ වූපසමනෙන, අසන්තුට්ඨා සම්බහුලානං ථෙරානං අධිකරණවූපසමනෙන. අස්සොසුං ඛො අසුකස්මිං කිර ආවාසෙ තයො ථෙරා විහරන්ති -පෙ- ද්වෙ ථෙරා විහරන්ති -පෙ- එකො ථෙරො විහරති බහුස්සුතො ආගතා-ගමො ධම්මධරො විනයධරො මාතිකාධරො පණ්ඩිතො ව්‍යත්තො මෙධාවී ලජ්ජී කුක්කුච්චකො සික්ඛාකාමො. සො චෙ ථෙරො ඉමං අධිකරණං වූපසමෙය්‍ය ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන, එවමිදං අධිකරණං සුවූපසන්තං අස්සාති.

51. අථ ඛො තෙ භික්ඛූ තං ආවාසං ගන්ත්වා තං ථෙරං එතදවොචුං: ඉදං භන්තෙ අධිකරණං එවං ජාතං එවං සමුප්පන්නං, සාධු භන්තෙ ථෙරො ඉමං අධිකරණං වූපසමෙතු ධම්මෙන විනයෙන සත්ථුසාසනෙන, යථයිදං අධිකරණං සුවූපසන්තං අස්සාති.

අථ ඛො සො ථෙරො යථා සාවත්ථියා සඞ්ඝෙන අධිකරණං වූපසමිතං, යථා සම්බහුලෙහි ථෙරෙහි අධිකරණං වූපසමිතං, යථා තීහි ථෙරෙහි අධිකරණං වූපසමිතං, යථා ද්වීහි ථෙරෙහි අධිකරණං වූපසමිතං, යථා සුවූපසන්තං, තථා තං අධිකරණං වූපසමෙසි.

52. අථ ඛො තෙ භික්ඛූ අසන්තුට්ඨා සාවත්ථියා සඞ්ඝස්ස අධිකරණ-වූපසමනෙන අසන්තුට්ඨා සම්බහුලානං ථෙරානං අධිකරණවූපසමනෙන, අසන්තුට්ඨා තිණ්ණං ථෙරානං අධිකරණවූපසමනෙන, අසන්තුට්ඨා-ද්වින්නං ථෙරානං අධිකරණවූපසමනෙන, අසන්තුට්ඨා එකස්ස ථෙරස්ස අධිකරණවූපසමනෙන, යෙන භගවා තෙනුපසඞ්කමිංසු. උපසඞ්ක-මිත්වා භගවතො එතමත්ථං ආරොචෙසුං. භගවා එතදවොච:

නිහතමෙතං භික්ඛවෙ අධිකරණං සන්තං වූපසන්තං සුවූපසන්තං. අනුජානාමි භික්ඛවෙ තෙසං භික්ඛූනං සඤ්ඤත්තියා තයො සලාකගාහෙ ගුළ්හකං සකණ්ණජප්පකං විවටකන්ති.

ඉක්බිති ඒ මහණහු සැවැත්නුවර සංඝයා ගේ අධිකරණ ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු ය. බොහෝ තෙරවරුන්ගේ අධිකරණ ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු ය. ඔහු 'අසෝ නම් ආවාසයෙහි ... තුන් නමෙක් තෙරහු වසත් ලැ යි.... දෙ නමෙක් තෙරහු වසත් ලැ යි, බහුශ්‍රැත වූ වාචෝද්ගත වැ ආ ආගමධර්මය ඇති ධර්මධර වූ විනයධර වූ මාතෘකාධර වූ පණ්ඩිත වූ ව්‍යක්ත වූ ප්‍රඥ ඇති, ලජ්ජී වූ සුළු වරදෙහි ද කුකුස් කරන, ශික්ෂාකාමී වූ එක් තෙර නමෙක් වෙසෙයි. ඉදින් ඒ තෙර නම ධර්මයෙන් විනයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සන්හිඳුවන්නේ නම් මෙසේ මේ අධිකරණය මොනොවට සන්හිඳුනේ වන්නේ යැ' යි ඇසූහ.

51. එ කල්හි ඒ මහණහු ඒ ආවාසයට ගොස් ඒ තෙරහු බණවා, "වහන්ස, මේ අධිකරණය මෙසේ පහළ විය. මෙසේ උපන්නේ ය, යාච්ඤා කරම්හ, ස්ථවිර තෙමේ මේ අධිකරණය යම්සේ මොනොවට සන්හිඳුනක් වන්නේ ද එසේ ධර්මයෙන් විනයයෙන් ශාස්තෘශාසනයෙන් මේ අධිකරණය සන්හිඳුවාවා'යි මේ වචන කීහ.

එ කල්හි ඒ ස්ථවිර තෙම සැවැත්නුවර යම්සේ සංඝයා විසින් ඒ අධිකරණය සන්හිඳුවන ලද්දේ ද, යම්සේ බොහෝ තෙරවරුන් විසින් (ඒ) අධිකරණය සන්හිඳුවන ලද්දේ ද, යම්සේ තුන් නමක් තෙරුන් විසින් (ඒ) අධිකරණය සන්හිඳුවන ලද්දේ ද, යම්සේ දෙ නමක් තෙරුන් විසින් (ඒ) අධිකරණය සන්හිඳුවන ලද්දේ ද, එසේ ම මොනොවට සංසිඳුනක් වූ පරිද්දෙන් ඒ අධිකරණය සන්හිඳුවී ය.

52. එ කල්හි ඒ මහණහු සැවැත්නුවර සංඝයා ගේ අධිකරණ-ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු, බොහෝ තෙරුන් ගේ අධිකරණ ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු, තුන් නමක් තෙරුන් ගේ අධිකරණ ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු, දෙනමක් තෙරුන් ගේ අධිකරණ ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු, එක් තෙර නමක ගේ අධිකරණ-ව්‍යුපශමනයෙන් නො සතුටු වූවාහු, භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියාහ. එළැඹ භාග්‍යවතුන් වහන්සේට මේ පවත් සැල කළාහ. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදළ සේක:

"මහණෙනි, මේ අධිකරණය නිමවන ලද්දෙක, සන්හිඳුනෙක, වෙසෙසින් සන්හිඳුනෙක, මොනොවට සන්හිඳුනෙක. මහණෙනි, ඒ මහණුන් හඳුන්වනු පිණිස ගුළ්හකය, සකණ්ණජප්පකය, විවටකය යන සලාකාගැන්වීම් තුන අනුදනිමි.

කථඤ්ච භික්ඛවෙ ගූළ්හකො සලාකගාහො හොති? තෙන සලාකගාහාපකෙන භික්ඛුනා සලාකායො වණ්ණාවණ්ණායො කත්වා එකමෙකො භික්ඛු උපසඞ්කමිත්වා එවමස්ස වචනීයො: අයං එවංවාදිස්ස සලාකා, අයං එවංවාදිස්ස සලාකා, යං ඉච්ඡසි තං ගණ්හාහීති. ගහිතෙ වත්තබ්බො: මා ච කස්සචි දස්සෙහීති. සචෙ ජානාති අධම්මවාදී බහුතරාති, දුග්ගහොති පච්චුක්කඩ්ඪිතබ්බං. සචෙ ජානාති ධම්මවාදී බහුතරාති සුග්ගහොති සාවෙතබ්බං. එවං ඛො භික්ඛවෙ ගූළ්හකො සලාකගාහො හොති.

කථඤ්ච භික්ඛවෙ සකණ්ණජප්පකො සලාකගාහො හොති? තෙන සලාකගාහාපකෙන භික්ඛුනා එකමෙකස්ස භික්ඛුනො උපකණ්ණකෙ ආරොචෙතබ්බං. අයං එවංවාදිස්ස සලාකා, යං ඉච්ඡසි තං ගණ්හාහීති. ගහිතෙ වත්තබ්බො: මා ච කස්සචි ආරොචෙහීති. සචෙ ජානාති අධම්මවාදී බහුතරාති දුග්ගහොති පච්චුක්කඩ්ඪිතබ්බං සචෙ ජානාති ධම්මවාදී බහුතරා'ති සුග්ගහොති සාවෙතබ්බං. එවං ඛො භික්ඛවෙ සකණ්ණජප්පකො සලාකගාහො හොති.

කථඤ්ච භික්ඛවෙ විවටකො සලාකගාහො හොති? සචෙ ජානාති ධම්මවාදී බහුතරාති විස්සට්ඨෙව විවටෙන ගාහෙතබ්බො. එවං ඛො භික්ඛවෙ විවටකො සලාකගාහො හොති.

ඉමෙ ඛො භික්ඛවෙ තයො සලාකගාහාති.

## සතිවිනයො

53. අනුවාදාධිකරණං කතිහි සමථෙහි සම්මති? අනුවාදාධිකරණං චතූහි සමථෙහි සම්මති සම්මුඛාවිනයෙන ච සතිවිනයෙන ච අමූළ්හවිනයෙන ච තස්සපාපියසිකාය ච.

සියා අනුවාදාධිකරණං ද්වෙ සමථෙ අනාගම්ම අමූළ්හවිනයඤ්ච තස්සපාපියසිකඤ්ච ද්වීහි සමථෙහි සම්මෙය්‍ය සම්මුඛාවිනයෙන ච සතිවිනයෙන චාති? සියාතිස්ස වචනීයං. යථා කථං විය? ඉධ භික්ඛූ භික්ඛුං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති, තස්ස ඛො තං භික්ඛවෙ භික්ඛුනො සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයො දාතබ්බො.

මහණෙනි, ගුළ්හක සලාකාග්‍රාහය කෙසේවේ ද යත්: ඒ සලකා ගත්වන මහණහු විසින් සලාකාවන් එකක් අනෙක කට වෙනස් වන සේ නිල් ආදි විවිධ පැහැ ඇතියන් කොට, එක් එක් මහණකු කරා එළැඹ, මෙ මෙසේ වූ වාද ඇත්තහු ගේ සලාකාව ය, මේ මෙසේ වූ වාද ඇතියහු ගේ සලාකාව ය, යමක් රිසියෙහි නම් එය ගන්නැ'යි මෙසේ කියැ යුතු වන්නේ ය. ගන්නාලද කල්හි 'කිසිවකුටත් මෙය නො දක්වන්නැ' යි කියැ යුතු ය. ඉදින් අධර්මවාදීහු වඩා බොහෝ ඇතැ යි දන්නේ නම්, සලාකා ගැන්ම වරදවා කරණ ලද්දැ'යි කියා (දුන් සලාකාවන්) නැවැත එකතු කොට යළිදු ගැන්වියැ යුතු. ඉදින් ධර්මවාදීහු වඩා බොහෝ යැ යි දන්නේ නම් මනාවැ කරණ ලද සලාකා ගැන්මෙකැ යි ඇස්වියැ යුතු. මහණෙනි, මෙසේ ගුළ්හක සලාකා ගැන්වීම වේ.

මහණෙනි, සකණ්ණජප්පක සලාකාග්‍රාහය කෙසේ වේ ද යත්: ඒ සලකා ගත්වන මහණහු විසින් එක් එක් මහණක්හු ගේ කණට ළං වැ 'මේ මෙ බඳු වාද ඇත්තහු ගේ සලාකාව ය, මේ මෙ බඳු වාද ඇත්තහු ගේ සලාකාව ය, යමක් කැමැත්තෙහි නම් එය ගන්නැ'යි කිය යුතු ය. ගත් කල්හි 'කිසිවකුටත් නො කියන්නැ'යි කිය යුතු ය. අධර්මවාදීහු වඩා බොහෝ යැ යි ඉදින් දන්නේ නම්, නොමනා වැ කරණ ලද සලාකා ගැන්මෙකැ යි (සලාකාවන්) එකතු කොට නැවත යළිදු සලාකා ගැන්වියැ යුතු. ඉදින් ධර්මවාදීහු වඩා බොහෝ වෙත් යැ යි දන්නේ නම්, 'මනා වැ කරණ ලද සලාකා ගැන්මෙකැ'යි ඇස්විය යුතු. මහණෙනි, මෙසේ සකණ්ණජප්පක සලාකා ගැන්වීම වේ.

මහණෙනි, විවටක සලාකාග්‍රාහය කෙසේ වේ ද යත්: ඉදින් ධර්මවාදීහු වඩා බොහෝ යැ යි දන්නේ නම්, සලාකාවන් විසිරුවා විවෘත ලෙසින් (පැහැදිලි පරිද්දෙන්) ම ගැන්විය යුතු. මහණෙනි, මෙසේ ම විවටක සලාකාග්‍රාහය වෙයි.

මහණෙනි, මොහු වනාහි තුන්සලාකාග්‍රාහයෝ ය යනු යැ.

## සතිවිනය

53 අනුවාදාධිකරණය ශමථ කීයෙකින් සන්හිඳෙයි ද? අනුවාදාධිකරණය සම්මුඛාවිනයෙන් ද සතිවිනයෙන් ද අමූළ්හවිනයෙන් ද තස්සපාපියාසිකායෙන් ද යන ශමථ සතරින් සන්හිඳෙයි.

අනුවාදාධිකරණය අමූළ්හවිනය ද තස්සපාපියාසිකාව ද යන ශමථ දෙකට නොපැමිණ සම්මුඛාවිනයයෙන් ද සතිවිනයයෙන් ද යන ශමථ දෙකින් සන්හිඳෙන්නේ ය යන්න විය හැකිද? වියහැකි යයි කිය යුතු වන්නේ ය. කෙසේ වූ දයක් මෙන් ද යත්: මෙහි මහණකුට අමූලක ශීලවිපත්තියෙන් චෝදනා කෙරෙත් නම් මහණෙනි, මහණහු සිහිය වැඩීමට පැමිණි එ මහණහට සතිවිනය දිය යුතු ය.

එවං ච පන භික්ඛවෙ දාතබ්බො: තෙන භික්ඛවෙ භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: මං භන්තෙ භික්ඛූ අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. සොහං භන්තෙ සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචාමීති. දුතියම්පි යාචිතබ්බො, තතියම්පි යාචිතබ්බො.

ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. භික්ඛූ ඉත්ථන්නාමං භික්ඛුං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. සො සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දදෙය්‍ය එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. භික්ඛූ ඉත්ථන්නාමං භික්ඛුං අමූලිකාය සීලවිපත්තියා අනුද්ධංසෙන්ති. සො සතිවෙපුල්ලප්පත්තො සඞ්ඝං සතිවිනයං යාචති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයං දෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයස්ස දානං. සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි -පෙ- දින්නො සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො සතිවෙපුල්ලප්පත්තස්ස සතිවිනයො. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී, එවමෙතං ධාරයාමීති..

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච සතිවිනයෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච අනුවදති, යඤ්ච අනුවදති, උභො අත්තපච්චත්ථිකා සම්මුඛීභූතා හොන්ති. අයං තත්ථ පුග්ගලසම්මුඛතා. කිඤ්ච තත්ථ සතිවිනයස්මිං? යා සතිවිනයස්ස කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටික්කොසනා ඉදං තත්ථ සතිවිනයස්මිං. එවං වූපසන්තඤ්චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති, උක්කොටනකං පාචිත්තිකං. ඡන්දදායකො ඛියති, ඛියනකං පාචිත්තියං.

මහණෙනි, (සතිවිනය) මෙසේ දිය යුතු ය: මහණෙනි, ඒ මහණහු විසින් සඞසයා කරා එළැඹ තනිපට සිවුර එකස් කොට පෙරෙවැ උක්කුටුක වැ හිඳ දෙඅත් මුදුන් තබා “වහන්ස, භික්ෂූහු මට අමූලක වූ ශීලවිපත්තිචෝදනායෙන් චෝදනා කෙරෙත්. වහන්ස, ඒ මම සිහිය වැඩුණු බවට පැමිණියෙම් සඞසයා ගෙන් සතිවිනය යදිමි” යි මෙසේ කියැ යුතු වන්නේ ය. දෙවනු ද යැදිය යුතු, තෙවනු ද යැදිය යුතු.

ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් ‘වහන්ස, සඞස තෙමේ මාගේ වචනය අසාවා. භික්ෂූහු මෙනම් මහණහට අමූලක ශීලවිපත්තියෙන් චෝදනා කෙරෙත්. හේ සිහිය වැඩුණු බවට පැමිණියේ, සංසයා ගෙන් සතිවිනය යදී. ඉදින් සංඝයාට ප්‍රාප්තකාලය වේ නම් සංඝ තෙමේ සිහිවැඩුණුබවට පත් මෙනම් මහණහට සතිවිනය දෙන්නේ ය. මේ ඥප්තිය යැ.

වහන්ස, සංඝ තෙමේ මාගේ වචනය අසාවා, මහණහු මෙනම් මහණහට අමූලක ශීලවිපත්තියෙන් චෝදනා කෙරෙත්. සිහිය වැඩුණු බවට පත් හෙ තෙමේ සංඝයා ගෙන් සතිවිනය යදී. සංඝ තෙමේ සිහිය වැඩුණු බවට පත් මෙනම් මහණහට සතිවිනය දෙයි. සිහිය වැඩුණු බවට පත් මෙනම් මහණහට සතිවිනය දීම යම් ආයුෂ්මතක්හට රිසියෙන්නේ නම්, හේ නිහඬ වේවා. යමකුහට නො රිසියෙන්නේ නම් හේ කියාවා, දෙවනු ද මෙ කරුණ කියමි... තෙවනු ද මෙ කරුණ කියමි... සංඝයා විසින් සිහිය වැඩුණු බවට පත් මෙ නම් මහණහට සතිවිනය දෙන ලද්දේ ය. සංඝයාට රිසියෙයි. එහෙයින් නිහඬ ය. මෙසේ මෙය සලකමි”යි, සංඝ තෙමේ දත්විය යුතු.

මහණෙනි, (මෙසේ) මේ අධිකරණය සන්හිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද යත්: සම්මුඛාවිනයයෙනුත් සතිවිනයයෙනුත් ය. එහි සම්මුඛාවිනය කිමෙක් ද යත්: සංඝසම්මුඛතාව ධම්සම්මුඛතාව විනයසම්මුඛතාව පුද්ගලසම්මුඛතාව... යන මේ යි. එහි පුද්ගල සම්මුඛතාව කවර යැ? යමෙකුත් චෝදනා කෙරෙයි ද?, යමකුටත් චෝදනා කෙරෙයි ද? සිය පසෙහිත් විරුද්ධ පක්ෂයෙහිත් වූවෝ හමුවෙත් ද? මේ එහි පුද්ගල සම්මුඛතාවය යි. එහි සතිවිනය කවර යැ? සතිවිනය කම්යා ගේ යම් ක්‍රියාවෙක්, කිරීමෙක්, එළැඹීමෙක්, වඩාත් එළැඹීමෙක්, ඉවැසීමෙක්, ප්‍රතික්‍රෝශ නොකිරීමෙක් වෙයි ද, මේ එහි සතිවිනය යි. මහණෙනි, ඉදින් මෙසේ සන්හිඳුණු අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කෙරෙයි නම්, ඔහුට උත්කෝටනක පාචිත්තිය වෙයි. ඡන්දදායක තෙමේ ඛීය්‍ය කෙරෙයි ද, ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

## අමූළ්හවිනයො

54. සියා අනුවාදාධිකරණං ද්වෙ සමථෙ අනාගම්ම සතිවිනයඤ්ච තස්සපාපියසිකඤ්ච, ද්වීහි සමථෙහි සම්මෙය්‍ය සම්මුඛාවිනයෙන ච අමූළ්හවිනයෙනචාති? සියාතිස්ස වචනීයං. යථා කථං විය? ඉධ භික්ඛු උම්මත්තකො හොති චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. තං භික්ඛු උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො එවං වදෙති: "අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කතන්ති." එවම්පිනං වුච්චමානා චොදෙන්තෙව 'සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති' තස්ස ඛො භික්ඛවෙ භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයො දාතබ්බො.

එවඤ්ච පන භික්ඛවෙ දාතබ්බො: තෙන භික්ඛවෙ භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: 'අහං භන්තෙ උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං, මං භික්ඛු උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති. සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. ත්‍යාහං එවං වදමි: අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො. තෙන මෙ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. නාහං තං සරාමි. මූළ්හෙන මෙ එතං කතන්ති. එවම්පි මං වුච්චමානා චොදෙන්තෙව: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සොහං භන්තෙ අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචාමීති. දුතියම්පි යාචිතබ්බො -පෙ- තතියම්පි යාචිතබ්බො -පෙ-

## අමූළ්හවිනය

54. අනුවාදාධිකරණය සතිවිනයය ද තස්සපාපියසිකාව ද යන ශමථ දෙකට නොපැමිණ සම්මුඛාවිනයයෙන් ද අමූළ්හවිනයයෙන් ද යන ශමථ දෙකින් සන්හිඳෙන්නේ ය යන්න විය හැකි ද? විය හැකියැ යි කියැයුතු වන්නේ ය. කෙසේ ද යත්: මෙහි මහණෙක් සිත් පෙරළියට පැමිණි උමතුවෙක් වෙයි. සිත් පෙරළියට පැමිණි ඒ උමතු මහණහු විසින් ශ්‍රමණ සාරුප්‍ය නොවූ බොහෝ කියුම් කැරුම් ද කරණ ලද්දේ වෙයි. උමතු වැ සිත් පෙරළියට පැමිණ කළ දෑ හේතු කොට ගෙන 'ආයුෂ්මත් තෙමේ මෙබඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා''යි මහණහු ඒ මහණහට ඇවැතින් චෝදනා කෙරෙත්. "ඇවැත්නි, මම සිත් පෙරළියට පත් උමතුවෙකිම් වීමි. උමතු වූ සිත් පෙරළියට පැමිණි ඒ මා විසින් කායික වාචසික වශයෙන් බොහෝ ශ්‍රමණසාරුප්‍ය නොවූ දෑ කරණ ලදී. එය මම සිහි නො කරමි. සිහි මුළා වූ මා විසින් එය කරණ ලදැ''යි හේ මෙසේ කියයි. ඔහු විසින් මෙසේ කියනු ලබන්නාහු ද ඔහු ඒ මහණහට "ආයුෂ්මත් තෙමේ මෙ බඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා''යි චෝදනා කෙරෙත් ම ය. මහණෙනි, නොමුළා වූ ඒ මහණහට අමූළ්හවිනය දිය යුතු ය.

මහණෙනි, එය මෙසේ ම දිය යුතු: ඒ මහණහු විසින් සංඝයා වෙත එළැඹ, උතුරුසඟ එකස් කොට වැඩිමහළු මහණුන්ගේ පා වැඳ උක්කුටුක වැ හිඳ දෙහොත් මුදුන් තබා "වහන්ස, මම සිත් පෙරළියට පත් උමතු-වෙකිම් වීමි. උමතුවූ සිත් පෙරළියට පත් ඒ මා විසින් මහණුනට නො සරුප් වූ කායික වූ ද වාචසික වූ ද බොහෝ වරද කරණ ලද්දේ ය. මහණහු උමතු වූ සිත් පෙරළියට පත් මා විසින් කළ වරද හේතු කොට ගෙන මහණහු මට, 'ආයුෂ්මත් තෙමේ මෙ බඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා'යි මට චෝදනා කෙරෙත්. 'ඇවැත්නි, මම උමතු වූ සිත් පෙරළියට පැමිණියෙකිම් වීමි. උමතු වූ සිත් පෙරළියට පැමිණි ඒ මා විසින් වචනයෙන් කියන ලද්දවූ ද, කයින් කරණ ලද්දවූ දැ යි බොහෝ ශ්‍රමණ සාරුප්‍ය නොවූ වරද දෑ කරණ ලදී. ඒ දෑ මම් සිහි නො කෙරෙමි. සිහිමුළා වූ මා විසින් ඒ දෑ කරණ ලදැ'යි ඔවුනට මම මෙසේ කියමි. මෙසේ කියනු ලබන්නා වූ ද ඔහු මට 'ආයුෂ්මත් තෙමේ මෙ බඳු ඇවැතකට පැමිණියා සිහි කෙරේ වා' යි මට චෝදනා කෙරෙත් ම ය. වහන්ස, ඒ මම සිහිමුළාව නැත්තෙම් සංඝයා ගෙන් අමූළ්හවිනයය ඉල්ලමි''යි මෙසේ කියැ යුතු වන්නේ ය. දෙවෙනි වර ද මෙසේ ඉල්ලිය යුතු... තෙවෙනි වර ද ඉල්ලියැ යුතු...

ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු උම්මත්තකො අහොසි චිත්තවිපරියාසකතො. තෙන උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. තං භික්ඛූ උම්මත්තකෙන චිත්තවිපරියාසකතෙන අජ්ඣාචිණ්ණෙන ආපත්තියා චොදෙන්ති: සරතායස්මා එවරූපිං ආපත්තිං ආපජ්ජිතාති. සො එවං වදෙති: 'අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං -පෙ-' සො අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයං දදෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො: අයං ඉත්ථන්නාමො භික්ඛු උම්මත්තකො අහොසි චිත්තවිපරියාසකතො -පෙ- සො එවං වදෙති: 'අහං ඛො ආවුසො උම්මත්තකො අහොසිං චිත්තවිපරියාසකතො -පෙ- සො අමූළ්හො සඞ්ඝං අමූළ්හවිනයං යාචති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හ-විනයං දෙති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයස්ස දානං. සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි -පෙ-.

දින්නො සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො අමූළ්හස්ස අමූළ්හවිනයො. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී එවමෙතං ධාරයාමීති.

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච අමූළ්හවිනයෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා. කිඤ්ච තත්ථ අමූළ්හවිනයස්මිං? යා අමූළ්හවිනයස්ස කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටිකොසනා, ඉදං තත්ථ අමූළ්හ-විනයස්මිං, එවං වූපසන්තඤ්චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති, උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති, ඛීයනකං පාචිත්තියං.

ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණකු විසින් සංඝ තෙමේ මෙසේ දැන්විය යුතු: "සංඝ තෙමේ මාගේ වචනය අසාවා, මේ මෙනම් මහණ තෙම සිත් පෙරළීමට ගිය උමතුවෙක් විය, සිත් පෙරළීමට ගිය උමතු වූ ඔහු විසින් කායික වූ ද වාචසික වූ ද අශ්‍රාමණක වූ බොහෝ වරද කරණ ලද්දේ ය. මහණහු ඒ මහණහට සිත්පෙරළීමට ගිය උමතු වූ ඔහු විසින් කරණ ලද වරදින් ඇවැතින් 'ආයුෂ්මත් තෙමේ මෙබඳු වූ ඇවැතකට පැමිණියා සිහි කෙරේවා'යි චෝදනා කෙරෙත්, හෙ තෙමේ 'ඇවැත්නි,... උමතු වීමි'... යි මෙසේ කියයි. හේ සිහිමුළාව නැත්තේ සංඝයා ගෙන් අමූළ්හවිනයය ඉල්ලයි. ඉදින් සංඝයාට ප්‍රාප්තකාල වේ නම්-

සංඝ තෙමේ සිහිමුළාව නැත්තා වූ මෙනම් මහණහට අමූළ්හවිනයය දෙන්නේ ය. මේ ඥප්තිය යි.

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා, මේ මෙනම් මහණ තෙම සිත් පෙරළියට ගිය උමතුවෙක් විය... හේ 'ඇවැත්නි, මම සිත් පෙරළියට ගිය උමතුවෙකිම් වීමි... සිහිමුළාවෙන් තොරවූ හේ සංඝයා ගෙන් අමූළ්හවිනයය ඉල්ලයි. සංඝ තෙමේ සිහිමුළාව නැත්තා වූ මෙනම් මහණහට අමූළ්හවිනයය දෙයි. මුළාව නැත්තාවූ මෙනම් මහණහට අමූළ්හවිනයය දීම යම් ආයුෂ්මතක්හට රිසියෙන්නේ නම් ඒ නිහඬ වේවා. යමකුට නො රිසියෙන්නේ නම්, හේ කියාවා, දෙවෙනි වරද මේ කරුණ කියමි...

සංඝයා විසින් සිහිමුළාවෙන් තොර වූ මෙනම් මහණහට අමූළ්හවිනයය දෙන ලද්දේ ය. සංඝයාට රිසියෙයි. එහෙයින් නිහඬ ය, මෙසේ මෙය සලකමි''යනු යි.

මහණෙනි, මේ අධිකරණය සන්හිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද යත්: සම්මුඛාවිනයෙන් ද අමූළ්හවිනයයෙන් ද යන දෙකිනි. එහි සම්මුඛාවිනයය කවර යැ? සංඝසම්මුඛතාව ධර්මසම්මුඛතාව, විනය සම්මුඛතාව, පුද්ගලසම්මුඛතාව යන සතර යැ.

එහි අමූළ්හවිනය කවර යැ? අමූළ්හවිනයකර්මයා ගේ යම ක්‍රියාවෙක්, කිරීමෙක්, එළැඹීමෙක්, අභ්‍යුපගමනයෙක්, ඉවැසීමෙක්, අප්‍රතික්‍රෝශනයෙක් වේ ද, මේ එහි අමූළ්හවිනය යැ. මහණෙනි, මෙසේ සන්හිඳුණු අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ ද, ඔහුට උත්කෝටනක පාචිත්තිය ඇවැත වේ. ඡන්දදායක තෙමේ (මේ අධිකරණ ව්‍යුපශමයට) නින්ද කරන්නේ ද, ඔහුට ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

## තස්සපාපියසිකා

55. සියා අනුවාදාධිකරණං ද්වෙ සමථෙ අනාගම්ම සතිවිනයඤ්ච අමූළ්හවිනයඤ්ච ද්වීහි සමථෙහි සම්මෙය්‍ය සම්මුඛාවිනයෙන ච තස්ස පාපියසිකාය චාති? සියාතිස්ස වචනීයං.

යථා කථං චිය? ඉධ භික්ඛු භික්ඛුං සඞ්ඝමජ්ඣෙ ගරුකාය ආපත්තියා චොදෙති, සරතායස්මා එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා'ති.

සො එවං වදෙති: න ඛො අහං ආවුසො සරාමි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා'ති.

තමෙනං සො නිබ්බෙඨෙන්තං අතිවෙඨෙති. 'ඉඞ්ඝායස්මා සාධුකමෙව ජානාහි, යදි සරසි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා'ති.

සො එවං වදෙති: න ඛො අහං ආවුසො සරාමි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා. සරාමි ච ඛො අහං ආවුසො එවරූපිං අප්පමත්තිකං ආපත්තිං ආපජ්ජිතා'ති.

තමෙනං සො නිබ්බෙඨෙන්තං අතිවෙඨෙති: 'ඉඞ්ඝායස්මා සාධුකමෙව ජානාහි: යදි සරසි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා'ති.

සො එවං වදෙති: 'ඉමං හි නාමාහං ආවුසො අප්පමත්තිකං ආපත්තිං ආපජ්ජිත්වා අපුට්ඨො පටිජානිස්සාමි. කිම්පනාහං එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිත්වා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා පුට්ඨො න පටිජානිස්සාමී'ති.

සො එවං වදෙති: ඉමං හි නාම ත්වං ආවුසො අප්පමත්තිකං ආපත්තිං ආපජ්ජිත්වා අපුට්ඨො පටිජානිස්සසි. කිම්පන ත්වං එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිත්වා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා පුට්ඨො න පටිජානිස්සසි? ඉඞ්ඝායස්මා සාධුකමෙව ජානාහි. යදි සරසි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වාති.

## තස්සපාපියසිකා

55. අනුවාදධිකරණය සතිවිනයය ද අමූළ්හවිනයය ද යන ශමථ දෙකට නොපැමිණ, සම්මුඛාවිනයයෙන් ද තස්සපාපියසිකායෙන් ද යන ශමථ දෙකින් සංසිඳෙන්නේ ය යන්න විය හැකි ද? විය හැකියැ යි කිය යුතු වන්නේ ය.

කෙසේ ද යත්. මෙහි මහණෙක් මහණකුට සඟමැදදී "ආයුෂ්මත් තෙමේ පරිජි ඇවැතකට හෝ පරිජියට සාමන්ත (දුකුළා හෝ ථුල්ලසි) ඇවැතකට හෝ මෙබඳු ගරු ඇවැතකට පැමිණියා සිහි කෙරේවා'යි ගරු ඇවැතෙකින් චෝදනා කරයි.

ඒ (චූදිත) මහණ තෙම 'ඇවැත්නි, පරිජි ඇවැතට හෝ පරිජියට සාමන්ත (දුකුළා හෝ ථුල්ලසි) ඇවැතකට හෝ මෙබඳු ඇවැතකට පැමිණියා මම සිහි නො කරමි යි කියයි.

ඒ (චෝදක) මහණ තෙම 'එසේ නම් ආයුෂ්මත් තෙමේ පරිජි හෝ පරිජියට සාමන්ත (දුකුළා හෝ ථුල්ලසි) ඇවතකට හෝ පැමිණියෙමි'යි සිහි කෙරෙහි නම් මනාකොට ම එය දනගන්නැ' යි යථොක්ත චූදිත මහණහු වඩාත් චොදනායෙන් වෙළයි.

ඒ චූදිත මහණතෙම 'ඇවැත්නි, පරිජි ඇවැතට හෝ පරිජියට සාමන්ත ඇවැතකට හෝ මෙසේ වූ ඇවැතකට පැමිණියෙමි'යි මම නො ම සිහි කරමි. ඇවැත්නි, එතෙකුදු වුවත් මෙබඳු වූ අල්පමාත්‍ර ඇවැතකට පැමිණියෙමි යි සිහි කෙරෙමි යි මෙසේ කියයි.

එසේ වී නම්, ආයුෂ්මත් තෙමේ 'පරිජි ඇවැතට හෝ පාරාජික-සාමන්ත ඇවැතකට හෝ මෙසේ වූ ගරු ඇවැතකට පැමිණියෙමි'යි ඉදින් සිහි කෙරෙහි නම් එය මනාකොට ම දනගන්නැ'යි චොදක මහණ තෙමේ යථොක්ත චොදනා වෙළුමෙන් මිදෙන්නට සැරසෙන මහණහු වඩාත් දැඩි කොට වෙළයි.

'ඇවැත්නි, මම මෙ නම් අල්පමාත්‍ර ඇවැතකට පැමිණ නො විචාරණ ලද්දෙම ප්‍රතිඥා කරන්නෙමි. කිමෙක් ද? පරිජිඇවතට හෝ පරිජි ඇවැතට සාමන්ත වූ ඇවැතකට හෝ මෙබඳු වූ ගරු ඇවැතකට පැමිණ විචාරණ ලද්දෙම ප්‍රතිඥ නො කරන්නෙම ද?'යි ඒ චූදිත මහණ මෙසේ කියයි.

එවිට ඒ චෝදක මහණ තෙම 'ඇවැත්නි, ඔබ මෙතම වූ අල්පමාත්‍ර ඇවැතකට පැමිණ, නොවිචාරණ ලද්දෝ එය ප්‍රතිඥ කරන්නහු ය, (එසේ කල්හි) පරිජි හෝ පරිජියට සාමන්ත ඇවතකට හෝ මෙබඳු ගරු ඇවැතකට පැමිණ කිමෙක් ද? විචාරණ ලද්දහු ප්‍රතිඥා නො කරන්නහු ද? එබැවින් ඉදින් පරිජියකට හෝ පරිජියට සාමන්ත ඇවැතකට හෝ මෙසේ වූ ගරු ඇවැතකට පැමිණියෙමි'යි ඉදින් සිහි කරවූ නම්, එය මොනොවට ම දනගන්නැ' යි මෙසේ කියයි.

සො එවං වදෙති සරාමි ඛො අහං ආවුසො එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වා, දවා මෙ එතං වුත්තං, රවා මෙ එතං වුත්තං. නාහං තං සරාමි එවරූපිං ගරුකං ආපත්තිං ආපජ්ජිතා පාරාජිකං වා පාරාජිකසාමන්තං වාති.

56 තස්ස ඛො තං භික්ඛවෙ භික්ඛුනො තස්සපාපියසිකා කම්මං කාතබ්බං. එවඤ්ච පන භික්ඛවෙ කාතබ්බං. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝමජ්ඣෙ ගරුකාය ආපත්තියා අනුයුඤ්ජියමානො අවජානිත්වා පටිජානාති, පටිජානිත්වා අවජානාති, අඤ්ඤෙනඤ්ඤං පටිචරති, සම්පජානමුසා භාසති, යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො තස්සපාපියසිකා කම්මං කරෙය්‍ය. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු සඞ්ඝමජ්ඣෙ ගරුකාය ආපත්තියා අනුයුඤ්ජියමානො අවජානිත්වා පටිජානාති, පටිජානිත්වා අවජානාති, අඤ්ඤෙනඤ්ඤං පටිචරති, සම්පජානමුසා භාසති. සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං කරොති. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මස්ස කරණං, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. දුතියම්පි එතමත්ථං වදාමි -පෙ- තතියම්පි එතමත්ථං වදාමි -පෙ- කතං සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො තස්සපාපියසිකාකම්මං. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමී''ති.

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච තස්සපාපියසිකාය ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- කා ච තත්ථ තස්සපාපියසිකාය? යා තස්සපාපියසිකා කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටිකොසනා, අයං තත්ථ තස්සපාපියසිකාය. එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං කාරකො උක්කොටෙති. උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති, ඛීයනකං පාචිත්තියං

(එවිට) ඒ චූදිතක මහණ තෙම "ඇවැත්නි, පරිපි ඇවැතකට හෝ පරිපියට සාමන්ත ඇවැතකට හෝ මෙබඳු වූ ගරු ඇවැතකට පැමිණියෙමි යි මා කීවා සිහි කෙරෙමි ඇවැත්නි, එය මා විසින් කෙළි පිණිස කියන ලදී, එය මා විසින් විහිළු පිණිස කියන ලදී. පරිපි ඇවැතකට හෝ පරිපියට සාමන්ත ඇවැතකට හෝ මෙබඳු ඇවැතකට මම පැමිණියෙමි'යි කියා නම් නො ම සිහි කෙරෙමි" යි මෙසේ කියයි.

56. මහණෙනි, එසේ කියන ඒ මහණහට තස්සපාපියාසිකා කර්මය කළ යුතු. මහණෙනි, මෙසේ වනාහි එය කළ යුතු: ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණක්හු විසින්

"වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසා වා. මේ මෙනම් මහණ තෙම සඟ මැදදී ගරු ඇවැතින් ප්‍රශ්න කරණු ලබන්නේ අවඥ කොට (වරද නො පිළිගෙන) ප්‍රතිඥා කෙරෙයි (නැවැත පිළිගනියි). ප්‍රතිඥා කොට (එසේ යු වරදට පැමිණියෙමි යි පිළිගෙන) අවඥ කෙරෙයි (ක්‍රීඩා වශයෙන් එසේ කීයෙමි යි යන ආදි බස් කියා නොපිළිගනී හෝ වරද යටපත් කෙරෙයි). එකෙකින් අනෙකක් වසාලයි. (වරදට පැමිණියෙමි යි) දන්නේ ම බොරු කියයි. ඉදින් සංඝයාට සුදුසු යැ යි හැඟෙන්නේ නම්, සංඝ තෙමේ මෙනම් මහණහට තස්සපාපියාසිකා කර්මය කරන්නේ ය. මේ ඥප්තිය යි.

වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා. මේ මෙනම් මහණ තෙම සඟමැදදී ගරු ඇවැතෙකින් අනුයොග කරණු ලබන්නේ, අවඥා කොට ප්‍රතිඥ කෙරෙයි ප්‍රතිඥා කොට අවඥා කෙරෙයි අන් කරුණෙකින් අනෙකක් වසාලයි, දැන දැන මුසවා බෙණෙයි, සංඝ තෙමේ මෙනම් මහණහට තස්සපාපියාසිකා කර්මය කෙරෙයි. මෙනම් මහණහට තස්සපාපියාසිකා කර්මය කිරීම යම් ආයුෂ්මතක්හට රිසියෙයි නම්, හේ නිහඬ වන්නේය, යම් ආයුෂ්මතක්හට නො රිසියෙයි නම් හේ කියාවා. දෙවනු ද මේ කරුණ කියමි ... තෙවනු ද මේ කරුණ කියමි... සංඝයා විසින් මෙනම් මහණහට තස්සපාපියාසිකාකර්මය කරණ ලදී. සංඝයාට රිසියෙයි, එහෙයින් නිහඬ ය. මෙසේ මේ කරුණ දරමි" යනුයි.

මහණෙනි, මේ අධිකරණය (මෙසේ) සන්සිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්සිඳුනේ ද? යත්: සම්මුඛාවිනයයෙන් ද තස්සපාපියාසිකායෙන් ද යන දෙකිනි. එහි සම්මුඛාවිනයය කවර යැ? සංඝසම්මුඛතාව, ධර්මසම්මුඛතාව, විනයසම්මුඛතාව, පුද්ගල සම්මුඛතාව යන සතර යි ... එහි තස්සපාපියාසිකාව කවර යැ? තස්සපාපියාසිකාකර්මයා ගේ යම් ක්‍රියාවෙක්, කිරීමෙක්, එළැඹීමෙක්, අධ්‍යාෂණයෙක්, ඉවැසීමෙක්, අප්‍රතිෂෙධනයෙක් වේ ද, මෙය එහි තස්සපාපියපසිකාව යැ. මහණෙනි, ඉදින් මෙසේ සංසිඳුනු අධිකරණය කාරක මහණෙක් උත්කෝටනය කරන්නේ ද, උක්කොටනක පාචිත්තිය ඇවැත වේ. ඡන්දදායක මහණෙක් නිඳා කෙරෙයි ද, ඔහුට ඛියනක පාචිත්තිය වෙයි.

## පටිඤ්ඤාතකරණං

57. ආපත්තාධිකරණං කතිහි සමථෙහි සම්මති? ආපත්තාධිකරණං තීහි සමථෙහි සම්මති සම්මුඛාවිනයෙන ච පටිඤ්ඤාතකරණෙන ච තිණවත්ථාරකෙන ච.

සියා ආපත්තාධිකරණං එකං සමථං අනාගම්ම තිණවත්ථාරකං ද්වීහි සමථෙහි සම්මෙය්‍ය සම්මුඛා විනයෙන ච පටිඤ්ඤාතකරණෙන චාති? සියා'තිස්ස වචනීයං. යථාකථං විය? ඉධ භික්ඛු ලහුකං ආපත්තිං ආපන්නො හොති. තෙන භික්ඛවෙ භික්ඛුනා එකං භික්ඛුං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: අහං ආවුසො ඉත්ථන්නාමං ආපත්තිං ආපන්නො. තං පටිදෙසෙමී'ති. තෙන වත්තබ්බො: 'පස්සසි?ති. 'ආම පස්සාමී'ති. 'ආයතිං සංවරෙය්‍යාසී'ති.

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං සම්මුඛාවිනයෙන ච පටිඤ්ඤාතකරණෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච දෙසෙති, යස්ස ච දෙසෙති, උභො සම්මුඛීභූතා හොන්ති, අයං තත්ථ පුග්ගලසම්මුඛතා කිඤ්ච තත්ථ පටිඤ්ඤාතකරණස්මිං? යා පටිඤ්ඤාතකරණස්ස කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටික්කොසනා, ඉදං තත්ථ පටිඤ්ඤාතකරණස්මිං. එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං පටිග්ගාහකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං.

58. එවං චෙ තං ලභෙථ ඉච්චෙතං කුසලං. නො චෙ ලභෙථ තෙන භික්ඛවෙ භික්ඛුනා සම්බහුලෙ භික්ඛූ උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්සු වචනීයා: 'අහං භන්තෙ ඉත්ථන්නාමං ආපත්තිං ආපන්නො, තං පටිදෙසෙමී'ති. ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන තෙ භික්ඛූ ඤාපෙතබ්බා: 'සුණන්තු මෙ ආයස්මන්තා. අයං ඉත්ථන්නාමො භික්ඛු ආපත්තිං සරති. විවරති. උත්තානීකරොති දෙසෙති. යදායස්මන්තානං පත්තකල්ලං අහං ඉත්ථන්නාමස්ස භික්ඛුනො ආපත්තිං පටිග්ගණ්හෙය්‍යන්ති.''

## ප්‍රතිඥාතකරණය

57. ආපත්තාධිකරණය සමථ කීයෙකින් සන්සිඳෙයි ද? යත්: ආපත්තාධිකරණය සම්මුඛාවිනයයෙන් ද ප්‍රතිඥතකරණයෙන් ද තිණවත්ථාරකයෙන් ද යන සමථ තුනින් සන්සිඳේ.

ආපත්තාධිකරණය තිණවත්ථාරක නම් වූ එක් සමථයකට නො පැමිණ සම්මුඛාවිනයෙන් ද පටිඤ්ඤාතකරණයෙන් ද යන සමථ දෙකින් සන්සිඳෙන්නේ ය යන්න විය හැකි ද? විය හැකි යැයි කියයුතු වන්නේ ය. කෙසේ යත්: මෙහි මහණෙක් ලුහු ඇවතකට පැමිණියේ වෙයි. මහණෙනි, ඒ මහණහු විසින් එක් මහණකු කරා එළඹ උතුරු සඟ එකස් කොට වැඩිමහලු මහණුන්ගේ පා වැද උක්කුටුක වැ හිඳ දෙහොත් මුදුන්හි කොට, "ඇවැත්නි, මම මෙ නම් ඇවැතකට පැමිණියෙමි, එය දෙසමි"යි මෙසේ කිය යුතු වන්නේ යැ, ඔහු විසින් (අනිත් මහණහු විසින්) 'ඇවැත දක්හිද?'යි කියැ යුතු. එසේ ය, දකිමි'යි පළමු මහණහු විසින් කියැ යුතු. 'මත්තෙහි සංවර වඩව'යි දෙවැනි මහණහු විසින් කියැ යුතු,

මහණෙනි, මේ අධිකරණය (මෙසේ) සන්සිඳුනේ ය යි කියනු ලැබේ. කිමෙකින් සන්සිඳුනේ ද? යත්: සම්මුඛාවිනයයෙන් ද පටිඤ්ඤාතකරණයෙන් ද යන දෙකිනි. එහි සම්මුඛාවිනයය කවර යැ? ධර්මසම්මුඛතාව විනය සම්මුඛතාව පුද්ගලසම්මුඛතාව යන තුන ය... එහි පුද්ගල සම්මුඛතාව කවර යැ: යමෙක් ඇවැත දෙසා නම්, හේ මහණ ද යමකුට ඇවැත දෙසා නම් ඒ මහණ ද යන දෙදෙනා හමු වූවාහු වෙත් ද, මෙය එහි පුද්ගලසම්මුඛතාව යැ. එහි පටිඤ්ඤාතකරණය නම් කවර යැ? පටිඤ්ඤාත කරණ කර්මයාගේ යම් ක්‍රියාවෙක් කිරීමෙක්, එළැඹීමෙක්, අධ්‍යාවසානයෙක්, ඉවැසීමෙක්, අප්‍රතිෂෙධනයෙක් වේ ද, මේ එහි පටිඤ්ඤාතකරණය යි. මහණෙනි, ඉදින් මෙසේ සන්සිඳුනු අධිකරණයක් ප්‍රතිග්‍රාහක මහණ තෙමේ (යළිත් සන්සිඳවනු පිණිස උත්කොටනය කෙරෙයි ද (ඉදිරියට අදී ද) ඔහුට උත්කොටනක පාචිත්තිය ඇවැත වේ.

58. මහණෙනි, මෙසේ ඒ අධිකරණය සමථය ලබන්නේ නම්, ඒ මැනැවැ. ඉදින් නොලබන්නේ නම්, මහණෙනි, ඒ මහණහු විසින් බොහෝ මහණුන් කරා එළැඹ උතුරු සඟ එකස් කොට, වැඩිමාලු මහණුන්ගේ පා වැද උක්කුටුක වැ හිඳ, දෙහොත් මුදුනැ නඟා "වහන්ස, මම මෙ නම් ඇවැතට පැමිණියෙම් වෙමි. එය දෙසමි"යි මෙසේ කියයුතු වන්නාහ. ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් "ආයුෂ්මත්හු මගේ වචනය අසත්වා. මේ මෙනම් මහණ ඇවැත හෙළි කරයි, ඇවැත පෙහෙළි කරයි. ඇවැත දෙසයි. ඉදින් ආයුෂ්මත්නට සුදුසු කල් ඇත්තේ යැ යි හැඟේ නම්, මම මෙනම් මහණහුගේ ඇවැත පිළිගන්නෙමි"යි මහණහු දන්විය යුත්තාහ.

තෙන වත්තබ්බො 'පස්සසී?'ති. 'ආම පස්සාමී'ති. 'ආයතිං සංවරෙය්‍යාසී'ති.

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච පටිඤ්ඤාතකරණෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච දෙසෙති, යස්ස ච දෙසෙති, උභො සම්මුඛීභූතා හොන්ති, අයං තත්ථ පුග්ගලසම්මුඛතා. කිඤ්ච තත්ථ පටිඤ්ඤාතකරණස්මිං? යා පටිඤ්ඤාතකරණස්ස කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනා අප්පටික්කොසනා, ඉදං තත්ථ පටිඤ්ඤාතකරණස්මිං. එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං පටිග්ගාහකො උක්කොටෙති, උක්කොටනකං පාචිත්තියං.

59. එවඤ්චෙ තං ලභෙථ ඉච්චෙතං කුසලං; නො චෙ ලභෙථ, තෙන භික්ඛවෙ භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා වුඩ්ඪානං භික්ඛූනං පාදෙ වන්දිත්වා උක්කුටිකං නිසීදිත්වා අඤ්ජලිං පග්ගහෙත්වා එවමස්ස වචනීයො: "අහං භන්තෙ ඉත්ථන්නාමං ආපත්තිං ආපන්නො, තං පටිදෙසෙමී"ති. ब්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො "සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අයං ඉත්ථන්නාමො භික්ඛු ආපත්තිං සරති විවරති උත්තානිං කරොති දෙසෙති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං, අහං ඉත්ථන්නාමස්ස භික්ඛුනො ආපත්තිං පටිග්ගණ්හෙය්‍යන්"ති. තෙන වත්තබ්බො 'පස්සසී?'ති. 'ආම පස්සාමී'ති. 'ආයතිං සංවරෙය්‍යාසී'ති.

ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච පටිඤ්ඤාතකරණෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං? සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා -පෙ- එවං වූපසන්තං චෙ භික්ඛවෙ අධිකරණං පටිග්ගාහකො උක්කොටෙති, උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛිය්‍යති ඛිය්‍යනකං පාචිත්තියං.

ඒ ප්‍රතිග්‍රාහක මහණහු විසින් ඇවැත දක්නෙහි ද?'යි ඉතර මහණට කියයුතු. 'එසේ යැ, දකිමි'යි දෙශක මහණහු විසින් කියැ යුතු. 'මත්තෙහි සංවර කරව'යි ප්‍රතිග්‍රාහක මහණහු විසින් කියැ යුතු.

මහණෙනි, (මෙසේ) මේ අධිකරණය සන්සිඳුණේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්සිඳුණේ ද? යත්: සම්මුඛාවිනයයෙන් ද ප්‍රතිඥාතකරණයෙන් ද යන දෙකිනි. එහි සම්මුඛාවිනය කවර යැ? ධර්මසම්මුඛතාව, විනයසම්මුඛතාව, පුද්ගලසම්මුඛතාව යන තුන යැ... එහි පුද්ගලසම්මුඛතාව කවර යැ? යමෙක් ඇවැත දෙසයි ද, යමකුටත් දෙසයි ද, මේ දෙසක ප්‍රතිග්‍රාහක දෙදෙනා හමු වූවාහු වෙත් ද, මේ එහි පුද්ගල සම්මුඛතාව යැ. එහි ප්‍රතිඥාතකරණය කවර යැ? ප්‍රතිඥාත කරණ කර්මයා ගේ යම් ක්‍රියායෙක්, කිරීමෙක්, එළැඹීමෙක්, අධ්‍යාසණයෙක්, ඉවැසීමෙක්, අප්‍රතික්‍ෂෙධනයෙක් වේ ද, මේ එහි ප්‍රතිඥාතකරණය යැ. මහණෙනි, ඉදින් මෙසේ සන්සිඳුනු අධිකරණය ප්‍රතිග්‍රාහක මහණ තෙම නැවැත සන්සිඳුවනු පිණිස ඉදිරියට අදනේ ද, ඔහුට උක්කොටනක පාචිත්තිය ඇවැත වේ.

59. ඉදින් මෙය මෙසේ ලබන්නේ නම් ඒ මැනවි. ඉදින් නො ලබන්නේ නම්, මහණෙනි, ඒ මහණහු විසින් සංඝයා කරා එළැඹ, උතුරුසඟ එකස් කොට වැඩිමාලු මහණුන්ගේ පා වැඳ උක්කුටුක වැ හිඳ දෙහොත් මුදුන් තබා ගෙන, "ස්වාමීන්ස, මම මෙ නම් ඇවතට පැමිණියෙමි. එය දෙසමි' යි මෙසේ කියැ යුතු වන්නේ ය. ව්‍යක්ත ප්‍රතිබල මහණක්හු විසින් "ස්වාමීන්ස, සංඝ තෙමේ මගේ වචනය අසාවා, මේ මෙනම් මහණ ඇවැත සිහි කරයි, හෙළි කරයි, පෙහෙළි කරයි, දෙසයි. ඉදින් සංඝයාට සුදුසු කල් වී යැයි හැඟේ නම්, මම මෙනම් මහණහුගේ ඇවැත පිළිගන්නෙමි'යි සංඝ තෙමේ දන්වියැ යුතු. ඒ ප්‍රතිග්‍රාහක මහණ විසින් 'ඇවැත දකිහි ද?'යි කියැ යුතු 'එසේ ය, දකිමි'යි දෙශකයා විසින් කියැ යුතු. 'මත්තෙහි සංවරය වඩව යි ප්‍රතිග්‍රාහකයා විසින් කියැ යුතු.

මහණෙනි, (මෙසේ) මේ අධිකරණය සන්සිඳුණේ යැ'යි කියනු ලැබේ. කිමෙකින් සන්සිඳුණේ ද යත්: සම්මුඛාවිනයයෙන් ද ප්‍රතිඥාතකරණයෙන් ද යන දෙකිනි, එහි සම්මුඛාවිනයය කවර යැ? සංඝසම්මුඛතාව ධර්මසම්මුඛතාව විනයසම්මුඛතාව පුද්ගලසම්මුඛතාව යන සතර යැ... මහණෙනි, ඉදින් මෙසේ සන්සිඳුනු අධිකරණය ප්‍රතිග්‍රාහක තෙමේ උක්කොටනය කරන්නේ නම් ඔහුට උක්කොටනක පාචිත්තිය ඇවැත වේ. ඡන්දදායක මහණ ඛිය්‍ය කරන්නේ නම් ඔහුට ඛියනක පාචිත්තිය ඇවැත වේ.

## තිණවත්ථාරකං

60. සියා ආපත්තාධිකරණං එකං සමථං අනාගම්ම පටිඤ්ඤාතකරණං ද්වීහි සමථෙහි සම්මෙය්‍ය සම්මුඛාවිනයෙන ච තිණවත්ථාරකෙන චාති? සියාතිස්ස වචනීයං. යථාකථං විය? ඉධ භික්ඛූනං භණ්ඩනජාතානං කලහජාතානං විවාදාපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං හොති භාසිතපරික්කන්තං. තත්‍ර චෙ භික්ඛූනං එවං හොති. 'අම්හාකං ඛො භණ්ඩනජාතානං කලහජාතානං විවාදාපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම, සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍යා'ති. අනුජානාමි භික්ඛවෙ එවරූපං අධිකරණං තිණවත්ථාරකෙන වූපසමෙතුං.

එවඤ්ච පන භික්ඛවෙ වූපසමෙතබ්බං: සබ්බෙහෙව එකජ්ඣං සන්නිපතිතබ්බං. සන්නිපතිත්වා ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො: "සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං කලහජාතානං විවාදාපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම, සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉමං අධිකරණං තිණවත්ථාරකෙන වූපසමෙය්‍ය ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තන්ති.

එකතොපක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සකො පක්ඛො ඤාපෙතබ්බො: "සුණන්තු මෙ ආයස්මන්තා අම්හාකං භණ්ඩනජාතානං කලහජාතානං විවාදාපන්නානං විහරතං බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං භාසිතපරික්කන්තං. සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය, යදායස්මන්තානං පත්තකල්ලං අහං යා චෙව ආයස්මන්තානං ආපත්ති, යා ච අත්තනො ආපත්ති ආයස්මන්තානඤ්චෙව අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තන්ති. අථාපරෙසං[1] එකතොපක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සකො පක්ඛො ඤාපෙතබ්බො: "සුණන්තු මෙ ආයස්මන්තා. අම්හාකං භණ්ඩනජාතානං-පෙ-සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං''ති.

1. අථාපරෙසං - වි - ත. මජසං. අධිකං

## තිණවත්ථාරකය

69. ප්‍රතිඥාතකරණ නම් වූ එක් සමථයකට නො පැමිණ සම්මුඛා විනයෙන් ද තිණවත්ථාරකයෙන් ද යන සමථ දෙකින් ආපත්තාධිකරණය සන්සිඳෙන්නේය යන්න විය හැකි ද? විය හැකි යැ යි කිය යුතු වන්නේ ය. කෙසේ ද? යත්: මෙහි හටගත් අරගල ඇති වැ හටගත් කලහ ඇති වැ විවාදයට පැමිණියන් වැ වසන මහණුන් විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ වරද කරන ලදුයේ වෙයි. ඉදින් එහි මහණුනට හටගත් අරගල ඇති වැ හටගත් කලහ ඇති වැ විවාදයට බටුවන් වැ වසන අප විසින් වාචසික වූ ද කායික වූ ද බොහෝ වරද කරණ ලදුයේ වෙයි. ඉදින් අපි මේ ඇවැත්වලින් උනුනට පිළියම් කරවන්නමෝ නම් ඒ අධිකරණය රළු බව පිණිස, සැඩ බව පිණිස, බිඳීම පිණිස පවතිනු විය හැකියැ' යි මෙසේ සිතෙක් වෙයි. මහණෙනි, මෙබඳු අධිකරණය තිණවත්ථාරකයෙන් සන්සිඳුවන්නට අනුදනිමි:

තවද මහණෙනි, මෙසේ එය සන්සිඳු විය යුතු; සියලු මහණුන් ම එක් තැනකට රැස් විය යුතු. එක්රැස් වැ ව්‍යක්ත ප්‍රතිබල මහණෙක්හු විසින් "වහන්ස, සංඝ තෙමේ මගේ වචනය අසා වා, උපන් අරගල ඇති ව, උපන් කලහ ඇති ව, විරුද්ධවාදයට බැසගත්තන් ව වසන අප විසින් වාචසික වූ ද කායික වූ ද ශ්‍රමණසාරුප්‍ය නොවූ බොහෝ දෑ කරණ ලද්දේ ය. ඉදින් අපි මේ ඇවත්වලින් ඔවුනොවුනට පිළියම් කරවන්නමෝ නම්, ඒ අධිකරණය රළුබව පිණිස, සැඩබව පිණිස, භෙදය පිණිස පවතිනු ද හැකි වන්නේ ය, ඉදින් සංඝයාට සුදුසු කලැ යි හැඟෙන්නේ වී නම් සංඝ තෙමේ (පරිජී සහවෙසෙස් යන) දළ වරද හැර, ගිහින් ගැරහුම් ආදීන් ගෘහස්ථප්‍රතිසංයුක්ත වරද ද හැර (සෙසු ඇවැත් හා සම්බන්ධ වූ) මෙ අධිකරණය තිණවත්ථාරකයෙන් සන්සිඳුවන්නේ ය.

එක් පක්ෂයකට අයත් මහණුන් අතුරෙන් ව්‍යක්ත ප්‍රතිබල මහණකු විසින් "ආයුෂ්මත්හු මාගේ වචනය අසත්වා. උපන් අරගල ඇති වැ උපන් කලහ ඇති වැ විරුද්ධවාදයට බැසගත්තන් වැ වසන අප විසින් වාචසික වූ ද කායික වූ ද අශ්‍රාමණක වූ බොහෝ දෑ කරණ ලද්දේ වෙයි. ඉදින් අපි මේ ඇවැත්වලින් ඔවුනොවුනට පිළියම් කරවන්නමෝ නම්, ඒ අධිකරණය රළුබව පිණිස සැඩබව පිණිස භෙදය පිණිස පවතිනු ද විය හැක්ක. (ඒ හෙයින්) ඉදින් ආයුෂ්මත්නට සුදුසු කල් යැ යි හැඟෙන්නේ වී නම්, ආයුෂ්මතුන්ගේ යම් ඇවැත් වේ නම් තමා ගේ යම් ඇවැත් වේ නම් ථුල වරද ද ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර සෙසු සියලු ඇවැත් ආයුෂ්මත්නට වැඩ පිණිසත් තමාට වැඩ පිණිසත් සඟ මැද දී තිණවත්ථාරක යෙන් දෙසන්නෙමි" යි ස්වකීය පක්ෂය දන්විය යුතු යැ. ඉක්බිති අන් එක් පක්ෂයක් ගත් මහණුන් අතුරෙන් ව්‍යක්ත ප්‍රතිබල මහණකු විසින් "ආයුෂ්මත්හු මාගේ වචනය අසත්වා. උපන් අරගල ඇති... ථුල වරද ද ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර සෙසු සියලු ඇවැත්... සඟ මැද දී තිණවත්ථාරකයෙන් දෙසන්නෙම්"යැ යි ස්වකීය පක්ෂය දන්විය යුතු.

එකතොපක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අම්හාකං භණ්ඩනජාතානං -පෙ- බහුං අස්සාමණකං අජ්ඣාචිණ්ණං -පෙ- සචෙ මයං ඉමාහි ආපත්තීහි අඤ්ඤමඤ්ඤං කාරෙස්සාම. සියාපි තං අධිකරණං කක්ඛළත්තාය වාළත්තාය භෙදාය සංවත්තෙය්‍ය. යදි සඞ්ඝස්ස පත්තකල්ලං අහං යා චෙව ඉමෙසං ආයස්මන්තානං ආපත්ති යා ච අත්තනො ආපත්ති ඉමෙසඤ්චෙව ආයස්මන්තානං අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. එසා ඤත්ති.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- අහං යා චෙව ඉමෙසං ආයස්මන්තානං ආපත්ති, යා ච අත්තනො ආපත්ති ඉමෙසඤ්චෙව ආයස්මන්තානං අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙමි ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. යස්සායස්මතො ඛමති අම්හාකං ඉමාසං ආපත්තීනං සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසනා ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං, සො තුණ්හස්ස යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.

දෙසිතා අම්හාකං ඉමා ආපත්තියො සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමීති.

අථාපරෙසං එකතොපක්ඛිකානං භික්ඛූනං ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සඞ්ඝො ඤාපෙතබ්බො:

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො. අම්හාකං භණ්ඩනජාතානං -පෙ- සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙය්‍යං ඨපෙත්වා ථුල්ලවජ්ජං, ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. එසා ඤත්ති.

එක් පක්ෂයකට අයත් මහණුන් අතුරෙන් ව්‍යක්ත වූ ප්‍රතිබල වූ මහණෙක් විසින්,

"වහන්ස, සංඝ තෙමේ මා ගේ වචනය අසාවා. උපන් අරගල ඇති... අප විසින්... බොහෝ අශ්‍රාමණක දෑ කරණ ලද්දේ වෙයි... ඉදින් අපි ඔවුනොවුනට මේ ඇවැත්වලින් පිළියම් කරවන්නෙමෝ නම් ඒ අධිකරණය රළුබව පිණිස, සැඩබව පිණිස, භේදය පිණිස පවතිනු ද විය හැකි ය. ඉදින් සංඝයාට සුදුසු කල් වේ යැයි හැඟේ නම් මම ථුල්ල වරද ද හැර, ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර, මේ ආයුෂ්මතුන් ගේ සෙසු යම් ඇවැත් වේ නම් තමා ගේ ද සෙසු යම් ඇවැත් වේ නම්, ඒ හැම මේ ආයුෂ්මත්වරුනට වැඩ පිණිස ද තමාට වැඩ පිණිස ද සඟ මැද දී තිණවත්ථාරකයෙන් දෙසන්නෙමි. මේ ඥප්තිය යැ.

සංඝ තෙමේ මා ගේ වචනය අසාවා. උපන් අරගල ඇති... අප විසින්... බොහෝ අශ්‍රාමණක දෑ කරන ලද්දේ වෙයි.... මම ථුල්ල වරද ද හැර, ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර, මේ ආයුෂ්මතුන් ගේ සෙසු යම් ඇවැත් වේ නම්, තමා ගේ ද සෙසු යම් ඇවැත් වේ නම්, ඒ හැම මේ ආයුෂ්මත්වරුනට වැඩ පිණිස ද තමාට වැඩ පිණිස ද සඟමැද දී තිණවත්ථාරකයෙන් දෙසෙමි. ථුල්ලවරද ද හැර, ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර සෙසු මේ සියලු ඇවැත් අප සඟ මැද දී තිණවත්ථාරකයෙන් දෙසීම යම් ආයුෂ්මතකු හට රිසියෙන්නේ නම් හේ නිහඬ වේවා, යම් ආයුෂ්මතකු හට නො රිසියෙන්නේ වී නම් හේ කියාවා.

අප විසින් ථුල්ල වරද ද හැර, ගෘහිප්‍රතිසංයුක්ත ඇවැත් ද හැර සෙසු මේ සියලු ඇවැත් සඟමැද දී තිණවත්ථාරකයෙන් දෙසන ලද්දේ ය. සංඝයාට රිසිවෙයි. එ හෙයින් නිහඬ යැ. මෙසේ මෙය සලකමි"යැ යි සංඝ තෙමේ දන්විය යුතු.

ඉක්බිති අන් එක් පක්ෂය ගත් මහණුන් අතුරෙන් ව්‍යක්ත ප්‍රතිබල මහණෙක්හු විසින්,

"සංඝ තෙමේ මා ගේ වචනය අසා වා. උපන් අරගල ඇති...අප විසින් ...වරද කරන ලද්දේ ය... ථුල්ල වරද හැර ගෘහිප්‍රතිසංයුක්ත ආපත්ති ද හැර සෙසු... සියලු ඇවැත් සඟමැද දී තිණවත්ථාරකයෙන් දෙසන්නෙමි. මේ ඥප්තිය යැ.

සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අම්හාකං භණ්ඩනජාතානං -පෙ- අහං යා චෙව ඉමෙසං ආයස්මන්තානං ආපත්ති, යා ච අත්තනො ආපත්ති, ඉමෙසඤ්චෙව ආයස්මන්තානං අත්ථාය අත්තනො ච අත්ථාය සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන දෙසෙමි. ඨපෙත්වා ථුල්ලවජ්ජං ඨපෙත්වා ගිහිපටිසංයුත්තං -පෙ- යස්සායස්මතො ඛමති සො තුණ්හස්ස යස්ස නක්ඛමති සො භාසෙය්‍ය. දෙසිතා අම්හාකං ඉමා ආපත්තියො සඞ්ඝමජ්ඣෙ තිණවත්ථාරකෙන ඨපෙත්වා ථුල්ලවජ්ජං. ඨපෙත්වා ගිහිපටිසංයුත්තං. ඛමති සඞ්ඝස්ස තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමීති.

61. ඉදං වුච්චති භික්ඛවෙ අධිකරණං වූපසන්තං. කෙන වූපසන්තං? සම්මුඛාවිනයෙන ච තිණවත්ථාරකෙන ච. කිඤ්ච තත්ථ සම්මුඛාවිනයස්මිං?

සඞ්ඝසම්මුඛතා ධම්මසම්මුඛතා විනයසම්මුඛතා පුග්ගලසම්මුඛතා. කා ච තත්ථ සඞ්ඝසම්මුඛතා? යාවතිකා භික්ඛූ කම්මප්පත්තා තෙ ආගතා හොන්ති ඡන්දාරහානං ඡන්දො ආහටො හොති. සම්මුඛීභූතා න පටික්කොසන්ති. අයං තත්ථ සඞ්ඝසම්මුඛතා.

කා ච තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා? යෙන ධම්මෙන යෙන විනයෙන යෙන සත්ථුසාසනෙන තං අධිකරණං වූපසම්මති, අයං තත්ථ ධම්මසම්මුඛතා විනයසම්මුඛතා.

කා ච තත්ථ පුග්ගලසම්මුඛතා? යො ච දෙසෙති, යස්ස ච දෙසෙති, උභො සම්මුඛීභූතා හොන්ති, අයං තත්ථ පුග්ගලසම්මුඛතා.

කිඤ්ච තත්ථ තිණවත්ථාරකස්මිං? යා තිණවත්ථාරකස්ස කම්මස්ස කිරියා කරණං උපගමනං අජ්ඣුපගමනං අධිවාසනං අප්පටික්කොසනං ඉදං තත්ථ තිණවත්ථාරකස්මිං.

එවං වූපසන්තං ච භික්ඛවෙ අධිකරණං පටිග්ගාහකො උක්කොටෙති උක්කොටනකං පාචිත්තියං. ඡන්දදායකො ඛීයති, ඛීයනකං පාචිත්තියං.

කිච්චාධිකරණං කතිහි සමථෙහි සම්මති? කිච්චාධිකරණං එකෙන සමථෙන සම්මති සම්මුඛාවිනයෙනාති.

සමථක්ඛන්ධකො නිට්ඨිතො චතුත්ථො.

වහන්ස, සංඝ තෙමේ මා ගේ වචනය අසාවා. උපන් අරගල ඇති... මේ ආයුෂ්මතුන්ගේ යම් ඇවැත් වේ ද, තමා ගේ යම් ඇවැත් වේ ද, ථුල්ල වරද ද හැර, ගෘහිප්‍රතිසංයුක්ත ආපත්තිය ද හැර සෙසු මේ සියලු ඇවැත් මේ ආයුෂ්මතුන් හට වැඩ පිණිස ද තමාට වැඩ පිණිස ද සහ මැද දී තිණවත්ථාරකයෙන් දෙසමි.... යම් ආයුෂ්මතකු හට රිසියෙහි ද හේ නිහඬ වේවා, යමකුට නොරිසියෙයි ද හේ කියාවා.

අප විසින් ථුල්ල වරද ද හැර ගෘහිප්‍රතිසංයුක්ත වරද ද හැර සෙසු මේ සියලු ඇවැත් සභමැද දී තිණවත්ථාරකයෙන් දෙසන ලද්දේ ය. සංඝයාට රිසියෙයි, එහෙයින් නිහඬ ය, මෙසේ මෙය සලකමි''යැ යි සංඝ තෙමේ දැන්වියැ යුත්තේ ය.

61. මහණෙනි, මේ අධිකරණය සන්හිඳුනේ යැ යි කියනු ලැබේ. කිමෙකින් සන්හිඳුනේ ද යත්: සම්මුඛාවිනයයෙන් ද තිණවත්ථාරකයෙන් ද යන දෙකෙනි. එහි සම්මුඛාවිනයය කවර යැ? සංඝ සම්මුඛතාව ධර්ම සම්මුඛතාව විනයසම්මුඛතාව පුද්ගලසම්මුඛතාව යන මේ ය. එහි සංඝ සම්මුඛතාව කවරයැ? යම් පමණ මහණහු කර්මප්‍රාප්තයෝ නම් ඔහු හැම ආවාහු වෙත් ද, ඡන්දය දෙනුවට සුදුස්සන් ගේ ඡන්දය ගෙනෙන ලද්දේ වේ ද, හමු වූ මහණහු ප්‍රතිෂේධනය නො කෙරෙත් ද මේ එහි සංඝසම්මුඛතාව යි.

එහි ධර්ම සම්මුඛතා විනය සම්මුඛතා කවර යැ? යම් ධර්මයෙකින් යම් විනයයෙකින් යම් ශාස්තෘ-ශාසනයෙකින් ඒ අධිකරණය සන්හිඳෙයි ද, මෙය එහි ධර්මසම්මුඛතා විනයසම්මුඛතා යැ.

එහි පුද්ගලසම්මුඛතා කවර යැ? යමෙකුත් ඇවැත දෙසයි ද යමකුටත් දෙසයි ද, ඒ දෙදෙනාම හමුවූවාහු වෙත්, මේ එහි පුද්ගල සම්මුඛතා යැ.

එහි තිණවත්ථාරකය කවර යැ? තිණවත්ථාරකකර්මයා ගේ යම් ක්‍රියායෙක්, කිරීමෙක්, එළැඹීමෙක්, අධ්‍යෂණයෙක්, ඉවැසීමෙක්, අප්‍රතිෂේධනයෙක් වේ ද, මේ එහි තිණවත්ථාරකය යි.

මහණෙනි, මෙසේ සන්හිඳුනු මේ අධිකරණය ඉදින් ප්‍රතිග්‍රාහක මහණෙක් ඉදිරියට අදනේ ද, ඔහුට උත්කොටනක පාචිත්තිය ඇවැත වේ. මේ කර්මයට ඡන්දය දුන් මහණෙක් මෙහි සන්හිඳීමට නිඳා කෙරේ ද ඔහුට ඛීයනක පාචිත්තිය ඇවැත වේ.

කෘත්‍යාධිකරණය ශමථ කීයෙකින් සන්හිඳේ ද කෘත්‍යාධිකරණය සම්මුඛාවිනය සංඛ්‍යාත එක් ශමථයෙකින් සන්හිඳෙ යි.

සතරවනු සමථක්ඛන්ධකය නිමියේ ය.

# චූලවග්ගපාළි

## විසෙසපදානුක්කමණිකා

## විසෙසපදානුක්කමණිකා

## විසෙසපදානුක්කමණිකා

## විසෙසපදානුක්කමණිකා

# චූලවග්ගපාළි

## සඤ්ඤානාමානුක්කමණිකා